# පවුලේ වෛද්‍ය පොත

# HOME DOCTOR

ජයසේකර

සිරිවර්ධන

# පවුලේ වෙද පොත

## (ප්‍රාථමික චිකිත්සා විධානය)


වෛද්‍ය සාර්වභෞම ඩී. සී. ජයසේකර

එම්. එස්සී. (ආයුර්වේද), ඩී. පී. එච්. (ඩැකා), එල්. ඩී. එස්සී. (කල්කටා), ඩී. සී. ටී. (රාවල්), එම්. එච්. එස් එල් (ලන්ඩන්)

විසිනි


# HOME DOCTOR

## ( FIRST AID )


Compiled by

DR. D. C JAYASEKARA M. Sc. (Ayur.)
D. P. H. (Dacca) L. D. Sc. (Cal.) D. C. T. (Raval) M. H. S. I. (Lond.)





පී. කේ. ඩබ්ලිව්. සිරිවර්ධන

පොත් පල කරණ වෙළඳ හැල

520 මරදාන කොළඹ

මිල රු. 4/75

## සංඥාපනය

අනාදිමත් කාලයක සිට ලක්වැස්සෝ නානා ශාස්ත්‍රයන් ගෙන් දියුණු ව සිටියෝ ය. ලක්වැස්සන්ට 'රාක්ෂයන්'යි කීවූ දඹදිව වාසීහු පවා ඔවුන් ගේ ශාස්ත්‍ර ඥානය දියුණු ව තිබූ බව පිළිගත්හ. දැනට පවත්නා පුරාණ ග්‍රන්ථ හැටියට පිළිගැනෙන පුරාණයන්හි ද ලංකාව ගැන සඳහන් වේ. ලක්වැස්සන් රස තන්ත්‍ර විඥානයෙහි (Chemistry) දක්ෂයන් ව සිටි බව ගරුඩ පුරාණයෙහි පෙනෙනා මේ ශ්ලෝකයන් ගෙන් පැහැදිලි වෙයි.

"ශෛවත හෂම් සම්භනාරං
සනම්භාංග ගත ශොපීතම්,
රස මිශ්‍රධාතු ප්‍රදනවාං
සමෟකානිකං දෙහ භූෂණම්,
එවංහි සිංහල දේශ
කුවිනනී විබුධා ජනාඃ."

ලංකාවෙහි විසූ අති පුරාණ ශාස්ත්‍රඥයෙක් වූ පුලස්ති ස්වාමීහු චරක සංහිතාවෙහි සඳහන් හිමාලයෙහි පවත්වන ලද මහා වෛද්‍ය සම්මේලනයට පවා ගියහ. දැනට අභාවයට ගිය නාඩිත් අර්ක ප්‍රකාශ, කෞමාර තන්ත්‍ර ආදී ග්‍රන්ථ කීපයක් රාවණා රජ විසින් කැරුණු බව සඳහන් වේ.

ලක්වැස්සන් ගේ නීරෝගභාවය ආරක්ෂා කිරීමට ශාස්ත්‍රීය වූ ස්වාස්ථ්‍ය නීති ද චිකිත්සා ක්‍රම ද ඒ දෙක පිළිබඳ වුවමනා වනස්පති විද්‍යා (Botany), රසායන විද්‍යා ආදිය ද මෙහි ඇති විය. මෙසේ අංග සම්පූර්ණ වූ වෛද්‍ය ශාස්ත්‍රයක් ඉතා පුරාණ කාලයක පටන් අප ලක්දිව පැවතුණේ ය. මේ කාලයෙහි ආයුර්වේදය - සිද්ධ සම්ප්‍රදාය - මිශ්‍ර සම්ප්‍රදාය - යවන සම්ප්‍රදාය ආදි වෛද්‍ය ක්‍රම කීපයෙක් ප්‍රචලිත විය.

ලංකාවේ ද මුලින් ම ආයුර්වේදය පැවැතුණු බව සිතිය හැක. එහෙත් ඊට අසමාන වෛද්‍ය ක්‍රම කීපයක් ද දේශීය වෛද්‍ය ශාස්ත්‍රය නමින් පැවතුණු බව හැඟේ. ලංකාවට ආර්යයන් ගේ ගොඩ බැසීමෙන් හා බෞද්ධ දර්ශනය ප්‍රචලිත වීමෙන් පසු ආයුර්වේදය තදින් දියුණු වන්නට වන්නේ ය. ද්‍රවිඩයන් ගේ ගොඩ බැසීමෙන් පසු අගස්ති සම්ප්‍රදාය ද මීට මිශ්‍ර විය. නැවත අරාබි, ග්‍රීක්, මිසර ආදි වෙළෙඳුන් ගේ සංගමයෙන් මිශ්‍රය, යවන ආදි චිකිත්සා ක්‍රමයෝ ද දේශීය චිකිත්සා ක්‍රමයට එක් වූහ.

ඊ ඉන් පසු ගත් සමයක් තුළ ද අප රට ප්‍රචලිත විය. ග්‍රීක වෛද්‍යයකු වූ හිපොක්‍රටීස් ගේ චිකිත්සා ක්‍රම ද අප වෙද පොත්වල මිශ්‍ර වී ඒ නමින් අද දක්වා ම පවතී. මේ සියල්ල ම එකතු වීමෙන් දේශීය චිකිත්සා ක්‍රමය අංග සම්පූර්ණ වී නිෂ්පාදනය වී ලක්දිව පැවතුණේ ය.

මෙසේ අංග සම්පූර්ණ වෛද්‍ය ශාස්ත්‍රයක් අප අතර ප්‍රචලිත වීමෙන්, ලක්වැසියෝ සුඛිත මුදිත ව වාසය කරන්නට වූහ. දක්ෂ වෛද්‍යවරයෝ ද ශල්‍ය ශාස්ත්‍රඥයෝ ද ලංකාවේ නානා දිශා භාගයෙහි ඇති වූහ. සියලු ම පවුල්වල ම පාහේ කුල දෙටුවෝ ද වෛද්‍ය ශාස්ත්‍රය ගැන සෑහෙන දැනුමක් ඇති ව සිටියහ.

කල් යත් යත් අපගේ අභාග්‍ය කාලය ළඟා විය. සතුරු විප්ලව, යුද්ධ කෝලාහල, නපුරු රජවරුන් ඇති වෙන්නට විය. අපගේ ශාස්ත්‍ර ද ග්‍රන්ථ ද ජනපද ද සම්පත් ද පිරිහෙන්නට ද විනාශ වෙන්නට ද වන්හ. මුලු මුලුවල සිටි ඇතැම් අය ඔවුනට හැකි පමණ පුරාණ ශාස්ත්‍ර රහසේ ආරක්ෂා කරමින් සිටියහ. ක්‍රම ක්‍රමයෙන් ඉංග්‍රීසි අධිරාජ්‍යයට ලක්දිව යටත් විය. නැවතත් යුරෝපීය ශිල්ප ශාස්ත්‍ර සමග, මුලුගැන්වී තිබුණු අපේ ශිල්ප ශාස්ත්‍ර ද තරමක් දියුණු වන්නට විය.

අපේ සම්පූර්ණ වෛද්‍ය ශාස්ත්‍රය නැසී ගිය නමුත් එහි සමහර අංගයෝ ශේෂ වූහ. අපරදිගින් පැමිණි පාශ්චාත්‍ය වෛද්‍ය ශාස්ත්‍රය ලංකාවේ දියුණු වන අතර, අප ගේ ශේෂ වූ වෛද්‍ය අංගයෝ ද පාශ්චාත්‍ය වෛද්‍ය ශාස්ත්‍රය හා තරග කිරීමට පුළුවන් තත්ත්වයක පැවති හෙයින්, දේශීය වෛද්‍ය ශාස්ත්‍රය ද මඳ වශයෙන් දියුණු වන්නට වන්නේ ය.

සිංහල වෛද්‍ය ශාස්ත්‍රය පිළිබඳ ව ලියා තිබූ පුරාණ ග්‍රන්ථ, පරම්පරාවල අතිනි ධනයක් වශයෙන් ආරක්ෂා කරගෙන රහසේ ප්‍රතිකාර කරන්නට ලක් වැස්සෝ පුරුදු වූහ. පරම්පරා නැති වීමෙන් ග්‍රන්ථයන් ගේ ද විනාශය වීමෙන් විටින් විට දේශීය වෛද්‍ය ශාස්ත්‍රයට මරු පහර වැදෙන්නට විය.

එසේ වූයේ නමුත් ඇතැම් දේශීය පඬිවරු සංස්කෘත, ද්‍රවිඩ භාෂාවලින් තිබුණු වෛද්‍ය ග්‍රන්ථ බොහොමයක් දේශීය භාෂාවට පිටපත් කර පොත් කළහ. තවමත් ලංකාවේ මුලු මුලුවල වෛද්‍ය ශාස්ත්‍රය පිළිබඳ පුස්කොළවල ලියූ අගනා ග්‍රන්ථයෝ ඇත්තාහ. මෙවා මුද්‍රණයෙන් ප්‍රචාරයට පැමිණවීමේ දුක් පමත්නා අඹාරුවත් ඇතැම් පොත් පාරම්පරික ගුප්ත ධනය වශයෙන් තබා ගැනීමත් නිසා, තවමත් අපට ඇතැම් වෛද්‍ය අංගයෝ සම්පූර්ණ කර ගැනීමට නුපුළුවන් වූහ.

මේ කරුණු කල්පනා කර බලා අප විසින් ලංකාවේ ද ඉන්දියාව ආදී රටවල භාවිත කරන වැදගත් වෛද්‍ය ග්‍රන්ථ දේශීය භාෂාවෙන් මුද්‍රණය කර ප්‍රචාරය කර දේශීය වෛද්‍ය ශාස්ත්‍රය නැංවීමට උත්සාහ යෙන් මීට අවුරුදු කීපයකට පෙර කරන ලද්දේ ය. ඒ සඳහා අප විසින් පොත් බොහෝ ගණනක් ම ලියන ලද්දේ ය. මුද්‍රණයෙන් ප්‍රචාරය කිරීමේ අමාරුව නොතකමි තිබුණත් අපගේ දැඩි උත්සාහයක් වශයෙන් ශාර්ඞ්ගධර ව්‍යාඛ්‍යානය, කෂාය ප්‍රකරණය, අරිෂ්ටාසව ප්‍රකරණය, අක්ෂි රෝග චිකිත්සාවලිය ආදී පොත් කීපයක් මහාජනයා ඉදිරියෙහි තැබීමු.

මේ කාලයේ අද මෙන් නොව, අප නිදහස් රාජ්‍යයක වැසියන් වූ නමුත්, පාඨශාලාවල පවා ප්‍රාථමික ප්‍රතිවිධාන (First-Aid) වශයෙන් පුහුණු කරවන්නේ පාශ්චාත්‍ය චිකිත්සා ක්‍රමයෙන් සපයා ගත් කොටසකි. ඉංග්‍රීසි භාෂාවෙන් මේ සඳහා ලියන ලද ග්‍රන්ථයෝ සිය ගණන් ඇත්තාහ. එසේ වුවත්, පාඨශාලාවල ඉගැන්වීමට තබා, මහා ජනයාට වත් භාවිත කිරීමට සුදුසු ප්‍රාථමික ප්‍රතිවිධාන අන්තර්ගත, ක්‍රමවත් සිංහල පොතක් නැති හෙයින් සැලකූ අප විසින් දේශීය චිකිත්සාවේ දියුණුව සඳහාත්, වෛද්‍යයකු ගෙන්වා ගන්නා තුරු ශරීර සෞඛ්‍ය ආරක්ෂා කර ගැනීම සඳහාත් මේ පොත ලිවීමට මීට අවුරුදු 15 කට පෙර පටන් ගත්තෙමු.

ඒ කාලයේ අපි මහා ජනයාට නො මිලයේ, ජන සේවයක් වශයෙන් ප්‍රතිකාර කිරීමෙහි යෙදී සිටියෙමු. ඒ එක්ක ම වග කිය හැකි ඉගැන්වීම් කටයුතුවල ද යෙදුනෙමු. ඒ මදිවට ආණ්ඩුවේ නිලධාරීන් ගෙන් ද, වෙනත් අය ගෙන් ද අපි බොහෝ කරදරවලට මුහුණ පාන්නට ලද්දෙමු. මෙසේ කාර්යබහුලවලට ගොදුරු වූ නමුත් රාත්‍රි කාලයේ වැඩ කිරීමෙන් සුමාන ගණනක දී මෙය ලියා කෙළවර කළෙමු. පසු ගිය කාලයේ ඇති වූ කරදර හා මුද්‍රණය කිරීමේ අමාරුකම් නිසා මේ වන තුරු ම මෙය මහාජනයා අතට පත් කරන්නට නො ලැබුණේ ය. දැනුදු අපට කාර්ය ව තිබෙන කටයුතුවල අධිකත්වය නිසා මෙහි ඉඩි පත්‍ර බැලීමට ද අවකාශ නො ලැබිනි. ඒ නිසා මෙහි පරිච්ඡේද වෙන් කිරීමේ අඩු පාඩු හා ලකුණු යෙදීමේ ඈද වෙනස් කමක් සිදු වී තිබෙන බැව් පෙනේ. එසේ වුවත් පොතෙන් ප්‍රයෝජන ගැනීමට අමාරු කමක් නැත්තේ ය.

දෙවෙනි වාරයේ මුද්‍රණයේ ඒ සියල්ල සම්පූර්ණ කර සකස් කරන්නෙමු.

මේ පොතෙහි සඳහන් තේරුම් ගන්නට බැරි යමක් හෝ ජීවිතය වාසනාවත් කිරීමට වෛද්‍ය ශාස්ත්‍රයෙන් ගත යුතු යම් ඕනෑ ම උපදේශයක් හෝ දැන ගැනීමට අපෙන් අසා එවිය යුතු. මුද්දර සහිත ලියුම් කවරයක් ද ඒ සමග එවනු යෙහෙකි.

ආයුර්වේදය හෝ දේශීය චිකිත්සා ක්‍රමයන් පිළිබඳ පවුලේ වෙද පොතක් වශයෙන් මෙතරම් සම්පූර්ණ පොතක් පූර්ව දිග තව ම කිසි ම භාෂාවෙකින් ප්‍රචාර වී නැත. ඒ නිසා මෙයින් සියලු දෙනාට ම නියම ප්‍රයෝජන ලබා ගත හැකි වේ ය යි අපේ කල්පනාව යි.

ලංකාවේ පාඨශාලාවන්හි උසස් ප්‍රමාණයන්හි ශිෂ්‍යයනට මේ පොත ඉගැන්වීමට පිළිවෙලක් යෙදුණොත්, ඒ ශිෂ්‍යයෝ පසු කාලවල එයින් ඔවුන් ගේ ජීවිත වාසනාවත් කර ගැනීමට උදව් ගනිත් ය යි අපි විශ්වාස කරමු.

ඩී. සී. ජයසේකර,
සංග්‍රාහක.

1948 මැයි 5 වැනි දින
බොරගොඩ වත්ත
මිණුවන්ගොඩ.

# INTRODUCTION

From times immemorial the inhabitants of Lanka (Ceylon) were skilled in various arts and sciences. Even the Indians who referred to the people of Ceylon as "Rakshasas" readily admitted that the latter had achieved much advance in knowledge. Even in the Puranas supposed to be the oldest extant records there exist many references to Lanka. The fact that the Ceylonese were experts in chemistry is borne out by the following Slokas from the Garuda Purana.

Swetha bhasma Samanthāran
Hemansa Satha yojitham
Rasa madhye pradathavyan
Maukthikan deha bhushanam
Evanhi Sinhale dese
Kurvanthi vibudha janah.

Rishi Pulasti who lived in ancient Ceylon attended the great council of physicians held in the Himalaya region as mentioned in the Charaka Sambita. The authorship of several works such as Arka Prakasa, Koumara Thantra etc., which seem to have gone out of use at present is attributed to Rawana, the king of Ceylon.

In those far off days there existed in this country for the promotion of the people's health instructions upon health and systems of medicine based on the sciences of botany and applied chemistry. Thus there has been in extant in this country from of old a complete system of medicine. Meanwhile several other systems of medicine such as Ayurveda, Siddha, Egyptian, Greek and so forth came into use in Ceylon.

It is to be supposed that in Ceylon in the earliest times there existed the Ayurveda. And at the same time there were several other systems different from Ayurveda but known as indigenous methods. After the arrival in Ceylon of the Aryans and the introduction of Buddhism the Ayurvedic system gained added impetus and began to flourish. With the advent of the Tamils the school of Agastiyan followers came and its teachings

and practices intermixed with the other systems. Besides, such other systems of medicine as Egyptian, Greek and Arabic followed in the wake of their respective traders and enriched what was known as the local system of medicine. Even the Chinese methods and practices spread over this Island. Some teachings of the Greek physician Hippocretes seem to have crept into our books; for such teachings survive to this day in our books by that very name. Enriched by all these admixtures there flourished in Ceylon a complete system of indigenous medicine with the happy result that the people enjoyed good health. All parts of the land were dotted with expert physicians and surgeons. The senior member of almost every family possessed some knowledge of medicine.

But later unhappily bad times prevailed. Enemies appeared on the scene, followed by trouble and wars. Cruel kings gained power. Our sciences, books, industries and cities fell into decay. Some people who lived in far corners of the land no doubt treasured in secret whatever they could of the ancient knowledge. In due course the country came under the dominion of the British Empire. Thereafter with the advance of European arts and sciences our own arts and sciences which had gone underground as it were began to revive.

Although our ancient system of medicine had practically died, some portions of it still survived. While the Western system of medicine began to flourish, and as whatever portions of our ancient system that existed were in a position to meet the rivalry the indigenous medical science also, even on a small scale, made some progress.

The people of Ceylon secretly protected as family treasures most of the ancient Sinhalese works on medicine and preferred to carry on the practice practically privately. But when these works perished with the families in whose custody they existed the indigenous medical science sustained almost irreparable losses from time to time. But at the same time some of our learned pandits rendered into the mother tongue many medical works that existed in Sanskrit and Tamil. To this day there are available many valuable medical works recorded in ola books in

out of the way corners of the country. On account of the difficulty of printing such works and, as most books are preserved as secret possessions of certain families, we have not been able to complete some aspects of our medical system.

In view of these facts we made some years back an effort to translate into Sinhalese some of the medical works in use in Ceylon and India and thereby promote the progress of our indigenous medical science. In this connection we have written many books on the subject. In spite of whatever difficulties there were in the way of printing and publishing we have as a result of our determined efforts placed before the public several such books as Sarangadhara Vyakhyana, Kashaya Prakarana, Arishtasawa Prakarana, Akshiroga Chikitsawali and so forth.

Although we are now the citizens of a free country the elementary lessons in First Aid provided in our schools have been selected from Western medical practice. There are hundreds of books published in English on the subject, but in Sinhalese not even a single book is available suitably arranged either for use in schools or for the use of the general public. Having realized the need for a good book in Sinhalese on First Aid, about fifteen years ago we commenced to write this book and thereby promote the interest of the indigenous system of medicine and to enable anyone to render first aid in emergencies till competent medical aid is called in.

At the time we were engaged in providing medical treatment free and gratis to sundry individuals while at the same time discharging educational duties of a responsible nature. In addition we were compelled to face not a little trouble from government officials and others. In spite of such worries and difficulties we worked hard at night and completed this book in the course of a few weeks. But on account of the unfavourable conditions prevailing in the recent past, particularly in the printing trade, this book could not be placed in the hands of the public before this.

The reader may write to us about any difficult point found in the book or when any advice is required from medical science to attain health and happiness.

Up to now a book so complete as this in the form of a **Family Medical Handbook** based on the Ayurveda or indigenous systems of medicine has not been published in any Oriental language. We, therefore, think that this book will supply a real need to one and all.

We also believe that, if some suitable arrangement is made to enable the students of higher forms in our schools to study this book, they will get an opportunity of learning useful facts for rendering their lives happy in after life.

**D. C. Jayasekara**
Author.

Boragodawatta,
Minuwangoda,
May 5, 1948.

# පටුන

## INDEX

පිට Page

පිට Page

## ස්ත්‍රී රෝග **Diseases of Women**

පිට Page

## කුමාර රෝග Diseases of Children



## විෂ Poisons

## ශුද්ධි පත්‍රය

| පිට | පෙළ | වරද | නිවරද |
|---|---|---|---|
| 1 | 18 | අධියෝග | අති යෝග |
| 1 | 20 | අධියෝග | අති යෝග |
| 4 | 15 | කාලාල දිය | කකාල දිය |
| 13 | 11 | අඤ්ජන | අවලේඛ |
| 16 | 6 | මඤ්ඤාඩි 2 බැගින් | මඤ්ඤාඩි 8 බැගින් |
| 16 | 7 | මඤ්ඤාඩි 6 සි | කලඳ බැගින් |
| 16 | 7 | මඤ්ඤාඩි 15 සි | කලං 3 ති |
| 108 | 27 | පිෂ්ටාණත | පිෂ්ටාන්ත |
| 165 | 15 | ඇල් වතුර පතක | ඇල් වතුර පත මදකක |
| 194 | 23 | රාත්තල් 4 ට | රාත්තල් 4 වෙනුවට |
| 231 | 29 | දුග් විපර්‍යාසය | දෘග් විපර්‍යාසය |

මෙහි සෙම් ලේලීම් යන තැන් සෙම් වේලීම් විය යුතු.

1 වැනි පිටේ ප්‍රඥාපරාධයේ විස්තරය මදය. එය මෙසේ තොරුගත යුතු ප්‍රඥාපරාධය නම් බුද්ධි දෝෂය යි. මනස තාමස්, රජස් ගුණයන් ගෙන් යුක්තා වූයේ බුද්ධි දෝෂය වේ. එනම් මනස් රාග-ද්වෙශ-මෝහ-මද-මාන යන මොවුන්ගෙන් අභිභව හරිත වීම යි හෙවත් මිථ්‍යාදර්ශනයෙන් යුක්ත වීම යි.

# පවුලේ වෙද පොත

# HOME DOCTOR

**ප්‍රාරම්භය**
**Introductory.**

සත්ත්වයාට දුක් පිණිස පැවැත්තාහු රෝග නම් වෙත්. රෝගයෝ වා, පිත්, සෙම් යන මොවුන්ගේ වැඩි වීමෙන් ද – අඩු වීමෙන් ද – කිපීමෙන් ද හට ගනිති. මේ දෝෂයෝ කිපීමෙන් හට ගත් ප්‍රතිඵලයෝ නම් තමන් අයත් මග ඉක්මවා නො මග යාමෙන් යම් තැනක රැස් වෙත් ද එහි රෝගයෝ හට ගනිත්. රෝගයෝ රස – රක්ත – මාංස – මේදස් – අස්ථි – මජ්ජා – ශුක්‍ර යන සප්ත ධාතු – යෙහි ම හට ගනිත්. රෝගයෝ ස්වාභාවික (Natural) ආගන්තුක (Accidental or Mechanical) කායික (Physical) මානසික (Mental) ය යි චතුර් විධ වෙත්. මේ චතුර් විධ රෝගයෝ කර්ම ඵල විශේෂයෙන් හා දෝෂ කෝපයෙන් හටගන්නෝ ය යි දක්වූහු ඒ නිසා ස්වාස්ථ ජීවිතයක් ගත කරනු කැමැත්තවුන්ට ස්වාස්ථ්‍ය නීති පිළිපැදීම පමණක් නො ව දාන – ශීල – භාවනා – සමාධි – ප්‍රඥා යන මෙයින් යුක්ත වීමට ද ආයුර්වේදයෙහි නියම කර තිබේ.

දෝෂයන්ගේ සම භාවය පැවතීම ආරෝග්‍යය යි පෙර කීමු. මේ දෝෂයන්ගේ විෂම භාවය හා කිපීම ඇති වනුයේ i. අතියෝග, ii. අයෝග, iii. මිථ්‍යා යෝග, iv. ප්‍රඥාපරාධ යන සතරෙනි.

අතියෝගය යනු වුවමනාවට වඩා යෙදවීම යි. අයෝගය යනු කොහෙත් ම නො යෙදීම යි. මිථ්‍යා යෝගය යනු වරදවා යෙදීම යි. ඇසෙන් ඉර බැලීම, දර්ශනේන්ද්‍රිය වරදවා යෙදීමකි. ප්‍රඥාපරාධ යනු ස්වාභාවික නීති කඩ කිරීම යි. මලමූත්‍ර ආදී වෙග ධැරීම ශරීරයට ව්‍යායාම නො දී මොළයට වෙහෙස දීම ආදිය ස්වාභාවික නීති කැඩීමකි.

එහෙයින් මේ දක්වූ නීති පිළිපැදීම ස්වාස්ථ වීමේ උපක්‍රමය යි. දන් රටේ පවත්නා තත්ත්වය – ජීවනෝපායයන් ආදිය දෙස බලන කල පූර්වෝක්ත නීති හොඳාකාර පිළිපැදීමට නුපුළුවන් වේ. ඒ නිසා මනුෂ්‍යයාට හැදෙන රෝගයන් සංසිඳවා ගැනීම පිණිස ඔසු භාවිතය ද අවශ්‍ය වන්නේ ය. රෝගයක් වැලඳුණු කල එය ක්‍රමයෙන් ම වැඩී යන්නේ ය. ඒ නිසා ඊට වුවමනා චිකිත්සා ක්‍රමය කිරීමට දක්ෂ වෛද්‍යයකුගේ පිහිට වුවමනා වේ. එසේ

වෛද්‍යවරයා සොයා ගන්නා තුරු රෝගියාගේ වැඩිම දියුණුවෙන් ම පවතී. එම නිසා වෛද්‍යයා කැඳවා එන විට, ඇතැම් විටක ශරීරය සුව කිරීමට නුළුවන් අවස්ථාවක් දක්වා රෝගය නිරන්තරව පුළුවන. ඒ නිසා වෛද්‍යවරයෙකු හමුව එන තුරු නිවැරදි ප්‍රතිකාරයක්, ප්‍රථම චිකිත්සා ක්‍රමයක් තාරණ්ව දැනීමක් ලබා ගතහොත් රෝගියාගේ ජීවිතය ආරක්ෂා කර ගත හැකි වේ. ඒ නිසා අපි මෙහි එබඳු අවස්ථාවකට - වරදක් නො සිදු වන අයුරු යොදන්ට පුළුවන් ප්‍රතිකාර ක්‍රමයක් මහාජනයා අතට දෙන්ට අදහස් කළෙමු. රෝගයේ සියලු ම අවස්ථාවන්ට ම වාගේ මෙහි ප්‍රතිකාර ක්‍රම දක්වා ඇත්තේ ය. ඇතැම් විටක මධ්‍ය - පූර්ණ අවස්ථාවේ දී ද වෛද්‍යයාගේ සොයා ගැනීම වන තුරු රෝගියාගේ ජීවිතය රැක සිටීමට ප්‍රතිකාරයක් යෙදීමට පුළුවන් වන ලෙස එසේ යොදන ලද්දෙමු. එසේ වුවත් වෛද්‍ය ආධාර ලබා ගන්න තුරු පමණක් - මෙයින් ප්‍රාථමික ප්‍රතිකාර ලබා ගන්නා මෙන් අවශ්‍යයෙන් ම කියනු කැමැත්තමු. උණ සන්නිපාත - සිහි නැති වීම - වලිප්පු - ගර්භිණී රෝග ආදී සියලු ම භයානක රෝගවල දී වහා ම වෛද්‍යාධාර ලබා ගත යුතු බව විශෙෂයෙන් ම කියමු.

**රෝග විඥානය**
**Knowledge of Diseases**

රෝගියෙකු දුටු විට ප්‍රශ්න විචාරීමෙන් ද - නිරීක්ෂණය කිරීමෙන් ද - රෝගයාගේ තත්ත්වය වටහා ගත යුතු යි. ලෙඩුන් පරීක්ෂා කිරීමේ දී පළමු කොට 'නාඩි' පරීක්ෂා කළ යුතු වේ.

**නාඩි**
**Pulse**

හෘදය වස්තුව හැකිළෙන එක එක වර ධමනීන්ට රුධිරය පලවා හරියි. මූල ධමනිය ද ශාඛා - අනු ශාඛා - සූක්ෂ්මාති සූක්ෂ්ම ශාඛා ආදීන්ට බෙදී ශරීරය හැම තැන ම ලේ පතුරුවයි. හෘදයේ ගැස්මට අනුව මේ ධමනීහු ද ස්පන්දනය වන්ට පටන් ගනිත්. ධමනීන් ස්පර්ශ කිරීමෙන් ඒවා ගැහෙන බැව් අතට දැනේ. බාහුවෙන් ගමන් කරන ප්‍රධාන ධමනිය (=ආටරිය) මනි බන්ධය ළඟ හෙවත් මහපට ඇඟිලි මුල ඇඟිලි තැබීමෙන් හෘදයට අනුව ස්පන්දනය වන බව දැනේ. මේ ස්පන්දනයට 'නාඩි' ය යි කියනු ලැබේ. නාඩි පරීක්ෂා කිරීම මේ ස්ථානයෙන් ම කරනු ලැබේ. සාමාන්‍යයෙන් නිරෝගී තරුණයකු ගේ නාඩි වැටීම මිනිත්තුවකට 72 වාරයක් පමණ වේ. ශරීරයේ උෂ්ණත්වය කිහිල්ලේ අංශක 98.4 ද - දිවේ යට අංශක 99 ද ඇති බව රශන මාපන යන්ත්‍රයෙන් දැනගත හැක්කේ ය.

උණ නිසා ශරීරය මීට වඩා උෂ්ණත්වම වන බැවින් නාඩි ගමන අධික වේ ඇතැම් විට උණ නැති විට පවා රක්තයාගේ ඉගලව

ගමන වේගවත් වූ කල (රක්තපිත) නාඩි ගමන ඉක්මන් වේ. භාන්සි වී සිටින විට ද – හිඳින විට ද – කෙළින් සිටින විට ද – ශරීරය වෙහෙසෙන විට ද – මානසික සිතිවිල්ලක් ඇති විට ද – වෙනත් නොයෙක් කරුණු නිසා ද නාඩි වැටීම වෙනස් වේ. ශරීරයෙන් ලේ වහනය වන විටත් ඉක්මනින් නාඩි වැටේ. එවිට පරීක්ෂා කරන ඇඟිලිවලටත් නො දැනෙන සේ ද ඉක්මනින් ද ධමනිය ස්පන්දනය වෙයි. වඩා අධික ස්පන්දනය වන විට ද්‍රැත නාඩිය (Quick Pulse) යි ද ස්වාභාවික ගණනට වඩා අඩුවෙන් ස්පන්දනය වන විට ධීර නාඩිය (Slow Pulse) ය යි ද, කියති. යම් ධමනියක් වේගවත් ව ගොස් ඇතැම් විට සෙමිනිව ද ස්පන්දනය වේ. එය අක්‍රමවත් (Irregular Pulse) නාඩිය යි. යම් නාඩියක් ගමන් කරන කල හදිස්සියෙන් නැවතී, නැවතත් ස්වල්ප වේලාවක දී ස්පන්දනය වේ ද ඒ විෂම නාඩිය (Intermittent Pulse) නම්. නාඩි බැලීමේ දී පුරුෂයන්ගේ දකුණු අත ද ස්ත්‍රීන්ගේ වම් අත ද ගෙන බැලිය යුතු.

ඒ ඒ වයසේ අන්දමට නාඩි ස්පන්දනය වන වාර ගණන මෙසේ ය:—

| | | | |
|---|---|---|---|
| ඉපදුණු අවස්ථාවේ ළදරුවා මිනිත්තුවකට වාර | | | 140 |
| 1 | අවුරුද්දේ | ,, | 120 |
| 2 | ,, | ,, | 110 |
| 3 | ,, | ,, | 95 |
| 4 — 7 | ,, | ,, | 87 |
| 8 — 11 | ,, | ,, | 85 — 80 |
| තරුණ අවස්ථාවේ | | ,, | 80 — 70 |
| මහලු | ,, | ,, | 70 — 60 |

ඉහත දැක්වූ විෂම නාඩිය ප්‍රාණ නාශිනී නාඩිය යි. එයින් දිවි නසන බව හඟව යි. අක්‍රමවත් නාඩිය ද ස්ථානයෙන් ගිලිහුණේ ප්‍රාණය හරී.

**මල පරීක්ෂා**
**Faeces Examination**

'සුදු පැහැ මල' අක්මාවේ පිත්ත ද්‍රව්‍ය අඩු බව ද – කොළ පාට නම් අම්ල දෝෂ ඇති බව ද – වතුරේ පාවේ නම් 'ආම' ය පැසවා හෙවත් ආම රහිත බව ද – මල දියේ යට බසින්නේ නම් ආම (නො පැසුණු) සහිත බව ද දත යුත්තේ ය. මල පහ වෙන විට දුම්ලි ගතියක් තිබේ ද එය ද ආම සහිත මල ය යි දත්තෝ ය

**මූත්‍ර පරීක්ෂා**
**Urine Examination**

මූත්‍ර පරීක්ෂා කිරීමට අළුයම මූත්‍ර, වීදුරු භාජනයකට, මුලින් - හා අගින් වැගිරෙන ධාරා ඇර මැදින් ගත යුතු. වාත කෝපයෙහි මූත්‍ර සුදුවන් පැහැය වේ. පිත් කෝපයෙහි රතුවන් වේ. සෙමෙන් පෙණ අධික මූත්‍ර වෙයි. දෙස් දෙකක් ඇති ඒ දෙ ලකුණු ද මිශ්‍ර ලක්ෂණ ඇත්නම් සන්නිපාතයෙහි යයි දන්නේ ය.

මූත්‍ර භාජනයට තණ පතකින් තල තෙල් බිඳුවක් හෙළනු. තල තෙල් බිඳුව පැතිරී ගියේ නම් ඒ රෝගියා සුව කළ හැකි වේ. නො පැතුරුණේ නම් දුක සේ සුව කට හැකි වේ. අඩියට කිඳ බැස්සොත් සුව නො කට හැක්කේ වේ. අජීර්ණයෙහි මූත්‍ර සහල් දෙවුන් දිය මෙන් වේ. අළුත් උණෙහි දුඹුරු වර්ණ ව බොහෝ මූත්‍ර හට ගනී

වැල්මදට කලාල දිය බඳු, දුඹුරුවන්, නිල්වන්, සිනිඳු, දිය හා සමාන, මේ ලක්ෂණ මූත්‍ර ඇත්තේ පිත්ත හට ගත් දොෂ හේතු නිසා යි.

**ශබ්ද පරීක්ෂා**

'බර වූ ශබ්ද' සෙම් සහිත වූ කල වේ. පැතුරුණු ශබ්ද පිත් කිපුණු කල වේ. මේ දෙකින් හීන වූයේ වාතයෙන් යුක්ත වූ කල්හි වේ.

**ස්පර්ශ පරීක්ෂා**

ශරීරය උණුසුම් වියලි ගතිය පිතෙහි ලකුණු යි. සීතත් - ඇලෙන ගතිය සෙම් ලකුණු යි. සිසිල වායුවෙහි ලකුණු යි. පිත හාස වර්ණය. සෙම් සුදු වර්ණය. වායුව අරුණ වර්ණය. එමෙහයින්, ඇස් - දිව - ඇඟ - කිබිලි ආදියෙහි ලකුණු මේ ක්‍රමයෙන් තාවර දෝෂවලින් යුක්ත දැයි කල්පනා කරන්නේ ය.

## මැනීම් ක්‍රමය

| | | | | | |
|---|---|---|---|---|---|
| තල | ඇට | 3 ක් | = | අබ ඇට | 1 යි |
| අබ | ඇට | 3 ක් | = | වී ඇට | 1 යි |
| වී | ඇට | 8 ක් | = | මදටිය ඇට | 1 යි |
| මදටිය | ඇට | 20 ක් | = | කළං | 1 යි |
| කළං | | 12 ක් | = | පලම් | 1 යි |

'පත = ඉංග්‍රීසි මැනුමේ අවුන්ස 6 යි'

# කෂාය සෑදීම

කෂාය සෑදීමේ දී ද්‍රව්‍ය කලං 12 ක් සමානව ගත යුතු යි. හරියට කලංවලින් කිරන්ට නුපුළුවන් විට මදටිය ඇට (=මඤ්චාඩි) වලින් ගණන සාදා ගන්නේ ය. මෙසේ කියම් ගණනට කිරා - වතුර පත 8 ක් එක් කර 1 ට සිඳ ගත යුතු යි. විශේෂයෙන් අළුත් උණෙහි දී පත 4 ක් බහා 2 ට සිඳ ගත යුතු යි. වරකට පත ½ බැගින්, උදේ සවස දෙ වරක් දෙන්නේ ය. මෙය අවුරුදු 14 සිට 50 දක්වා ශරීර ශක්තිය ඇති අයට ය. ශරීර දුර්වල අයට හා ගර්භිණීන්ට වරකට පත්‍රයෙන් ⅓ ක් දිය යුතු. වයස අවුරුදු 8–14 දක්වා අයටත් ⅓ ක් දීම යෝග්‍ය යි. අවුරුදු 1 සිට 8 දක්වා අයට කලං 6 ක් ගෙන පත 4 ක් බහා පත ½ ට සිඳ එය ශක්තියේ අන්දමට 2 වරක් හෝ 3 වරක් දෙන්නේ ය. ළදරුවන්ට කලං 3 ට ගත හැකි යි. පත 2 පත ¼ ට සිඳිනු. එත් හැන්දෙන් 4 බැගින් කිප වරක් දෙන්නේ ය.

ද. දෙ. ව = දවසකට දෙ වරක්
ද. තෙ ව. = දවසකට තෙ (3) වරක්.

සාමාන්‍යයෙන්, හදිස්සියක දී හැර අන් තන්හි උදේ සවස දිය යුතු. හදිස්සිවල දී උණු වූ හැටියේ පොදන්නේ ය.

# උණ රෝගය

## FEVER

සත්ත්ව ශරීරයෙහි එක්තරා ස්වාභාවික උෂ්ණත්වයෙක් ඇත්තේ ය. ශාරීරික යන්ත්‍රයෙහි විකෘතීන් නිසා ස්වාභාවික උෂ්ණත්වයට වැඩි උෂ්ණත්වයෙක් ඇතැම් විට ඇති වේ. ඒ එක්තම පාකස්ථලින්හි (=පෝෂණ මාර්ගයෙහි) අග්නිය නැති වූ යේ. ආහාර ගැනීමේ ඇල්ම තුරන් වේ. කය- සිත දෙකේ ප්‍රීතිය පහ වූ යේ. ශරීරයේ රිදීම ද (Pain) සමග ඇති වන මේ ශරීර විකෘතිය උණ ය යි කියනු ලැබේ.

**උණෙහි අවස්ථා භේදය**
**Stages in Fever**

උණ හටගත් දින සිට සත් වෙනි දින තෙක් පවත්නා උණ අළුත් උණ (=නව ජ්වර)ය යි ද- එතැන් සිට 14 වෙනි දින තෙක් උණ මධ්‍යම ජ්වරය (=මැදුම් උණ) ය යි ද එයින් පසු උණ පුරාණ උණ ය යි ද කියනු ලැබේ. ප්‍රාථමික ප්‍රතිකාර යෙදීමේ දී මේ අවස්ථා භේදය විශේෂයෙන් සැලකිය යුතු යි. තව ද හටගත් දෝෂයන් අනුව ප්‍රථම කොට උණ වර්ග අටකට බෙදා දක්වා තිබේ.

ඔව්හු නම :—

i. වාත ජ්වර (වාතය කිපීමෙන් උපන් උණ )
ii. පිත්ත ජ්වර (පිත " " )
iii. කඵ ජ්වර (සෙම " " )
iv. වාත පිත්ත ජ්වර (වා පිත් " " )
v. වාත කඵ ජ්වර (වා සෙම් " " )
vi. පිත්ත කඵ ජ්වර (පිත් සෙම් " " )
vii. සන්නි පාතික ජ්වර (තුන් දෙස් " " )
viii. ආගන්තුජ ජ්වර (පිටත හේතූන්ගෙන් " )

i. උගුර තොල් මුව වේලුණු සවභාව, කිවිසිම් හිරවීම - හිස-ළය - අත් පාදින්ගේ රිදීම ආදි ලකුණු වාත කිපුණු උණයන්හි ඇති වේ.

ii. අධික උෂ්ණත්වය - ශරීරයේ දාහය - පිපාසය - ඇස් දැවිල්ල ආදිය පිත් කිපුණු උණේ ලකුණු යි.

iii. ප්‍රතිශ්‍යා - කාස - ඇදුම ආදිය සෙම කිපුණු උණේ ලකුණු යි. මේ දෙස් දෙකක ලකුණු තිබේ නම් දෙස් දෙකක් කිපුණු බව ද - දෙස් තුනේ ම ලකුණු තිබේ නම් සාන්නිපාතික බව ද සලකන්නේ ය.

මැලේරියා ආදි රෝගජීවානූන්ගෙන් හට ගැනෙන උණ ද - අන්‍ය පිටත කරුණුවලින් සෑදෙන උණ ද විෂම උණ යි. ඇතැම් කාලවල සෑදෙන විෂම හුණ සාන්නිපාතික යි.

දහඩිය දැමීම, පිත් උණ - වා සෙම් උණ - සාන්නිපාතික උණ- විෂම ජ්වර ආදි රෝගයන්හි දක්නා ලැබේ.

## නව ජ්වරය (අළුත් උණ)

### Acute - Fever, Gastro - Intestinal Fever

අළුත් උණෙහි දෙස් පැසවා නැත. එහෙයින් අළුත් උණෙහි දෙස් පැසවීමට ප්‍රතිකාම් යෙදිය යුතු. උෂ්ණත්වය අඩු කරන බෙහෙත් නො යොදන්නේ ය. එසේ වුවත් දෙස් පැසවූයේ ද උණ ද ඇතැම් විට බසී.

**නව ජ්වරයෙහි ප්‍රාථමික ප්‍රති විධාන**
**First Aid for Acute Fever**

අළුත් උණෙහි ලඝනය යෝග්‍ය යි. ශරීරය සැහැල්ලු කිරීම ලඝනය යි. උපවාසය ද ලඝන ක්‍රමයෙකි. කාම - වාත - භය - ක්‍රෝධ - ශෝක - ශ්‍රම යන මේවින් උපන් උණෙහි උපවාසය නො කටයුතු ය යි කියා තිබේ. දැන් පවත්නා

නම් - ආහාර ආදිය නිසා බොහෝ දෙනාකුට ආහාර නැති ව සිටින්ට නුපුළුවන. ඒ නිසා මේ කාලයෙහි කැඳ - පස්ගා - පලරස - එළවලු සුප ආදි සැහැල්ලු ආහාර පාන පමණ දුන දිරීම ශක්තිය බලා දෙන්නේ ය. දවසක් වත් උපවාස කළහොත් යෙහෙකි. ළදරුවන්ට හා ගර්භිණීන්ට ද උපවාස කිරීම අනතුරුදායක ය. ඔවුන්ට සුදුසු ද්‍රව ආහාර දිය යුතු. එළකිරි අළුත් උණෙහි අයෝග්‍ය යි, තන කිරි ලොකු කුඩා සියලු දෙනාට ම දෙන්ට ඇත් නම් ඉතා ම යෝග්‍ය යි.

**අළුත් උණට ආහාර**
**Diet**

අළුත් උණෙහි ඉක්මනට දිරණ සහලකින් පිසූ කැඳ - විලඳ කැඳ - හාල් බැදි කැඳ යෝග්‍ය යි. රත්හැල් - සැවඳ හැල්වලින් කැඳ දෙන්ට නියම කර තිබේ. කොළඹ හාල් කඩවල විකුණන්ට තිබෙන "ආනකුඹ අරිසි" කියන වර්ගය ද ඉතා හොඳ ය. එය ද්‍රවිඩ කඩවලින් ගත හැක. ප්‍රතිශ්‍යා උණට කැඳවලට වඩා, කර කළ රුලන් විස්කෝත්තු - විලඳ හොඳ ය. එය හොඳට අග්නිය ඇති වේලාවක දවසට වරක් පමණ දෙන්නේ ය. බාර්ලිවලින් සෑදූ කැඳ ද සියලු උණවලට ම දිය හැකි යි. රාබු - තක්කාලි - බීට්රූට් - පතෝල - රතුලූනු - රටලූනු (=රාජපලාණ්ඩු) මුරුංගා - ගෑටකොළ පලා - සියඹලා දලු - තුඹ ගැට දලු - ඇඹුල්වැන්න යන මෙයින් එකක් හෝ දෙකක් හෝ දමා ගම්මිරිස් - සූදුරු - කොත්තමල්ලි - කරපිංචා - කුරුඳු පොතු - එන්සාල් - කරාබු නැටි - ලූණු - සියඹලා ආදිය සුතු ජස් ප්‍රිය වඩන පරිද්දෙන් යොදා තෙල් නො දමා සුප් සාදා දෙන්නේ ය. මෙය උණ රෝගීන්ට ඉතා යෝග්‍ය ය. ඇතැම් විට ඉතා හොඳ එක වුවත් අපථ්‍ය වන්ට පුළුවන් නිසා, යමක් වරක් දුන් විට අගුණයක් දුටුහොත් එය වහා නවත්වනු. පරිප්පු බැද හා මුං ඇට බැද ද සුප් සාදා දිය හැකි යි. මුං බර වර්ගයක් නිසා ඒ අඩුවෙන් යොදන්නේ ය.

දෙළුම් යුෂ - මිදි යුෂ - දොඩම් අඹ යුෂ - දවසකට මේස හැන්දෙන් 1 බැගින් දෙවරක් දිය හැකි යි.

අරුචි ඇති අයට දෙහි නාස්නාරන් ආදිය හපන්ට දිය හැකි යි. රොබු අයකාට දූමිය යුතු.

**අළුත් උණෙහි තහනම් ද**
**Un-sutable in Acute Fever**

දවල් නිදීම - සනාන - තෙලාදිය ගෑම - බර ආහාර - මෛථුන - ක්‍රෝධ - ප්‍රබල වායු සේවන - ව්‍යායාම - රතු පිළී භාවිතය - බුලත් කෑම ආදි අළුත් උණෙහි තහනම් ය.

**අලුත් උණෙහි ප්‍රථම චිකිත්සා**
**Treatment of Acute Fever**

උණ හැදුණු දින සිට සත් වැනි දින පහන් — ඒ අතර තුර මෙහි පහත දැක්වෙන බෙහෙත් භාවිත කළ හැකි යි. උණ හැදුණු දිනයෙහි ම චූර්ණයක් (=කුඩුවක්) උණු වතුරෙන් දී, කොත්තමල්ලි - සුදුළූණු - ගම්මිරිස් - තිප්පිලි, මේ සියල්ල හෝ ලැබුණු මෙයින් කීපයක් තම්බා දෙන්නේ ය. කටුක ද්‍රව්‍ය අඩුවෙන් ද කොත්තමල්ලි - සුදුළූණු වැඩියෙන් ද යොදන්නේ ය. ඔසු අදියර යොදන ආකාරයත් සමග මෙහි පහත දැක්වෙන්නේ ය.

## චූර්ණ

## Powders

අලුත් උණෙහි චූර්ණ දිය යුත්තේ උණු වතුරෙන් තේ කෝපි ආදිය සාදනම් කරන ක්‍රමයට ය. කුඩු කලං 1½ ක් ගෙන - බඳුනකට බහා පැහෙන උණු වතුර අවුන්ස 2 ක් (=මේස හැන්දෙන් 4 ක්) පමණ වත් කර - හැඳි මිටකින් එය හොඳට මිශ්‍ර කර වසා තබා - බොන්ට පුළුවන් තරම් රස්නය ඇති විට පෙරා දමා බොන්ට දෙන්නේ ය. හදිස්සියේ චූර්ණයක් සාදා ගන්ට වුවමනා වුවොත් එක එක වර්ග වෙන වෙනම ගණනට බැදදන්ට, බැද - කුඩු කර ගත යුතු යි. එක චූර්ණයක් දවසකට තුන් වරක් ද - එය දිය යුතු මුළු වාර ගණන හය වරක් ද විය යුතු යි.

1, 2, 3, 4 වැනි දිනයන්හි චූර්ණය දෙන අතර අධියට තකාරන ලද කසායක් හෝ පේයාවක් හෝ දෙවරක් උදේ සවස යොදනු උණ පාද වන ගතියක් හෝ උණ හටගත් තිදෝෂයේ බලවත්කමක් පෙනී ගියහොත් ඒ අතරට බුද්ධරාජ ගුලිය හෝ සිතාරාම ගුලිය හෝ මාත්‍රු පන ආදි ගුලියක් උණට නියම කළ අනුපානයකින් දෙන්නේ ය.

5, 6, 7 දිනයන්හි කසාය සහ අනුපානය සමග ගුලියක් දිය යුතු යි. චූර්ණ කලං 1½ ට - වතුර අවුන්ස දෙකක් බැගින් දෙන්නේ ලොකු අයට ය. වෘද්ධයන්ට - ළමයින්ට - ගර්භිණීන්ට අඩුවෙන් මාත්‍රාව දිය යුතු යි.

1. **ආමලකාද්‍ය චූර්ණය:—** නෙල්ලි - කොත්තමල්ලි - අරළු - තිප්පිලි - සහිඳ ලුණු සම භාග, චූර්ණ කරන්නේ ය.

**මාත්‍රාව:—** කලං 1½ කට පැහෙන උණු වතුර වත් කර පෙරා-දෙන්නේ ය. ද. කු. ච.

**ගුණ:**— උණ පැසවයි, ගින්න වඩා, මලබද්ධය නැති කෙරේ.

**යෙදීම** :— සියලු ආකාර උණවලට මුලට ම යොදන්නේ ය. විශේෂයෙන් ප්‍රතිශ්‍යා උණට යෝග්‍ය ය. 1917 – 1918 පැවති ප්‍රතිශ්‍යා උණෙහි මෙය සහ මේ අතරට ඉඟුරු – කොත්තමල්ලි – කටුවැල්බටු තම්බා ද දීමෙන් ඉතා සතුටුදායක ප්‍රතිඵල ලැබුණේ ය.

ii. **රාස්නාදි චූර්ණය:**— අරත්ත අල – ඉඟුරු – කොත්තමල්ලි – තිප්පිලි, සම භාග පූර්වෝක්ත චූර්ණය මෙන් සියලු උණවල ම අළුත් කාලයෙහි යොදන්නේ ය. විශේෂයෙන් නැමවී පසු ගැණෙන උණට දීමෙන් හොඳ ප්‍රතිඵල ලැබේ.

උණ නිදහස සඳ හාම් ගම් සමග අතරට දෙවරක් ඉඟුරු – යකිනාරන් කොළ – මදුරුතලා යුසින්, මාත්තු පත – සිතාරාමිය හෝ ඒව සමාන ගුලියක් යොදන්නේ ය.

**ගුඩුච්‍යාදි චූර්ණය** :— රසකිඳ – ගම්මිරිස් – තිප්පිලි – අරළු-කරාබු නැටි – කොහොඹ පොතු – රත්හඳුන් – ඉඟුරු – මින් කොහොඹ (හෝ කාලමේඝ) – සියල්ල වේලා සම භාග ගෙන අවුවෙන් වේලා කුඩු කර ගන්නේ ය.

**ගුණ හා යෙදීම** :— සියලු ආකාර උණ පැසව යි, ගින්න දල්ව යි, මෙය අළුත් උණෙහි ඕනෑ ම අවස්ථාවකට යොදන්නේ ය. විෂම උණයෙහි මුලට ද යෙදිය හැකි යි.

**පේයා** :— බඩගිනි ඇති වූ කල – උපවාසයට අනතුරු ව පේයා යොදන්ට නියම කර තිබේ. ඔසු ද්‍රව්‍ය කලං 12 ක් ගෙන පත 8 ක් දිය වක් කර 4 ට සිඳ රොඩු පෙරා හැර ඒව විලඳ හෝ බැදි හාල් හෝ කලං 12 ක් බහා නැවත පත 2 ට සිඳවා ගැනීමෙන් පේයා සාදන්නේ ය. මිට රස වීමට වුවමනා නම් දෙළුම් ඇඹුල් – තිප්පිලි කුඩු ආදියක් යෙදිය හැකි යි.

විශේෂයෙන් මත්පැනින් හටගත් උණෙහි ද මත්පැන් බොන්නහුගේ උණෙහි ද ග්‍රීෂ්ම කාලයෙහි ද පිත් අධික උණෙහි ද පේයා නො දෙන්නේ ය. එවිට බෙහෙත් ද්‍රව්‍ය පමණක් බහා අඩියට තකාරා දිය හැකි යි.

i. **ව්‍යෝෂාදි පේයාව** :— ඉඟුරු – ගම්මිරිස් – තිප්පිලි – කොත්තමල්ලි යන මෙයින් සිද්ධ කල පේයාව සහිඳ ලුණු බහා දීමෙන් උණ පැසවා, ප්‍රතිශ්‍යා උණෙහි ද යොදන්නේ ය. වා ශූලෙහි ද හොඳ යි.

ii. **ෂෂඩවාදි පේයාව** :— සහිඳ ලුණු කලං 1½ යි, කොත්තමල්ලි කලං 6½ යි, ඉඟුරු කලං 2½ යි, තිප්පිලි කලං ½ යි. මිශ කල පේයාව ආම නිරාම උණ ජය ගනී. මල බිඳුව යි.

iii. ශුෂ්ක අසාධ්‍ය මූලී පේයාව :— එළබටු - කටුවැල්බටු - අස්වැන්න - පොල්පලා - භාමරණ්ඩ (=ගොනාබු)- කොත්තමල්ලි- තිප්පිලි - පේයාව, සියලු උණට 3 දින සිට 7 දින තෙක් පොදන්නේ ය.

## කෂාය

### Decoctions

පැසවූ උණට කසාය සාදන කල දිය අට එකට හෝ සතර එකට සිඳ දිය යුතු යි. උණ පැසවා නැත් නම් එය තේරුම් ගත නො හැකි නම් බෙහෙත් ද්‍රව්‍ය කලං 12 ක් ගෙන දිය පත 8 ක් බහා පත 2 ට සිඳ වරකට පත ½ ය බැගින් ද. තු. ව. දෙන්නේ ය.

බඩ ගින්නෙන් බැගෑ වීම - අඟපසඟෙහි සැහැල්ලු බව - මද උණ වේගය (=රශ්මි මාපක යන්ත්‍රයෙන් බැලූ විට උණ අඩු බව) - මල - මූ - බහ මොවුන්ගේ පැවැත්ම - පැසවූ උණෙහි ලකුණු යි.

**පඤ්චවල්ලාදිය** :— i. **දුම්මැල්ල**, කොත්තමල්ලි කසාය උණ පැසවා සුව වේ.

**සෙදීම** :— අළුත් උණෙහි ඔහැ ම නැත හොට සෙදිය හැකි යි. දූවිලි, පිපාස ඇති උණට යෝග්‍ය යි.

ii. **මුස්තාදිය** :— කලාඳුරු අල - පැපිලිය (=පත්පාඩගම්)- සිද්ධිගුරු (=වියලි ඉඟුරු) කසාය සෙම් සහිත උණට තිප්පිලි කුඩු දමා ද - අතික් උණට සීනි - මීපැණි යොදා ද දෙන්නේ ය.

iii. **ද්විතීය මුස්තාදිය** :— කලාඳුරු අල - පැපිලිය - සීන් කොහොඹ - කහඹිලියා මුල් - ඉඟුරු කසාය, තිප්පිලි කුඩු බහා දීමෙන් දොස් පැසවා උණ බසී.

iv. **කණ්ටකාර්‍යාදිය** :— කටුවැල්බටු - එළබටු - ඉඟුරු - කොත්තමල්ලි - දේවදාර කසාය, තිප්පිලි කුඩු - සීනි - මීපැණි බහා දෙන්නේ ය. උණ පැසවා සුව වේ.

## ගුලි - කල්ක

### Pills Etc.

අළුත් උණෙහි ගුලි - කල්ක ආදිය ද සෙදිය හැකි ය. ගුලි කල්ක ආදිය දක්ෂ වෛද්‍යවරයන් ලවා සාදවා ගත හැකි යි.

වජ්‍රකාංච - මාත්තු පහ - සෝල දවුණම - බුද්ධරාජ - සීතාරාම - වසු කල්ක ආදිය අළුත් උණෙහි සෙදිය හැකි යි.

කලින් දැක්වූ බෙහෙත් යොදන කල උණ අඩු නොවන්නේ ද - උණ සැඩවූ නිදහනය සඳහා ද - එවිට තුලී යෙදිය හැකි යි.

සියලු උණට ම මුලට ඉඟුරු යුෂ මීපැණියෙන් ද - කොහොඹ පොතු - අමු ඉඟුරු - සුදුලූණු යුසින් මීපැණි තලතෙල් සමග ද - ඉඟුරු - යකිනාරන් කොළ, පොතු යුසින් මීපැණි දමා ද - කොත්තමල්ලි කසායෙන් ද යොදන්නේ ය.

බටු දලු - ආඹාතෝඹා දලු - නික දලු - කිරි අඟුන දලු - අමු ඉඟුරු - සුදුලූණු යුසට බුද්ධ රාජ (කල්කය) තුලී දමා සිනි - මීපැණි - තල තෙල් - තනකිරි සමග මුලට දවසට දෙවර බැගින් චූර්ණ හෝ පේයා හෝ කසායක් දෙන ගමන් දවස් දෙකක් දෙන්නේ ය.

එසේ ම එම කල්කය ඒ ලඟ · දවස් වදෙකේ නික දලු - යකවනස්ස දලු - දෙහි දලු - කොසඹ දලු - අමු ඉඟුරු, සුදුළූණු යුසින් - තලතෙල් - සිනි - මීපැණි සමග දෙන්නේ ය.

තද ඇඹුම ඇවිලිලි ඇති විට ඉඟුරු යුෂ - මීපැණි - දෙබෑ ඇඹුල්වලට - කොසඹ තෙල් බේත් දමා දෙන්නේ ය.

## ශෛලශ්මික ජ්වරය

### Influenza

ප්‍රතිශ්‍යාවත් සමග සංක්‍රමනය වන්නා වූ උණ ශෛලශ්මික ජ්වරය යි. සියලු ම සෙම කිපුණු උණවල මුලට මේ ප්‍රතිකාර යෝග්‍ය යි. 'නියුමෝනියා' නමින් හඳුන්වන වාතෝපතාර සන්නි පාතයට ද මුල දී මේ ප්‍රතිකාර යෙදුවොත් පහසු වේ.

**ප්‍රතිකාර**
**Treatment**

මුල දී ම ආමලකාදී චූර්ණය උණු වතුරෙන් දිය යුතු යි. ඊට පසු ඉඟුරු - කොත්තමල්ලි - තිප්පිලි තම්බා දෙන්නේ ය. ලේහයක් සාදා ටික ටික නිතර නිතර ලේහ හරන්නේ ය. චූවම්කා චූර්ණ නම් නස්‍ය වනයක් ද යොදනු. එසේ ම වසා කල්කය කොත්තමල්ලි තැම්බූ වතුරෙන් සිනි බහා දීමෙන් අධික ගුණ ලැබේ. නිෂ්ටවන ලේහ උණ සුව වෙන තුරු යොදනු. බෙහෙත් තවත් චූවම්කා චූර්ණ නම් [illegible] කසාය (අළුත් උණේ නියම කැරුණු) අවශ්‍යව සකාරා දෙනු. මෙහි පහත දැක්වෙන කසාය ද චූවම්කා නම් දිය හැකි යි.

හරීතක්‍යාදී කසාය :— අරළු - බුළු - නෙල්ලි - වදකහ - ඉඟුරු - අසමෝදගම් - කසාය සෙම් උණ පැසව යි. ප්‍රසව මූලාදී පේයාව ද දිය හැකි යි.

උෂ්ණයෙහි සාද ගතියක් - පපුවේ සාද අමාරු ආදියක් ඇති වූ හොත් මෙහි පහත දැක්වෙන අනුපානයන් බුද්ධිරාජ ගුලි හෝ මාත්තු පත හෝ සිතාරාමය හෝ දෙන්නේ ය.

**අනුපාන** :— මලිඳ කොල - කුප්පමේනිය කොළ - ආඩාතෝඩා සහමුලින් - සියඹලා දළු - මිදුරුතලා කොළ - දෙහි හැව - සස්සඳ මුල් - අමු ඉඟුරු - සුදු ළූනු, සම භාග ගෙන කොටා සාඩ පිඹමෙන් (=වණ්ඩුවෙන්) තම්බා මිරිකා, බෝ - මීපැණි - තලතෙල් - ඇඹුල් (සිංහල) දෙඹම් ඇඹුල් - කහ තිරි දමා දෙන්නේ ය.

**නිෂ්ඨීවනය** :— නිෂ්ඨීවනය යනු බෙහෙත් දිවේ තබා තැරීම යි. ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - සහිඳ ලුණු කුඩු කර ඉඟුරු යුසෙහි හෝ දෙඹම් ඇඹුලෙහි හෝ නස්නාරන් ඇඹුලෙහි බහා දිවේ ටික ටික තබා කෙල ගසනු, කෙල ගිලිනු. හිසේ - පපුවේ සිර ඇරේ.

**අවලේහය**:— සුවඳ කොට්ටම් - ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - සිවිය මුල් - කළුදුරු - අසමෝදගම් - කකීටක ශ්‍රිංගි - ඉඟුරු යුසින් අඹරා, දෙඹම් ඇඹුල් - මීපැණි - ඉඟුරු යුස යන මේවාට දිය කර ලේහ කරන්නේ ය. මීට තමා ඇතැම් අය රසායනය කියන්නේ.

## සන්නිපාත උණ

### Fevers due to Excitement of all Faults

සන්නිපාත යනු දොස් සියල්ල රැස් වීමෙන් හටගත් උණ යි. ආණ්ඩුවේ ඇතැම් ඉස්කෝල පොත්වල පෙන්වන උණ සන්නිපාතය මෙය නො වේ. එය ඇන්ටරික් ජිවර් නමින් ඉංග්‍රීසියෙන් හඳුන්වන කවිරාජ ගණනාථයන් විසින් ආන්ත්‍රික ජ්වර නමින් දක්වන පුරාණ ශාස්ත්‍රීන් විසින් සන්නිපාත අතීසාරය නමින් දැක්වෙන රෝගය යි. සන්නිපාත උණෙහි අතීසාරයෙහි මෙන් නිදන් සමග මල නො යන්නේ ය. තාලුමෝහිතාව ද සන්නිපාතයෙකි. උණෙහි ඇති පාචනයෙහි නිදන් නො දක්නා ලැබේ. බඩේ සාද වේදනාව ද නැත්තේ ය. වා - පිත් - සෙම් සිහුණු ලකුණු දක්නා ලැබේ.

**ප්‍රතිකාර**
**Treatment**

සන්නිපාත උණෙහි ප්‍රතිකාර කරන කල ලංඝන - වාලුකා ස්වේද - නිෂ්ඨීවන - අවලේහ - කවළ - අඤ්ජන ප්‍රථම කොට යොදන්නේ ය.

**ලංඝනය** :— සුව වන තුරු ලංඝනය කටයුතු. උපවාසය ම ලංඝනය නො වේ. එසේ වුව ද අළුත් උණෙහි දක්වූ ආහාර - පාන අඩුවෙන් යොදන්නේ ය. පිරිසිදු - නීරෝගී මවුවරුන්ගේ ගහකිරි සන්නිපාත රෝගීන්ට බෙහෙතකි, ආහාරයෙකි.

**වාලුකා ස්වේද** :— වැලි කබලින් බැද - බත් එබරු කොළ වල බහා - විනාකිරි ඉස සරද්දෙන් ඔතා ශරීරය තවන්නේ ය. උණු වැලිවලට නාඩි ඉසීම පරිස්සමින් කළ යුතු. එසේ නො කලොත් මාංසයට අත පිලිස්සෙන්ට පුළුවන.

**නිෂ්ඨිවන - අවලේහ** :— ශ්ලෛෂ්මික ජ්වරයෙහි නියම කළ නිෂ්ඨිවන, අඤ්ජන යොදන්නේ ය.

**බෙහෙත් යෙදීම** :— (Drugs) අළුත් උණෙහි නියම චූර්ණ උණු වතුරෙන් යොදන්නේ ය. අවලේහයට නියම ද්‍රව්‍ය ද කුඩු කර උණු වතුරෙන් යොදන්නේ ය. අළුත් උණෙහි නියම කළ කසායන් ද - ශ්ලෛෂ්මික ජ්වරයෙහි කසායන් ද යන මෙයින් එකක් තෝරා ගෙන උදේ සවස දෙනු. කණ්ඨකාර්‍යාදි කසායත් හරිතක්‍යාදියත් යෝග්‍ය යි. එකක් දෙවරක් දුන් පසු ගුණ තිබේ නම් එය තව දෙවරක් යොදනු ගුණ නැත් නම් මාරු කරනු. අතරට කුඩක් හෝ ගුලි - කල්ක ආදියක් යොදනු. වජ්‍ර කල්කය කොත්තමල්ලි තැම්බූ ජලයෙන් දීමෙන් පපුවේ අමාරු ඇරේ.

මෙහි පහත දක්වෙන අනුපානයන්ගෙන් ද එම ගුලි - කල්ක යෙදිය හැකි යි. එකක් දවසට 2 වරක් හෝ 3 න් වරක් යොදනු.

**වාත උපද්‍රව අධික වූ කල** :— i ආඩාතෝඩා මුලේ පොතු - දළු, නික කොළ - විලද — ගම්මිරිස් - දොඩම් ලෙලි - අමු ඉඟුරු - සුදු ලූනු, සම භාග ගෙන කොටා කඩ පිම්මෙන් (=වණ්ඩුවෙන්) තම්බා මිරිකා - තලතෙල් - තිප්පිලි කුඩු, මීත් දමා දෙන්නේ ය.

ii. **සෙම් අමාරු අධික වූ විට** :— ඔලිඳ කොළ - බටු දළු - කිරිඅඟුන - කටුකරඹු කොළ - කුප්පමේනිය කොළ - නික කොළ - ආඩාතෝඩා (=පාවට්ටා) කොළ - ඉඟුරු - සුදු ලූනු - වදකහ - සස්සඳ මුල් - සියඹලා දළු යුෂට, මීත් - මීපැණි - සීනි තල තෙල් දමා දෙන්නේ ය. සෙම් තදේට වෙලී තිබේ නම් මීට ගෝ මූත්‍ර දමා ද දෙන්නේ ය.

iii. **ප්‍රතිශ්‍යා උණ නැගපු කැහුම** :— සියඹලා දළු - යකාවනස්ස - පැසුණු බටු - එම දළු - ඔලිඳ කොළ - ආඩාතෝඩා කොළ - කුප්පමේනිය - කොහොඹ පොතු - පෙනෙලගෙඩි ලෙලි - ඉඟුරු - සුදුලූනු යුෂට, දොඩම් ඇඹුල් - මීත් දමා දෙන්නේ ය.

iv. උණ සද වූ විට ගොනම - නික - කුඹුරුවැල් - ආඩාතොඩා - කුඩුමිරිස - ඉඟුරු - සුදුළූණු පුනට, බෙස් - හොසම් කොල් දමා දෙන්නේ ය

වසූ කල්කය - බ්‍රහ්මරාජ ගුලිය - මාන්තු පහ - කෝල දවුණ්ඩ - සීතාරාම හා ඒට සමාන ගුලි භාවිත කළ හැකි යි. අප දකගෙන ජීවත ඉතාම ප්‍රත්‍යක්ෂ ඵල ලැබෙන, සන්නිපාතයට දියයුතු ගුලි වශී සම් මෘත සංජීවනිය රස - ආනන්ද භෛරවය සිදු ගුලිය - මහද් කස්තුරි භෛරවය යනාදිය යි. ඒවා සපයා ගත හැකි නම් ඒ සමග පෙර කී අනුපාන යොදනු.

6. 7. 8. 9 දිනයන්හි මෙහි පහත දක්වන කසාය යෙදිය හැකි යි. මේ දිනවල අට 1 ට හෝ හතර 1 ට හෝ සිඳ සිංහල වෙද වරු පෙර පටන් ම කසාය යොදති. ඒ අතරට ද ගුලි යොදනු.

i. **දුරුපපීමාදි කසාය:—** දෙමදුර - පැපිලිය - සිරිත්තක්කු - කලාදුරු අල - වදකහ - කොත්තමල්ලි - අරළු - ඉඟුරු - කුඹුරු ඇට මද - ඇද්දෙමට මූලේ පොතු සියල්ල සම භාග - කලං 12 යි.

**ගුණ :—** වා සෙම් උණ - සන්නිපාත උණ පැසවා නසයි.

ii. **වචගන්‍යාදිය :—** එලබටු මූල් - කටුවැල් බටු - සුවඳ කොට්ටන් (හෝ වත ඉද්ද මූල්) - සිරිත්තක්කු - අරත්ත - කක්වන ශ්‍රිංගි - කහඹිලියා මූල් - කොළිඳහාල් - දුම්මැල්ල - කටුකරෝසන - කසාය සන්නිපාත නසා.

මීට පසු මධ්‍යම ජ්වරයට පොදු කසාය යොදන්නේ ය. අතරට වසූ කල්කය ද යොදන්නේ ය.

## මධ්‍යම ජ්වරය

### Middle Stage in Fevers

උණ හට ගෙන 7 දවසේ සිට 14 වෙනි දින දක්වා කාලයේ මෙහි පහත දක්වන කසාය පිළිවෙලින් යෙදිය හැකි යි.

i. **ශටාදිය:—** අරත්ත - සුවඳ කොට්ටන් - කටුවැල් බටු - කක්වන ශ්‍රිංගි - කහඹිලියා මූල් - රසකිඳ - ඉඟුරු - දියමිත්ත - කින් කොහොඹ - කටුකරෝසන කසාය.

**ගුණ:—** දෙස් පැසවා - උණ නසා. උණෙහි මධ්‍යම අවස්ථාවෙහි යොදනු.

ii. **අෂ්ටාදශාංගය: —** කින් කොහොඹ - දේවදාර - දස මූල් - ඉඟුරු - කලාදුරු අල - කටුකරෝසන - කොළිඳහාල් - කොත්තමල්ලි - ගජපිප්පිලි කසාය.

ගුණ හා යෙදීම :— කාසා - දෙබවීම - හාස - අරුචි - දාහ - මෝහ - ශ්වාස ආදි උපද්‍රව යුක්ත මධ්‍යම උණ නසා.

iii. යෝග රාජ කසාය :— ඉඟුරු - කොත්තමල්ලි - සිරිතේක්කු - නිත අරළු - රත්හඳුන් - දුම්මැල්ල - කොකොම් - තිපල - වැල්මී - බෑබිල - කටුකරෝසන - කලාදුරු අල - ගජ තිප්පිලි - ඇහැළ සාරල් මද - නික් කොහොඹ - රසකිඳ - දස මුල් - වැල් තිඹිබටු කසාය සීනි දමා දෙන්නේ ය.

ගුණ :— සියලු දරුණු උණ - සන්නිපාත නසා ලයි.

සංලක්‍ෂණය :— මේ දක්වූ කසාය - සියලු ආකාර උණවලට මධ්‍යම උණ පවත්නා කාලයෙහි යොදන්නේ ය.

## පුරාණ ජ්වරය

### Chronic Type in Fevers

මෙහි පහත දක්වෙන කසාය සියලු උණෙහි ම 16 වෙනි දිනෙන් පසු ව යෙදිය හැකි යි. එසේ වුවත් මැලේරියා ආදි විෂම ජ්වරයන්හි 12 දිනෙන් පසු ව වත් යෙදිය මැනවි.

ඉදිමුම් පාණ්ඩු ඇත්තාවූ ද - පිලා ගෙඩි ඇත්තාවූ ද - තැති ඇත්තාවූ ද අයට මේ කසාය එළ මූත්‍ර බහා කකාරා, දෙන්නේ ය. එළ මූත්‍ර පතක් ද දිය පත 7 ක් ද බහා පතට තැකැරීම යි.

i. දේවදර්වාදිය :— දේවදර - පැපිලිය (=පත්පාඩගම්) - කලාදුරු අල - අරළු - ඉඟුරු - ඇද්දෙමට මුල් - සුවඳ කොට්ඨන් - සිරිතේක්කු - කටුවැල්බටු - තිප්පිලි කසාය, උපද්‍රව යුක්ත පරණ උණ - මැලේරියා උණ නසා ලයි.

, බිල්වාදිය :— බෙලි - බෑබිල - ඉඟුරු - කසාය, තිකුළු - සුදුදුරු - කළුදුරු කුඩු දමා දීමෙන් පුරාණ උණ නසා. මෙය බඩ බින්නේ පෙළුණු අයට ඉතා දෙනු.

iii. න්‍යග්‍රෝධාදිය :— නුග මූල් (එල්ලෙන ඒවා), උක් දඬු කසායට සීනි දමා 7 දිනක් ම දෙන්නේ ය. බොහෝ පරණ උණ පවා නසා ශරීරය පුෂ්ටිමත් වෙ.

iv. භද්‍රාදිය :— නාග - වෙනිවැල් ගැට - තිකුළු - රසකිඳ කසාය, පරණ ජ්වර - විෂම ජ්වර (=මැලේරියා) නසා.

, නිදිග්ධිකාදිය :— කටුවැල්බටු - ඉඟුරු - රසකිඳ කසාය, තිප්පලි කුඩු බහා දෙන්නේ ය. අරුචි - කාස - ශූල - ශ්වාස - පීනස - අග්නි මාන්ද්‍ය - අර්දිත - හිසේ වේදනා - විෂම උණ - පුරාණ උණ නසා.

vi තුලසාදිය :— මදුරුතලා මූල් - ඉඟුරු - අරළු - විෂ්ණු ක්‍රාන්තිය කසාය, ගම්මිරිස් කුඩු බහා දීමෙන් පුරාණ උණ - විෂම (=මැලේරියා) නසා.

vii. කාලිංගාදිය :— කෙළිඳ හාල් - දුම්මැල්ල - දියමිත්ත - කොත්තමල්ලි - කටුකරෝහණ - ඉඟුරු - සැවැන්දරා මුල් - ඉරිවේරිය - ගොර අරටු - කොහොඹ - අරළු - එළබටු - කටුවැල් බටු - ඉරමුසු - සුවඳ කොට්ටං - නික අරටු - පැපිලිය - රසකිඳ - වැල්මදට - කලාදුරු අල, මංචාඩි 2 බැගින්, රත්සිවුල් මුල් මංචාඩි 5 යි, සබරස මුල් මංචාඩි 15 යි.

සියලු විෂම හුණ - පුරාණ හුණ නසා. සැලිය (වකිය හෝ සාලී) මද වරුව බැගින් - කසාය 3 ක් දෙන්නේ ය.

viii. මහද්භාර්ගාදිය: — සිරිතේක්කු - අරළු - කටුක රෝහණ - සුවඳ කොට්ටං - පැපිලිය - කලාදුරු අල - තිප්පිලි - රසකිඳ - දසමුල් - ඉඟුරු කසාය, පානය කිරීමෙන් - ධාතු ගත වූ සතතාදී සියලු ආකාර පුලු වූ ද - දරුණු වූ ද විෂම ජ්වර (=මැලේරියා) පිටත වූ උණ - මන්දාග්නිය - අරුචි - පිලා - අක්මා දෝෂ - ගුල්ම - ඉදිමුම් නසා. දින 12 න් පසු සියලු ම මැලේරියා උණට සැලි 6 ක් දීමෙන් ඒකාන්තයෙන් සුවය ලැබේ. ඉදිමුම් තිබේ නම් හෝ මූත්‍ර දමා කසාරා දෙන්නේ ය. අවුරුදු 6 - 10 දක්වා අයට පත ¼ බැගින් ද - අවුරුදු 2 - 6 දක්වා අයට මරකට මේස හැන්දෙන් 2 බැගින් ද - 6 මාසයේ සිට අවුරුද්ද දක්වා අයට මේස හැන්දෙන් 1 ක බැගින් ද - දවසට දෙවරක් හෝ තුන් වරක් යොදන්නේ ය. පල් වූ කසාය නො දිය යුතු. ඉතිරි සාරක් වූ ඒවා අහක දමා අළුත් අළුත් ව කසාය කලං 12 ක් ගෙන පතට මී සිඳ ගත යුතු යි.

විෂම ජ්වර නො වන අන් සියලු උණවලට දින 16 සිට ම දිය හැකි යි. පරණ උණට ද මෙය විශිෂ්ට යි.

ix. දසියාදි කසාය :— කටුකරඹු මුල් :— දේවදාර - කෙළිඳ හාල් - වැල්මදට - ඉරමුසු - දියමිත්ත - හිඟුරුපියලි - ඉඟුරු - සැවැන්දරා - සිත් කොහොඹ - ගජතිප්පිලි - කොටදිමුලා මුල් - නික අරටු - ගිරස්සපලු - කොත්තමල්ලි - අතිවිඩයන් - කලාදුරු අල - ගොර අරටු - මුරුංගා පොතු - ඉරිවේරිය - එළබටු - කටුවැල් බටු - අරළු - පැපිලිය - කුශ තණ මුල් (=ඉළුක් හෝ ගත හැකි යි) කටුකරෝහණ - සබරස මුල් - රසකිඳ - සුවඳ කොට්ටං සම භාග, කසාය කිරීමෙන් - ධාතු ගත වූ ද නො ගත වූ ද විෂම හුණ - සාන්නිපාතික හුණ - එක දෙසින් හටගැණුනු උණ - දෙස් දෙකෙන් හටගත් උණ - වමන යුක්ත උණ - ශ්‍රමජ උණ - බජවන්ට අමාරු උණ ආදිය නසා.

සියලු ආකාර මැලේරියා උණට පෙර කසාය මෙන් ම යොදන්ට පුළුවන. මැලේරියා උණ නිසා ඇති වෙන, එවන ආබාධයන්ට ද මේ කසාය යෝග්‍ය යි. ඕනෑ ම පුරාණ උණකට ද යොදන්නේ ය.

# විෂම ජ්වරය

## ප්‍රතිකාර

## Treatment of Malaria

මැලේරියා නමින් දැන් පවතින උණ ආයුර්වේද ග්‍රන්ථවල දක්වෙන්නේ විෂම ජ්වර නමිනි. මේ උණ හටගත් දවසේ අළුත් උණට නියම් කළ බෙහෙත් යොදනු. මුල් කාලයට ද එසේ ම බෙහෙත් යෙදිය හැකි යි. කසාය දෙන විට පත 8 එකට සිඳ ම දෙන්ට සුදුසු ය. පුළුවන් නම් හැම කසායට ම එළු මූත්‍ර පතක් දමා සින්දවා දෙන්නේ ය.

විශේෂ බෙහෙත් යෙදීම වඩා මැනවි. 2, 3, 4, 5, 6, දවස් සඳහා මෙහි පහත දක්වන බෙහෙත් යොදනු. ගුලි - කල්ක ආදියක් අතරට කොහොඹ පොතු - මදුරුතලා - ඉඟුරු - දෙහිගැට - අරත්ත අල - උඳුපියලි - යකිනාරන් කොළ පුසින්, මීපැණි දමා දෙන්නේ ය. අළුත් උණෙහි කී ගුලි ම කසාය - චූර්ණ අතරට යොදන්නේ ය.

i. **ව්‍යොෂාදි චූර්ණ** :— ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - කොත්තමල්ලි - සුදුළූනු - සුදුදුරු - අරත්ත - කලාදුරු අල - අරළු, සම භාග කබලින් බැද කුඩු කර කලං 3 ක් වලඳකට දමා දෙහි ගෙඩි 2 ක ඇඹුල් ඊට වත් කර ඒ ඉස්ම සිඳීමට තරම් වන සේ ගිනි කර සිඳීගෙන එක විට වතුර පත 2ක් වත් කර පතට සිඳ දෙවරකට දෙන්නේ ය. විෂම ජ්වරයෙහි මූලට හොඳ යි.

ii. රුක්අත්තන පොතු - අරළු - කලාදුරු අල - ඉඟුරු - කොත්තමල්ලි - නිදිකුම්බ මුල් - කටුපිල - වරාමූල් - කහ - වෙනිවැල් ගැට - කුඩුමිරිස කොළ - බින්කොහොඹ - රසකිඳ - සන්නිනායන් - වලගසාල් - අසමෝදගම් - කටුකරෝසන - රත් කිවුල්, සම භාග කුඩු කර පෙර කී චූර්ණය මෙන් යොදනු. අළුත් වූ ද පරණ වූ ද විෂම උණ (=මැලේරියා) නසයි.

iii. **දේවදාර්වාදිය** :— දේවදාර - වදකහ - කලාදුරු - ඉඟුරු - අරළු, සමභාග චූර්ණය උණු වතුරෙන් දෙනු. විෂම උණෙහි හැම අවස්ථාවන්ට ම යෝග්‍ය ය. බඩේ සද අජීර්ණ ඇති විට ද මෙය යොදන්නේ ය.

iv. **අරළු ආදි කසාය** :— අරළු - කටුකරෝසන - රත් සඳුන් - තිප්පිලි කසාය, විෂම උණට මුල දී කුඹක් දී දෙන්නේ ය.

i. සෑදිකඳාදි ක්වාථය :— බරගිදු පොතු - සමින්ද්‍රවා කොළ - වදවල් - කටුකැඹිලියා කසාය, විෂම උණ වෙවුලුම් උණ නසා.

සංක්ෂේපය :— පුරාණ උණෙහි නියම කල සියලු ම කසායන් මැලේරියා උණෙහි දී දින 12 ක් සිට දිය හැකි යි. මහා භාර්ගිනාදි කසාය - දශමූලාදිය - කුහමුල් කසාය. මේ අවස්ථාවට - මැලේරියා උණට ඉතා යෝග්‍ය ය.

ii **කාලමේඝ ක්වාථය :—** කාලමේඝ (කිරි ආතා = නේපාල කිඹ කොහොඹ - පුරුක් පුරුක් තිබෙන වගීය) රාත්තල් 1 යි. **මදුරු** තලා (ගින් වගීය) රාත්තල් ¼ යි. දෙක ම කිරට ගින් වෙන්ට ලියා- උක් සීනි රාත්තලකුත් දමා - යකඩ හැලියක රන්වන් පාට වන තුරු බදින්නේ ය. හොඳට බැදුණු පසු වතුර බෝතල 8 ක් වත් කර 1 ට සිඳ පෙරා තබන්නේ ය.

**මාත්‍රා :— ලොකු අයට, වරකට මේස හැන්දෙන් දෙක බැගින් තුන් වරක් දවසට දෙන්නේ ය. කුඩා අයට මාත්‍රාව අඩු වෙති. මෙය මැලේරියා උණේ සය වැනි දිනේ සිට යෙදිය හැකි යි.**

iii. **නිම්බ ක්වාථය:— කොහොඹ පොතු- රුක්අත්තන පොතු- කුඹුරු මුල් - සුදුදුරු - ගම්මිරිස් - සින්කෝනා පොතු - අරළු** රාත්තල බැගින් ගෙන, හොඳට ලියා - යකඩ හැලියක හෝ තඹ හැලියක දමා - සීනි රාත්තල් 6 ක් ද බහා රන්වන් පාට වන තුරු බදින්නේ ය. ඊට පසු වතුර බෝතල 32 ක් වත් කර 8 ට සිඳ පෙරන්නේ ය.

මාත්‍රා හා යෙදීම පෙර සේ ම යි.

## උණෙහි ඇති වන උපද්‍රාවන්ට ප්‍රතිකාර
### Treatment of Symptoms in Fevers

**උණ** හටගත් දින සිට සුව වන තුරු කාලය ඇතුළත ඇතැම් විට නානාවිධ උපද්‍රවයෝ ඇති වෙති. ඒ ඒවාට ඔහු ම අවස්ථාවක මෙහි පහත දක්වෙන ප්‍රතිකාම් යෙදිය හැකි යි. උණ අළුත් එකක් වූවා හෝ පරණ එකක් වූවා හෝ මැදුම් එකක් වූවා හෝ මෙය යෙදිය යුතු යි.

**පිපාසය :—** (Thirst in Fevers & its Treatment) i පිපාසය ඇති වූ විට කොත්තමල්ලි තම්බා සීනි දමා දෙන්නේ ය ii කොත්තමල්ලි - පැපිලිය තම්බා දෙන්නේ ය. iii සිඳ දුනු - කොත්තමල්ලි තම්බා දෙන්නේ ය. iv බෙලි මුල් - කොත්තමල්ලි- වලඳ තම්බා දෙන්නේ ය.

**වමනය** :— **(Nausea and Vomiting in Fever & its Treatment)** i එන්සාල් කලං 1½ ක් කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය. ii සැමැන්දත කුඩු කලං 2 යි, සුදු හඳුන් ගල හා කලං 2 යි, උණු වතුරෙන් අඹරා ඒව දිය කර දෙන්නේ ය. iii. සුදුරු කුඩු කර පට රෙද්දේ ඔතා ගිනි දල්වා නිවා දුම් බොන්නේ ය. iv සාදික්කා දෙහි ඇඹුලෙන් තවරන්න කල්කය දෙනු. v උණට දෙන ඉහත සියවුණු ගුලියක් ඉඟුරු යුසින් දෙනු. vi. බෙලි, බැබිල, ඉඟුරු, වීලද කසාය දෙනු. vii. රසකිඳ දඬු - ඇද්දෙමට මූලේ පොතු යුසට මීපැණි දමා ගුලියක් දමා හෝ නැතිව හෝ දෙන්නේ ය. බඩ ගිස්ව වමනය යන්නේ නම් වීලද මීයෙන් අතා කවනු. බෙත් ගුලියක් ඉඟුරු යුසින් දෙනු. viii. අජීර්ණයකින් නම් ඉඟුරු - දෙහි පොතු - යක්ෂාරත් හොල යුසින් මාත්තු පහ ගුලි දෙනු.

**හික්කාව** :— **(Hiccup in Fevers & its Treatment)** i සුදු ලූනු - කොත්තමල්ලි තම්බා, උක් හකුරු හෝ උක් සීනි දමා දෙන්නේ ය. ii. දෙළුම් යුස දෙනු. iii දිවුල් යුස - නස්නාරන් යුස - තනකිරි - මීපැණි - දෙළුම් යුස සම ව දෙනු. iv මොනර පිල් දැවූ අළු - වීලද - එන්සාල් චූර්ණය, මීපැණි - දෙහි ඇඹුල් - සීනි, මෙයින් ලේහ කරනු. v. සුදුරු නලා පට රෙද්දේ ඔතා පුළුස්සා දුම් බොන්නේ ය. vi කොත්තමල්ලි තැම්බූ දියෙන් වදු කල්කය සීනි - තනකිරි දමා දෙන්නේ ය.

**පාචනය** : — **(Purging in Fevers & its Treatment)** i. ඉඟුරු යුසින් තවරන්න කල්කය ආදි සුදුසු බෙතක් දෙනු. ii ඉඟුරු - ඉරිවේරිය දඬු යුසින් මීපැණි දමා බෙතක් දෙනු. iii. අසමෝදගම් - බෙලි - බැබිල - ඉඟුරු - කලාදුරු අල - තම්බා දෙනු. iv යක්ෂාරත් හොල, පොතු - කුඹගැට - උදුපියලි - ඉඟුරු යුස, මීපැණි දමා දෙන්නේ ය.

**වමන පාචන දෙක** :— **(Vomiting & Purging in Fevers & their Treatment)** i. ඉඟුරු යුස මී පැණියෙන් මාත්තු පහ - රත්නාදිය හෝ තවරන්න කල්කය දෙන්නේ ය. ii අඹු ඉඟුරු සුදුළූනු - දෙහි පොතු - යක්ෂාරත් හොල - මුරුංගා පොතු යුසට මීපැණි දමා දෙන්නේ ය. බත් නිබෙ නම් බෙත් දමා දෙනු. iii. බෙලි - බැබිල - ඉඟුරු - අසමෝදගම් - කරාබු නැටි, කසාය කර දෙනු.

**සංලක්ෂණය** :— ඇතැම් විට උණ රෝගීන්ට අපථ්‍ය ආහාර ගැනීමෙන් විසූචිකාව (=ජලසන්නිය) ද හැදෙයි. එවිට ඒ අධ්‍යාය යෙහි බෙහෙත් කරනු.

උගුර - කට - තොල් වේලීම :— (Treatment of Dryness Mouth in Fever) i. මීපැණි - ඉඟුරු යුශ - දෙහිම් ඇඹුල් - තන කිරි මුසු කර ලේහ කරනු. ii. කොත්තමල්ලි තම්බා සීනි දමා දෙනු. iii. ඊට ම වතු කල්කය දමා දෙනු.

දිව ඉදිමුම - උගුර ඇහිරීම - කට වේලීම - උගුරේ රෝග :— i. කෝල ගෝමා - වජ්‍රකාරානි - කණ්ඩමාල තෙල් ආදියක් සීනි - ඉඟුරු යුෂ - දෙහිම් ඇඹුල් සමග ටික ටික දෙන්නේ ය. ii. නිශ්ශීවනයක් දෙනු. iii අවලේහයක් දෙන්නේ ය. iv ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - කොත්තමල්ලි - කටුවැල් බටු - සියල්ල කලං 12 ක් ගෙන එළ මූත්‍ර පතක් ද වතුර 7 ක් ද දමා පතට සිඳ දෙන්නේ ය. අළුත් උණක් වුවත් යොදනු. **උගුරේ රෝග අධ්‍යායයෙහි** බෙහෙත් කරනු.

**මල මුත්‍ර බද්ධය :—** (Supression of Urine & Excreta in Fevers) i. තිරුස්සමලලු චූර්ණය බලිඳ ඇට 10 ක බර සීනි සමග දෙනු. ii කටුකරෝසන - දේවදර - අරළු - නෙරෙංචි - ඇහැළ කරල් මද (ඇහැළ පොතු) තම්බා සහිඳ ලුණු - යවක්ෂාර ලුණු දමා දෙනු. iii. ඉරිවේරිය දඬු - කලාදුරු අල - කටුකරෝසන - අරළු - ඉඟුරු - ඉරමුසු - යවක්ෂාර ලුණු, සම භාග ගෙන අඹරා උණු වතුරට දිය කර පෙරා දෙනු. වරකට කලං 1½ සිට 2 දක්වා යෙදිය හැකි සි.

**මුත්‍ර බද්ධය :—** (Suppression of Urine in Fevers & its Treatment) i. පොල්පලා - කොත්තමල්ලි කබලින් බැද කුඩු කර උණු වතුරෙන් දෙනු. ii. නෙරෙංචි - කොත්තමල්ලි තම්බා දෙනු. iii. බලිඳ කොළ - අක්කපාන කොළ - වෙඩිලුණු එකට අඹරා පොට්ටනි බැද, වණ්ඩුවේ තම්බා යටි බඩ තවන්නේ ය.

**දාහය - දැවිල්ල :—** (Burning Sensation in Fevers) i. කොත්තමල්ලි තම්බා සීනි දමා දෙනු. ii. දම්මැල්ල - පැපිලිය - කොත්තමල්ලි තම්බා දෙනු. iii. රසකිඳ දඬු - ඇද්දෙමට මූලේ පොතු යුෂට මීපැණි දමා දෙනු. iv. තන කිරි දෙනු.

**කැස්ස :—** (Cough in Fevers & its Treatment) i. ආඩාතෝඩා යුෂ - දෙහිම් ඇඹුල් - ඉඟුරු යුෂ - මීපැණි - තිප්පිලි කුඩු දමා ලේහ කරනු. ii ඉඟුරු - කොත්තමල්ලි - කටුවැල් බටු තම්බා දෙනු iii. තාලිසාදි චූර්ණය දෙනු.

**ශ්වාසය (=ඇදුම) :—** (Asthma in Fever & its Treatment) i. අරළු - සිරිපෝක්කු - කොත්තමල්ලි - වැල්මී - සුක්කිරි කුඩු කර උණු වතුරෙන් බොන්නේ ය. ii අරළු - ඉඟුරු - සුදුලූණු - මද කහ - දෙහිම් දඬු තම්බා, තිප්පිලි කුඩු මීපැණි දමා දෙනු. කැස්සට - ඉක්කාවට නියම කල බෙත් දෙනු.

**ආක්ෂේපක** - අපස්මාර ආදී වාත සන්නි ඇති වූ විට :— (Convulsion) i. අමු ඉඟුරු - සුදුලූනු - නික කොළ - යාවනාස්ස කොළ - කළිඳ කොළ - වෙලා කොළ - වදකහ - කුප්පමේනිය යුෂට, දෙබම් ඇඹුල් - තල තෙල් - මීපැණි දමා දෙනු. ii. බෙහෙත් තෙල් වර්ග හිසට දමනු. කොඳු ඇට පෙතෙල් - හානිසර - මාපට ඇඟිලි දෙකේ ගල්ලනු iii. අරළු - බුළු - නෙල්ලි කසායට ගිතෙල්- සහිඳ ලුණු - යවක්ෂාර ලුණු දමා දෙන්නේ ය.

**පපුවේ තද ගිර - සෙම් ගෙල්ලීම** :— i. කොත්තමල්ලි තම්බා වසු කල්කය සීනි දමා දෙන්නේ ය. ii. ආඩතෝඩා පඤ්චාංගය- කළිඳ කොළ - කුප්පමේනිය - බටු දල - වදකහ - සියඹලා දලු යුෂට - දෙබම් ඇඹුල් - මීපැණි - තන කිරි - තලතෙල් - (තිමෙටි තම්) වසු කල්කය දමා දෙන්නේ ය.

**තන්ද්‍රා** :— (නිදි වැනි සිහි නැතිකම) i. තිස කොළ යුෂ තල තෙල් දමා නස්‍ය කරන්නේ ය. ii යවක්ෂාර ලුණු - (සහන) ලුණු සම භාග කුප්පියකට දමා නාසයට අල්ලනු. කකුල් දෙක රත් කරනු. ii. කෝල ශ්ලේෂ්මා ආදී තෙල් රත් කර නස්න කරනු. iv. සිහි වූ විට උණු තේ හෝ කෝපි දෙනු.

**හිසේ තද බර, කැක්කුම ආදිය** :— i. නස්‍යයක් යොදනු. ii. ඉඟුරු - තිප්පිලි - කොත්තමල්ලි - සුදු ලූනු තම්බා දෙන්නේ ය.

**අරුචිය බක්කාරය** ; - i ඉඟුරු - සහිඳ ලුණු ලේහ කරනු. ii. නස්නාරන් පෙති කපා සහිඳ ලුණු - ගම්මිරිස් කුඩු කර දමා විකා, රොඩු අහකට දමනු. iii. ඉඟුරු - විලඳ - මුද්දිරප්පලම් - සුකිරි - සියඹලා - තිප්පිලි - ගම්මිරිස් - සහිඳ ලුණු - දෙළුම් පැණියෙන් අඹරා නස්නාරන් ඇඹුලට දිය කර ලේහ කරන්නේ ය.

**බඩේ කැක්කුම** :— i. ඉඟුරු - සුදුලූනු - රුක්අත්තන - වදකහ යුසින් මාත්‍රා පග මීපැණි බහා දෙනු. ii බෙලි - බැලිල- ඉඟුරු කසාය දෙන්නේ ය.

**ඇඹුම ඇවිලිල්ල** :— i. සුදු ලූනු - කොත්තමල්ලි - ගම්මිරිස් තම්බා, කවරත්න කල්කය - බෙහෙත් - තල තෙල් සීනි දමා දෙන්නේ ය. ii. කුඹුරුවැල් පොතු - තිඹ පොතු - ආඩතෝඩා පොතු - කොහොඹ පොතු - කළිඳ කොළ - සියඹලා දලු - වද කහ - සුදුලූනු - කොටා වණිදුලේ තම්බා මිරිකා (හිමෙට තම් බෙහෙත්) සීනි - මීපැණි තල තෙල් දමා දෙන්නේ ය.

## කාලයෙන් කාලයට පැමිණෙනා උණ වර්ග - දේශාන්තර උණ

### Season Fevers Etc

1. වද කල්කය, කොත්තමල්ලි සමඟ සීනි බහා දෙන්නේ ය. ආමලකාදි චූර්ණය දෙනු.

## 'මහාමාරිය' හෙවත් ග්‍රන්ථික ජ්වරය

### PLAGUE

මේ උණට - අළුත් උණට, සන්නිපාතයට දෙන කසාය හෝ මූත්‍ර බහා කසාරා දෙන්නේ ය. වෛද්‍ය දෙපාර්තමේන්තුවට වහා දැන්විය යුතු. කඳුරු තෙල් - ගෞරාංගාදි තෛලය ආදිය ද යෝග්‍ය ය.

## උණ අතිසාරය

### Diarrhoea with Fever

පිළිවෙළින් මෙහි පහත දැක්වෙන කසාය - දවසට දෙ වර බැගින්, දෙ දින බැගින් දෙන්නේ ය. අතරට මෙහි සඳහන් චූර්ණයක් දෙන්නේ ය.

i. බෙලිමුල් - ඉඟුරු - කලාඳුරු අල - කොත්තමල්ලි - ඉරිවේරිය - අතිවිඩයන් කසාය. මීපැණි දමා දෙනු.

ii. දියමිත්ත මුල් - කෙළිඳ හාල් - බින්කොහොඹ - කලාඳුරු අල - පැපිලිය - රසකිඳ - ඉඟුරු කසාය දෙනු.

iii. කෙළිඳ හාල් - තොටිල මුල් - කහබිලියා මුල් - බින්කොහොඹ - කලාඳුරු අල - ඉඟුරු - දියමිත්ත - අතිවිඩයන් කසාය දෙනු.

iv. බෙලි - බැකිල - ඉඟුරු කසාය දෙනු.

**වත්සකාදි චූර්ණය** :— ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - අරළු - කෙළිඳ හාල් - අසමෝදගම් - කලාඳුරු අල - වදකහ සමභාග, සියල්ල බරට පිටි සීනි.

**මාත්‍රා හා යෙදීම** :— කලං 1 සිට කලං 1½ දක්වා ලොකු අයට උණු වතුරට දිය කර දෙන්නේ ය. දිය කිරීමට චූර්ණය ගෙන ගලන දමා උණු වතුරෙන් අඹරා ඊට දිය කර දෙන්නේ ය. මෙය කසාය අතරට දිය හැකි යි.

## අතිසාරය

### Diarrhoea & Dysentery

ගිදත් යැම - බඩඑලිය යන විට බඩේ කැක්කුම අතිසාරයේ ප්‍රධාන ලකුණු යි. මේ ලකුණු තිබෙන විට උණ ලකුණු තිබුණත් අතිසාරයේ ම බෙහෙත් කට යුතු යි.

කසාය දෙන විට අතරට කුඩුක් හෝ ගුලියක් සුදුසු අනුපාන යකින් යෙදිය හැකි යි.

මෙහි ද පිළියෙලින් කසාය දෙන බැගින් දෙන්නේ ය.

**1, 2 වැනි දිනවල** :— i බෙලි මුල් - ඉඟුරු - කොත්තමල්ලි - කලාදුරු අල - ඉරිවේරිය දමූ කසාය මීපැණි බහා.

**3, 4 දිනවල** :— ii කොළිඳ හාල් - අතිවිඩයන් - දියමිත්ත - බෙලි ගැට මද - ඉඟුරු - අසමෝදගම් - සතකිලිය - කලාදුරු අල කසාය.

**5, 6, දිනවල** :— iii දියමිත්ත - ඉඟුරු - සතකිලිය - බෙලි ගැට මද - අසමෝදගම් - දෙළුම් ලෙලි - කොළිඳ ඇට - අතිවිඩයම් - කලාදුරු අල - වැල්මදට - කොට්ල කසාය, මයිලමල්-කරාබු නැටි කුඩු දමා දෙන්නේ ය.

මේ කසාය පිළියෙලින් දීමෙන් පැසව යි. අතරට ආම අතිසාරයට හිත කුඩු වගී ද, දෙවර බැගින් දෙනු.

ඌරු මස් ආදී අපථ්‍ය ආහාර ගත් ලෙඩුන්ට පිළියෙලින් මේ කසාය පඩසාධිය දෙනු.

i. ඉඟුරු - අරළු - කලාදුරු අල - වදකහ - අතිවිඩයන් - දේවදුර කසාය.

ii. ඉඟුරු - ඉරිවේරිය - අතිවිඩයම් කසාය.

iii. ඉඟුරු - කලාදුරු අල - අතිවිඩයම් - රසකිඳ කසාය.

**මේ ආමය පවත්නා කාලයේ දිය යුතු චූර්ණ :—**

**කලිංගාදි චූර්ණය** :— කොළිඳ හාල් - අතිවිඩයන් - පෙරුම් කායම් - වදකහ - සුවඳ ලූණු - අරළු, සමභාග ගෙන සුණු කරන්නේ ය. උණු වතුරෙන් කල 1-1½ ද. දෙ. ව. ආම අතිසාර-පැසුණු අතිසාර - ග්‍රහණී - බඩේ කැදබල වේදනා නසයි. හිතැ ම බඩේ කැක්කුමකට මෙය යොදනු.

උණ අතිසාරයට නියම් කල වෙත්‍යාශාදී චූර්ණය ද ආම අතිසාරයට යොදන්නේ ය.

තව ද ආම කාලයේ දී අඩිය යන්නේ නම් උඳුපියලි - කරල් හැබ - ගොටු කොළ - රතුහූනු - කොහිල අල කොළට, උණු අළු වෙන් පාඹා මිරිකා, වලකහාල් කුඩු - මීපැණි දමා දෙන්නේ ය.

'ආමය' පසු වූ බව මල ජලයෙහි බහා බලා ගත හැක. පැසුණු මල ජලයෙහි ගිලේ. නැවැත්වීමට මෙහි පහත දැක්වෙන කසාය ද කුඩ ද යොදනු.

හ්‍රීබේරාදිය :— ඉරිවේරිය - අතිවිඩයන් - කලාඳුරු අල - බෙලි ගැට මද - කොත්තමල්ලි - කෙළිඳ - නිදිකුම්බ මුල් - මයිල - ලොත් - ඉඟුරු කසාය.

**ලවංගාදි චූර්ණය** :— කරාබු නැටි - අතිවිඩයම් - බෙලි ගැට මද - කලාඳුරු අල - දියමිත්ත මුල් - ඉඹුල් මැලියම් - සූදුරු - මයිල මල් - ලොත් සුඹුලු - කෙළිඳ හාල් - ඉරිවේරිය මුල් - කොත්තමල්ලි - හල් දුම්මල - කාකටකශ්‍රිංගී - තිප්පිලි - ඉඟුරු - නිදිකුම්බ මුල් - යවක්ෂාර ලුණු - සහිඳ ලුණු - වෙනිවැල් ගැට, සම භාග ගෙන කුඩු කරනු. හදිස්සි නම් වෙන වෙන ම කබලෙන් බැද කුඩු කර කිරා මිශ්‍ර කරන්නේ ය.

**මාත්‍රා** :— කලං 1 සිට 1½ සි. ද. මද ව. ලොකු අයට. කුඩා අයට අඩුවෙන් යොදනු.

මෙය අතිසාරයේ කොයි අවස්ථාවන්වත් උණටත් යෝග්‍ය යි. ළමයින්ගේ උණ - වමන - පාචන ආදි සියල්ලට ද ලොකු අයගේ ඒ සියලු අමාරුකම්වලට ද යෙදිය හැක. ගමන් යන කල මෙය සාදාගෙන යාමෙන් හදිස්සියේ සෑදෙන සීතල - වෙව්ලුම් - උණ - වමන - පාචන - අතිසාර - ජලසන්ති - පණුකාය ආදි සියලු කාන්ති ම උණු වතුරෙන් යෙදිය හැකි යි.

## අතිසාරයේ උපද්‍රවයන්ට ප්‍රතිකාර

### Treatment of Severe Symptoms in Diarrhoea

1. **නවත්වන්ට බැරි බඩේ කැක්කුමට** :— i. කාලිංගාදි චූර්ණය උණු දියෙන් දෙනු. ii. ඉඟුරු කුඩු කර ගිතෙලින් අනා (ගිතෙල් ඇනීමට පමණ යි වුවමනා,) බෙහෙත් එබරු කොළේ ඔතා උණු අළුවෙන් තම්බා ගෙන, ඉඟුරු කුඩු පමණ පිටි සීනි එකතු කර එකට අනා ටික ටික කන්ට දෙන්නේ ය.

2. **ඉක්කාවට** :— i දෙළුම් පුස දවසකට කීප වරක් දෙනු. ii. දිවුල් මද - උක් හකුරු - ඉඟුරු කුඩු - එකට අනා ටික ටික කන්ට දෙන්නේ ය.

3. **වමනයට** :— අඹදළු - මාදන් දළු - කුශ මුල් - කැවැත් දත මුල්, කොටා උණු වතුර වත් කර වසා තබා, පෙරා බොන්ට දෙනු. ii. දිවුල් මද - මීපැණි - ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි එකට අඹරා ලේහ කරනු. iii අඹ ඇට මද - මිලද තම්බා දෙනු.

4. **පිපාසයට** :— ඉරිවේරිය - කොත්තමල්ලි තම්බා දෙනු.

5. **මල බද්ධයට** — සමහර විට මල නොදව බොහෝ බොහෝ වේදනා කරයි. විත විත යෙයි. එවිට අරළු - තිප්පිලි, සමභාග උණු වතුරෙන් අඹරා ඒට දිය කර වරක් දෙනු. එය හරි ගියේ නම් කැවිත දීම වුවමනා නැත.

අතිසාරයෙහි ඇති සියලු උපද්‍රවන්ට දිය හැකි කපිත්ථාෂ්ටකය දක්වනු ලැබේ.

අසමෝදගම් - තිප්පිලි - කොල්ලන් කොළ - කුරුඳු පොතු - එන්සාල් - නාමල් රේණු - ඉඟුරු - ගම්මිරිස් - කොත්තමල්ලි - ඉරිවේරිය මුල් - සුදුරු - සුවඳ දූණු, මේවා කළඳ බැගින්, ගොරහ - මයිලමල් (=ධාතකී) තිප්පිලි - වියලි බෙලි ගැට මද - දෙළුම් පොලි - තිඹිරි මුල් - කලං 2 බැගින් - සීනි කලං 6 යි- දිවුල් මද වේලාගෙන කලං 8 යි, සියල්ල කුඩු කර මිශ්‍ර කරනු. වුවමනා නම් මීපැණියෙන් අඹරා තබා ගත හැකි යි.

මෙය අතිසාර - ග්‍රහණී ආදියේ සියලු අවස්ථාවන්ට යොදනු.

## රක්තාතිසාරය

### Dysentery

මුලට ආමය පැසවන අතිසාරයේ කසාය දෙනු. අතරව කරල් කැබ - උදුපියලි කොටා, වණ්ඩුවෙන් තම්බා මිරිකා මීපැණි දමා දෙනු.

i ගොටුකොළ - රතුලූනු - කොහිල අල කසාය කර දෙනු.

ii ගැට බෙලි තම්බා - උක් සකුරු සමග දෙනු.

iii ලවංගාදි චූර්ණය උණු දියෙන් දෙනු.

iv එළ කිරෙන් ඉරමුසු මුල අඹරා ඒට දිය කර දෙනු.

ආම අතිසාරයන්හි දී ලුණු කැඳ පිස බත් නොදව මත් ගා තරමක් බත් මත් ගාපුවා සිටින්ට දෙනු. කොහිල කැඳ - වැල් බැබිල කැඳ - උදුපියලි කැඳ දීම යෝග්‍ය යි. සුව වූ විට ඇඹුල්වැන්න - කොහිල අල අඹරා පිසූ හොදි සමග බත් දෙන්නේ ය.

ආන්ත්‍රික ජ්වරයෙහි ද අතිසාරයෙහි මෙන් ප්‍රතිකාර කළ යුතු. සිද්ධ ප්‍රාණේශ්වර රස - ගගන සුන්දර රස - කනක සුන්දර රස යොදනු.

## අර්ශස් රෝගය

### Haemorrhoids or Piles

ශරීරයේ මහ බඩවැලේ ධාර සමීපයෙහි හැදෙන්නා වූ මාංසාංකුර අර්ශස් නම් වේ. එසේ ම නාසය - මුඛය - යෝනි මාර්ගය ආදියෙහි එසේ ම හැදෙන මාංසාංකුර ද අර්ශස් නම්. ශරීරයේ හමේ කාලු (Moles) මෙන් හැදෙන රෝගය ද අර්ශස් ය.

සාමාන්‍යයන්ගේ ශුෂ්ක අර්ශස් - ශුෂ්කාර්ශස් ය යි දත් වියයි. ශුෂ්ක අර්ශස්හි මෙහි පහත දැක්වෙන ප්‍රතිකාර කළ යුතු යි.

1. අරළු - තිප්පිලි සිනහලින් බැද - අඹරා එපමණ උක් හකුරුත් යොදා මැද්දාහි 5 පමණට ගුලි කරනු.

**මාත්‍රා** :— ගුලි 1 සිට 5 දක්වා ද, දෙ වරක් උදේ සවස මෝරු සමග භාවිත කරනු. මාත්‍රාව ක්‍රමයෙන් වැඩි කරනු.

ii. සොහු ඇර වේලාපු ගම්මිරිස් - ශුද්ධ කොට කළු තල - උක් හකුරු, සිනහලින් අනා අනුභව කර කිරි හෝ කිරි මෝරු බොනු

**මාත්‍රා** :— කලං ½ සිට කලද දක්වා

iii. තල සේරු ¼, ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - බදුල්ල ඇට - කලද බැගින්, උක් හකුරු කලං 24 යි, කුඩු කර අනා ගුලි කර අනුභව කරනු.

**ලේප** :— අරළු - ඉරමුසු - රුක්අත්තන පොතු - වැටකොළු ගෙඩි අළු - එළ මුත්‍රයෙන් අඹරා ගානු.

**ධූප** :— ඉත්තෑකටු පුලුස්සා දුම් දෙන්නේ ය.

## රක්තාර්ශස්
## Bleeding Piles

අධෝ මාර්ගයෙන් ලේ යන්නේ නම් රක්තාර්ශස් ඇති බව සැල කිය යුතු. අධෝ මාර්ගයෙන් ලේ යන විට මෙහි පහත දැක්වෙන කසායයන් යොදනු. ලේ පහ වීමට ශුෂ්කාර්ශස්හි නියම කළ අරළු - තිප්පිලි බෙහෙත පාවිච්චි කරන්නේ ය.

**කසායයන්** :— එකෙකත් කසාය පත දෙක බැගින් දෙන්නේ ය.

i. කොහිල අල - අළු කෙසෙල් අල - වැටකෙයියා මොට - උම්බලකඩ - කිතුල් හකුරු කසාය.

ii. සීත් නිදිකුම්බ කසාය ගිතෙල් බඟා.

iii. මගාවුකොළ - රතුලූනු - කොහිල අල කසාය (මීපැණි හෝ ගිතෙල් බඟා අවස්ථාවේ අත්දමව.)

**සංලක්ෂණ** :— මේ කසායන් ලේ යන අර්ශස්වලට පමණක් නොව, ලේ අතීසාර, රක්තපිත්ත හා දිව කට අධෝ මාර්ගය වශයෙන් වූ, ස්ත්‍රීන්ගේ ප්‍රදර හා දුම්රී රෝගවලට ද යොදන්නේ ය. ලේ යෑම නැවතී දවස් කීපයක් ගිය පසු තෑම නොව නැතහොත් බලා සුදුසු දවසක අනාශ්‍රද්ධ ඖෂධයන් පාවිච්චි කරනු. විරේක වුවමනා තැම අවස්ථාවල ම භාවිත කළ හැකි මෘදු විරේචනයකි ඒ.

**අභයාදි මෝදකය :—** අරළු - ගම්මිරිස් - තිප්පිලි - ඉඟුරු - වලහසාල් - නෙල්ලි - තිප්පලි මුල් - කුරුඳු පොතු - කොල්ලන් කොළ - කලාදුරු අල කලඳ බැගින්; දන්ත මුල් කලං 3 යි, තිරස්ස වලලු කලං 8 යි, උක් සීනි කලං 6 යි, සියල්ල හොඳව චූර්ණ කර මීපැණියෙන් අඹරන්නේ ය. කලං 1½ ට ගුලි කරනු.

**මාත්‍රා :—** ගුලි 1 - 2 දක්වා, උදේ භාවිත කරනු. ඇල් වතුරයි භාවිතය. වුවමනා චූර්ණ තම් තිවුණු කැඳ දෙනු.

**ගුණ :—** විෂම ජ්වර (=මැලේරියා) - මන්දාග්නි - පාණ්ඩු - කාස - භගන්දර - ගුල්ම - අශීස් - පාශ්ව වේදනා - අක්මා පිලා ඉදිමුම ආදි බහු විධ රෝග නසා. මෙය දිනක් ඇර දිනක් ගණනේ 7 දිනක් හෝ 14 දිනක් භාවිත කරනු.

**අශීස්වලින් බඩවැල මැත් මුණු විට :—** i. මීගොම් වණ්ඩුරේ තම්බා තවනු. ii. සිතාමූල් - රසකිඳ කලං 6 බැගින්, ඉඟුරු - කාතාවාරිය අල කලං 4 බැගින්, කලාදුරු අල - කටුවැල් බටු - කොත්තමල්ලි - අරළු - බුළු - නෙල්ලි කලං 2 බැගින්, කුරුම්බා වතුර මතා [illegible]ක් වන් කර මතාවට සිඳ, සීනි - මීපැණි දමා දෙනු. iii. නෙළුම් කොළ සීනි සමග අඹරා කන්ට දෙනු.

මුං - තිරිඟු - බටු - රත්හැල් - කිඹාරන් - මඩු - කොහිල - කොටු කොළ - බීට්රූට් - රතුළූනු - තිල් තම්පලා වගී යන මේවා සුපු සේ පිස කෑම අශීස් රෝගීන්ට පථ්‍ය යි. කජු කොස් දෙක ද හොඳ ය.

මල මූත්‍ර වේග ඉසිලීම - කටුකාහාර - මෛථුන - එක තැන ඉඳගෙන සිටීම - මොලන වෙහෙසීම අපථ්‍ය යි.

## අග්නි මාන්ද්‍යය

### Anorexia, Loss of Appetite, Indigestion & Dyspepsia

ආයුෂය - වර්ණය - ශක්තිය - සවාසථ්‍යය - උත්සාහය - වැඩී :- ප්‍රභාව - ඕජස - තේජස - ගින්න - ප්‍රාණය යන මොනු කුසගින්න සම ව පවත්නා කල්හි වන්නාහු ය. ගින්න සන්සිඳුණු කල මැරේ. ගින්න ඇති වූ කල සවසථ වේ. කලක් ජීවත් වේ. ගින්න විනාශ වූ කල ලෙඩ වෙයි.

ඒ නිසා සියලු රෝගවලට හේතුව ආමාශය යි ප්‍රායෝගික චිකිත්සාවන්හි කියා තිබේ.

ශරීරයාගේ ඇති ගින්න i. මන්දය, ii. තීක්ෂ්ණය, iii. විෂමය, iv. සමය යි කියා සිවු වැදෑරුම් වේ.

i. තීක්ෂ්ණ ගින්න පිත අධිකත්වයෙන් වෙයි. වුවමනාවට වඩා අධික ගින්න තීක්ෂ්ණ ගින්න නම් වේ.

එවිට - දී, කිරි, කිරි බත්, හැඹිලි වතුර ආදි සෙම වඩන දේ දෙන්නේ ය. මී කිරි, තිතෙල්, දුම්මල ආදිය ද දෙන්නේ ය. අවිපත්තිකා ගෙඩි කිරෙන් අඹරා දෙනු.

ii. දොස් සම ව ඇති කල ඇති වූ ගින්න සම ගින්න යි. එය උත්සාහයෙන්, ආහාර පාන දෙකින් ආරක්ෂා කරන්නේ ය.

iii. වාතය අධික වීමෙන් විෂම ගින්න ඇති වේ. වා සමනය වන - සුදුළුනු, උඳු, බැබිල ආදි දේ භාවිත කරනු.

iv. සෙම අධික වූ කල ගින්න මඳ වේ. ඊට මෙහි සඳහන් ප්‍රකාර බෙහෙත් භාවිත කරන්නේ ය.

ගිනි මඳ බැවින් නො පැසුණු යම් ආහාර රසයෙක් වේ ද ඒ ආම නමින් දක්නා ලැබේ. ආම රස, රස හරණී මගින් මුළු ශරීරයේ ද, එතැනින් ලෙයට ද ගමන් කරයි. එහෙයින් ඒ ආම රසය රෝග සෑදීමේ මූලකි.

බොහෝ සෙයින් ආහාර විෂමතාවයෙන් ද අධික මෛථුනයෙන් ද අධික චින්තනයෙන් ද- භය, ශෝක, සිත් තරදර ආදියෙන් ද අජීර්ණය (=මන්දාග්නිය) හට ගනී. එවිට මෙහි පහත දැක්වෙන චිකිත්සා යොදනු.

i. අරළු, අසමෝදගම්, ඉඟුරු, කරපිංචා කොළ කසායට සහිඳ ලුණු දමා දෙන්නේ ය. සෙම, පීනස, ගිනි මඳ බව, ආමය, ගුල්ම වායුව, මලබද්ධ, පීලා රෝග, අක්මා රෝග, ක්ෂය ආදිය නසා ලයි.

ii. වචාදි කාෂාය :— ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කොත්තමල්ලි, සිවිය මුල්, අරළු, පිල මුල්, මගුල්කරඳ මුල්, බෙලි, කිතුල් සකුරු කසාය බීමෙන්- කුස ගිනි පිළිබඳ සියලු දොස් පහ කෙරේ. රුදාව, ගුල්ම රෝග, පීනස, පණු රෝග, සෙම, මන්දාග්නියෙන් ඇති වූ අත්වල හිරිය නැති කරන්නේ ය.

iii. ශුණ්ඨ්‍යාදි කසාය :— සාරණ, අරළු, ඉඟුරු, සුදුළුනු කසාය - සෙම, ගුල්ම, බඩේ ගෙඩි, කැස්ස, පීලා රෝග ආදි උවදුරු ඇති ගිනි මඳකම නසා.

**සංලක්ෂණ** :— ශරීරයේ බර බව, වමනය වීම, ඇස් ඉදිමීම ආදිය සහිත ආමාජීර්ණය හටගෙන ඇති වූ කල ප්‍රථම කොට ලුණු මිශ්‍ර හැන්දක් උණු වතුර වීදුරුවකට දමා – පොවා වමනය කර වනු. වමනය වූ පසු ඉඟුරු, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

බඩේ තද වේදනා ඇති වූ විට තාලීශාදි චූර්ණය දෙන්නේ ය.

**විදග්ධාජීර්ණය** :— භ්‍රම, පිපාසා, මූර්ඡා, පිත්තෙන් වූ නානාවිධ පීඩා, ඇඹුල් රස කටට එම, රාම්පෙල් එම, දැවිල්ල ඇති වේ. එවිට සිහිල් දිය දෙනු. කොත්තමල්ලි තම්බා රැයක් තබා හොඳට සීල් වූ විට දෙනු.

**විෂ්ටබ්ධාජීර්ණය** :— බඩේ ශූලවත් වේදනා, වාතයෙන් වූ පීඩා, මල වාත පිට නො වීම, මූර්ඡා, අංග වේදනා ඇති වේ. එවිට අරළු, තිප්පිලි, සුවඳ ලුණු අඹරා උණු දියෙන් දෙනු. තාලීශාදි චූර්ණය දෙනු.

**සියලු අජීර්ණයට ම සුදුසු බෙහෙත්** :— i. අරළු, තිප්පිලි, සහිඳ ලුණු කුඩ උණු වතුරෙන් දෙනු. **මාත්‍රා** :— කලං 1 යි, දැ. දෙ. ව.

ii. තිප්පිලි, තිප්පිලි මුල්, සිවිය මුල්, ශුද්ධ කළ රත්නිටුල්, ඉඟුරු, ගම්මිරිස්, සහිඳ ලුණු, සුවඳ ලුණු, බිලල් ලුණු, මුහුදු ලුණු, දියපරඬැල් පුලුස්සාපු අළු, යවක්ෂාර ලුණු, බදින ලද පුස්කර, කළුදුරු, සුදුදුරු, අසමෝදගම්, වදකහ, මහදුරු, පෙරුංකායම්, සාදික්කා, කොට්ටං, වසවාසි, කුරුඳු පොතු, කොල්ලන් කොළ, එන්සාල්, සියඹලා පොතු අළු, තරල්හැබ පුලුස්සා අළු, කරාබු නැටි, අරළු, සොලිඳ හාල් සමභාග හොඳකොට චූර්ණ කරනු.

**මාත්‍රා** :— කලං ¼ සිට 1 දක්වා උණු වතුරෙන්, සියලු අජීර්ණ වලට දෙන්නේ ය. රත්නිටුල් මුල්වල තාරටිය අඩකට දමා එළකිරිවල රැයක් තබා සෝදා වේලාගත යුතු යි. මෙය අජීර්ණහරණී චූර්ණය යි.

**ලවංගාදි මෝදකය** :— කරාබු නැටි, තිප්පිලි, ඉඟුරු, ගම්මිරිස්, දෙදුරු, තාම්බූල් රේණු, කොටු දඹු, එන්සාල්, සාදික්කා, උණ කපුරු, සිඹිය, කුරුඳු පොතු, කෙළඹ ඇට, රත් හඳුන්, කපු කිනිස්ස ඇට, අගිල්, සැවැන්දරා මුල්, කපුරු, වසවාසි, කලාදුරු අල, ජටාමාංස, යවක්ෂාර ලුණු, කොත්තමල්ලි, සතපුෂ්ප – සමභාග සියල්ල බරට කරාබු නැටි, සියල්ල මෙන් දෙ ගුණයක් සීනි, මීපැණියෙන් අඹරා ඇට්ටිඹබටු ප්‍රමාණ ගුලි කරනු.

ඖෂධ: — ගුලි 1 - 6 දක්වා ද අඩ ඒ. කොත්තමල්ලියෙන් දෙනු. මෙය චූර්ණ කර කසා උණු දියෙන් ද දිය හැකි යි. සියලු අජීර්ණ, බඩ පිපීම, පිපාසය, වමනය, මාන, උගුරට ඒම, ආදී වේදනා නසා ලයි.

අජීර්ණ රෝගීන්ට පථ්‍ය :— (Suitable for Dyspepsia) බිහි දල්වන සැහැල්ලු ආහාර දිය යුතු යි. කිරි බෝරා, රාබු පතෝල, අළු කෙහෙල්, හැළ් පලා, තුඹ හැළ් දලු, සියඹලා දලු, ඇඹුල් වැංජන (=ඇඹුල් ඇඹිලිය) උණු පැන්, සියඹලා ආදිය පථ්‍යය යි.

අජීර්ණ රෝගීන්ට අපථ්‍ය දේ: — (Unsuitable orf Dyspepsia) තීක්ෂ්ණ විරේචන, වේග ඉසලීම, සල්පනා, කල් ඉක්මවා වැළදීම, විෂම ආහාර, අධික ව වැළදීම, මුං, මෑ, බෝංචි, බටු ආදි බර එලවළු, මස් වගී, කිත්තර, කරවල, නිවීනි, නිතර දිය බීම, පිටියෙන් කළ කැවිලි, රට කෑම වගී ආදි බර වූ දේ අගුණ යි.

"ආහකුඹ අරිසි" හාලේ බත් පථ්‍ය යි.

## විසූචිකාව හෙවත් ජලසන්නිය

### CHOLERA

වමන, පාචන දෙක ඇති වීමෙන්, හදිස්සියේ සියලු ශරීරයේ දෙස් කිපී, ප්‍රතිකාර නො ලැබුණි නම් මාරයා හරා යන රෝගය ජලසන්නිය නම. බෝවීමෙන යන ජලසන්නියට කොලරාවය යි කියනු ලැබේ.

ප්‍රතිකාර Treatment i. අග්නි මාන්ද්‍ය අධ්‍යායයේ සඳහන් කුඹක් උණු දියෙන් දෙනු. ii. ලවංගාදී චූර්ණය උණු වතුරෙන් දෙනු. iii ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, අසමෝදගම් කුඩු කර උණු වතුරෙන් දෙනු. හැකමොත් තම්බා දෙනු.

මාත්තු පහ, නවරත්න කල්ක ආදි ගුලියක් තිබේ නම් ඉඟුරු යුෂ මිපැණියෙන් ද, අමු ඉඟුරු, සුදුළූණු, මුරුංගා පොතු, දෙහි පොතු යුෂට මීපැණි දමා ද දෙන්නෝ ය.

මේ රෝගයෙහි ගුණයක් ලබන තුරු විටින් විට ම බෙහෙත් විනා විනා දිය යුතු. තව ද කුඹවල්, ගුලි ආදිය දෙන අතර ඒ අතරට කසායක් ද ලිපේ තබා ඒ සිඳුණු විට දිය යුතු යි.

යෝග්‍ය කසාය කීපයක් මෙහි පහත දක්වේ.

i. ඉඟුරු, කොත්තමල්ලි, අසමෝදගම් කසාය.

ii. ඉඟුරු, වියලි බෙලි ගැට මද, අත්තිඹයන්, හාලාදුරු අල.

iii. සිවිය මුල් කසාය.

**වමනය නැවැත්වීමට** :—ගුලි වගී, ඉඟුරු යුෂ-මී පැණියෙන් ද යකිනාරන් කොල-පොතු, දෙහි ගැට, ඉඟුරු යුෂ මී පැණියෙන් ද, ඉඟුරු යුෂ, දෙහි පැඟිරි, දෙහි යුෂ, උක් පැණියෙන් ද දෙනු. සාදික්කා දෙහි ඇඹුලෙන් ගලා ඒව දිය කර දෙනු. එය දීමේ. හානු. සැවැන්දරා මුල් කලං 1, එන්සාල් කලං ½ යි, සතකුප්ප කලං ½ යි, සුදු හඳුන් කලං 1 යි, සියල්ල හොඳට කුඩු කර උණු වතුරෙන් දෙනු. පැය ½ න් ½ ට දෙනු. බඩට අබ පැලැස්තරයක් දමනු. නැවතුණු හැටියේ ගලවා දමන්නේ ය.

**මූණු පහ සහ ලේ නම්** :—i. තොරෙස්දිට(=තොකට්ටු), කොත්තමල්ලි තම්බා දෙන්නේ ය. ii. පොල්පලා, කොත්තමල්ලි කබලෙන් බැද කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය.

**අත් පා සීතල නම්** :- කබලෙන් වැලි බැද පොට්ටනි තනා තවනු. වළේ ගිනි කබල් තබනු. උණු වතුර බෝතල රෙදි ඔතා ලඟින් තබනු. කකුල්වල කොහොඹ තෙල් ගා ආඩාතෝඩා හෝ බුලත් කොළ රත් කර තවනු. කොල්ලු කුඩු කර ඇඟේ දමා අතුල්ලනු. ඉඟුරු කුඩු එසේ ම අතුල්ලනු. පරණ පොල් තෙල් තිබේ නම් රත් කර අත් පාවල ගා අතුල්ලනු. තිම පොල් කටු කීපයක් දල්වා හොඳට ගිනි ඇවුළුණු කල, තිම හොඳට රත් වූ කල, එතන පැදුරක් දමා රෝගියා නිදි කරවා රෙද්දකින් වසනු.

අත් පාවල මස් පිඩු පෙරළෙන විට පස් තෙල් හෝ කපුරු දිය කල පස් තෙල් හෝ ගා අත ගානු. රත් කරනු. ටර්පැන්ටයින් තෙල් ගල්වනු.

බඩේ වේදනාවට අග්නි මාන්ද්‍ය අධිකාරයේ කුඹක් උණු වතුරෙන් දෙනු. කලිංගාදි චූර්ණය දෙනු.

සිහි නැති වූවොත් අත් පා වැලි පොට්ටනිවලින් තවනු.

තව ද මෙහි පහත දැක්වෙන ගුලි සුදුසු අනුපානවලින් දෙන්නේ ය.

**ජලසන්නි භාෂාලය** :— රසදිය, වච්චනාභි, අබින්, සාදික්කා, කරාබු නැටි, සාදිලිංගම්, රත්හිරියල් සම භාග- (ශාස්ත්‍රයෙහි කිවූ පරිද්දෙන් ධාතු, උප ධාතු, විෂ වගී ශුද්ධ කර ගෙන) කන්සා යුසින් සොදසාර අඹරා, බිත්තරයක කහ මදය හැර සුදු මදය තිබෙද්දී ඒව අසුරා මැටි බැද ගිනි කර තරමක් කළු වුණ විට ගෙන දෙදිනක් ඉඟුරු යුසින් අඹරා මුං ඇට පමණ ගුලි කරන්නේ ය.

මෙය නෘතකාන්ත වූ දක්ෂ වෛද්‍යයකු ලවා සාදවා ගත යුතු යි.
**මාත්‍රා** :— ගුලි ½ යි.

අනුපානයකි :—

පාචනයට :— අමු ඉඟුරු යුෂ මීපැණියෙන් ද, අඹ පොතු, හීන් හැඹිල පොතු යුෂින් ද, ඉහත දක්වූ අනුපානවලින් ද දෙන්නේ ය.

**විකාර හත්දෙඩීම, දත්මිටි කෑමත් තිබේ නම් :—** යසාවකාස්ස, මුරුංගා පොතු, ඉඟුරු යුෂ කොහොඹ තෙල් දමා දෙන්නේ ය.

**බඩවැල උණ වී ඉහල එන කල ඇඟ සෑම තැන වේදනා මස් හැපීම ඇති කල :—** සාරද මූල්, කුඹුරුමූල්, කුරුඳු මූල්, ලුණු වරණ මූල්, වරා මූල්, ගම්මිරිස් මූල් – මේ මූල් සිහිඳු ව අඹරා පස් තෙලෙන් අනා ගින්නෙන් තම්බා මිරිකා බොන්ට දෙන්නේ ය. ඇඟ කාන්නේ ය.

**හද වමනයට :—** ඉඟුරු යුෂ, උක් පැණි, සහිඳ ලුණු, වදකහ යුෂ මීපැණි දමා දෙන්නේ ය.

**මස් පෙරලිල්ලට :—** නික, කොසඹ, කුඹුරු, කුඩුමිරිස, පොතු – කොල යුසින් තලතෙල්, මීපැණි දමා දෙන්නේ ය.

**ඉස සිට දෙ පසට සීතල එන කල, බස ගොළු වී සාන් අඟල් වැමුණු කල ඇස් නිල්පාට ව කට ඇදවු කල :—** එරබදු, කුඹුරු, පුස් – මේවා ඇට මද, ඉඟුරු, මිරිස්, සුදුලූනු, ගලිස්, අබ, කහ, සාරද ඇට්, පෙරුංකායම්, කරාබු, වසවාසි, දෙදුරු – මේවා සිහිඳු ව අඹරා එඬරු, කොසඹ තෙලෙන් අනා වණ්ඩුවේ තම්බා මිරිකා ගුලි 10 ක් දිය කර කබලක බහා තෙල් පැදෙන විට ගෙන, කාලදක් පමණ බොන්ට දෙනු. අතින්වා ගානු කමෙණි වක් කරනු.

සීතල ඇති වූ කල මේ වේදුව අල්ලනු.

වෙලා, ඉග, වාතමැඩැස්සිය, හීන් එඬරු, පාවට්ටා, නික, අරලිය, මිසිල, අත්තන, දෙහි, දොඹ මේවායෙන් ලැබුණු තරමක් කොල ගෙන හැලියක දමා හොඳට තම්බා ආතුරයා උස් පුටුවක හිඳුවා රෙද්දකින් වසා හීන් දැඹිය මත තුරු වේදුව පානු මෙය ප්‍රවේසමෙන් කළ යුතු.

**මුසතාදි රසය :—** කලාදුරු අල කලං 1 යි, තිප්පලි, පෙරුංකායම්, කපුරු කලං ½ බැගින් උණු වතුරෙන් අඹරා තිබ්බටු පමණ ගුලි කරනු මෙය ඉඟුරු යුෂ, මීපැණියෙන් ද ඉහත කී අනුපානය සින් ද දෙනු. හද ජලසන්නි පුව වේ හදිස්සියේ ද මෙය කාද දිය හැකි යි.

**කර්පූරාසවය :—** කපුරු අවුන්ස 4 යි, කලාදුරු, ඒලා, සාදික්කා, අසමෝදගම්, ගම්මිරිස්, අවුන්ස ½ බැගින්, ඉඟුරු කලං 3 යි, අබින් ග්‍රෑන්ස් 30 යි, හොඳ අරක්කු හෝ බ්‍රැන්ඩි බෝතල 1 යි.

**සෑදීම :—** බෙහෙත් ද්‍රව්‍ය හොඳට කුඩු කර ලොකු බෝතලය කට දමා මාසයක් වසා තබනු. නිතර හොලවනු. පසුව පෙරා තබන්නේ ය.

**මාත්‍රා :—** ලොකු අයට එක් හැන්දෙන් 1 සිට ½ දක්වා, කුඩා අයට අඩුවෙන්, නිවුණු උණු වතුර සමග දෙනු. ජලසන්නියේ පටන් ගැනීමේ දී පටන් දිය හැකි යි.

**කොලරා ගුලිය :—** පල්මාණික්කන්, කොත්තමල්ලි, දෙදුරු, අසමෝදගම්, සුවඳ කොට්ටන්, වලංගසාල්, වදකහ, මනෝසිල, කටුකරෝසන, ඉඟුරු, ගම්මිරිස්, අබ, කරාබු, වසවාසි, සාදික්කා, උළුහාල්, එන්සාල්, පෙරුංකායම්, දේවදාර, සහිඳ ලුණු, අබින්, සීනක්කාරන්, කොල්ලු, කහ, ලුණුවරණ මුල්, කුරුඳු පොතු, කොල්ලන් කොළ – කලඳ බැගිනි. දෙහි, දෙළුම්, යකිනාරන්, පඹුරු, හින් නාරන්, කුඩු මිරිස, කුඹුරු, නික, කොහොඹ, බෙලි, පුළුල – මෙකී දළු වගී සියල්ල ම ඉහත කී සරක්කු බරට (එකෙක කලං 2½ බැගින්), ඉඟුරු යුසින්, යකිනාරන් කොළ යුසින්, මදුරු තලා යුසින් අඹරා ඉඹුලැට පමණ ගුලි කරන්නේ ය. ඉඟුරු යුසින්, අරක්කුවෙන්, කොහොඹ තෙලෙන්, දෙහි ඇඹුලෙන් යා ඉහත කී අනුපානකින් දෙනු. බෝවෙන කොලරාවට විශේෂ යි.

අග්නි මාන්ද්‍ය රෝගයෙහි දක්වන ලද පථ්‍යාපථ්‍ය මීට ද යෙදිය හැකි යි.

## අලසක – විලම්බිකා

### Tympanites

ආහාර දිරීම ශක්තිය නැත්තනුගේ ද, ආමාශයෙහි සෙම් බුලක් දරන්නනුගේ ද බර ආහාරාදියෙන් වාතාදිය කිපී කුසෙහි සිටී. නො දිරුණු ආහාර වායුව නිසා ඉහළට වමනය මගින් වත් පහළට මල ලෙසින්වත් නො යයි. මුත්‍ර ද බද්ධ වේ. ආමාශය තද වේදනා දෙමින් පවතී. හෘදය පෙනහලු තද වේ. දහඩිය දමා ඇඟ සීතල වේ. අත්පාවල ලේ ගමන ද හීන වේ. වමන පාචන දෙක නැති නමුත් ශරීරයේ අනිකුත් ලකුණු ජලසන්නියේ ලක්ෂණ ම යි. දේශීය වෛද්‍ය පොත්වල මීට ජල වාතය කිපුණු ලෙඩය යි නම් කර තිබේ.

අලසක – විලම්බිකා රෝග දෙකේ ලකුණු සම වුවත් විලම්බිකාව අලසකයට වඩා දරුණු ය.

**ප්‍රතිකාර**
**Treatment**

රෝග ලක්ෂණ පහළ වූ හැටියේ ම, වමන, විරේචන දෙක යෙදිය යුතු. උණු වතුරට ලුණු මිශ්‍ර හැන්දක් දමා වමනය කරවනු. නැතහොත් සුදුළූනු පත භාගයක් යුෂ ගෙන ඊට ලුණු වතුරත් එපමණ එකතු කර බොන්ට දෙනු. වමනය වූ පසු ඉඟුරු, දෙහි පොතු, මුරුංගා පොතු යුෂින් බෙත් ගුලියක් අදනු. මල නො යන්නේ නම් වස්තියක් යොදනු. අත්පාවල පරණ පොල් තෙල් අතුල්ලා රත් කරනු. නැතහොත් කොල්ලු ඉඟුරු කුඩු දමා අතුල්ලනු. මේ කසාය ද දෙනු. කුඹුරු ඇට මද, කොහොඹ පොතු, කරල් හැබ, රසකිඳ, මදුරුතලා කොළ, කොළිඳකාල් කසාය, ඇඟ රත් වීමට ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කොත්තමල්ලි-කුඩු කර උණු වතුරෙන් දෙනු. බඩේ කැක්කුම තද නම් කාලිංගාදී චූර්ණය හෝ ගුල්ම අධ්‍යායයේ හිංගුවාෂ්ටක චූර්ණය උණු වතුරෙන් දෙනු. වදකහ, අරත්ත, බෙත් එඬරු කොළ, කැටිලුණු කොටා පොට්ටනි බැඳ රත් කර- බඩ තවනු. එවිට මල පිට වේ.

## පණු රෝගය

## WORMS

කෘමි රෝගය හෙවත් පණුගාය බොහෝ සෙයින් ම ළදරුවන්ට සැදෙන රෝගයෙකි. බඩේ ඇති වන කෘමීන් නිසා මෙය සෑදේ. මේ නිසා ඔක්කාර, අජීර්ණ, උණ, අතිසාර, වලිප්පුව, කටේ අත ලෑම, ඇස් භාගයට වසා නිදා ගැනීම, නිතෙත් කෑගැසීම, බඩේ වේදනා ආදිය ඇති කෙරේ. දත් කූරු කෑම පණුවන් නිසාත් අනෙක් කරුණු නිසාත් සිදු වේ.

**ප්‍රතිකාර**
**Treatment**

ඉඳ හිට වලඟසාල් කුඩු මීපැණියෙන් දීම ද, බටසරිල්ල කොළ අග්ගලා සාදා දීම ද, කෘමි නාශක චූර්ණය එසේ ම මාසයකට වරක් පමණ දීම ද කළ යුතු යි. බටසිරිල්ල අග්ගලා සෑදීමේ දී හාල් ½ ට කොළ 8 ක් පමණක කුඩු ද, වලඟසාල් කලං 1 ක් කුඩු කර දැමීම ද සෑහේ. අග්ගලා සෑදීමේ දී පොල් පැණි යෝග්‍ය යි.

i. විඩංගාදි චූර්ණය :— වලඟසාල්, අසමෝදගම්, තිප්පිලි, (බතෝ) හාල් සමභාග - වෙන වෙන ම කැබලෙන් බැඳ කුඩු කර ගත යුතු. බතෝ හාල් යනු වී තම්බා වේලා කොටන ලද හාල් ය.

**මාත්‍රා හා යෙදීම :—** තලදක් බිහා උණු වතුර සමග හැන්දෙන් ¼ ක් වැනි කාර වශා තබා පෙරා දෙන්නේ ය. මෙය අවුරුද 7 සිට 10 දක්වා අයට ප්‍රමාණය යි. ලොකු අයට මීට වැඩිය ද කුඩා අයට අඩුවෙන් ද යොදනු. කුඩා ම ළමයින්ට දෙන කල 'තාල්' නොගත යුතු. අනික් ද්‍රව්‍ය බිහා සාද උණු වතුරෙන් සූදානම් කර ඉන් ටිකක් ගෙන රස බාල වන තුරු කන සීනි දමා දෙන්නේ ය.

මෙය ළමයින්ගේ සියලු අමාරු සඳහා ම මුලට දිය යුතු යි. විරේක වුවමනා විටක මීට පසු අරළු කසාය ටිකක් සහිඳ ලුණු දමා දෙනු. විශේෂයෙන් මේ කුඩා ළමයින්ගේ ප්‍රතිශ්‍යා උණ, අතීසාර, පණුගාය සඳහා දිය හැකි යි.

II. **කෘමි නාශක චූර්ණය :—** අසමෝදගම්, තලාදුරු, අල, තිප්පිලි, කාර්කොටන ශ්‍රිංගි, වලගසාල්, අතිවිඩයම්, දෙළුම් මුල් පොතු– සම භාග චූර්ණ කරනු. යෙදීම පෙර සේ ම යි.

මෙය ළමයින්ගේ පණු ගාය ඇති කොයි තැනකටත් යෝග්‍ය යි. විශේෂයෙන් - උණ, අතිසාර, වමන, කැස්ස, කෘමි රෝග නසයි. මෙය අවුරුදු 1 සිට 12 දක්වා ළමයින්ට අමෘතයකි.

උණ, අතිසාර, ප්‍රතිශ්‍යා, ගති නැති විට පණු ගායට මෙන් පහත දැක්වෙන කසාය යොදනු. එවිට ළමයින්ට කෑම හොඳට පුළුවන් වේ.

**මුස්තාදි කසාය :—** තලාදුරු අල, ගොටු කොළ (හෝ මිනන් පලා), අරළු, බුළු, නෙල්ලි, දේවදාර, මුරුංගා ඇට කසායට තිප්පිලි කුඩු, වලගසාල් කුඩු, මීපැණි දමා දෙනු. පණු රෝග නසා ලයි.

ළමයින්ට උණත් සමග පණු අමාරු ඇතිවූ විට කලින් කියම් කල චූර්ණ යොදනු. ඊට පසු උණ තිබේ නම් මේ කසාය යොදනු. එය අතිසාර අමාරු ඇති විට නො යොදන්නේ ය.

**කුෂ්ඨවරාසනාදි ක්වාථය :—** කුඹුරු ඇට මද, කුදු පුළු, අරළු, වලගසාල්, කොසඹ පොතු, කළුදුරු, එළබටු, කටුවැල් බටු යන මෙසින් සිද්ධ කල කසාය තොල සියයක් පණුවන් නැති කරන බව කියා තිබේ. තද උණ, පණු අමාරුවලට (3 දිනයේ සිට ඉහළට) මේ කසාය ගෝ මුත්‍ර පතක් දමා වතුර 7 කුප් වක් කර එකම සිද දිය යුතු.

**විඩංගාදි කසාය :—** වලගසාල්, අතිවිඩයන්, දේවදාර, ඉඟුරු, අසමෝදගම්, සුදුදුරු, කළුදුරු, තීත් තිදිකුම්බ කසාය, පණු රුදා උණ දුරු කරන්නේ ය.

**ඝාදිස්ථාදි චූර්ණය** :— ඝාදිස්ථා, වලඟසාල්, කුඹුරු ඇට මද, සාංසා, වදකහ, වෙලද සම භාග චූර්ණ කරනු. උණු දියෙන් දෙනු. මද මිශ කිය පණුවන් නසයි. **මාත්‍රා** :— මදටාව 1 – 5 දක්වා යි.

**පණු කල්කය** :— සුදුදුරු, කළුදුරු, වලඟසාල්, වදකහ, අරළු, බුළු, නෙල්ලි, අසමෝදගම්, ඉඟුරු, ගම්මිරිස්, අතිවිඩයන්, අබ, කරාඹු නැටි, වසවාසි, ඝාදිස්ථා, උළුහාල් සමභාග - සියල්ල බෙහෙත් කුඩෙන් පංගුවක් උක් සීනි (=පිටි සීනි) සීනි පමණ අබින්, එපමණ මාවී පොරි (=විලඳ) උක් පැණියෙන් අඹරා, මීපැණියෙන් අඹරා කල්ක කරනු.

**මාත්‍රා** :— අවුරුදු 2 – 4 දක්වා, ඔලිඳ ඇටයක පමණ ද ලොකු අයට වැඩි වෙන්ට යොදන්නේ ය

අබින් නො ලද විට තිත්ත අබින් ගෙන අඹරා තනා ගැනීමෙන් ද හුඟක් ගුණ ලැබේ. එවිට මාත්‍රාව වැඩියෙන් දිය හැකි යි. තිත්ත අබින් කියන්නේ කෝමාරිකා මදවලින් සාදන මැලියමකි.

**අනුපානයෝ** :— i. සියලු පණු රෝගවලට මීපැණියෙන් දෙන්නේ ය.

ii. නවත්වන්ට බැරි වමනයට - කුඩු මිරිස කොළ පුසින් ද, කුඹුරු දලු, කුඹුරු ඇට මද, කුඩු මිරිස කොළ පුසින් ද මීපැණි දමා දෙන්නේ ය.

**වලිප්පු පිටගැස්ම ආදියට** :— දෙඹම් පැඟිරි, බටු දළු, සුදුළූනු, ආඹාතෝඹා දලු, කුප්පමේනිය, ඔලිඳ දලු, දෙඹම් දලු, වදකහ පුසට ගිතෙල්, තලතෙල් දමා දෙනු. බටු දලු, කුප්පමේනිය, ඔලිඳ දලු, ආඹාතෝඹා දලු, අමු ඉඟුරු, සුදුළූනු, මේවා පුසට සීනි, මීපැණි, තලතෙල් දමා දෙන්නේ ය.

**නොබසිනා උණ, පණු ලෙඩ, ඔක්කාරය, ලැමද රුද, තිගැස්සීම්වලට** :— කුඹුරු දලු, දෙහි දලු, කුඩු මිරිස් දලු, තිත දලු, ඉඟුරු, සුදුළූනු පුසට කොහොඹ තෙල්, ගිතෙල් දමා දෙන්නේ ය.

**පණු පෙරළිලි හැක්කුමට** :— මීපැණියෙන්, කුඩු මිරිස දසඳුවාඹගය පුසින් මීපැණි, තන කිරි බහා දෙන්නේ ය.

**බඩේ කැක්කුමට, පණු ගායට, නිඳ නොයිඳ කල් මුල් ගැස්මට** :— කුඹුරු ඇට, වදකහ, සුදුළූනු, ත්‍රිකටුක, කසාය කර දෙනු. කාලිංගාදි චූර්ණය සමග දෙනු.

**පණු අරක්කුවක්** :— බුලත් මුල්, ගම්මිරිස් මුල්, කුරුදු මුල්, සුවිය මුල්, නිකාමුල් කලං 5 බැගින්- ඉඟුරු, ගම්මිරිස් කලං 10 බැගින්- සුදුළූනු කලං 5 යි, කළුදුරු, අසමෝදගම්, ගජ තිප්පිලි

කලං 2, මඤ්ඤාඩි 12 බැගින්. එසමාසි, කරාබු කලං 1 මඤ්ඤාඩි 8 බැගින්, වලගසාල් කලං 2 මඤ්ඤාඩි 12 කි. මේවා සියලා පොඩිව සිරා, හිත් වෙන්ට කොටා අරක්කු බෝතල් 3 ට එක් කර, පුරක්කි ව සතියක් තබා පෙරා පමණ දැන පදන්නේ ය. දරුණු පණ්ඩු රෝග නාශ. මෙය නිතර නො දිය යුතු. මාසයකට වරක් දීම යෝග්‍ය යි. පණ්ඩු අමාරුවක් හැදුණු විට මුලට යොදනු. පසුව වුවමනා නම් වරක් පදනු. වැඩිය නො යොදනු. නිවුණු උණුවතුරට දමා දිය යුතු. ලොකු ම ලමයෙකුට තේ හැන්දෙන් ½ - 1 දක්වා දිය හැකි යි.

මේ පණ්ඩු රෝගය ලදරුවන්ට පමණක් සීමා වුවක් නො වේ. දුර්වල ස්ත්‍රීන්ට ද මේ පණ්ඩු උපද්‍ර ඇතිවීමෙන් හිසේ ඇමීම, ඔක්කාරය ඇතිවන බැව් සැලකිය යුතු.

**පණ්ඩු රෝගීන් සොසරති පථ්‍ය වගී :—** වස්ති යෙදීම, කාය විරේචනය, සුදු ලූනු, එරබදු දළු, ගොටු දළු, කටුතම්පලා, අබ, කොසෙල්, බටු, අබ තෙල්, තල තෙල්, පොල් තෙල්, විනාකිරි, ගෝමුත්‍ර, බුලත්, රා, අසමෝදගම්, වලගසාල්, දෙඩම් ඇඹුල්, යන මේවා යි.

**අපථ්‍ය වගී :—** තකුරු ආදිය, විරුද්ධාහාර පාන, එක ලඟ ලඟ කෑම, ආහාර වගී කීපයක් කෑම, ගිතෙල්, උඳු, මස්, කිරි, මාලු, කරවල ආදිය ද අපවිත්‍ර ආහාර ද අපථ්‍ය යි.

## රක්ත පිත්ත

### Haemorrhage & Blood Presser

ශරීරයෙන් කොතැනින් හරි ලේ වැගිරෙන්නා වූ අභ්‍යන්තර ගත රෝගයන්ගෙන් හට ගත් ඒ රෝගය රත්පිත යි. යම් යම් කරුණු නිසා දූෂිත වූ රස, පිත කෝප කරයි. පිතේ උෂ්ණයෙන් ලේ තැවී, තල වීචක ව ශුහළුට ද පකලට ද නියම ගණනට වඩා ගමන් කරව යි. ඇතැම් විට මොලයට ලේ අධික ව ගමන් කිරීමෙන් සිහියේ ආබාධ ඇති කර යි. නාසා, ඇස්, කන්, මුව, ලිඟු, යෝනි, ගුද යන ස්ථානවල ද රෝම කූපවල ද ලේ සිටී. නැතහොත් මදින් මද ව ද කද ව ද වැගිරේ. මුල දී මෙය පැහැදිලි නො වේ. පිත් උපද්‍ර දහනකී ආදිය ඇති වේ. එවිට මෙහි දක්වෙන කසාය යොදනු. රක්ත වාපසාමේ අධිකත්වය හෙවත් බ්ලඩ් ප්‍රෙෂර් යයි කියන්නේ ද උංසිව ගත රත් පිතටයි නාම ගමන ද ලක්මින් වේ.

ශරීරගත මුත්‍ර මාර්ගයෙන් ද නාසයෙන් ද ලේ යෑම් අර්ශස් හැපිලිකා රෝගාදියේ පිට වන්නේ ද, දාහ ගති ඇති වූයේ ද, ගලාගන්න ආදීන් වන්නේ ද, ශිරිය දුබල ද, එවිට ද මේ ප්‍රතිකාම කරන්නේ ය.

වාසාදි කසාය :— ආඹාතෝඩා, අරළු, මුද්දිරප්පලම් කසාය සීනි මීපැණි සමග බොන ලද්දේ දාහ, ලේ වැගිරීම්, භ්‍රම, කලන්ත ආදි රත් පිත් පීඩා ද, උණ ද, රක්ත ප්‍රදර (=මාලේ රෝග ද) නසයි. පරණ රත් පිත් නෑඹි ද නසයි. රත් පිතෙන් උපන් ඇදුම ද නසා.

**උශිරාදිය** :— සැවැන්දරා මුල්, සුදු හඳුන්, ආඹාතෝඩා මුල්, මුද්දිරප්පලම්, වැල්මී, තිප්පිලි කසාය මීපැණි සමග බීමෙන් රත් පිත සමන වේ. ප්‍රතිශ්‍යා ගති නැතිව නිතර පවතින හිසේ වේදනා දුරු කර යි. බස්, කාර්වල ගමන් කිරීමේ දී නිතර ම වමනය වන අයට ද මෙය යොදන්නේ ය.

**ධාන්‍යකාදි කසාය** :— කොත්තමල්ලි, නෙල්ලි, ආඹාතෝඩා, මුද්දිරප්පලම්, පැපිලිය, සිරිපෝක්කු, ඇද්දෙමට මූලේ පොතු, සාලාදුරු අල, තිප්පිලි කසාය; දුබිල්ල, මූලාව, වමන, තරකැවිල්ල, ශරීරයේ කොතැනින් හරි ලේ යාම, කිරි පුඩුවල සිදුරු විවෘත ව තිබීම, ආදි රත් පිත් උවදුරු ද, උණ ද කැස්ස ද නසා.

මාලේ ඇති අඟනන්ගේ උණවලට ද, මෙය යොදනු ලැබේ.

**ශ්‍රීවේරාදිය** :— ඉරිවේරිය, මාතෙල් අල, කොත්තමල්ලි, සුදු හඳුන්, වැල්මී, රසකිඳ, සැවැන්දරා, ආඹාතෝඩා මූලේ පොතු කසාය - පිපාස, දුබිල්ල, උණ නසා. මෙය ලේ වමනයට උණු වතුරෙන් අඹරා ඊට දිය කර තිබුණු විට දෙන්නේ ය.

**ශතාවර්‍යාදිය** :— හාතාවාරිය අල, ඉරමුසු, සුදු හඳුන්, සැවැන්දරා, ඉරිවේරිය, සුලුකුර (=ගල්කුර) මුද්දිරප්පලම්, වැල් මදට, මාතෙල් අල, වැල්මී කසාය- සීනි, මීපැණි, දමා දෙන්නේ ය. මෙද මග ගිය රත් පිත නසා. එසේ ම මග ලේ රෝගය ද උමතුව ද, දුබිල්ල සහිත වූ විෂම උණ ද නසා.

ගර්භිණීන්ගේ දුබිලි රෝග ඇති විට ද, ගර්භස්‍රාය වන ලකුණු දුටු විට ද මෙය යොදන්නේ ය.

**රත් පිතෙහි ඇති වන උපද්‍රවයන් නාම** :— දුබල බව, ඇදුම, කැස්ස, දුබිල්ල, උණ, වමනය, මත, නාග පැහැය, ශ්ලාය යන මොවුන් ද, ආහාර කැකාල දුබිල්ල, හැම කල්හි මලාතීත බව, පපුවේ පීඩා, පිපාස, මල භේදය, හිස රුජා, අංග විකාර, බඹගිනි නැති කම යන මොහු ය.

මෙවා ඇති වූ විට ඉහත කී කසායන් යොදන්නේ ය. මුද්දරප්පලම්, සුදු හඳුන්, ලොත්, රැක්මල්, චූර්ණ කර ඉහතින් කී කසායක් සමග දීමෙන් රත් පිත් උපද්‍රවයන් නසයි.

**තෘෂ්ණා, ඇදුම, වමන, කැස්ස ආදි උපද්‍රව ද ඇති වූ විට:—** එත්සාල්, කොල්ලන් කොළ, කුරුඳු පොතු, කලඳ බැගිනි, තිප්පිලි කලං 4 යි, සීනි, වැල්මී, රට ඉඳි, මුද්දරප්පලම්, කලං 8 බැගිනි. මීපැණියෙන් අඹරා කලං 4 ඒ ගුලි කරනු. දවසට දෙවරක් දෙනු. මෙය අනුභව කොට නිවුණු කොත්තමල්ලි වතුර හෝ නිවුණු තෙල්ලි තැම්බූ වතුර හෝ දෙනු. කැස්ස, ඇදුම, උණ, තෘෂ්ණා, වමන, මූර්ච්ඡා, ලේ වමන, පිපාස නසා.

මෙය රක්තාතිසාරයේ උපද්‍රව ඇති විට විස විත ලේත කරනු. මහ ලේ රෝගයෙහි උපද්‍රා ඇති වූ විට නිසි සේ යොදනු.

**ද්‍රාක්ෂාදි චූර්ණය :—** මුද්දරප්පලම්, විලඳ, මාතෙල් අල, වැල්මී, රට ඉඳි, ඉරමුසු, උණ කපුරු, ඉරිවේරිය, තෙල්ලි, කලාදුරු අල, සුදු හඳුන්, කපුකිනිස්ස ඇට, ජටාමාංස, සාදික්කා, එත්සාල්, කුරුඳු පොතු, කොල්ලන් කොළ, නාමල් රේණු, තිප්පිලි, කොත්තමල්ලි, සමභාග - චූර්ණ කරන්නේ ය. අවුවෙන් වියලා මෙය සීනි සමග කලඳ බැගින් උදය - සවස අනුභව කරනු. දුබිලි, පිත් උවදුරු, මූලාව, වමනය, රත්පිත, කැස්ස, මෙහ, මහලේ, එම රුජා, ලේ අගීස්, අර්බුද නසා ලයි. යෝනියෙහි වූ දෙස් පහකරයි. පාණ්ඩු, කාමලා නසා. දුබිලි උණ, පරණ උණ, අරුචි නසා. ශරීරය පැහැ වෙයි.

දිය දහර වැටෙනා ගෙය, සිසිල් ගෙවල්, මුතු - මැණික් දැරීම, සිසිල් ආසන ආදිය හා ප්‍රිය තෙපුල් ඇති අඟනන් හා ප්‍රිය කථාවන් කීම පමණක් - රක්තපිත්තට යෝග්‍ය යි. දුම්මැල්ල, පතෝල, අලුකෙසෙල්, එළකොමෙණින් දෙවූ කිරි, සුලුකුර, ගල්කුර ආදි සිසිල් දෑ අනුභවයට යෝග්‍ය ය.

අධික වෑයම, අධික ගමන් කිරීම, හිරු රැස්, තියුණු ක්‍රියා, සිත් කලඹන ක්‍රියා මලමූත්‍රාදී වෙග ඉසිලීම, මපලමඩය, ඇතුන් අසුන් පිට ගමන් යාම, වේදු පෑම, ලේ හැරීම, දුම් බීම, මෛථුනය, ක්‍රෝධය, කොල්ලු, උක් හකුරු, බට්ටු, තල, මී, අබ, දීකිරි, ක්ෂාර වර්ග, මුලන්, මත්පැන්, සුදුළූනු, කටුක, ඇඹුල්, ලුණු රස වර්ග, රත් පිත් රෝගීන්ට අගුණ යි.

## පාණ්ඩු රෝගය

### Chlorosis, Anaemia & Jaundice

පාණ්ඩු රෝගයෙහි ලකුණු පහළ වෙගෙන එන විට හෝ ලකුණු පහළ වූ විට මෙහි පහත දැක්වෙන කසාය එළ ඹීන බහා කහාරා දෙන්නේ ය.

i. අරළු, බුළු, නෙල්ලි, රසකිඳ, ආඩාතෝඩා, කටුකරෝසන, තිත් කොහොඹ, කොහොඹ පොතු කසාය - මීපැණි දමා දෙන්නේ ය. පාණ්ඩු, කාමලා (=සෙන්ගමාලය) ලේ අඩුකම් නසා.

ii. ආඩාතෝඩා, රසකිඳ, කොහොඹ පොතු, තිත්කොහොඹ, කටුකරෝසන කසාය, පාණ්ඩු, කාමලා ඉදිමුම් නසා,

**පාණ්ඩුවට පමණක් :—** i. සැවැන්දරා මුල් මිටක් කොටා හොඳ පොල් රා බෝතලයකට දමා තබා පසුවදා සිට පෙරා බොන්නේ ය. වරකට පත 1 සිට ½ දක්වා, දවසට දෙවර බැගින් 7 දිනක් බොන්නේ ය.

ii. උක් පැණි, කිතුල් පැණි, තැඹිලි, වතුර, ඉඳිබොඩ ඉස්ම, කිතුල්බොඩ ඉස්ම, සැවැන්දරා මුල් ඉස්ම, තැඹිලි පොල් මුල් ඉස්ම, පොල් තෙලි දිය, සාරණ, (=පිට සුදු පලා) කොළ ඉස්ම, කටුතම්පලා පුස, ගොටු කොළ පුස පත පතයි, පිටි සීනි රාත්තල් 2½ යි. මුද්දිරප්පලම් රාත්තල් 1 යි, ධාතකී (=මයිල) කලං 2½ යි. එකට දමා පියන වසා 15 දවසක් නිශ්චල ව තබා - නැවත පෙරාගෙන දවසට තුන් වරක් මේස හැන්දෙන් 2 දක්වා බොන්නේ ය.

මුව ම: වෛද්‍යයකු ලවා අවුරුදු 100 කට වඩා පරණ වූ යබර ශාස්ත්‍රානුකූල ව කුඩු කරවා රාත්තල් ½ ක් දමා තිබා සීමෙන් අධික ව ගුණ ලැබේ. කාලය පසු වූ විට යබර පෙරා අගකට දැමිය යුතු. බෙහෙතට ඇද ගත්තු ප්‍රමාණය රෝගය සුව වීමට ප්‍රමාණ වේ

## කාමලා – සෙන්ගමාල

### Jaundice

ඇඟ, නිය, ඇස් කහ ගැසෙන රෝගය කාමලාව යි. මෙ බෙහෙත් පිළිවෙළින් දෙන්නේ ය.

i. බුත් සරණ දළු, ගිතාපි. හාලෙන් කැඳ පිස ගිතෙල් දමා උදේ උදේ පූනක් දෙන්නේ ය. ලුණු නැත්නම් හැ යුතු යි.

ii. එසේ ම සැවැන්දරා සහල්ලින් කැඳ පිස දෙනු.

iii. පාණ්ඩුවට නියම කළ පැණිය හෝ කසායක් දෙනු.

iv. බත්, බෝංචියා කැඳ දෙනු.

v. රත්පිත් කසාය දෙනු.

යම් කාලයක්හි පාණ්ඩු රෝගයෙහි පලාවන්, කළුවන්, තඹ වන් වර්ණය වේ ද, වා පිත් දොෂ ලකුණු, හරගැටිලි, පිපාසය, උහන්දුව හැඟීකම මද උණ, මැලි බව, ගින්න, ශක්තිය හීන වීම, උම්තුව යන ලකුණු ඇති වේ ද හලීමක නම් පාණ්ඩු රෝගය යි. ඒව කාමලාවේ ප්‍රතිකාර මුලව යොදන්නේ ය. පැණි කසාය ද යෝග්‍ය යි.

පථ්‍ය :— (Suitable) පාණ්ඩු රෝගීන් හෙරෙහි වමන, විරේක ද, බාර්ලි, තිරිඟු, හැල්, මුං කඩල, යන මොවුන් පිළිබඳ යූෂ ද, පතෝල, දියලබු, කොහොල් ගෙඩි, තිඹිපලා, සාරණ, මුගුණු වැන්න, සුලකුර, ගැට තුඹ, බටු, රතු ලූනු, කුදුණු හා පැසුණු අඹ, ගෝ මූත්‍ර යන මොවුහු ද එළකොණෙහි දෙවූ කිරි ද දෙළුම්, හෙල්ලි ආදි යූෂ ද ඇපල්, රටඉඳි ආදි පලතුරු ද තිඹිරි සුප් ද සක්කලි අඹුවෙන් හැම ද පොල් රා හා තල් රා ද යෝග්‍ය යි.

අපථ්‍ය :— (Unsuitable) ලේ හැරීම, දුම් බීම, වමන වේග වැළැක්ම, වෙද පෑම, මෛථුන සේවනය, දිය අධික ව බීම, තල, බුලත්, අඹ, ඇඹුල් එගී, පිළිසෙලක් නැති ව ආහාර ගැනීම හා බර ආහාර පාණ්ඩු රෝගීන්ට අපථ්‍ය යි.

## රාජයක්ෂ්මා – ක්ෂය රෝගය

### Phthisis, Ulceration of Lungs, and Consumption or Tuberculosis

දවස් පතා ම වාගේ උදය කාලයෙහි ගෙලෙන් දුම් කික්මෙන් නාස් වැති ව වියලි ගුම්ල කැස්සක් හැදී, ඇතැම් විටෙක සුදු පාට - දිස්තිමත් සෙම් ස්වල්පයක් පිට වෙයි. කුද හිටලා ආහාර නො දිරීම – මද වශයෙන් ආහාරයාගේ අප්‍රියභාවය ඇති වෙයි. ක්‍රමයෙන් ශරීරය කෙට්ටු වෙන්ට පටන් ගනී. දුර්වල වේ. ඇස්හි නිතර කඳුළු ඇති වේ. ස්වල්ප වශයෙන් ස්වර භේදය (කට හඬ වෙනස් වීම) ඇති වෙයි. මේ ලකුණු පහළ වූ කල ක්ෂය රෝගයාගේ ආරම්භය යි දත යුතු.

මිවින් විට කැස්ස - කසිනා කල, උදය කාලයෙහි පැහවූ සෙම පිට වීම, ඇතැම් විටෙක පැහවූ කහ පාට සෙම කැටි වශයෙන් පිට වීම, ඇතැම් කල සෙම සමග ලේ දැකීම, මද වශයෙන් පපුවේ සහ දෙලවර වේදනා ඇති වීම, හදින් ශරීරය කෙට්ටු වීම, යම් රළු වීම, සුදුමැලි පාට, කට හඬ වෙනස් වීම, ඉක්මනින් ආශ්වාස ප්‍රශ්වාස කිරීම, ඇගේ නිතර රශ්මියක් ඇති වීම, ස්වල්ප වශයෙන්

සීත් උණක් ඇති වීම, සවස් ගේ වන විට ක්‍රමයෙන් උණ වැඩි වීම, රෑ කාලයෙහි ඩහ දැමීම, ආහාර අප්‍රියය, ආහාර නො දිරීම, ශරීරය ම්ලාන වීම සහ ලකුණු පහළ වන කාල රෝගය දියුණුවේ ය. එහෙයින් එහි දෙ වැනි අවස්ථාවට පැමිණියේය යි දත යුතු.

නිතර කැස්ස, බොහෝ වේලාවක් නො නැවතී වේදනා සහිත කැස්ස, මලාපෝවරාත්‍ය රහිත වීම, මඩ පැහැය ඇති ගඳ ගසන සෙම රාශියක් වමනය වීම, උගුරේ බැරැන්ඩි ගතිය (=ස්වර භේදය) කට හඬ අඩු වීම, ශබ්දය නැති ව කථා කිරීම, බඩ පිපීම, ද්‍රව වූ මල ඇති වීම, නිතර අජීර්ණය, හන්දි පත් පිරි පතුල් ඉදිමුම, නැසී උණ ගැනීම, ලේ වමනය වීම, මූණ දියුණු වීම, මුනුවල විකෘති ඇති වීම, සම්පූර්ණ ලක්ෂණ පහළ වූ ක්ෂය රෝගියාගේ ලක්ෂණ යි. මෙවත් රෝගයේ තුන් වෙනි අවස්ථාව යි.

ආහාර අප්‍රියය, උණ, ශ්වාසය (ඉඳ හිටලා සෙම් කෝපය), කැස්ස, ලේ දකින්ට ලැබීම, ස්වර භේදය යන ලකුණු සය, රාජයක්ෂ්මා රෝගියාගේ ලක්ෂණ යි.

## ප්‍රතිකාර

### Treatment

එළු කිරි, එළු දී, එළු මස්, එළු මූත්‍ර, එළුවන් සමග එකට හැසිරීම ක්ෂය රෝගීන්ට සුවය ගෙන දේ ය යි කියන ලදී. තමන් ගේ ජීවිත කාලයේ දී තමන්ට පථ්‍යය යි වැටහුණු - දැනුත් පථ්‍ය පලතුරු වර්ග වැඩිය භාවිත කරන්නෝ ය. කොළ, එළවලු සුප් භාවිත කරනු.

උණ, ඇදුම, පපුවේ අමාරු, කැසිවලට, ජීර්ණ ජ්වරයට නියම කල කෂායයන් පානය කරන්නෝ ය. මෘගද්‍රාක්ෂාදිය පුළුවන් පමණ භාවිත කරනු.

i. කොත්තමල්ලි, වද්දිරප්පලම්, ආඩාතෝඩා මුල්, වෙත් අතෝර මුල් කසාය - මී පැණි දමා බොන්නෝ ය.

ii. බැබිල මුල්, වල් බෙලි පච්චා මුල්, වෙත් අතෝර මුල්, ආඩාතෝඩා, කටුවැල් බටු, ගම්මිරිස පොතු, තොටතොඹ පොතු, ඉරමුසු, වෙනිවැල් ගැට, වලංගසාල් කසාය දෙන්නෝ ය.

කසාය දෙක අතරට චූර්ණයක් ද දිය යුතු.

**ලවංගාදි චූර්ණය** :— කරාබු නැටි, කපු සිනිස්ස ඇට, නැවැන්දත් මුල්, රත් හඳුන්, පොඩි ඇල් මුල් මාතෙල් අල, සුදුරු, කාර්දමුංගු, තිප්පිලි, අඟිල්, තුරුළු පොතු, නාමල් රේණු, කළුදුරු, ඉඟුරු, ජටාමාංස, කලාදුරු අල, ගාකාවාපිය අල, සාදික්කා, උණ කපුරු - කලද බැගින්, සිනි කලං 8 කි චූර්ණ කරනු.

චූර්ණය කලං ½ - කලද දක්වා දවසට දෙ වරක් මී පැණියෙහි දෙන්නේ ය. කැසි, ඇදුම, ක්ෂය, ග්‍රහණි, මලදුව ව ගැම, අතීසාර නසා ශක්තිය දෙයි.

ලේ දුටුවොත් රත් පිත් කසායක් හෝ කුඹක් දෙන්නේ ය.

ශරීරය කෘශ වීමට වෙහෙසීමට පැමිණෙන කිසිවක් නො කරන්නේ ය. පෝෂණ වඩන දේ පරිස්සමෙන් සොදන්නේ ය.

## කාස රෝගය - කැස්ස
## COUGH

i. මුල දී ප්‍රතිශ්‍යා උණට නියම ප්‍රතිකාර කරන්නේ ය.

ii. එළ බටු මුල්, කටුවැල් බටු, අස්වැන්න, පොල්පලා, කෙහෙරකුඩු, කොත්තමල්ලි, තිප්පිලි කසාය දෙන්නේ ය.

iii. ඉඟුරු, කටුවැල් බටු, ආඩාතෝඩා පඤ්චාංගය, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

iv. එළබටු මුල්, කටුවැල් බටු, ඉඟුරු, කොත්තමල්ලි, තිප්පිලි, සිරිතේක්කු කසාය දෙන්නේ ය.

v. වුද්දිරප්පලම්, වැල්මී, මීමල්, සිරිතේක්කු, අමුඉඟුරු, ආඩාතෝඩා මුල්, කටුවැල් බටු, සූකිරි කසායට- අමු ඉඟුරු යුෂ, මීපැණි, ආඩාතෝඩා යුෂ දමා දෙන්නේ ය.

**ලේහ** :— ආඩාතෝඩා සහමුලින් කලං 12 කි, අමු කටුවැල් බටු එසේ ම කලං 12කි, වතුර මනා අටක් මත්තර මිනාවට සිඳ පෙරා කල් සූකිරි කලං 12 කි, අමු ඉඟුරු අඹරා කලං 6 කි, වුද්දිරප්පලම්, තිප්පිලි, වැල්මී, මීමල්, සිරිතේක්කු, කලං 2 බැගින් චූර්ණ කර සියල්ල එකට දමා නැවත පැණි පදමට තකාරා ලේහ කරන්නේ ය.

**තලීසාදි චූර්ණය** :— තලිස් පතුරු කලං 1, ගම්මිරිස් කලං 2, ඉඟුරු කලං 3, තිප්පිලි කලං 4, කොල්ලන් කොළ, එන්සාල් කලං ½ බැගින් - උණ කපුරු කලං 5 කි, සිනි කලං 16 කි, ගොඩකාර චූර්ණ කරනු.

ඖෂධ දවසේ කිප වරක් ටික ටික කටේ තබා දිය වෙන්ට ගිලින්ට අරිනු

මෙය ප්‍රතිශ්‍යාවට, ප්‍රතිශ්‍යා උණට, කැස්සට, ඇදුමට, ගුණ ප්‍රත්‍යක්ෂ යි.

**කාස රෝගයෙහි පථ්‍ය :—** සෙවද කම්, විරේචන, වමන, ධූම පාන, ප්‍රමාණවත් ආහාර, ඇල්හාල්, තිරිඟු (පාන්) බාර්ලි, පරිප්පු, බටු වගී, මුද්දරප්පලම්, රතු ලූනු, සුදුලූනු, රටලූනු, දෙඩම්, උක්, සැලූකා ද්‍රව්‍ය, මී, විලඳ සැහැල්ලු ආහාර වගී කාස රෝගයෙහි පථ්‍ය යි.

**කාස රෝගයෙහි අපථ්‍ය :—** වසන් යෙදීම, නස්‍ය, ලේ හැරීම, ව්‍යායාම, දන්ත ධාවන, ක්‍රොධ, දූෂිත වායු, ධුලි, දුර ගමන් යෑම, විෂ්ටම්භ ද්‍රව්‍ය, විදාහී ද්‍රව්‍ය, බර ආහාර, මලමුත්‍ර දැරීම, පිපිඤ්ඤා ආදී ශීතල ද්‍රව්‍ය, එළකිරි, වේග දැරීම, විෂම භෝජන, මෛථුන ආදිහු කාස රෝගීහුගේ පක්ෂයෙහි අපථ්‍ය යි.

## හික්කා – ස්වාස රෝග

### Hiccup and Asthma

ඉක්කාවත් - ශ්වාසය (=ඇදුමත්) සමාන නිදානයන්ගෙන් හැදේ.

කැස්සට නියම කල කෂායවල් ද ඇදුමට යෝග්‍ය ය.

බඩ - නාභිය උණුසුම් කරනු. ඇදුමට වමනය කරවනු. ලෙඩා දුර්වල නම් නො කරවනු.

## ඉක්කාවට

### HICCUP

1. අළු කෙසෙල් අල සුස, ඇඹුල් කෙසෙල් කුරුල්ලන්ගේ සුස, මත්පැනින් සැදූ ඉක්කා නසා.

2. තිප්පිලි, නෙල්ලි, සීනි, ඉඟුරු කුඩු, මීපැණි, සතකිරි ලේහ කරනු.

3. එළ බටු මුල්, කටුවැල් බටු, අස්වැන්න, පොල්පලා, නෙරෙංචි, වැල්මී, මුද්දරප්පලම් කසාය කර තන කිරි දමා දෙනු.

4. සැර්දමුංගු ඇට, මොනර පිල් දැවූ අළු, මීපැණි, දෙහි ඇඹුල් දමා ලේහ කරනු.

5. පෙරුංකායම්, කොල්ලු, ගම්මිරිස්, කහ, යවකාර ලුණු කුඩු කර ගිනි අඟුරුවලට දමා දුම් බොනු.

# ඇදුමට

## ASTHMA

i. අත්තන කොළ, වෙඩි ලුණු දිය කළ වතුරෙන් තෙමා තෙමා වේළා සුරුට්ටු ඔතා දුම් 3 න් 4 ර පාරක් උරවනු. එළ කිරි බොනු.

ii. දේවදාර, බැබිල මුල්, ජටාමාංශ, වෙඩි ලුණු, යවක්ෂාර ලුණු, ගිතෙලින් අඹරා ගිනි අඟුරු උඩ දමා, දුම් බොනු.

iii. උණ අධ්‍යායයේ ඇදුමට සඳහන් කළ බෙහෙත් යොදනු.

iv. සලාදුරු අල, ඉඟුරු, අරළු, උක් හකුරු කුඩු කර, අනුභව කොට කොත්තමල්ලි තම්බා බොනු

## ඇදුම - ඉක්කා දෙකට ම පොදු වූ යෝග

## Common Treatment for Asthma and Hiccup

i. සුලු පස් මුල්, තිප්පිලි, කොත්තමල්ලි, මුද්දරප්පලම්, සිරිතේක්කු, ආඩාතෝඩා මුල්, හීන් නිදිකුම්බ කසාය දෙනු. ඇදුම, ඉක්කා, කාසය නසා ලයි.

**සංලක්ෂ්‍යය :—** ඉක්කාවට දෙන සියලු යෝගවලට තන කිරි එකතු කරන්නේ ය.

ii. කොල්ලු, ඉඟුරු, ආඩාතෝඩා මුල්, ඇත්තෝර මුල්, සිරිතේක්කු, මී මල්, කුඹුරු ඇට මද, වදකහ, සුදු ලූනු, දෙඹි දළු, සුවඳ කොට්ටන් කසාය - තිප්පිලි කුඩු, මීපැණි දමා දෙන්නේ ය.

iii. දේවදාර, වදකහ, ආඩාතෝඩා මුල්, ඉඟුරු, ඇද්දෙමට මුල්, සුවඳ කොට්ටන් කසාය දෙනු.

**සංලක්ෂ්‍යය :—** මේ කසාය - කාශ, ශ්වාස, ඇදුම, ඉක්කා ආදියෙහි යෙදිය හැකි යි.

**පරණ කැසි ඇදුමට :—** i. සිරිතේක්කු, කටුවැල්බටු, ආඩාතෝඩා මුල්, අරළු කසාය- කැසි, ඇදුම නසා.

ii. සිරිතේක්කු, කොත්තමල්ලි, කුඩු කර ලේහ කරනු. අළුත් පරණ ඇදුම නසා

iii. කටුවැල්බටු, ආඩාතෝඩා පොතු, සිරිතේක්කු, අරළු, ඇත්තෝර මුල් කසාය පරණ ඇදුම නසා.

iv. ඉඟුරු, සිරිතේක්කු කුඩු උණු දියෙන් දෙනු.

**ශෘංග්‍යාදි චූර්ණය:—** කර්කටශෘංගී, ත්‍රිකටුක, තිඵල, කටුවැල්බටු, සිරිතේක්කු, සුවඳ කොට්ටන්, ලුණු පස, කුඩු කර, උණු වතුරෙන් දෙන්නේ ය. ඉක්කා, ඇදුම, උදාවර්ත, ආහාර නො දිරීම, පීනස නසා ලයි.

## පථ්‍යාපථ්‍ය

### Diet and Forbidden Practice

පථ්‍ය
Suitable

විරේචන, ස්වේදන (=දාඩිය), ධූම පාන, වමන, දිවා නිද්‍රා, පුරාණ සාලි ධාන්‍ය, රත් හැල්, ආත කුමර අරිසි, ගොධුම (=පාන්), පුරාණ ගිතෙල්, එළු කිරි, සුරා, මීපැණි, කස්තූරි, බටු, පතෝල, කොසෙල්, රාබු, කිරිරුව්, රට ලූනු (=රාජපලාණ්ඩු), රතු ලූනු, සුදු ළූනු, කිස්මිස්, උණු වතුර, උණු කොපිලි, හෝ ඊණු, ආදිය ශ්වාස රෝගයෙහි පථ්‍ය යි.

අපථ්‍ය
Unsuitable

වේග ඉසිලීම, මෛථුන, වස්ති ක්‍රියා, පරිශ්‍රම, දුර මාර්ග ගමන, බර ඉසිලීම, නිදි මැරීම, පින්නට අසු වීම, ඇල් දිය, බර ආහාර, උදු, ලේ හැරීම, බැටළු කිරි, දූෂිත ජල මත්ස්‍ය ආදිය ශ්වාස රෝගයෙහි අපථ්‍ය යි.

## පුප්පුස වෙෂ්ටනීය ප්‍රදාහය

### BRONCHITIS

පෙනහැල්ලේ නාලියෙහි සෙම් බැඳීමෙන් ඇති වන ප්‍රදාහය (=ඉදිමීම) පුප්පුස වෙෂ්ටනීය ප්‍රදාහය යි. කැස්ස, ඇදුම මෙහි ලකුණු යි.

ප්‍රතිකාර
Treatment

සෙම් උණෙහි නියම කළ ලේහය දෙනු. කාස රෝගයෙහි වූ ද, ශ්වාස රෝගයෙහි වූ ද ප්‍රති ක්‍රියා යොදන්නේ ය. උණ තිබේ නම් සෙම් උණෙහි ක්‍රියා යොදනු.

## ස්වර භේදය

### Hoarseness of Voice

කට හඬ වෙනස් වීම, උගුර බැරැන්ති වීම, උගුරෙන් මෙන් කථා කිරීම, මේ රෝගයේ ලක්ෂණය යි.

ප්‍රතිකාර
Treatment

ප්‍රතිශ්‍යා උණෙහි දක්වූ අවලේහ, නිරූඩමහ යොදනු. එහි සඳහන් ආමලකාදී චූර්ණය උණු දියෙන් දෙනු. කාස අධ්‍යායයෙහි දක්වූ තලිසාදී චූර්ණය දෙනු.

# අරෝචක (අරුචිය)

## Disgust for Food

නානා විධ නරුඹු නිසා ආහාර ගැනීමේ අප්‍රියභාවය ඇති වේ. අජීර්ණයක් නම් අග්නිමාන්ද්‍ය රෝගයනට මෙන් ප්‍රතිකාර කරනු.

**ප්‍රතිකාර** Treatment අරුචිය ඇති වූ විට මෙහි පහත දැක්වෙන ප්‍රති චිකිත්සා යොදන්නේ ය.

i. ඉඟුරු, විලඳ, මුද්දරප්පලම්, සූකිරි, සියඹලා බොර, තිප්පිලි, ගම්මිරිස්, සහිඳ ලුණු- මෙමා දෙළුම් පැණියෙන් අඹරා තස්තාරන් ඇඹුලෙන් දිය කර ලේහ කරන්නේ ය.

ii. ඉඟුරු, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

iii. අසමෝදගම්, සියඹලා මිද, ඉඟුරු, හොරක, දෙළුම් මදුළු, මසන් කලං 4 බැගින්, කොත්තමල්ලි, සුවස ලුණු, සුදුරු, කුරුදු පොතු කලං 2 බැගින්, ගම්මිරිස් ඇට 200 කි. තිප්පිලි කරල් 100 කි. සීනි කලං 64 කි.

**සෑදීම :—** සරක්කු සියල්ල කුඩු කරන්නේ ය. සීනි ලිපේ තබා අග්ගලා හදන ගණනට උණු කරන්නේ ය. ඒට චූර්ණය දමා අග්ගලා මෙන් කුඹුරු ඇට පමණ ගුලි (=මෝදක) කරන්නේ ය. දිනපතා උදේ සවස 1 බැගින් වලඳනු.

**ගුණ :—** අරුචි, පපුවේ අමාරු, දූලවර රිදීම, මලබද්ධය, කැස්ස, ඇදුම, ග්‍රහණිය, අගීස්, පීනස, ප්‍රතිශ්‍යා නසන්නේ ය.

## පථ්‍යාපථ්‍ය

### Diet & Forbidden Practice

**පථ්‍ය :—** (Su table) වමනී ක්‍රියා, විරේචන, රෝගීහුගේ බලවත් අන්දමට වමන, ධූම පාන, කවල ධාරන, තික්ත කසට දුකැටි දඬු භාවිතය, නානා ප්‍රකාර ප්‍රසන්න රුචි ජනක හිත කර අන්නපානය, ගෝධුම, ඈත කුඹු අරිසි (=හාල්) මුරුංගා, සුදුළුනු, අඹ, දී, මෝරු, දෙළුම්, සියඹලා, පැණි දොඩම්, කැටකොළ, සියඹලා දළු, කිරළස්සපලු ආදිය සුදුසු සේ භාවිත කිරීම අරුචියෙහි පථ්‍ය යි.

**අපථ්‍ය :—** (Unsuitable) වේග ඉසිලීම, රක්ත මෝක්ෂණ, ක්‍රෝධ, චින්තා ශෛවාල්‍ය, ලෝභ, භය, ශෝක, දුර්ගන්ධ, දුර්දර්ශන, අරුචියෙහි අහිත කරති.

# වමන

# VOMITING

හෘදය, පාර්ශ්ව වේදනා, මුඛ වියලීම, හිසේ - නාභියේ වේදනා, කැස්ස, කටහඬේ වෙනස, ශරීරයේ ඉඳිකටුවලින් අනින්නාසේ වේදනාව, කබල ඇති ව වමනය යෑම, හද වේදනාව යන මේවා වාතයෙන් වූ වමනයෙහි ඇති වේ.

**ප්‍රතිකාර Treatment** ලංඝනය කරනු. එළු කිරි හෝ මාංස සූප දෙනු. මුං සූප හෝ නෙල්ලි සූප දෙනු. ගිතෙල්, සහිඳ ලුණු දමා දෙනු. සුළු පස් මූල් කසාය දෙනු.

**පිත්ත වර්ධි :— (Bile Born Variety)** මූර්ඡා, පිපාස, මුඛය වියලීම, තලු-ඇස් දැවිල්ල, ඇස් නො පෙනී යාම, භ්‍රම, පිත වමනය වීම, ඇති කෙරේ.

**ප්‍රතිකාර Treatment**

i. නෙල්ලි තැම්බූ ජලයට සුදු හඳුන් කලා දමා දෙනු.

ii. සුදු හඳුන්, සැවැන්දරා මූල්, ඉරිවේරිය මූල්, ඉඟුරු, ආඩතෝඩා මූල්, කපා කොටා තලා උණු වතුරට දමා නිවුණු පසු පෙරා දෙනු.

iii. පත් පාඩගම්, කොත්තමල්ලි කම්බා දෙනු.

**කඵජ වර්ධි :— (Phlegm Born Variety)** තන්ද්‍රා, අරුචි, ආමාශයේ සෙම පිරීම, ශරීරයේ බර සෙමින් උපන් වමනයේ දී ඇති වේ.

**ප්‍රතිකාර Treatment**

i. වලගසාල්, අරළු, බුළු, නෙල්ලි, ඉඟුරු කුඩු හෝ වලගසාල්, තලාදුරු අල, ඉඟුරු කුඩු මීපැණියෙන් ලේහ කරනු.

ii. අබ කුඩු මේස හැන්දක් වතුර වීදුරුවකට දමා පොවා වමනය කරවනු.

**ත්‍රිදෝෂජ වමන :— (Variety of three Dhosas)** සියලු ලකුණු පහළ වූයේ ත්‍රිදෝෂජ වමනය යි. එවිට මෙහි දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.

**ප්‍රතිකාර Treatment**

i. නෙල්ලි, මුද්දරප්පලම, සීනි, මීපැණියෙන් ලේහ කරනු.

ii. රසකිඳ සූප මීපැණි සමග දෙනු.

iii. වෙලි මූල්, රසකිඳ කසාය දෙනු.

iv. නෙල්ලි සූප, දිවුල් මද සූප, තිප්පිලි කුඩු, ඉඟුරු කුඩු මීපැණි දමා දෙනු.

**සියලු ම වමනයන්ට සාමාන්‍ය ප්‍රතිකාර**
**Common Treatment**

යම් වමනයක් ඇති වූ විට උක්ත අධිකාරයෙහි වමනයන්ට දක්වන ලද ප්‍රතිකාර පළමු ව කළ යුතු යි. ඊට පසු මෙහි දක්වන ප්‍රතිකාර කරන්නේ ය.

i. කච්චලන් මැද කුඩු කරන ලද පුහුගොර කුඩු, දිවුල් මද, මීපැණි, තිප්පිලි, ගම්මිරිස් එකට අඹරා ටික ටික ලේහ කරන්නේ ය.

ii. අරළු, තිකුළු, කොත්තමල්ලි, සුදුරු කුඩු කර මීපැණියෙන් ලේහ කරනු.

iii. සුවඳ ලූණු, සුදුදුරු, සීනි, ගම්මිරිස්, මීපැණියෙන් දෙනු.

iv. එන්සාල්, කරාබු නැටි, නාමල් රේණු, මිතන් ගෙඩි, විලඳ, රුක් මල්, කලාදුරු අල, රත්හඳුන්, තිප්පිලි, කුඩු කර සීනි, මීපැණියෙන් ලේහ කරනු.

යම් කිසි අජීර්ණයක් නිසා වමනය හට ගත්තේ නම් අග්නි මාන්ද්‍ය අධිකාරයේ බෙහෙත් දෙනු. අතිසාර කාණ්ඩයේ සඳහන් ලවංගාදි චූර්ණය උණු දියෙන් දෙනු. බෙලි, බැබිල, ඉඟුරු, විලඳ, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

ඇතැම් විට ලේ වමනය ද වන්නේ ය. එවිට මදුරුතලා කොළ යුෂ මීපැණියෙන් ද ගල්කුර යුෂ මීපැණියෙන් ද දෙනු. රත් පිත් රෝගයේ චූර්ණයක් දෙනු. වහා ම වෛද්‍යාධාර ගත යුතු රෝගයෙකි.

**පථ්‍ය**
**Suitable**

විරේචන, වමන, උපවාස, උණු දිය නෑම, ශරීර මාර්ජන, විලඳ, බාර්ලි, රත්හැල් ආදියෙන් සෑදූ සැහැල්ලු ආහාර – මීපැණි, සුරා, වයින් වයි, කෝමා, නෙල්ලි, අඹ, දිවුල්, මිදි, දෙළුම්, දොඩම්, ගැට කොත්, කොමඩු, සාදික්කා, දෙහි, කස්තූරි, චන්දන, කපුරු, සුගන්ධ ද්‍රව්‍ය, සුගන්ධවත් මල සිඹීම ආදිය වමන රෝගීන් කෙරෙහි හිත කර ය.

**අපථ්‍ය**
**Unsuitable**

නස්‍ය, වස්ති ක්‍රියා, ස්වේද, ස්නානාදි තෙල් බීම, ලේ හැරීම, දන්ත ධාවන, අළුත් සහල්, තල, අප්‍රිය ගන්ධ ඇති ද්‍රව්‍ය, උද්වේග, අසාත්ම්‍ය ද්‍රව්‍ය, වැටකොළු, අඹ, රත් තිඹුල්, ව්‍යායාම ආදිය වමන රෝගීන් කෙරෙහි අහිත ය.

## බඩේ රුජාව

### Colic or Pain in the Belly

ආහාර ජීර්ණ නොවුණු නිසා බඩේ වේදනා ඇති වේ. එවිට ඉඟුරු යුෂ මී පැණියෙන් තවරන්න කල්කය හෝ මාත්‍රා පහේ ගුලි සාදනු. බෙලි, බැබිල, ඉඟුරු කසාය යවක්ෂාර ලුණු දමා දෙන්නේ ය. අතීසාර අධ්‍යායයේ කියන ලද හිංගාදී චූර්ණය සියලු ම බඩේ රුදාවන්ට දිය හැක. එසේ ම ඇයි ලවංගාදි චූර්ණය දෙනු. මලබද්ධය නිසා බඩේ රුජාව පවතී නම් - අරළු, සුදුලූනු, සියඹලා කොළ, ඇහැල කොළ තම්බා දෙනු. බඩ එලිය කිය පසු ඉඟුරු යුෂ, සුදුලූනු, මුරුංගා පොතු යුතින් තවරන්න කල්කය දෙනු.

**බඩේ පිපුම** :— (**Flatulence or Tympanites**) මෙය සෑදුණු කල සස්සඳ මූලක් බඩේ බදිනු. අරළු, වදකහ, කලාදුරු අල, කොත්තමල්ලි කසාය දෙනු. කොත්තමල්ලි කලං 2 යි, සහිඳ ලුණු කලං ½ යි, උණු වතුරෙන් අඹරා ඒව දිය කර පොවනු. වදකහ, කැට ලුණු, තෙල් එඬරු කොළ කොටා පොට්ටනි බැඳ වණ්ඩුවෙන් රත් කර තවන්නේ ය.

**බඩ දූගලිම** :— (**Gripes**) සියඹලා හොද්දක් සාදා බොන්ට දෙන්නේ ය. වමන අධ්‍යායයේ බලත් කරනු.

**ඔක්කාරය** :— (**Nausea**) වමනයට නියම් ප්‍රතිකාර යොදන්නේ ය. ඉඟුරු, පැපිලිය, බෙලි මූල් තම්බා දෙන්නේ ය.

**පිපාසය** :— (**Thirst**) සාමාන්‍යයෙන් පිපාසය ඇති වූ විට දෙහි යුෂ, දෙළුම් යුෂ, වතුර හා සීනි සමග පිළියෙල කර දිය යුතු. කොත්තමල්ලි කලං 12 ක් වතුර පත 4 ක් වක් කර පත 2 ට සිඳ හොඳට තිබුණු විට පිටි සීනි දමා දෙන්නේ ය. නිතර පිපාසය අධික අයට උදේ තැම්බූ කොත්තමල්ලි සවස ද සවස තැම්බූ කොත්තමල්ලි අනික් දවසේ උදේ ද දිය යුතු.

i. කොත්තමල්ලි, පැපිලිය, සැවැන්දරා, බැබිල - කසාය කර දෙන්නේ ය.

ii. රත්කිඳ දඬු, ඇද්දෙමට මූල්, කොත්තමල්ලි තම්බා දෙන්නේ ය.

**තුවාල වීමෙන් ලේ යාමෙන් ඇති වූ පිපාසයට**:— ; වෙනිවැල් ගැට, කොත්තමල්ලි, සුදු හඳුන්, බැබිල තම්බා දෙන්නේ ය.

**කෙට්ටු භාවයෙන් ඇති වූ පිපාසයට** :— දෙමු නැටියේ කිරි දෙන්නේ ය.

# මූර්ඡා - භ්‍රම - සන්‍යාස - නිද්‍රා තන්ද්‍රා

## සිහි නැති වීම

## INSENSIBILITY

### සාධාරණ ප්‍රතිකාර - General Treatment

i. සියලු ඇඳුම් බුරුල් කර ආශ්වාස, ප්‍රශ්වාසය පහසු අන්දමකට ඉන්ට සලස්වන්නේ ය.

ii. පිරිසිදු වාතය ලැබෙන්ට සලස්වනු.

iii. ලේ ගැලීම්, කැඩීම්, බිඳීම් සිදුවී නම් ඒවාට ප්‍රාථමික ප්‍රතිවිධාන යොදනු.

iv. මුහුණට ඇල් වතුර ගසනු.

v. තද හඬ හා නිර්ණීත ස්වරයෙන් කථා කරනු.

vi. නාසයට සැර ඇති යමක් අල්ලනු. (ලොස කුමාර රස, සුණු හා යවකාර ලුණු).

vi. අශ්වගන්ධාරිෂ්ටය හෝ කස්තුරි, ජලය දමා බ්‍රැන්ඩි ටිකක් හෝ දෙන්නේ ය.

## විශේෂ ප්‍රතිකාර

## Special Treatment

**මූර්ඡා Swoons** — මූර්ච්ඡාව සෑදුණු විට මුහුණට ඇල් වතුර ගසනු. හක්කට යමක් දෙනු. යවකාර ලුණු, කහ හුණු කුප්පියකට දමා සොලවා මූඩිය ඇර නාසයට අල්ලනු. සිහි වූ විට සුදු ලූනු, කොත්තමල්ලි තම්බා කපුරු ටිකක් දමා දෙන්නේ ය.

**ලේ දැකීමෙන්, ලේ ගඳ ඉසිලීමෙන් වන මූර්ච්ඡාවට :—** ශීතල ක්‍රියා කරනු.

**මද්‍ය පානයෙන් වූ මූර්ච්ඡාවට :—** වමනය කරවනු. දෙහි දෙනු. ඇඹුල් කොඩරවාළු කොකෙල් පතුරු යුෂ හෝ අල යුෂ පොවන්නේ ය. මයන්, ගම්මිරිස්, සැමැත්දන, සාමල් රේණු ඇල් වතුරෙන් අඹරා දෙනු.

**සෙම් කිර වීමෙන් සෙම් වෙලීමෙන් වූ මූර්ච්ඡාවට :—** දෙබම් යුෂ, සිනි, මීපැණි, ඉඟුරු යුෂ දෙනු. ඒවා සම්බ හෝල ගෙලඹමා ආදි සෙම අහක් කරන තෙලක් දෙනු. ඉඟුරු, රසකිඳ, කටුවැල් බටු, සුවඳ කොට්ටන්, තිප්පිලි මූල් කසාය දෙන්නේ ය.

**භ්‍රම :— (Vertigo)** භ්‍රමය යනු කරකැවිල්ල යි. සාමාන්‍යයෙන් වාය පිත කිපීමෙන් සිදු වේ. මෙය සෑදුණු විට :—

1. කාකාමාචිය අල, බැබිල මුල්, කිස්මිස් (=මුද්දිරප්පලම්) කසාය සීතල් බහා දෙන්නේ ය.

2. රාත්‍රී කාලයේ මීපැණි සමග තිප්පල් කුඩු ද ලදේ ද උක් හකුරු සමග ඉඟුරු කුඩු ද, සනීයක් අනුභව කිරීමෙන් මද (=මත්වීම), මූර්ච්ඡා, කාස, සන්නිපාත, උන්මාද නසා ලයි.

3. ඉඟුරු, කප්පිලි, සතපුෂ්ප, අරළු පලම් බැගිනි. උක් හකුරු පලම් අටයි එකට අඹරා දෙනු.

**මාත්‍රා** :— කලං 1 – 1½ ද. දෙ. ව.

**නිද්‍රා තන්ද්‍රා** නිදි ගන්නාක් මෙන් ඇති වන සිහි නැතිකම් තන්ද්‍රාව යි. මිට අශ්ව ගොලු, සහිඳ ලුණු, කපුරු, මනෝසිල, තිප්පිලි මීපැණියෙන් හොඳට අඹරා අංජනම් දෙන්නේ ය. සහිඳ ලුණු, මුරුංගා ඇට, හෙලු අබ, සුවඳ කොට්ටන්, එළ මූත්‍රයෙන් අඹරා නස්‍ය කරන්නේ ය.

**සන්‍යාස Apoplexy** මල කඳක් මෙන් සිහි නැතිව යාම සන්‍යාස ය යි. නස්‍ය, ප්‍රධමන (=නාසයට යොදන කුඩු) පෙදීම, අංජන යෙදන්මෙන් ය. විරේක තෙල් දෙනු. සේද කම් (=හැවිලි) කරනු. මකර ධ්වජය තිප්පිලි කුඩු, මීපැණි සමග යොදනු.

**ශ්වාස කුමාර රසය** :— රසදිය, හෙල්ලිත්තා ගෙන්දගම්, වච්චනාවි, පුෂ්කාර, මනෝසිල, ගම්මිරිස්, ඉඟුරු, තිප්පිලි- සමභාග ගොඩතාර චූර්ණ කර ටිකක් නාසයට අල්ලනු, පිඹිනු. සිහි එවි. මෙය වෛද්‍යයකු ලවා සාදවා ගත යුතු. මෙය සන්නිවල දී ද නාසයට උරවනු. ඇදුම් රෝගයට ද නාසයට ඉරවීමට යෝග්‍ය ය.

සිහි නැති වීමේ රෝගයන්හි පරිෂේචන, අවගාහන, ස්නාන, රත්න, මන්ත්‍ර ධාරණ, සීතල ගැල්වීම, පිරිසිදු වායු සේවන, හෘදය ප්‍රබෝධ කරවන පාන, ධාරාගෘහ, චන්ද්‍ර කිරණ, ධූම, අඤ්ජන, නස්‍ය, රක්ත මෝක්ෂණ, දැවීම, සූචිකා වසති, ඉසකෙස් ඇදීම එකින් එක ගැළවීම, නියපොතු අග පීඩා කිරීම, මුව නාසිකා සිදුරු අනාවරණය කිරීම, විරේචන, වමන, ලංඝන, ක්‍රෝධ, භය, අපිරිසිදු ශයන, විචිත්‍ර මනෝහාර වාක්‍ය, ගායා, වැසිද්දය, සියක් වර සේදූ ගිතෙල්, පරණ පොල් තෙල්, සැහැල්ලු ආහාර, දිරන සුලු එළවළු, එසේ ම වූ පලතුරු, දෙළුම්, හැඹිලි, සුදු හඳුන්, කස්තූරි, කපුරු, අතිශය ගම්භීර ශබ්ද, අපූර්ව දර්ශන, උග්‍ර ගන්ධ, තීව්‍රමද්‍ය, මිශ්‍ර ජලය, මෘගම ඝෘත, මේඝයන්, තාරාගන, ප්‍රාණ පරිශ්‍රම, ස්තුති, විනෝද, පථ්‍ය යි. තෙල් වගී හිසේ ද, කොඳු ඇට ජීව ආදි තෙල වගී පෙලේ ද, නාභියේ ද ගානු.

බිලස්, පොල මල, [illegible] [illegible] [illegible], විරුවී අත්තාතෘත, සත්‍රී ප්‍රසංග, [illegible] [illegible], [illegible], [illegible] [illegible], නිදි මැරීම, [illegible] (=කිරි [illegible] ආදිය) [illegible] [illegible] රෝගීන්ගේ [illegible] අයුණ යි.

## මදාත්‍යය (මත)

## INTOXICATION

මත්පැනින් හැදුණු මත්වීම් රෝගවලට මත්පැන් ම ටික ටික දිය යුතු යි. ප්‍රථම කොට වයින් ටික ටික දෙනු. දෙවනු ව වයින් වලට වතුර, සුවඳ ලුණු, ඉඟුරු, ගම්මිරිස් කුඩු දමා දෙන්නේ ය. වෙන මද්‍යයක් ද මේ සේ දිය හැකි ය.

ජින සිපි ජිඩේ නම් වයින් හෝ බ්‍රැන්ඩිවලට සීනි, වතුර දමා දෙනු. තව ද ඊට තෙල්ලි යුස මුද්දරප්පලම් යුස එකතු කරනු.

සියඹලා ඇඹුල්, දෙළුම් ඇඹුල්, මුද්දරප්පලම් ඇඹුල්, තෙල්ලි ඇඹුල්, උගුරැස්ස (=කටු ලොවි) යුස, මේවාට වයින් හෝ බ්‍රැන්ඩි ටිකක් දමා බාර්ලි කැඳ සමග දෙන්නේ ය. මත්පැනින් ඇති වූ සියලු උවදුරු, අසනීප නසන්නේ ය.

පිත් උවදුරු වැඩි නම් උක් පැණි වැඩිත්වලට දමා පොවා වමනය කරවනු.

කසකිලියා මූල්, කලාදුරු අල කසාය දෙන්නේ ය. කොහොල් පතුරු යුස, කොහොල් කුරුල්ලන් යුස පොවනු. (=ඇඹුල් කොතර වාල, අළු කෙසෙල් යෝග්‍ය යි) ඉක්කාව ආවේ නම් ඉක්කා අධ්‍යායයේ බෙහෙත් කරනු.

**ජ්වලාදි මෝදකය** :— එත්සාල්, වැල්මී, කොත්තමල්ලි, කස, වෙනිවැල් ගැට, තිපල, ඇල් හාල් බැද, තිප්පලි, මුද්දරප්පලම්, රට ඉඳි, තල, බාර්ලි පිටි බැද - කිරිබද්ද, කොහොරඬ්ව, තිරස්තමලගු, සම භාග- සියල්ල බරට දෙගුණයක් සීනි, වුණු කර අග්ගලා සාදා කලං 1 සිට ½ දක්වා, උ. දෙ. ව. දිය ක්‍රමයට අග්ගලා කනනු යුතු යි. මත් පැනින් වන සියලු විකාර අසනීප නසා.

**අමු ආදි ධාන්‍ය කෑමෙන් ඉක් වූ විට** :— ප්‍රභල් යුස උක් සකුරු සමග දෙනු. පේර කොළ කැඳ පිස ගිතෙල් කිතුල් සකුරු සමග දෙනු.

**පුවක් මතට** :— ලුණු සහා ඇල් වතුර බොනු. වියලි ගොම කසායට උරවනු.

අත්තන මතට :— කිරි, සීනි මිදුනු තාග කිරි දෙනු. පුහුල් යුස කිතුල් හකුරු දෙනු.

ගංජා මතට :— i. උණු කිතුල්, ii. කොහොඹ කොළ යුස, iii. කුරුම්බා හාලපි වතුර, සියඹලා ඇඹුල් සමග iv. එළු කිරි, v. පොල් කිරි, vi අළු කෙසෙල් යුස, vii ඇඹුල් කෙසෙල් අල යුස දෙන්නේ ය.

මස්දෙසැන්සා මතට :— ජීර කොළ කැඳ, පැණි හෝ හකුරු හෝ කිතුල් හෝ දමා දෙනු.

මතකට ලේ වමනය වී නම්: කුර මුල් (මහ කුර හෝ සුලු කුර හෝ කුරතම්පලා) යුස, තනකිරි දමා දෙන්නේ ය.

සාඞී දුබල වූවහොත් බෙහෙතක් ඉඟුරු යුස, උඳුපියලි, කොහිල අල යුසින් දෙන්නේ ය. බුද්ධරාජ, මාත්තු සහ, නවරත්න කල්කය, චන්ද්‍ර කල්කය දිය හැකි යි.

අබින් මතට :— එළකිරිවලට පැණි දමා දෙනු.

කිරිබදු, මස්දෙසුක්කා ආදි අල වගී මතට පැණි ආප්ප දෙනු.

මදත්‍ය (මත් වීම්) රෝගයෙහි කිතුල් සෙදු කැඳ වගී, කිරි, පුරාණ කිතුල්, සීනි, හකුරු, තනකිරි, බාර්ලි, මුං, උඳු, කුර, පතා පච්චා, හැට පොලොස්, සියඹලා, පැණි දොඩම්, දෙළුම්, දුම්මැල්ල, රට ඉඳි, තෙල්ලි, කුරුම්බා, පොල් කිරි, තනකිරි, උක්සාමට ජල, ශීතල වායු, චන්ද්‍රකිරණ, රත්නාභරණ, සුභෘද් ව්‍යක්තීන් සහිත සම්භාෂ, ප්‍රියාලිංගන, මන්දත ආදිය පථ්‍ය යි. කාංසා මතට හැම් ද, පැණි රස දේ ද අනුභව ය. බිරුණ්ඩිවලට තවනි.

සොදද, අඤ්ජන, ධූමපාන, නස්‍ය, දන්ත ධාවන, බුලත් ආදිය සියලු මදත්‍ය රෝගයෙහි අත්හැරිය යුතු යි.

## දහය, දැවිල්ල

### Burning Sensation

i. කොත්තමල්ලි තලා ඇල් වතුරට දමා වසා තබා පිටි සීනි දමා දෙන්නේ ය.

ii. රසකිඳ යුස ගිතෙල් දමා දෙනු.

iii. පත්පාඩගම් කසාය දෙනු.

iv. ඇද්දෙමට මුල්, රසකිඳ කසාය දෙනු.

v. රත්පිතට නියම කසායක් දෙනු.

vi. සුදු හඳුන්, රත් හඳුන්, සැවැන්දරා, ඉරිවේරිය, නෙළුම් දලු, සහපුෂ්ප, කොත්තමල්ලි, නිංග අරටු, කොල්ලි කසායට මීපැණි දමා දෙනු. ශරීරයේ කොයි හෝ දුවිල්ලක් වුවත් නසා. පිපාස නසා, සරකැවිල්ල නසා.

vii. අරළු, බුළු, නෙල්ලි, ඇහැළ කරල් මද කසාය දෙනු.

viii. පත්පාඩගම්, කලාදුරු අල, සැවැන්දරා කසාය දෙනු.

හදිස්සියේ දුවිල්ලක් හැදුනොත් මුලින්ම කොත්තමල්ලි බොනු. ඇද්දෙමට මුලේ පොතු, රසකිඳ - ගිතෙල් දමා දෙනු. බුරුල්ල දලු (ඇතුමල් තිබෙන) පොල් එක්ක කොටා කිරිකා හිතෙල් දමා දෙනු, හෝඩා දෙනු. අත - පය ආදී දුවිලිවලට වාත රක්තයේ කසාය යොදනු. හකුල්වල එරඬු ඇට, එළ කිරෙන් අඹරා හානු. සුදු හඳුන් ලේප කරනු.

පිත කිපෙන උණ - කටුක ද්‍රව්‍යයන්ගෙන් වැළකෙනු.

# උන්මාද රෝගය

## INSANITY

උන්මාද රෝගය හටගත් කල කාරියන - ශ්‍රී විෂ්ණු ආදී තෙල් හිසට ගල්වනු. එළකටු රෙබු මුලේ යුස නස්න කරනු. මෙහි පසුව දක්වෙන කසායවල් දෙන්නේ ය. රත්පිත් කසාය වල් දෙනු.

1. පොඩි දුල් (=හෝ හීන් බිලු අල), පැපිලිය (=පත්පාඩගම්) ඇහැළ පොතු, කලාදුරු අල, කටුකරෝසන, සැවැන්දරා මුල්, අමුක්කරා, සිරිහෙත්ක්කු, මුද්දිරප්පලම්, සුදු හඳුන්, දස මුල්, විෂ්ණුක්‍රාන්තිය කසාය - ගිතෙල් දමා දෙනු. පිත අධික පිස්සු රෝග ද රක්ත වාතයාගේ අධිකත්වයෙන් ඇති වන පිස්සු රෝග ද නසා.

2. කලාදුරු අල, පැපිලිය (=පත්පාඩගම්) සැවැන්දරා, දේවදාර, ඉඟුරු, අරළු, බුළු, නෙල්ලි, කහබිලියා මුල්, ඇළිරිය මුල්, කැප්පිටියා මුල්, තිරුස්සවලු, කින්කොහොඹ, දියමිත්ත, බෑබිල මුල්, කටුකරෝසන, වැල්මී, තිප්පිලි මුල් කසාය ගිතෙල් බසා දෙනු.

දුම ඇල්ලුම :— කොල්ලි, සැවැන්දරා, බෑබිල සහමුලින්, කාකාවාරිය සහමුලින්, කොටා, එළ කිරෙන් තවන හම්බා තබා උදේ ඉසට දමා - පෙරවරු 10 ට 11 ට පමණ නාන්නේ ය. උන්මත්තක රෝග නසා ලසි.

භූතාවේශයෙන් ඇති වූ පිස්සුවට මේ දුම අල්ලනු :— කොහොඹ කොළ, වදකහ, පෙරුංකායම්, හාලි හැව, අඹ කුඹු කර දුම් පානු.

මාරං මල්, සුදු ලූනු, ඉඟුරු, අබ, වදකහ, වැල්මදට, කහ, තිප්පලි, එළු මූත්‍රයෙන් අඹරා ඒව දිය කර නස්‍ය කරනු.

පථ්‍ය :— (Suitable) ආශෝධන වාතය, ශ්‍රාපජනක වාතය, බන්ධන, භය, දුක, හර්ෂ, ධූම, ... නිග්‍රහ, විරේචන, පුමල්පන, ශිරෝ වෙධ, සංශෝධිත නස්‍ය, පරිශෝධන, විරේචනජනක නාශී, ධූම පාන, සිරසා, ආනාම වර්ණනා, තෙතල මර්දන, ස්නාන, නිද්‍රා, ශීත, ආලේප, ගොඩුම්, ලූනු, රත්හැල්, ධාරෝෂ්ණ දුඹ (=එළකෙණෙඩි දෙවු කිරි), සියක් වර සේද ගිතෙල්, අළුත් ගිතෙල්, පුරාණ ගිතෙල්, පතෝල, ලුණුවිල, ගොටු කොළ, මුගුණුවැන්න, පැසුණු පුසුල්, කොට්ටු මුත්‍ර, වැසි දිය, ස්වර්ණ භස්ම (=රන් අළු), කුරුම්බා, පැණිදොඩම්, මුද්දිරප්පලම්, තත කිරි ආදිය පිස්සු රෝගීන් කෙරෙහි පථ්‍ය යි.

අපථ්‍ය :— (Unsuitable) මද්‍යපාන, විරුද්ධ භෝජන, උෂ්ණ ද්‍රව්‍ය, වේග කුසිලිම, ස්ත්‍රී ප්‍රසංග, පලාශ බීජ, කරවිල, තීක්ෂ්ණ ද්‍රව්‍ය- පිස්සු රෝගීන් කෙරෙහි අහිත ය.

## අපස්මාර (මීමැස්මොරය)

### Epilepsy

i. උදය උදය හාතාවාරිය අල ඉස්ම පතක් එළු කිරි පතකට දමා සතාරා 15 දිනක් බොන්නේ ය.

ii. වදකහ මස්සවාකියක් පමණ ගලගා ගොටු කොළ යුසට දමා බොන්නේ ය. මේ කාලයේ කිරි භාවිත කරනු. මෙසේ මාස ගණනක් දෙන්නේ ය. මේ කාලයෙහි එළු අඹ හෝ මූත්‍රයෙන් අඹරා ඇගේ සැම තැන ම ගල්වා උණු දිය නාවන්නේ ය.

iii. කල්‍යාණ චූර්ණය ද දෙන්නේ ය. තිප්පිලි, තිප්පිලි මුල්, සිවිය, රත් නිටුල්, ඉඟුරු, ගම්මිරිස්, බලල් ලුණු, සහිඳ ලුණු, වලඟ සාල්, කුඹුරු ඇට මද, අසමෝදගම්, කොත්තමල්ලි, සුදුරු සමභාග උණු වතුරෙන් දෙන්නේ ය.

කලුන් ම බෙල්ලේ වැල් ලා කෙහ එල්ලුණු මිනිසකුගේ ඒ ලනුව පුලුස්සා අළු කලං ¼ බැගින් 1¼ දවසක් උදේ උදේ දෙන්නේ ය. අපස්මාර හා ඇදුම් සුව වේ. අපස්මාරය සෑදී තිබෙන විට ඇල් වතුර අහිත ය. යන්ත්‍ර, මන්ත්‍ර, කවච ධාරණ, නවරත්න, ස්වර්ණ පැලඳීම යෝග්‍ය ය. ස්වර්ණ භස්මය හෝ සුදුනම් කල පත්‍ර නෑම යෝග්‍ය ය. මාත්‍රාව දැන, වෛද්‍යයකුගේ උපදෙස් අනුවයි.

# වාත රෝග

## Diseases of the Nervous System

**හදිස්සියේ** ද – ප්‍රමාද ව ද වාත රෝග හැදේ. හදිස්සියේ යම් කිසි වාතයක් හැදුණු විට සුදු ලූනු – උලුහාල් – කොත්තමල්ලි – ගම්මිරිස් (අඹු වෙන්ට) දමා තම්බා කිතෙල් දමා දෙන්නේ ය. තවරත්ත කල්කය ආදී බෙහෙතක් තිබේ නම් එය දමා දීම යෝග්‍ය ය. තවත් තදේට වාත ආබාධය එන්නේ නම් කොහොඹ පොතු – නික පොතු – ආඹාශපාර්ශ්වා පොතු – කුඹුරුවැලේ පොතු – වදකහ – සුදු ලූනු – අඹු ඉඟුරු – මුඹම්ගත – සම්භාග ව ගෙන කොටා කබපිම්බෙහි තම්බා (මංජ්‍ගු පත හෝ තවරත්ත කල්කය) බෙහෙත් දමා දෙනු. කසායකුත් සාදා දෙනු.

## සාධාරණ වාත කසාය

i. **බෙලි – බැබිල – ඉඟුරු** කසාය **කිතෙල් දමා දෙන්නේ** ය.

ii. **එළබටු – කටුවැල් බටු – අස්වැන්න – පොල්පලා –** නෙරෙංචි – **බැබිල** – හාතාවාරිය අල කසාය දෙන්නේ ය.

iii. **ඇද්දෙමට – බෙලි – මිදි** – තොටිල – **පලොල් – එළබටු – කටුවැල් බටු – අස්වැන්න** – පොල්පලා – නෙරෙංචි, මේ දස මුල සී. මෙය කිතෙල් දමා දෙන්නේ ය.

iv. **රාස්නාදි සප්තකය** :— අරත්ත – රතකිඳ – ඇහැළ පොතු – දේවදාර – නෙරෙංචි – එඬරු මුල් – සාරණ කසාය, ඉඟුරු කුඩු හෝ එඬරු තෙල් දමා දෙන්නේ ය. හලමා – උකුල – කුතපිය ආදී තැන්වල වාත නසා.

v. **මාෂබලාදි කසාය** :— උඳු – බැබිල – වදුරු මෑ ඇට – සැවැන්දත – අරත්ත – අමුක්කරා – බෙහෙත් එඬරු කසාය, සහිඳ ලුණු – පෙරුංකායම් කුඩු දමා දෙනු. සියලු වාත රෝගවලට යොදනු. විශේෂයෙන් කට ඇදවෙන අංශභාගවලට යෝග්‍ය යි.

**ස්වල්ප රාස්නාදිය** :— අරත්ත – වලකහාල් – ඉඟුරු – බෙහෙත් එඬරු – අරළු – දශමූල් – ඉරමුසු කසාය, තියේ කද රදය – අපස්මාර – හිසේ කරදර නිසා ඇති වූ වාත – උණ – උණෙන් ඇති වූ පැත්තක් වලංගු නැති ගතිය ආදී සියලු වාත රෝග නසා. කිතෙල් දමා යොදනු.

**සංලකෂය** :— වාත අමාරු අඩු වෙන්නේ නැති විට එඬරු තෙල් දමා දිය යුතු.

මහා රාස්නාදිය :— අරත්ත - එබරු මුල් - ආඩාතෝඩා - කටුකිලියා - අරත්තාන - දේවදාර - බැබිල - කලාදුරු අල - ඉගුරු - අතිවිඩයම් - අරළු - නෙරෙංචි - ඇහැළ - සතපුෂ්ප - කොත්තමල්ලි - සාරණ - අමුක්කරා - රසකිඳ - තිප්පිලි - හිරිකිලිල්ල - හාතාවාරිය - වදකහ - කටුකරඹු - සිවිය - එළබටු - කටුවැල් බටු සමභාග, අරත්ත 2 භාගය යි. සියලු වාත රෝග නාශ.

මෙය විරේක ක්ෂීර ව යෙදීමෙන් හසී මජ්ඣාගත සර්වප්‍රකාර වාත - ආනාහ (=බඩපිපුම) ගාත්‍ර කම්ප - (=ගාත් වෙවුලීම) - කුබ්ජ - ඡකාර - පක්ෂ ඝාත - අර්දිත - ජානු වේදනා - අස්ථි වේදනා - ගෘධ්‍රසී - හනුග්‍රහ (=අනු වැටීම) - වාත රක්ත - ධනු ස්තම්භ (=පිට ගැස්ම) - ඌරු ස්තම්භ - අශීස් - විශ්වචි - ගුල්ම - හෘද් රෝග - යෝනි රෝග - ශුක්‍ර දෝෂ - සන්ධිවත්‍යා ආදි බහුවිධ සකල රෝග නාශ. විරේක නො යොදා ගිතෙල් බහා ද දෙන්නේ ය.

## වාත නසන තෙල් වර්ග

**නාරායන - සිද්ධාර්ථ තෙල - වාත රාක්ෂස - මහා ප්‍රසාරණී රාජ තෙල ආදිය සපයා ගත හැකි නම් ඒවා පඤ්ච කර්මයෙහි ම යෙදිය හැකි යි. ගැම - පීම - නස්‍ය - වස්ති - හිසට දැමීම ආදිය කරනු. සිහි නැති බුද්ධිය අඩු වාත රෝගවල දී හිසට - කොන්ද ඇට පෙලට - නාභියට - මාපට ඇඟිලි දෙකට තෙල් යොදනු.**

i. සුදුලූනු කසාය - සුදුලූනු කල්ක තල තෙල් දමා ද සුදු තෙලක් සිඳ ගත හැකි යි.

ii සුදු ලූනු - කරඳ - ලුණු වරණ, තැලිය බැගින් යුෂ, කල්කය :— දන මූල - අරළු - සහිඳ ලුණු කලං 6 බැගින්, ජයපාල ඇට කලං 12 යි. කිරිස්සවලුණු කලං 12 යි. කැබිලි පොල් කිරි තැලිය යි. එබරු තෙල් තැලිය යි. තෙල සිඳිනු. වාත රෝග යෙහි සියලු කර්මයෙහි යොදනු.

ආක්ෂේපක - අපතන්ත්‍රක - අපතානක - (Convulsion, Apoplectic Convulsion & Hysterical Convulsion) මේවා සියල්ල ම වාත ශාන්ති යි. නැතහොත් මලිජ්පු යි. මේ සියල්ලට ම විරේක තෙල් පොවනු. තෙල් ඇඟේ හිසේ ගල්ලනු.

i අරළු - වදකහ - අරත්ත - සහිඳ ලුණු - සොරත - අබරා ගිතෙල් සමඟ අනා සකාරා - පෙරා බොන්ට දෙන්නේ ය.

ii අරළු කසාය, සහිඳ ලුණු, ගිතෙල් දමා දෙනු

iii මහාරාස්නාදිය දෙනු. ඉහත කී අනුපානයකින් ගුලි දෙනු.

**වාත තැවිලි** :— වාත රෝගවල දී තෙල් ගල්වා තැවිය යුතු යි.

එඬරු ඇට - මී ඇට - තනපුෂ්ප - දෙබ ඇට - වදකහ - කොට්ට පොල් - කරඳ ඇට - සුදු ලූනු - තැටි ලුණු - අත්තන කොළ - කොට්ටං, පස් පොළොන් අනා පොට්ටනි බැඳ වණ්ඩුවෙන් රත් කර තවනු.

**පසුගෙවින් ඉහළ වාත රෝගවලට** :— බෙලි - බැබිල - ඉඟුරු කසාය ද දස මුල් එක කසායවල් ද දෙනු.

**ඇඟේ සෑම තැන ම වාත රෝගවලට** :— බෙලි - බැබිල - දුන්න - හාටුකරඹු - එඬරු - නික - අරළු - සුදුලූනු - ඉඟුරු - දේවදාර - කොල්ලු - රුදු කසාය ද

**බඩේ යටි බඩේ උකුලේ කලවයේ වාතවලට** :— එඬරු - බෙලි - එළබටු - කටුවැල් බටු - තක්කාරන් මුල් - පොල්පලා - කොහොරසඬි කසාය, උදේට යවකාර ලුණු - සහිඳ ලුණු - එඬරු තෙල් දමා ද සවසට පෙරුංකායම් කුඩු - මීපැණි දමා ද දෙන්නේ ය. 'ඒරණ්ඩ සප්තකය' මේ කසායේ නම යි. පරිනාමි ශූලයට ද මෙය දෙන්නේ ය.

**ක්‍රොෂ්ටුක ශීර්ෂ** :— (Synovitis of the Knee Joints) දණහිස්වල ඇති සෙනහක තරළ කිපීමෙන් මේ දණහිස් ඉදිමෙන රෝගය හැදේ. මෙය හැදුණු විට පිළිවෙලින් මේ ප්‍රතිකර්ම කරන්නේ ය.

i. තිප්පලි - රසකිඳ - ආඬාතෝඩා මුල් - ඇහැළ පොතු - කසාය, උදේට එඬරු තෙල් දමා සවසට සිනි මීපැණි දමා බොන්නේ ය. මෙය කැලි 3 ක් බිය යුතු.

ii. රසකිඳ - තෙල්ලි - බැබිල - අරළු - කසාය, ශුද්ධ කළ ගුගුල් මඤ්ඤාඩි 5 බැගින් දමා බොන්නේ ය.

iii. සුදුලූනු විරේක තෙල බිහා, වාතරක්තයේ කසායයක් බොන්නේ ය.

**මන්‍යා ස්තම්භය** :— (Wryneck) බෙල්ලෙහි 'මන්‍යා' නහර තද වීමෙන් මෙය හැදේ. බෙල්ලේ පිටේ වාත වේදනා ද ඇති වේ. තෙල් හා තවන්නේ ය. බෙලි - බැබිල - ඉඟුරු කසායට විරේක තෙලක් දමා දී විරේක කරනු. දස මුල සහිත රාස්නාදි කසායයක් දෙනු. සුදු ලූනු - ගම්මිරිස් තම්බා තවරත්ත කල්ක - සීතෙල් දමා දෙන්නේ ය.

**ජිහ්වාස්තම්භය** :— (Paralysis of the Tongue) දිව පැත්තක් පණ නැති ව ගිය විට හෝ, පැත්තක් හොලවන්වත් බැරි වූ විට, වාත කසායයන් දෙන්නේ ය. තෙල් ද හොදනු.

හනුග්‍රහ :— (Lock Jaw) 'අශු' ව්‍යාධියෙන් පීඩිත වූ කල මෙය සිදු වේ. මිං හුණු තෙල් ගල්වා උණු තිරිබත්ටලින් තවනු. තිත්ත කොළ යුෂට, තල කිරි - තල තෙල් දමා නස්‍ය කරනු. රතු ලූනු - සුදු ලූනු - වෙලා කොළ - තිත කොළ - ගල්ලිය - කැප්පිටියා ලාකඩ, එමවා අඹරා පස් තෙලින් අඹා තාවිලන කකාරා පෙරා තෙල් ගෙන නස්‍ය කරනු. හන්වල එක් කරනු. ගානු.

දණ්ඩාපතානක වායු රෝගය :— (Rigid Sperm) මෙය හැදුණු කල රෝගියා දණ්ඩක් මෙන් වේ. ගම්මිරිස් - බුරුංගා ඇට - වලගසාල් - හින් ඉඳුරුතලා කොළ එකට අඹරා, තල තෙල් හෝ ගෝ මූත්‍ර හෝ දමා කකාරා පෙරා නස්‍ය කරනු. තෙල් ගල්වා තවනු. තිපල් කසාය ගිංතල් - සහිඳ ලුණු දමා දෙනු. නාවරත්න කල්ක සුදුලූනු - ගම්මිරිස් තම්බා ගිතෙල් සමග දෙනු.

වකුප හෙවත් පඬගු :— (Lameness) කොර වීම වූ විට ක්‍රෝෂ්ට ශීර්ෂයෙහි කියන ලද ක්‍රමයට ප්‍රතිවිධාන යොදන්නේ ය. නැවත මෙහි ම අධ්‍යායයක් වේ.

ධනුස්තම්භය :— (Tetanus) පහරක් වැදීමෙන් හෝ කටුවක් ඇණීමෙන් හෝ කැපීමක්, පල් ගැල්මක් ආදිය වූ විට හැදෙන "පිටගැස්ම" යයි රටේ ව්‍යවහාර කරන රෝගය ධනුස්තම්භය යි. මීට නිදානය සිදු වූ විට ම වෙනිවැල්ගැට - කොත්තමල්ලි - සුදු ලූනු තම්බා දෙන්නේ ය. තෙල් වගී හිසේ කොඳු ඇට පෙළේ ගල්ලනු

ආක්ෂේපක - අපතන්ත්‍රක - අපතානක - මන්‍යාස්තම්භ - හනුග්‍රහ - දණ්ඩාපතානක - ධනුස්තම්භ ආදී රෝගවල දී වහා ම වෛද්‍යාධාර සොයා ගත යුතු.

## පථ්‍යාපථ්‍ය

### Diet and Forbidden Practice

**පථ්‍ය Suitable**

මෙතිල වගී හා පෝෂ්‍ය ජනක ආහාර සියලු ම වාත රෝගීන්ට සුදුසු ය. තෛලාභ්‍යංග - අංග මර්දන - වස්ති ක්‍රියා - ස්නේහ ප්‍රයෝග - ස්වේද - අවගාහන - සංවාහන - සංශමන ඖෂධ - වස්ත්‍රයෙන් ශරීරය ආවරණය කිරීම - වාලු මර්දන - අග්නි කර්ම - උපනාහ (Poultice) - භූමිශයන - උණු වතුර නෑම - උපවේශන - තෙල පුණ් ඔරුවේ අවගාහන - ශිරෝ වස්ති - ශයන - නස්‍ය ප්‍රයෝග - ගිනි සේවනය - සන්තර්පණ ක්‍රියා - පුෂ්ටි කාරක ද්‍රව්‍ය - පස්ගෝරස - මධුර ද්‍රව්‍ය - අම්ල ද්‍රව්‍ය -

ලවන ද්‍රව්‍ය - හුනන ගොඩුම් - හුනන හාල - අළුත් ලූනු - පරණ ඇල් හාල් - කොල්ලු වතුර - සුරා - අගව - හායගි - හාකඹන - කිතුල් - වෘක යන මොවුන්ගේ මාංස - දූම්මැල්ල - බෙලි - මුරුංගා - සුදු ළූනු - රට ළූනු - රතුළූනු - දෙළුම් - අඹ - දෙබම් - ඇපල් - මිදි - දූඩ - එළු කිරි - ගෝමූත්‍ර - එරඬු තෙල් - මීතෙල් - දෙඹ තෙල් - සියඹලා කාඩි යන මේවා වාත රෝගීන් කෙරෙහි පථ්‍ය යි. දිරවිය හැකි පෝෂණදායක ද්‍රව්‍ය, ආමාශය-ශෝධක ගත වාත රෝගයන්හි යොදනු. වාත සන්නිවල දී ද එසේ යොදනු. බඩගිනි හොඳට තිබෙන කල දිරන්ට පුළුවන් දේ දෙනු.

අපථ්‍ය :— (Unsuitable) සිහිවිලි - රෑ නිදි මැරීම - මලමූත්‍රාදි වේග ධාරණ - වමන - පරිශ්‍රම - උපවාස - කඩල - කෂාය රස (=කහට රස) - වාතය කිපෙන ධාන්‍ය වර්ග - මුං - රාෂමාෂ - නදී ජල - බාර්ලි - ජම්බු - දඹ - කෙකටිය අල - දියෙහි ඇති අල වර්ග- දලු වර්ග - අච්චික්කා - සිසිල් දිය - විරුද්ධ ද්‍රව්‍ය - ශුෂ්ක මාංස - රක්ත මෝක්ෂණ - මීපැණි - රමණී ප්‍රසඞ්ග - ඇතුන් පිට අසුන් පිට යෑම - පථපර්යටන - වාත රෝගීන් කෙරෙහි අහිතකර ය. අර්දිත ආදි වාත රෝගයන්හි නෑම ද අයුතු ය.

## තූනි ප්‍රතිතූනි රෝගය

### Sharp Pain in the Perineum and Lower Parts of the Abdomen

මලාශය හා මූත්‍රාශයේ සිට මල මාර්ගය හා මූත්‍ර මාර්ගය තරා පහතට පැමිණ බිඳින්නාක් මෙන් ඇති වන වාතය තූනි නම්. එය මිට විපරීත ව ඉහළ අතට වේදනාව දෙන රෝග ප්‍රතිතූනි නම්.

**ප්‍රතිකාර Treatment** — තෙල් වස්ති යොදන්නේ ය. i. පැසුණු පොල් - කැප්පිටියා මුලේ සුඹුළු - තුඹ ගැට - පෙරුංකායම් තම්ව ගෙන වණ්ඩුවේ තම්බා මිරිකා, එඬරු තෙල් දමා දෙන්නේ ය. ii අරළු - සුදු ළූනු - මුබම්කන මුල් - වැල් පෙතොල මුල් - මුරුංගා පොතු - උළුහාල් තම්බා, ගිතෙල් දමා දෙන්නේ ය. iii තිපල - තිකුළු කසාය, යවක්ෂාර ලුණු - සහිද ලුණු - ගිතෙල් දමා දෙන්නේ ය.

**පාද දාහ** :- (Smarting of the Feet) බොහෝ අයට අතුල්-පතුල් දැවිල්ල හැදේ. ඊට හේතුව දැන ගෙන ප්‍රතිකාර කරන්නේ ය. එසේ වුවත් මුලින් වාත රක්තයෙහි කසාය දෙන්නේ ය. එඬරු ඇට එළකිරෙන් තම්බා අඹරා ගල්වන්නේ ය.

පාද දාහ :— (Anaesthesia) අතුල් පතුල් දැවීම හා හිරිය වැටීම් රෝගයකි. ඇතැම්විට දෙපතුල්වල අමාරු නිසා මෙය හැදේ. ඒව සොයා ප්‍රතිකාර කරනු. ඇතැම්විට අජීර්ණයෙන් මෙය හැදේ. එවිට ඒට හිත බේද් යොදනු. ඇතැම්විට මුත්‍ර ආබාධ නිසා මෙය හැදේ. ඒව ප්‍රමේහ අධ්‍යායයේ බෙහෙත් කරනු. i. අරළු 1 යි, බුළු 2 යි, නෙල්ලි 3 යි. මේ ප්‍රමාණයට හැදූ කසාය, තිප්පිලි කුඩු දමා දෙන්නේ ය. ii. උෂ්ණ අධ්‍යායයේ දරු පර්වාදී කසාය බොන්නේ ය.

# වාත රක්තය

## GOUT

වාතයත් ලෙයත් කිපීමෙන් ඇති වේ. ශරීරයේ ද විශේෂයෙන් අත් පාවල ද ශරීරයෙන් ම ඇතිවන ඉදිමුම්- කුවාල - වණ- ස්පර්ශ නො දැනීම් - සන්ධි වේදනා ආදි ලකුණු ඇති වේ. ලේ දූෂිත වෙයි.

**ප්‍රතිකාර**
**Treatment**

ලේ දූෂිත වීමෙන් ඇති වන ගෙඩි - වණ - පිළියල් - පාද දැවිලි - සන්ධි පත් ඉදිමුම් ආදි රෝගවලට ද මේ ප්‍රතිකාර ක්‍රමය ම යෝග්‍ය යි.

i. රසකිඳ - ආඩාතෝඩා මුල් - ඇහැළ පොතු කසාය, එඩරු තෙල් දමා දෙන්නේ ය. (විරේක උදේට සවසට සිනි - මීපැණි යෙදිය යුතු.)

ii ආඩාතෝඩා මුල් - මහ පස් මුල් - ඇහැළ පොතු කසාය, එඩරු තෙල් දමා දෙන්නේ ය. සවසට සකිඳ ලුණු - පෙරුංකායම් කුඩු බහා දිය යුතු. දරුණු කටිවායු - මල මුත්‍ර බද්ධ - අති දරුණු වණ නසා.

iii. එරබදු මුල් - ආඩාතෝඩා මුල් - හෙරෙසැව - රසකිඳ - බැබිල - ඉඟිරිය මුල් කසාය. ලේ දූෂිත වූ රෝග - තුනටියේ වේදනා - සන්ධිපත් ඉදිමුම් - මුත්‍ර විෂ වීමෙන් වූ වාත ඉදිමුම් නසයි. ගෙඩි - කුෂ්ට ආදියෙහි ද යොදනු.

iv. එලබටු - මහ පස් මුල - රසකිඳ - එඩරු - හෙරෙසැව කසාය, එඩරු තෙල් දමා දෙනු. කටිවායු - වාතරක්ත නසා.

v. එරබදු මුල් - ආඩාතෝඩා - හෙරෙසැව - රසකිඳ - ඉඟිරිය (=නිරමුල්ලි)- බැබිල කසාය. පරණ වාත රක්ත - දන ඉදිමුම් - ඌරුවගත වාත රක්ත නසා.

vi අරළු - බුළු - නෙල්ලි - වැල්මදට - වදකහ - කටු කරෝසන - රසකිඳ - වෙනිවැල් ගැට - කොමඩු කසාය, සිඟලු ම

කුෂ්ට නසා. ලේ අශුභ වීමෙන් හැදෙන කොරි - කුෂ්ට - ගෙඩි - අර්බුද - භගන්දර ආදිය නැසීමට යොදන ලෝක ප්‍රසිද්ධ මංජිෂ්ඨාදි කෂායයි.

vii. දුම්මැල්ල - කටුකරෝසන - හාතාවාරිය අල - අරළු - බුළු - නෙල්ලි - රසකිඳ කසාය. දුම්ලී - වාත රක්ත නසා.

## නිම්බාදී චූර්ණය

viii. කොහොඹ පොතු - රසකිඳ - අරළු - නෙල්ලි පලම් බැගින්, බෝධි ඇට පලමෙකි, ඉඟුරු - වලගසාල් - තෝරබුල් - ගජපිප්පලී - අසමෝදගම් - වදකහ - සුදුදුරු - කටුකරෝසන - රත් හඳුන් - සහිඳ ලුණු - යවක්ෂාර ලුණු - කුන - වෙනිවැල් ගැට - සාලාදුරු අල - දේවදාර - සුවඳ කොට්ටං - කලං 3 බැගින් චූර්ණ කරනු.

**මාත්‍රා :—** වරකට කලං 1—1½ දක්වා උදේ සවස - රසකිඳ කසායෙන් අනුභව කරන්නේ ය.

**ගුණ :—** මාසයක් භාවිත කිරීමෙන් දරුණු වාත රක්ත - කටුවේගන් - චර්ම රෝග - කුෂ්ට - කැසුම් - පණු කැවිලි - දද - ඉදිමුම් - කොර - මණ්ඩල කුෂ්ට - ගුල්ම - ආම වාත - මැලේරියා (=විෂම උණ) - පුරාණ උණ නසා ලයි.

**පථ්‍ය Suitable** වාත රක්තයෙහි, රත්හැල් ආදි ඉක්මනට දිරවන - ලේ වා කෝප නො කරන සහලින් පිසු බත් - සීතල් - දුම්මැල්ල - කොමසල් ගෙඩි - බිට්රූට් - හැල්දිරි - රාබු - පතෝල - කාරණ ආදි වගී පථ්‍ය යි.

**අපථ්‍ය Unsuitable** දවල් නිදීම - ගිනි තැපීම - ව්‍යායාම - [illegible] - ස්ත්‍රී ප්‍රසංග - උදු - කොල්ලු - කෝර - මස් - මාලු - කරවල - කිත්තර - දී කිරි - උක් - රාබු - තල - ඇඹුල් ද්‍රව්‍ය - විනාකිරි - කටු රස - බර ද්‍රව්‍ය ආදි වගී වාත රක්තයෙහි අහිතකර ය.

**කොර - වාදන් - දනහිස් ඉදිමුම - ගැටි ඉදිමුම - ශිරිවාත - දම්ලි වාත - ප්‍රමේහ ආදියෙන් සංසාර ම**

## ජවිල රෝග

### පිළියෙලින්

i රසකිඳ කලං 36 යි. නෙල්ලි කලං 12 යි. හැලි අට - හැලියට සිඳ, සීනි - මීපැණි දමා හැලි 3 යි.

ii අරළු - ඉඟුරු කලං 3 බැගින්, නෙල්ලි කලං 6 යි. ඇසල පොතු කලං 12 යි. රසකිඳ කලං 30 යි. හැලි 8 හැලියට සිඳ, උදය එබරු තෙල් - පෙරුංකායම් - සහිඳ ලුණු දමා ද සවස

ඔනි පිපැණෙ දමා ද බොන්නේ ය. චිනි අමුකු - ශාකාර - ඉදිඹුම - අකපුල කාලිය යන ශරීරයේ වේදනා - ශාඛවල ඉදිඹුම - මොල්ලී බැඳීම නසා ලයි.

iii ඇශැල පොතු කලං 15 යි. රසකිඳ කලං 12 යි. එබරු මුල් කලං 6 යි. ආඩාතෝඩා මුල් කලං 6 යි. අරළු - බුළු - නෙල්ලි - කලං 3 බැගින්, නැලි 8 එකට කකාරාපු ගැටිතේ ම සකිද ලුණු කලදක් අඹරා දමා, උදය එබරු තෙල්. සියලු කොර වාදත් දැවිලි කන්දිපත් තෙමිලි ආදියට ප්‍රත්‍යක්ෂ වී තිබේ.

iv වෙනිවැල් ගැට - ගොත් කැකිරි අල - කලාදුරු අල - අරළු - බුළු - නෙල්ලි - කසාය, කසකුඩු - තල තෙල් දමා දෙන්නේ ය.

මිව පසු වාත රක්ත අභිසාරයේ මඤ්ජිෂ්ඨාදි කසාය ද වාත අධ්‍යංගයේ මහා රාස්නාදි කසාය ද වුවමනා නම් දිය හැකි යි.

## ඌරුස්තම්භය

## PARAPLEGIA

කලවා තද ව, වේදනාව බහුල ව ඇති වේ. වාත බේත්, තෙල් ගැල්වූ විට රෝගය දියුණු වේ. රෝගියාගේ මුත්‍ර තොසේ දූෂි පරීක්ෂා කරවා, එහි යම් ආබාධයක් ඇත් නම් ඊට ද ප්‍රතිකාර කරනු.

**ප්‍රතිකාර**
**Treatment**

කලවයේ තදවීම් ගතිය හා වේදනාව ඇති වූ කල අරළුප් (=ඇරරුව්) පිටියෙන් කැද පිස, ඊට බැද කුඩු කරන ලද පුස්කර කුඩු මිශ්‍ර කර, රත්කාග තිබෙද්දී ම වේදනා ස්ථානයෙහි ගාන්නේ ය.

i බදුල්ල ඇට - රසකිඳ - ඉඟුරු - දේවදාර - අරළු - සාරණ - දස මූල් කසාය එළමුත්‍ර දමා කකාරා දෙන්නේ ය.

ii තිප්පිලි - තිප්පිලි මූල් - බදුල්ල ඇට කසාය, හෝ මුත්‍ර බහා සාද දෙනු.

ප්‍රලේප :— අත්සත ගහ සහමූලින් - සුදුලූනු - ගම්මිරිස් - කළුදුරු - සියඹලා කොල - එම පොතු - අරත්ත අල - මුරුංගා පොතු, මේවා කොටා ගෝ මූත්‍ර දමා මිරිකා කකාරා තරමක් රත්කාග තිබෙද්දී ගාන්නේ ය.

**පථ්‍ය Suitable** සියලු රූක්‍ෂ ක්‍රියා - කෙවද (=කැවිලි)- කුරහන් - අමු - බාල හාල් ආදි රූක්‍ෂ ධාන්‍ය, බාර්ලි - කොල්ලු - මුරුංගා - දුම්මැල්ල - ගෝවා - කැරට - රාබු - සිනි ලූනු - උණු දිය - තල - මෝරු (=කිරි) සුරා - මීපැණි- කටුක ද්‍රව්‍ය - කසට ද්‍රව්‍ය- ශරීර කර්ශන (=කෘශ කිරීම)-කෂාර වර්ග- ගෝ මූත්‍ර - ප්‍රමාණයට ව්‍යායාම - කෙම් නාසන, වාලු කොට සිපවන කවයුතු ආදිය ඌරුස්තම්භ රෝගීන් පථ්‍යයෙහි හිත කරති.

**අපථ්‍ය Unsuitable** ගුරුපාක (=පැසීම ප්‍රමාද)- ශීත වීර්ය- ද්‍රව බහුල- ශාකාදී ස්නිග්ධ ද්‍රව්‍ය - කිරි - මාළු ආදිය ඌරුස්තම්භයෙහි අහිත කර ය. ලේ හැරීම, තෙල් ගෑල්වීම, වස්ති යෙදීම, වමන ආදිය නො කරන්නේ ය.

## ආම වාතය

### Dyspeptic Flatulence

ආහාර හොඳට නො දිරීමෙන් ආමරසය (දූෂිත වූ රස) රස හරණීන් කරා ගොස් ශරීරයෙහි පැතිරීමේ දී, අත - පය - හිස - සන්ධිවල ඉදිමුම් ඇති ව, ඒ තැන්වල බලවත් වාත වේදනා ඇති ව, ගින්නත් නැසීමෙන් ඇති වන වාත රෝග විශේෂය ආම වාතය නමි. මෙහි දී ආමාශයේ ද, මතු පිට ද දැවිල්ල ඇති වේ. මලබද්ධය - පපුවේ අමාරුව ඇති වේ. හැම කල්හි නො ඉදිමේ.

**ප්‍රතිකාර Treatment** ආම රස පැසවීමට අතිසාර අධ්‍යායයේ දක්වූ කුඩක් දී පසු ව වාත අධ්‍යායයේ තිබෙන රාස්නාදී සප්තකය - මහාරාස්නාදිය ආදි කසායන් දෙනු.

ආම රස පැසවන චූර්ණයක් :— ඉඟුරු - අරළු - කලාදුරු අල - වදකහ - අතිවිඩයන් - දේවදාර, කුඩු කර උණු වතුරෙන්, දවසට 3 වරක් දෙනු. බඩගින්න හොඳට තිබේ නම් ඒ ලඟට කසාය, එඬරු තෙල් දමා දෙනු. ආම වාතයට යෝග්‍ය චූර්ණ කිහිපයක් මෙහි පහත දක්වේ.

i ශතපුෂ්පාද්‍ය චූර්ණය :— සතපුෂ්ප- වලංගසාල්- සහිඳ ලුණු- ගම්මිරිස් කුඩු. ගින්න දල්වා, බඩේ වාත - ආම වාත - නසා. ස්ත්‍රීන්ගේ මාස්වීමේ දී ඇති රූජා නසා.

ii හිංග්වාදි චූර්ණය :— පෙරුංකායම් 1 යි, සිඹිග 2 යි, බිලල ලුණු 3 යි, ඉඟුරු 4 යි, තිප්පිලි 5 යි, සුදුදුරු 6 යි, සුවඳ කොට්ටං 7 යි යන මේ ප්‍රමාණයට චූර්ණ කරනු. උණු වතුරෙන් දෙන්නේ ය.

බඩේ වාත - අග්නි මාන්ද්‍ය - අජීර්ණය- ආම වාත-ගුල්ම නසා. බඩේ ඇති සියලු වේදනාවලට ම දෙනු. ජලසන්තිය - අලසක - විලම්බිකා - වමන - පාචන ආදී කල්හි ඇති වන බඩේ වේදනා - පපුවේ කැක්කුම ආදිය නසා ලයි.

**සත්‍ය**
**Suitable**

ආම වාතයෙහි රූක්ෂ ස්වේද – උපවාස – ශෝධන පාචන– වස්ති ක්‍රියා – ප්‍රලේප – විරේචන – නිරූහණ වර්ති (=බැට) ප්‍රයෝග – පුරාණ ඇල් වී – කොල්ලු යුෂ – පුරාතන මද්‍ය – වා ලඝන ක්‍රියා – පිටිසුදු පලා – එරඬු තෙල් – සුදු ලූනු – පතෝල – මුරුංගා – උණු දිය – ගෝමූත්‍ර– කටුක ද්‍රව්‍ය – තිත්ත වතන ද ආදිය ආම වාත රෝගීන් කෙරෙහි හිත ය.

**අසත්‍ය**
**Unsuitable**

දී කිරි – මත්ස්‍ය – උක් හකුරු – කිරි– උඳු – පිෂ්ටක– දූෂිත ජල – පුවි වායු – විරුද්ධ භෝජන – අසාත්මය භෝජන – මලමූත්‍රාදි වේග ධාරණ – රාත්‍රි ජාගරණ (=රෑ නො නිදීම), විෂමාසන – ගුරු – අභිෂ්‍යන්දි ද්‍රව්‍ය – ආම වාත රෝගීන්ගේ පක්ෂයෙහි අහිත ය.

# ශූල රෝගය

## PAIN & COLIC

'ශූල' වනාහි කපන්නාක් මෙන් ද බිඳින්නාක් මෙන් ද ශරීරයෙහි හටගන්නා දරුණු වේදනාව යි.

වාතාදි දෝෂ තුන වෙන වෙන ම කිපීමෙන් ශූල තුනෙක් ද, දෙක දෙක කිපීමෙන් තුනෙක් ද, තුන ම කිපීමෙන් එකෙක් ද, ආම දෝෂයෙන් එකෙක් ද, පරිනාම ශූල, අන්නද්‍රව ශූල කියා දෙකෙක් ද'යි මෙසේ දශ ප්‍රභේදයෙක් වෙයි.

**ප්‍රතිකාර**
**Treatment**

ශූල රෝග, වමන – ලංඝන – ස්වේද (=තැවිලි) – පාචන (=ආමය පැසවන කසාය)– ඵල වර්ති– ක්ෂාර වස්ති – ක්ෂාර ප්‍රයෝග – චූර්ණ ප්‍රයෝගවලින් ප්‍රතිකාර කට යුතු යි. පිත්ත ශූලයෙහි තැවිලි නො කරන්නේ ය. ලක්ෂණානුසාරයෙන් ප්‍රතිකර්ම කිරීම මෙහි දී යෝග්‍ය ය.

**වාත ශූලයෙහි ලක්ෂණ :— (Symptoms of Vata-Sula)**
වාත ශූලයෙහි හෘදය දේපාර්ශ්වය - පෘෂ්ඨය (=පිට) –ත්‍රිකය (=තුන් ඇට සන්ධිය) – වස්ති දේශය (=යටි බඩ) යන ස්ථානවල දරුණු වේදනා ඇති කෙරේ. මෙය භුක්ත ආහාර ජීර්ණය වන අවස්ථාවේ ද, සවස් කාලයෙහි ද, මේඝ කාලයෙහි ද, වර්ෂා - ශීත ඍතුයෙහි ද, බොහෝ සෙයින් ශූලවත් වේදනා වැඩි වෙයි. මෙය කෙණෙහි සංසිඳී කෙණෙහි කෝපයෙහි වැඩි වේ. මල වායු සංරෝධ වීමෙන් බිඳින්නාක් මෙන් ද ඉදිකටුවලින් අනින්නාක් මෙන් ද කුක්ෂි දේශයෙහි වේදනා ඇති වේ.

**වාත ශූලයෙහි ප්‍රතිකාර**
**Treatment of Vātika Sula**

වාත නාශක තෛලයක, සිද්ධාර්ථ තෛලය, කපුරු මිශ්‍ර කරන ලද මී තෙල් ආදිය ගල්වා ප්‍රථම කොට තවන්නේ ය. වා නසන පොට්ටනියක් සාදා තැවීම් කළ යුතු යි. දේවදාර, එළු වදකහ, සුවඳ කොට්ටං, සතපුෂ්ප, පෙරුංකායම්, සහිඳ ලුණු ආදියෙන් (විනාකිරි හෝ රා ගත යුතු) අඹරා වේදනා ස්ථානයන්හි දමනු. i බෑවිල, සාරණ මුල්, තෙල් එඬරු මුල්, එළබටු මුල්, කටුවැල් බටු, හාහාග කර සහිඳ ලුණු, සුවඝ ලුණු, පෙරුංකායම් කුඩු දමා දෙන්නේ ය. ii උදය කාලයෙහි මේ කසාය වාතාධිකයෙහි සඳහන් විරේක තෙලක් හෝ ඒව සමාන විරේක තෙලක් බිහා දිය යුතු යි. නෑම ගත්තාට පසු iii පෙරුංකායම්, අතිවිඩයම්, ඉඟුරු, තිප්පිලි, ගම්මිරිස්, වදකහ, සුවඝ ලුණු, අරළු සමභාග ගෙන චූර්ණ කර මරකට තලඳක් උණු වතුරෙන් බොන්නේ ය. මේ චූර්ණය බඩේ සියලු වේදනාවලට ම යෝග්‍ය ය. මීට හිංග්වාදි චූර්ණය යි කියනු ලැබේ. iv පෙරුම්කායම්, ගොරක, තිප්පිලි, සහිඳ ලුණු, සුවඝ ලුණු, අසමෝදගම්, යවකාර ලුණු, අරළු, අඹරා රාවෙන් දෙන්නේ ය. ශූල, ගුල්ම, මාළේ අබස්සි ආදියට ද යොදන්නේ ය.

**ධාන්‍යාදි චූර්ණය** :— කොත්තමල්ලි, අරළු, පෙරුම්කායම්, වන ඉද්ද මුල්, බලල් ලුණු, සහිඳ ලුණු, කපුරු, මුරුංගා ලී පුලුස්සාපු අළු, සුවඳ කොට්ටං, සුදු ලූනු, නැප්පිරියා මුලේ පුඹුලු, කුඹුරු ඇට මද, ඉඹුම්බහා, සිවිය අල, ඉඟුරු, තිප්පිලි, ගම්මිරිස්, සමභාග චූර්ණ කර උණු වතුරෙන් දෙන්නේ ය. වාත ශූල, අජීර්ණ වේදනා, ගුල්ම, අපතන්ත්‍රක වාත නසන්නේ ය.

බඩ එලිය නො යන්නේ නම් ඉක්මනින් ම විරේකයක් යොදන්නේ ය. 'එඬරු තෙල්' විරේකය යෝග්‍ය යි.

**පිත්තශූලයෙහි ලක්ෂණ** :— (Symptoms of Pitta Sula) නාභියෙහි වේදනා, පිපාස, මුලාව, දාවිල්ල, දහඩිය දැමීම, මූර්ඡා, භ්‍රම, ගින්නෙන් දවන්නාක් මෙන් වූ වේදනා පිත්ත ශූලයෙහි ඇති වේ. රෑ මධ්‍යාන්තයෙහි පසු කාලයේ හා අහර දිරන අවස්ථාවයේ ශරත් කාලයේ පිත්ත ශූල වැඩියම වේ.

**ප්‍රතිකාර**
**Treatment**

පිත්ත ශූලයෙහි සිසිල් දේ යොදන්නේ ය. පුරාණ උක් හකුරු, ඇල් හාල් ආහාර, බාර්ලි, කෑත, විරේචන මෙහි යෝග්‍ය යි. i දුම්මැල්ල, කොමඩු අඹරා කිරට හෝ ඇල් දියට බහා දී වමනය කර වන්නේ ය. සිසිල් දියේ නෑම, ගංගා තීරයෙහි සීත සුලං සෙවීම

ආදිය යෝජ්‍යය යි. බාර්ලි හැඳුණු ජලය හොඳට පිඹුණු කල මීපැණි මිශ්‍ර කොට බොන්නේ ය. පිත් උණ, වමන, දහ, ශූල ආදිය නසා. ii කොත්තමල්ලි චූර්ණය මීපැණියෙන් ලේහ කරනු. iii උදය කාලයෙහි මීපැණි සමග හකුරු ... ශූල බොන්නේ ය. iv ... අල, වැල්මී, බැබිල, කුශ තණ (ඉළුක් යන හැඟි යි) ... , උක් හකුරු, මීපැණි, සමග ... මුත්, දිවිලි, පිත්ත ශූල, දහ ... උණ නසා ලන්නේ ය.

**කඵජ ශූලයෙහි ලක්ෂණ :—** (Symptoms of Kapaja Sula) සෙම්න් හටගත් ශූලයෙහි වමන වේග, කාස, දේහයාගේ අවසන්නතා, අරුචි, කටට කෙල ඉනීම, කුක්ෂියෙහි තදගති, හිසෙහි බර ගතිය, ආමාශයෙහි ශූල වේදනා ඇති වේ.

**ප්‍රතිකාර Treatment** සෙම්න් උපන් ශූල රෝගයෙහි වමන, ලංඝන, ශිරෝ විරේචන, සුරා, මීපැණි, ගෝධුම (=තිරිඟු) බාර්ලි, අරිෂ්ට වර්ග, ගෝ මූත්‍ර ආදි සර්වප්‍රකාර රූක්ෂ කටුක ද්‍රව්‍ය හිතවත් ය.

i තිප්පිලි, තිප්පිලි මුල්, සිවිය, රත්නිටුල් මුල් (කොත්තමල්ලි සහ සුතුසි), ඉඟුරු යන මෙයින් සෑදූ පේයාව පානය කරන්නේ ය. ගින්න වඩා, ශූල නසා

ii ඉහත කී යවාගුවේ ද්‍රව්‍ය, සහිඳ ලුණු, සුවස ලුණු, බලල් ලුණු, පෙරුංකායම්, සමභාග කොට කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය. ගින්න දල්වා, සෙම්ශූල, ප්‍රතිශ්‍යා, කාස, ශ්වාස (=ඇදුම) නසා.

iii කලාදුරු අල, වදකහ, කටුකරෝසන, අරළු, සිවිය මුල්, සමභාග - චූර්ණය ගෝ මූත්‍ර සමග දෙනු. ආම දෙස් පැසවා ශූල නසා

**ආමජ ශූල :—** (Amaja Sula Pain) උදරයෙහි ගුඩ ගුඩ ශබ්ද පැවතීම, වමන වේග, වමන, ශරීරයෙහි බර බව, ශරීරය තෙම්බූනාක් වැනි බව, මලමූත්‍ර නො පැවැත්ම, කඵජ ශූලයෙහි ලක්ෂණ යන මේවා ආමජ ශූලයෙහි ඇති වේ.

**ආමජ ශූලයෙහි ප්‍රතිකාර :—** ආමජ ශූලයෙහි දී ද කඵජ (=සෙම්න් උපන්) රෝගයෙහි දී කරන චිකිත්සා ම යොදන්නේ ය. අසමෝදගම්, සහිඳ ලුණු, අරළු, ඉඟුරු කුඩ ගෝ මූත්‍ර සමග දෙන්නේ ය.

**ද්වන්ද්වජ ශූල :—** (Sula Born of Two Faults) වාත ශ්ලේෂ්මජ ශූලයෙහි වේදනාව වස්ති, හෘදය, පාර්ශ්ව, පෘෂ්ඨයෙහි වේ. පිත්ත ශ්ලේෂ්මජ ශූලයෙහි කුක්ෂි (=උදරය), හෘදය, නාභි

දෙශයෙහි වේදනාව ඇති වේ. වාත ශෙෂගාමික ශූලයෙහි පෙර කී වාත, පිත් දෙකෙහි ම වේදනාව දෙන ස්ථානවල වේදනාව පවතී. එහි අතිශයින් උණ හා දැවිල්ලත් පවතී.

**වාත පිත්තජ ශූල චිකිත්සා:-** (Treatment of Vata-Pittaja Sula Pain) වා, පිත් ශූලයෙහි වාතනාශාදී කසාය (උණෙහි සන්නිපාතයෙහි කියවුණු) හෝ දුරු පඞ්වාදී ක්වාථය හෝ දෙන්නේ ය. එසේ ම වා පිත් හුණෙහි කසාය ද දිය යුතු.

**පිත්ත ශ්ලෙෂ්මජ ශූල චිකිත්සා:—** (Treatment of Pitta Shleshmaja Sula) සෙම් ශූලයෙහි ද, පිත් ශූලයෙහි ද දක්වූ දේ මිශ්‍ර කර පිත් සෙම් ශූලයෙහි යොදන්නේ ය. i. දුම්මැල්ල, තිප්ල, කොහොඹ පොතු කසාය හෝ මූත්‍ර බහා දීමෙන් පිත් සෙම් ශූල වමන, දැවිලි, උණ ආදිය නසා.

**වාත ශ්ලෙෂ්මජ ශූල චිකිත්සා :—** (Treatment of Vata Kafaja Sula Pain) සුදුලූනු, මද්‍ය, උදය කාලයෙහි භාවිත කරනු. වා සෙම් දෙකට දක්වූ ද්‍රව්‍ය වෙන වෙන ම හෝ මිශ්‍ර කර හෝ හෝ මූත්‍ර සමග හෝ මද්‍ය සමග හෝ යොදන්නේ ය.

**ත්‍රිදෝෂජ ශූල ලක්ෂණ :—** (Symptoms of Sula Pain Born of Three Faults) ඉහත දක්වූ දෙදොසුන් තුනෙන් ම ලක්ෂණ ඇත්තා වූ භයානක වූ ශූල රෝගය, ත්‍රිදෝෂයෙන් හටගන්නේ ය. සක් අළු මඤ්ඤාඩි 5 යි, සහිඳ ලුණු කලං $\frac{1}{8}$, ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි කලං $\frac{1}{2}$ බැගින්, පෙරුම්කායම් මඤ්ඤාඩි 2 යි, උණු වතුරට දිය කර දෙනු. සන්නිපාත උණෙහි කියමි කසායයන් හෝ මූත්‍ර බහා කසාරා දෙන්නේ ය.

**පරිනාම ශූලය:—** (Symptoms of Parinama Sula) පරිනාම 'ශූල්' රෝගය ද වාතාදී දොෂ තුනෙන් ම වන්නේ ය. භුක්ත ද්‍රව්‍ය පරිපාක (=පැසෙන) කල්හි 'ශූල' (=වේදනා) දෙන්ට පටන් ගනී. වාත පරිනාම ශූලයෙහි බඩ පිපුම, උදරයේ වායු ගමන් කරන ශබ්ද, මල මූත්‍ර බද්ධ ආදිය ද පිත් පරිනාම ශූලයෙහි දාහ ආදී ගති ද, සෙම් ශූලය වමං තද හැකි ව ද පවතී.

**පරිනාම ශූලයෙහි ප්‍රතිකාර :—** පරිනාම ශූලයෙහි වමනය, ලංඝන, විරේචන, වස්ති ක්‍රියා යොදනු. ජරණ කසායය (වාත රෝග අධ්‍යායයේ ඇති) යොදන්නේ ය.

**අන්න ද්‍රව ශූලය :—** (Anna Drava Sula) හා ආහාර දිරන කාලයෙහි ද, දිරූ පසු ද, නො පැසෙන කාලයෙහි ද ඇති වන ශූලය අන්න ද්‍රව ශූලය යි. කොයි ආහාරයකින් වත් ගුණ අගුණ නො පෙනේ.

ප්‍රතිකාර
Treatment

අන්න ද්‍රව ශූලයෙහි වමන, විරේචන කරන්නේ ය. මුව අං සැවූ කාර එය ගණම කාර රති 1 බැගින්, ගිතෙලින් ලේහ කරන්නේ ය.

## සියලු ශූල රෝගයන්ට සාධාරණ ප්‍රතිකාර

විඩංගාදි මෝදකය :— වලකසාල්, ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, තිරස්සවලු, දන්ති, රත්නිටුල් මුල් සමභාග චූර්ණ කර, චූර්ණය මෙන් දෙගුණයක් උක් හකුරු, මිශ්‍ර කර මෝදක කරනු. උණු ජලයෙන් කලං 1—2 දක්වා උදේ වළඳන්නේ ය. සියලු ශූල නසා. ශූල රෝගයන්ට 'මණ්ඩූර වටක' යෝග්‍යය. මණ්ඩූර යනු යබොර යි. මේ යබොර අවුරුදු 100 ට වඩා පරණ ඒවා ගත යුතු යි. කිසි සේත් අළුත්වා නො ගත යුතු යි. ඒවා ශාස්ත්‍රානුකූල ව ශුද්ධ කර බෙහෙත් තැනීමේ කෘත හස්ත භාවය ඇති දක්ෂ වෙදුන් ලවා තනවා ඔවුන්ගේ අවවාද අනු ව භාවිත කළ යුතු යි. 'අන්න ද්‍රව ශූල, සන්නිපාතික ශූල භයානක රෝග යි. ඒ නිසා ඒවා දක්ෂ වෙදුන් අතට ම භාර දිය යුතු.

## බෘහද් නාරිකෙල ඛණ්ඩ

පැසුණු පොල් හිරමනයකින් හොඳසාර සියුම් ව පලම් අටක් ගා ගෙන එය ගිතෙල් පලම් 5 කින් නියම ගණනට බදින්නේ ය. පොල් වතුර සේරු 16 ක් ගෙන, එහි සීනි රාත්තල් ¼ ක් දිය කරන්නේ ය. ඊට ගිතෙලින් බැදි පොල් ද ඉඟුරු, කුඩු පලම් ¼ ද කිරි සේරු 2 ද, බහා මඳ ගින්නෙන් හොඳව සිඳුවන්නේ ය. හොඳට ජලය සිඳුණු විට – උණ කපුරු, ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කලාඳුරු අල, තුරුඳු පොතු, කොල්ලන් කොළ, එන්සාල්, නාමල් රේණු, කොත්තමල්ලි, තිප්පිලි මුල්, ගජ තිප්පිලි, සුදුදුරු, කළුදුරු, පලම් ½ ය බැගින් දමා, මිශ්‍ර කර ගත යුතු යි. මෙය සතරෙන් පංගුවට ද බෙදා සාදා ගත හැකි යි.

මාත්‍රා :— කලං ½ ද. උදේ ව. ගැනීමෙන් ශූල, අම්ල පිත්ත, වමන, හෘද්‍රෝග, රක්ත පිත්ත, පරිනාම ශූල, සියලු ආකාර ශූල නසා. බල වඩයි: වාජීකරණ යි.

## හරීතකී ඛණ්ඩය

තිපල, කලාඳුරු අල, කොල්ලන් කොළ, එන්සාල්, නාමල් රේණු, අසමෝදගම්, ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කොත්තමල්ලි, සතපුෂ්ප, දේවදුරු, කරාබු නැටි කලං 3 බැගින්, තිරස්සවලු, සෙනෙහෙ කොළ පලම් 2 බැගින්, අරළු පලම් 8 යි. සීනි පලම් 32 යි. සියල්ල සුණු කරනු.

## ශූල රෝගයෙහි පථ්‍යාපථ්‍ය

### Diet & Forbidden Practice in Sula Pain

**පථ්‍ය**
**Suitable**

ශූල රෝගීන් කෙරෙහි වමන, ස්වේද, උපවාස, ගුද්‍යයෙහි වර්ති ප්‍රයෝග (=වැටි තැබීම), වස්ති ක්‍රියා, තීක්ෂ්ණ විරේචන, පැසවන ද්‍රව්‍ය, පරණ ශාලි (=හැල්) ධාන්‍ය, බාර්ලි, උණු කිරි, දුම්මැල්ල, පතෝල, මුරුංගා, සුදුළුනු, අඹ ගැට, බෙලි, දිවුල්, මුද්දිරප්පලම්, ලුණු, පෙරුංකායම්, සත පුෂ්ප, දුරු, මගී, එරඬු තෙල්, උණු ජලය, ඇඹුල්, මදුඹ, ලඝුපාක ද්‍රව්‍ය (=ඉක්මනට දිරවන ද්‍රව්‍ය), යවකාර ලුණු යන මේවා හිතවත් ය.

**අපථ්‍ය**
**Unsuitable**

ශූල රෝගීන් කෙරෙහි විරුද්ධ අන්නපාන (=එකකට එකක් විරුද්ධ වන දේ), රෑ නිදි මැරීම, විෂම භෝජන (=දිරන්ට ප්‍රථම - පිට පිට ආහාර ගැනීම ආදිය), රූක්ෂ, තික්ත, කසාය ද්‍රව්‍ය, ව්‍යායාම, ස්ත්‍රී ප්‍රසංග, මද්‍ය, පරිප්පු, ජාඩි, කරවල, තල, වේග ඉසිලීම, ශෝක, ක්‍රෝධ යන මේවා අහිත කර ය.

## උදාවත් - ආනාහ

### Intestinal and Other Kinds of Obstruction

**උදාවත් නිදානය**

අධෝවායු, මල, මූත්‍ර, කිඹිසුම්, කඳුළු, ඇනුම්, උද්ගාර, වමන, ශුක්‍ර, ක්ෂුධා, තෘෂ්ණා, දීර්ඝ ශ්වාස, නිද්‍රා යන සියල්ලේ වේග ඉසිලීමෙන් උපදින්නා වූ රෝග සමූහය උදාවර්ත නම් වේ.

**ප්‍රතිකාර**
**Treatment**

සියලු ම උදාවර්තයන්හි වාතය නියම විධියට සලස්වන්නේ ය. වා නසන ගුලී, කල්ක යොදනු. වාත නසන තෙල් ගල්ලනු. පොවනු. වස්තියෙහි යොදනු. ස්වේද කර්ම (=තැවිලි) කරනු ඵලවර්ති යොදනු.

අධෝ වාත නැවැත්වීමෙන් වන උදාවර්තයෙහි තෙල් පිම, ස්වේද, ඵලවර්ති, වස්ති ප්‍රයෝග යෙදිය යුතු යි.

**ඵල වර්ති :—** කුකුරුමුවන් ගෙඩි, තිප්පිලි, සුවඳ කොංවවත්, වදකහ, අබ, මේවා එක තරම් ගෙන, සිහින්ව අඹරන්නේ ය. මේවා සියල්ලට සමාන ව, උක් හකුරු ගෙන බඳුනේ දිය හර උණු කර උණු වූ පදමට, කිරි ටිකක් හා පෙර කල්කයත් දමා, ඒවා අනා වැටි කීපයක් තනනු. මෙය වස්ති මාර්ගයේ යොදනු. සියලු උදාවර්ත ගුණ වේ.

මල නැවැත්වීමෙන් වෙනෙන් උගත් උදාවර්තයෙහි විරේචන බෙහෙත්, තෙල් බීම, තෙල් ගැල්වීම, ඵලවර්ති, වස්ති ක්‍රියා යොදන්නේ ය.

'මල මුත්‍ර' දෙක ම නැවැත්වීමෙන් වූ උදාවර්තයෙහි ගට ඝී ඵලවර්ති (ගුළි) යොදනු. මා නසන පොවටනියෙහි තබනු. සෙවද කාම් කරනු. තෙල් වස්ති යොදනු.

| | | |
|---|---|---|
| හාරියක මෙකලුය අවුන්ස | | 2 |
| එඬරු තෙල් | " | 2 |
| ටර්පැන්ටයින් | " | 1 |
| පෙරුම්කායම් උණු වතුරේ දිය කර අවුන්ස | | 1 යි. |

මෙය වස්තියෙහි යොදන්නේ ය.

**මූත්‍රවලින් වූ උදාවර්තයෙහි :—** කුඹුක් පොතු කසායට පුහුල් ඇට කුඩු, යවක්ෂාර චූර්ණ දමා දෙනු. පුහුල් යුසට සීනි දමා දෙනු. කුප්පමේනිය, ඔලිඳ කොළ, ආඹා තෝඹා කොළ, වැල් පෙනෙල කොළ කොටා පොට්ටනි බැඳ වායු නසන තෙල් ගල්වා රත් කර තවනු.

**ඈනුම වැළැක්මෙන් වූ උදාවර්තයට :—** වාත තෙල් සෙවද කම් යොදනු.

**කඳුළු වැළැක්මෙන් වූ උදාවර්තයට :—** අංජනම් යොදනු.

**වමන නැවතීමෙන් වූ උදාවර්තයට :—** විරේක හා තෙල් ඇතිල්ලීම කරනු.

**බඩගිනි වැළැක්මෙන් වූ කල :—** තල තෙල් ටික ටික ආහාර සමග දෙනු.

**ආශ්වාස ප්‍රශ්වාස නැවතීමෙන් වූ උදාවර්තයට :—** මස් රස දෙනු.

**නිදි වැළැක්මෙන් වූ කල :—** කිරි කෝපි, සීනි දෙනු.

**තිලුණු දේ කෑමෙන් වූ කල :—** (බෙහෙත් කෑමෙන් වූ කල) පෙරුංකායම්, මීපැණි, සඳිද චූර්ණ, මෙයින් කතා ගත් වැටි වස්තියෙහි තබනු.

"මූඩමකත මුල්, සුදුළූනු, උළුහාල්, වැල් පෙනෙල මුල්, අරළු, සුරුංගා කොළ කසායට - එඬරු තෙල්, යවක්ෂාර චූර්ණ දමා දෙන්නේ ය. සියලු ආකාර උදාවර්ත නසයි." මීට එඬරු තෙල් අගක් කර විරේක ගුලියක් හා ගිතෙල් ද දමා දිය හැකි යි.

**ආනාහ**
**Anaha**

ආහාරයෙන් උපන් අපක්ව (=නො දිරුණු) රස හා මල අන්ත්‍රයන්හි රැස් ව, වායුව නිසි මෙන් පහළට නො යවා, ඇති වන රෝගය ආනාහය යි. තෘෂ්ණා (=පිපාසා) ප්‍රතිශ්‍යා, මස්තකයෙහි රුජා, ආමාශයෙහි වේදනා, බර බව, හෘදයෙහි තද ගතිය, උද්ගාර නො වීම යන ලක්ෂණ මෙහි ඇති වේ. මල රැස් වූ ආනාහයෙහි විශේෂයෙන් කටි, පෘෂ්ඨයන්හි තද ගතිය ද, මල මූත්‍ර වැළැක්මෙන් වූ ආනාහයෙහි ශූල, මූර්ඡා, පුරීෂ වමන (=මල මිශ්‍ර වමන), ශෝථ, ආද්මාන (=බඩ පිපුම) හා වාත නිරෝධය ද ඇති වේ.

**ආනාහ චිකිත්සා**
**Treatment of Anaha**

උදාවර්ත රෝගයෙහි ප්‍රතිකාර මීට ද යෝග්‍ය ය.

i. තිරස්සවලළු කලං 2 යි, තිප්පිලි කලං 4 යි, අරළු කලං 5 යි, සියල්ල බරට උක් හකුරු චූර්ණ කරනු. **මාත්‍රා** :— කලං 1—1½ දක්වා. ද. දෙ. ව. උණු වතුරෙන් දෙන්නේ ය. ප්‍රබල ආනාහ නාශ.

ii. වදකහ, අරළු, රත්නිටුල් මුල්, යවක්ෂාර ලුණු, තිප්පිලි, අතිවිඩයන්, සුවඳ කොට්ටන්- සමභාග චූර්ණ කරනු. උණු වතුරෙන් සැනීමෙන් දරුණු ආනාහ, මූත්‍රවාත (=නො මග ගිය වාත) නාශ ලසි.

iii. **වර්ති** :— තිකුළු, සහිඳ ලුණු, එළ අබ, වියන් දුම්මල, සුවඳ කොට්ටන්, කුකුරුමුවන් කෙඬි කලං ½ බැගින්, මීපැණි අවුන්ස 2 (මේස හැන්දෙන් 4) යි, උක් හකුරු කලං 4 යි, සියල්ල දිය කර වැටි පදමට සකාරා වැටි කීපයක් තනනු. මේ වැටි ආනාහ, ආද්මාන (=බඩ පිපුම) උදාවර්ත රෝගයන්හි තබන්නේ ය.

i. තිත්ත වැටකොළු ඇට, කටඹිටුවා ඇට කල තෙලෙන් අඹරා නාභියෙහි ගල්ලනු. විරේක වේ. පපුවේ ගානු. වමනය වේ.

ii. කොල පතුක් මුල්, කැප්පිටියා මුලේ පොතු, පෙනෙල දළු, මුඩමහන මුල්, ජාපාල ඇට, කොට්ට පොල් එකට කොටා, එඬරු තෙලෙන් අනා වණ්ඩුවේ තම්බා මිරිකා, නාභියේ ගානු. විරේක වේ. මුත්‍ර ඇරේ.

## උදාවර්ත ආනාහ දෙකෙහි පොදු කසාය.

i. තිරස්සවලළු, දන්ත, සාරණ, අරළු, තෙල්ලි කසායට පෙරුන්කායම් කුඩු, යවක්ෂාර ලුණු දමා දෙන්නේ ය.

ii. අරළු, සුදුලූනු කසාය එඬරු තෙල් දමා දෙන්නේ ය.

iii. අරළු, තිප්පිලි, කරජ්ජෙශා, අරත්ත, තිරස්සවලළු, එබරු, සහරණ, ආඹුනොරා, කබලි පාෂාණ – එබරු තොල් දමා දෙන්නේ ය. වාතය අනුලෝම වේ.

iv. තොල පත්‍රයේ මල්, කැප්පිටියා පුම්ල, සපතල තොල, පෙරුංකායම්, කුම් කැට තොරා වශ්‍යුමෙන් තම්බා තිරිකා, විරේක ඉලියස් කොට එබරු තොල් දමා දෙන්නේ ය.

**උදාවති රෝගයෙහි පථ්‍ය :—** ස්නිග්ධ ස්වේද, විරේචන, වස්ති ක්‍රියා, ඵලවර්ති, තෛලාදී මර්දන, ගෝමූත්‍ර ආදී වාත සමනය වන ද්‍රව්‍ය – එරබු තෙල්, සතෙහෙ තොල, තිරස්සවලළු, කළුතල, මුරුංගා තොල, ඉඟුරු, යවක්ෂාර ලුණු, අරළු, කරාබු නැටි, පෙරුංකායම්, මුද්දරප්පලම්, සහිඳ ලුණු ආදිය උදාවති රෝගයෙහි පථ්‍ය යි.

**උදාවර්තයෙහි අපථ්‍ය :—** වමන, මලමූත්‍රාදී වේග ධාරණ, ඉක්මනට නො දිරන ධාන්‍ය, මාංස, උඳු, දිමේ හැළෙන වර්ග, අල වර්ග, පිෂ්ටක වර්ග, කෂාය ගුරුපාක ද්‍රව්‍ය සියලු උදාවති රෝගයන්හි අපථ්‍ය යි.

**ආනාහ රෝගයේ පථ්‍ය :—** උදාවතියෙහි පථ්‍ය, ලංඝන, පාචන (=පැසවීම) ආදි උපක්‍රම ඇති ව යොදන්නේ ය.

**ආනාහ රෝගයේ ද අපථ්‍ය :—** උදාවති රෝගයෙහි දක්වන ලද්ද ම ය.

## ගුල්ම රෝගය

### Neurasthenic Tumours

**නිදානය**
**Cause**

වාතාදි දෙෂත්‍රය, අනුචිත ආහාර විහරණාදියෙන් අතිශයින් කිපී, කොෂ්ඨ මධ්‍යයෙහි (=අභ්‍යන්තරයන්හි) ග්‍රන්ථික ස්වරූප (=වාතාදියෙන් ගුලි කිරීමේ ස්වභාවය ඇති) - රෝගයක් උත්පාන වේ. ඊට ගුල්ම රෝගය යි කියත්. එය පස් අයුරකින් බෙදේ. පාර්ශ්වද්වය (=ඉල ඇට ඇති දෙපස), හෘදය, නාභි, වස්ති යන මේ පසළොව ස්ථානය ගුල්මයට වාසස්ථාන යි. ඉහළින් හෘදය දෙශයේ සිට වස්ති දෙශය දක්වා, ගුල්මය හැසිරේ. විටෙක ගුලි අංකාර ව ද, විටෙක බොහෝ තද ව ද, විටෙක දික් ව ද මෙය පිහිට යි.

**භේද**
**Divisions**

වාතික, පෛත්තික, ශ්ලෛෂ්මික, සාන්නිපාතික ය යි සතරෙක් ද – ස්ත්‍රීන්ට පමණක් ගිම් රක්ත ගුල්මය යි නව එකක් ද වෙයි. ගුල්මය සම්පූර්ණයෙන් වැඩුණු කල අරුචි, මල මූත්‍ර අධෝ වායු දුකසේ පැමැයීම, බඩවැල් ශබ්ද වීම, ආනාහ, ආද්මාන (=පිඹුම) ආදි ලක්ෂණයෝ පහළ වෙත්.

**ගුල්ම චිකිත්සා**
**Treatment of Gulmas**

ගුල්මයෙහි පළමු කොට වාතය සමනය වන ප්‍රතිකාර යොදනු. වාතුව ජයගත් කල අන් දෙස් නිතැතින් ම සමනයට යෙයි. ස්නේහන (තෙල්පාන ප්‍රයෝග), ස්වේදන, නිරූහන, අනුවාසන, විරේචන, වමන, ලංඝන, බෘංහණ, ශමන, රසායනවෘෂ්‍යවන, අග්නි කර්ම යන ක්‍රියා ගුල්මයෙහි කටයුතු යි. ඒ නිසා මේ කටයුතු කිරීමට දක්ෂ වෛද්‍යයකුට රෝගියා භාරදිය යුතු යි.

**වාත ගුල්මය**
**Vatika Gulma**

එක ස්ථානයක නො සිට ස්ථාන වෙනස් වන්නා වූ ද - හැඩය - ප්‍රමාණය වෙනස් වන්නා වූ ද වාත ආබාධ ඇත්තා වූ ද ගුල්මය වාත ගුල්මය යි

**වාත ගුල්මයෙහි ප්‍රතිකාර**
**Treatment of Vatika Gulma**

අරළු කුඩු කලං 1½ ක් ගෝමූත්‍ර පතකට දමා දී විරේචන කරවන්නේ ය. i. සර්ජිකාර (Carbonate of Soda) - සුදු කොට්ටන්, කලං ½ බැගින්, වැටකොළු බොඩ අළු කලං 1 යි, මිශ්‍ර කර තල තෙලෙන් දෙනු මාත්‍රාව :— කලං ½ යි.

**පිත්තජ ගුල්ම**
**Pittaja Gulma**

උෂ්ණ, පිපාස, සමස්ත ශරීරයෙහි - විශේෂයෙන් මුහුණෙහි ලෝහිත වර්ණ, ආහාරයාගේ පරිපාකාවස්ථාවෙහි අත්‍යන්ත වේදනා, දහඩිය දැමීම් ආදි පිත්ත විකාර, පිත්ත ගුල්මයාගේ ලක්ෂණ යි.

**පිත්ත ගුල්මයෙහි චිකිත්සා**
**Treatment of Pittaja Gulma**

පිත් ගුල්මයෙහි මෘදු විරේචන කට යුතු යි. ඝෘත පානය ද මෙහි හිත යි. මහා තික්තක ඝෘත, පඤ්ච තික්ත ඝෘත ආදිය මෙහි යෙදීම් යෝග්‍යය යි.

පිත්ත ගුල්මයෙහි තිපල් කසාය තිරස්තවලළු කුඩු සමඟ හෝ, මුද්දිරප්පලම් යුෂ සහිත ව හෝ යොදන්නේ ය. අරළු හා උක් සකුරු ද යෝග්‍ය යි.

පිත්ත ගුල්මයෙහි ලකුණු දුටු විට, විශේෂයෙන් ශල්‍යාංගය ද දන්නා වෛද්‍යයකුට භාරදිය යුතු යි. අක්මාවේ හා ප්ලීහාවේ විද්‍රධි ඇති වූ කල ද, දහ, ශූල වේදනා, නින්ද නැති වීම, අරුචි, උණ, දුබලීම, අතපය ගැසීම ආදි ලකුණු ඇති වේ. වහා ම දක්ෂ වෛද්‍යයකුගේ ආධාර ලබා ගත යුතු.

**කඵජ ගුල්ම**
**Kapaja Gulma**
**ලකුණු ය.**

සෙමේ කැස, සීත උණ, ගාත්‍රයන්හි අවසන්න භාවය, වමනය අවිය, කාස, අරුචි, ශරීරයාගේ බර ගතිය, අල්ප වේදනා, ගුල්මයෙහි කඨින භාවය යන ලකුණු සෙමින් උපන් ගුල්මයාගේ ලකුණු ය.

**කඵජ ගුල්ම චිකිත්සා**
**Treatment of Kapaja Gulma**

ප්‍රථම කොට සෙමින් උපන් ගුල්ම රෝගයෙහි සෙම් නසන ද්‍රව්‍ය යොදන්නේ ය. උපවාස, වමන, ඖෂධ ක්‍රියා කළ යුතු යි.

ගුල්මය ඇති තැන තල, මුරුංගා පොතු, එරඬු ඇට මද, අඹ, ගෝමූත්‍රයෙන් අඹරා ප්‍රලේප දෙනු.

පිප්පල්‍යාදී ගණයේ චූර්ණය ගෝමූත්‍රයෙන් දෙනු. එම කසාය ගෝමූත්‍ර බහා සිදු දෙන්නේ ය. තිපල්, තිකුළු කසාය ගෝමූත්‍ර බහා සිද්ධ කොට දෙන්නේ ය.

**පිප්පල්‍යාදි ගණය**:— තිප්පිලි, තිප්පිලි මුල්, සිවිය, රත්නිටුල්, ඉඟුරු, ගම්මරිස්, ගජ තිප්පිලි, වාල් මොලඟු, එත්සාල්, අසමෝදගම්, කොලිඳකාල්, දියමිත්ත, මුරුවාමුල්, අතිවිඩයන්, වදකහ, වලගසාල්, කටුකරෝසන යන මොහු පිප්පල්‍යාදි ගණය යි. සෙම් රෝග, ප්‍රතිශ්‍යා, කාස, වායු රෝග, අරුචි, ගුල්ම, ශූල, උගුරෙර් ශෝෂ නසයි. ආමය පැසවයි. ගින්න වඩයි. දෙස් දෙකකින් හෝ තුනකින් සැදුණු ගුල්ම සඟ පොදුවේ ගුල්මයන්ට ප්‍රතිකාර මෙහි පහත දක්වෙන ලෙස කට යුතු යි.

**වචාදී චූර්ණය** :— වදකහ 2 භාග, බලල් ලුණු 3 භාග, අරළු 6 භාග, ඉඟුරු 4 භාග, පෙරුංකායම් 1 භාග, රත්නිටුල් 7 භාග, අසමෝදගම් 5 භාග, සියල්ල චූර්ණ කරන්නේ ය.

**මාත්‍රා** :— කලං 1 සිට 1½ දක්වා ද. දෙ. ව. රා සමඟ හෝ මදු සමඟ හෝ ගෝමූත්‍ර සමඟ හෝ උණු දියෙන් හෝ, පිත්ත ගුල්ම යෙහි රසකිඳ, භාතාවාරිය, ඉරමුසු, කහබිලියා, බෝපොතු යුසින් හෝ දෙන්නේ ය.

**ගුණ** :— ගුල්ම, ආනාහ, උදර, ශූල, අශීස්, ශ්වාස, කාස, උණ නසා ලයි.

**ත්‍රිඵලාදි කවාථය** :— අරළු, බුළු, නෙල්ලි, සවර්ණක්ෂීරි (=රන් කිරි ගො කටු) වම් තාකා - ඇමරිය මුල්, ('නිල වාගේ' යයි ද්‍රවිඩ නාමවලින් ලබා ගත්තා වගීය වබා

කොදසි.) හොට දිඹුලා මුල්, සපුෂ්ප (=මුව මහන) කටුකරෝසන, සීරුස්සවලලු, තිප්පිලි කසාය හෝම්බුග බලා සහාරා සහිදලුණු බලා දෙන්නේ ය. නැතහොත් එය සමභාග ගෙන, සහිද ලුණුත් සමග චූර්ණ කර චූර්ණය උණු වතුරෙන් දෙන්නේ ය. සර්වප්‍රකාර ගුල්ම, උදර, ප්ලීහා(=පිලාළව රෝග), ශූල, අශීස්, ශෝථ(=ඉදිමුම) සමනය කෙරේ.

**ලවංගාදි චූර්ණය** :— කරාබු නැටි, දන්ත මුල්, සීරුස්සවලලු, අසමෝදගම්, කුහුරු, වදකහ, කොත්තමල්ලි, රත්නිටුල්, තිපල, තිප්පිලි, කටුකරෝසන, මුද්දරප්පලම්, සිවිය, නෙරෙන්චි, යවක්ෂාර ලුණු, එන්සාල්, සොරාසාති, කොළිඳ සමභාග - කුඩු කර උණු දියෙන් දෙනු. රූජා, දූවිලි සහිත වූ ගුල්ම, අශීස්, ශෝථ, ආම වාත, සියලු උදර නසයි.

**රක්ත ගුල්මය**
**Tumours in the Womb**

ස්ත්‍රීන්ගේ ගර්භාෂයෙහි ගුලියක් ආකාර නැඟී වැඩෙන ගුල්මයකි. මාස් පතා ඍතු වීම වළකී. ගර්භ සහිත පාදාදියෙහි වේදනා ඇති වේ. දරු ගැබිනාවි බඳු ලක්ෂණ ද ඇත්තේ වේ. කිරි ද තන් පුඩුවල පූර්ණත්වය ද වේ. මෙය දශ මාසයකින් පසුව ප්‍රතිකාර නියම කරන ලද රෝගයකි. මෙසේ ඇති වූ විට දක්ෂ වෛද්‍යයකුගෙන් සියලු ආධාර ලබාගත යුතු යි.

**ගුල්ම රෝගයෙහි පථ්‍ය** :— ස්නේහන, ස්වේද, විරේචන, වස්ති ප්‍රයෝග, උපවාස, ගුය්‍යමයෙහි වැටි තැබීම, තෛලාදි අභ්‍යංග (=ඇඟ තෙල් ගැල්වීම), ස්නෙහ ප්‍රයෝග, රත්හැල්වලින් පිසූ ආහාර, කොල්ලු සූප, සුරා, එළකිරි, එළුකිරි, මුද්දරප්පලම්, උගුරැස්ස, ඇපල්, රට ඉඳි, දෙළුම්, හෙල්ලි, සීනි නාරන්, ඇඹුල් දොඩම්, මෝරු, එරබදුතෙල්, ගෝමූත්‍ර, සුදුළූණු, මුරුංගා ආදී සිතිළු, පුෂ්ටි කර ලඝු ද්‍රව්‍ය ගුල්මයෙහි හිතකර ය.

**ගුල්මයෙහි අපථ්‍ය** :— වා වඩන ද්‍රව්‍ය, විරුද්ධ භෝජන, මාංස, කරවල, වියලි මස්, නො කී මධුර සංයුක්ත ඵල, මුං, උඳු, අධෝ වාත වේග ධාරණ, මල වේග ධාරණ, ශ්‍රමජනිත ශ්වාස වේග ධාරණ, මූත්‍ර වේග ධාරණ, භ්‍රම ජනිත ශ්වාස වේග ධාරණ, අශ්‍රුවේග ධාරණ, වමන, ජලපාන, ගුල්ම රෝගයෙහි අහිත කර ය.

# හෘද රෝග

## Heart Diseases

**නිදානය**
**Cause**

අති උෂ්ණ, ගුරු, කෂාය, තික්ත භෝජන, පරිශ්‍රම, ආඝාත ප්‍රාප්ති, අධ්‍යශන (=පූර්වාහාර දිරවීට පළමු නැවතත් ආහාර ගැනීම), චිරන්තර චින්තා, මලාදීන් ගේ වේග ධාරණය යන කාරණාවන්ගෙන් කිපුණු වාතාදි දෝෂයෝ හෘදය ස්ථානය ආශ්‍රය කොට රස ධාතුව කෙලෙසා හෘද රෝග උපදවත්. වාතජ, පිත්තජ, කඵජ, ත්‍රිදෝෂජ (=සාන්නිපාතික), කෘමිජ ය යි හෘද රෝග පසෙකි.

**වාතජ හෘද රෝග ලක්ෂණ**
**Symptoms of Bayu Heart Disease**

හෘදය ඉඳිකටුවලින් විදින්නාක් මෙන් ද, දණ්ඩකින් පහරන්නාක් මෙන් ද, පලන්නාක් මෙන් ද වේදනා ඇති වන රෝග වාතජ හෘදය රෝගය යි.

**වාතජ හෘද රෝගයෙහි චිකිත්සා**
**Treatment of Heart Disease, Born of Vayu**

වාතජ හෘද රෝගයෙහි නාරායන, සිද්ධාර්ථ තෛලය, මීතෙල් ආදි වාතනාශක තෙල් වර්ග ගල්වා මෘදු තැවීමක් කළ යුතු. එසේ ම සුදුලූනු, උළුහාල්, කොත්තමල්ලි, ගම්මිරිස් තම්බා ගිතෙල් හා උක් සීනි දමා දිය යුතු. (ගම්මිරිස් අඩුවෙන් ද සුදුලූනු වැඩියෙන් ද ගත යුතු).

i. සුවඳ කොට්ටං, ලප්නාරන් මුල්, ඉඟුරු, හිඟුරු පියලි, අරළු, සමභාග - චූර්ණ කර, ලප්නාරන් යුෂ, කාඩි, කොල්ලු කසාය, දී කිරි, සුරා, ආසව යන මේ එකක් සමග දෙන්නේ ය.

ii. අරළු, වදකහ, අරත්ත අල, තිප්පිලි, ඉඟුරු, හිඟුරුපියලි, සුවඳ කොට්ටං, සමභාග චූර්ණ කරනු. මාත්‍රා :— මඤ්ඤාඩි 5 සිට මඤ්ඤාඩි 10 දක්වා උණු වතුරෙන් දෙන්නේ ය.

iii. සුදු පස් මුල, ඉඟුරු, කොත්තමල්ලි, බැබිල, කුඹුක් පොතු, තිප්පිලි, සුවඳ කොට්ටං කසාය දෙන්නේ ය.

**සංලක්ෂ්‍යය** :— ශාස්ත්‍රානුකූල ව පිළියෙල කළ මුව අං චූර්ණය, වරකට මිලිද ඇටයක බර ගිතෙල් සමග අනුභව කිරීමෙන් දරුණු හෘදය රුජා, පිළිවකි රුජා නසා. කුඹුක් කොළ තැම්බූ වතුර හෘදය රෝගයට යෝග්‍ය ය.

**පිත්තජ හෘද රෝගය**
**Heart Disease Born of Bile**

පෛත්තික හෘද රෝගයෙහි තෘෂ්ණා, දාහ, හෘදයෙහි බර ගතිය, මුළු ශරීරයේ ම වේදනා, දහඩිය දැමීම, අවයවවල බර බව, උගුරේ දුම් පවිලවන්නාක් වැනි බව, මූත්‍ර පත් වීම, මුව වියලි බව යනා ගති ඇති වේ.

**පිත්තජ හෘද රෝගයෙහි ප්‍රතිකාර**
**Treatment of Pittaja Heart Disease**

පිත් හෘද රෝගයෙහි ශීතල ප්‍රලේප, මෘදු විරේක කටයුතු ය. ඇද්දෙමට ගෙඩි, වැල්මී කෂාය, හුකුරු මුවන් ගෙඩි චූර්ණ, මීපැණි, සීනි, උක්හකුරු සමඟ දී වමනය කරවනු. මෙය දක්ෂ වෛද්‍යයකුගේ අවවාද පිට ම කර වන්නේ ය. වැල්මී, කටුකරෝසන චූර්ණය දීමෙන් විරේක කරන්නේ ය. ඊට පසු පිත නාශක කෂාය. ආහාර නාවීත කරන්නේ ය.

i. කුඹුක් පොතු, සුලු පස් මුල, බෑබිල, කොත්තමල්ලි කලං 12 ක් ගෙන, එළකිරි පතයි, වතුර පත 7 යි, පතට සිඳ සීනි සහිත ව බොන්නේ ය. පිත් උවදුරු නසා.

**කඵජ හෘද රෝගය**
**Heart Disease Born of Kafa**

හෘදයෙහි බර, ප්‍රතිශ්‍යා, කෙල ඉතිම, අරුචි, ජඩතා, අග්නි මාන්ද්‍ය, මුඛමාධුර්‍ය (=කට පැණි රස වීම), සෙමින් හටගත් හෘද රෝගයෙහි ලකුණු යි.

**කඵජ හෘද රෝගයෙහි චිකිත්සා**
**Treatment of Heart Disease Born of Kafa**

වදකහ කල්ක, වදකහ කෂාය, කොහොඹ කෂාය හෝ දී වමනය කරවා, වාත හෘද රෝගයට නියම තිප්පිලි එක චූර්ණය දෙන්නේ ය.

i. පිප්පල්‍යාදි චූර්ණය :— තිප්පිලි, එනසාල්, වදකහ, පෙරුංකායම්, යව ක්ෂාර (=යවකාර ලුණු), සහිඳ ලුණු, සුවඳ ලුණු, ඉඟුරු, අසමෝදගම්, චූර්ණය - ඇඹුල් දෙහි යුසින් දෙන්නේ ය. සෙම්, වා හෘද රෝග ද, එයින් උපන් අනාහ ගුල්ම ද නසා.

ii. තිරස්සමල්ලි, අරත්තක, බෑබිල, අරත්ත, ඉඟුරු, අරළු, සුවඳ කොට්ටං, මේ කෂාය ගෝමූත්‍ර මිශ්‍ර කොට දෙන්නේ ය. සෙමින් උපන් හෘදය රෝග නසා.

**ත්‍රිදෝෂජ හෘද රෝගය**
**Heart Disease Born of Three Faults**

ඉහයින් දැක්වූ දෙසුන්ගේ තුනෙහි ම ලක්ෂණ ත්‍රිදෝෂජ හෘද රෝගයෙහි ඇති වේ. ඇතැම් විට සාන්නිපාතික හෘද රෝගය ඇත්තා හෙතෙරෙහි හෘදය දෙශයේ ක්‍රිමීන් ඇති වෙයි. එය පණුවන් සෙවුමෙන් ක්‍රාමිජ හෘද රෝගය නම් වේ. එවිට වමන වේග, මුඛ ස්‍රාව, හෘදය ඉදිකටුවලින් අනින්නාක් මෙන් වේදනා, ශූල, අන්ධකාර දර්ශන, අරුචි, ශෝථ (=පපුවේ ඉදිමීම) යන ලක්ෂණ පහළ වේ.

**ප්‍රතිකාර**
**Treatment**

තුන් දෙසින් හැදුණු හෘදය රෝගයෙහි ලංඝනය කර, ඒ ඒ දෙසුන් නසන ආහාර පාන දිය යුතු ය.

පුෂ්කර මූල (=ලංකාවේ වනගත ප්‍රදේශවල වැඩී තිබෙන ඇට්ටේරිය මලට සමාන මල් ඇති ගින් වන ඉද්ද විශේෂය යි. මෙ නැත්නම් සුවඳ කොට්ටන් ගන්නේ ය.) මීපැණියෙන් ලේහ කරනු.

වෘහද් භාංගසාදි කසාය (=පුරාණ උණ අධ්‍යායයේ සඳහන්) පිප්පල්‍යාදි චූර්ණය යොදා දෙන්නේ ය. කුඹුක් පොතු කුඩු දමා දෙන්නේ ය.

**පාඨාදි චූර්ණය**

දියමිත්ත, වදකහ, යවක්ෂාර ලුණු, අරළු, අම්ල වේතස (=ගොරක), දුරාලභා (=කතුකිලියා මුල්), රත්නිටුල්, ඉඟුරු, තිප්පිලි, ගම්මිරිස්, බුළු, නෙල්ලි, ශටි (=අරත්තන), සුවඳ කොට්ටන්, සියඹලා පොතු, දෙළුම් මුලේ පොතු, ඇඹුල් දෙඩම් මුලේ පොතු- සමභාග චූර්ණ කරනු. උෂ්ණ දියෙන් දෙනු.

**මාත්‍රා** :— කලං $1\frac{1}{2}$ බැගින් ද, දෙ, ව.

**ගුණ** :— ගුල්ම, ශුෂ්ක අර්ශස්, ශූල, සකල හෘද් රෝග, අජීර්ණ, අග්නි මාන්ද්‍ය, සෙම් උණ, සන්නිපාත උණ, තවුමෝනියා උණ ද ශමනයට පමුණුවයි.

**ක්‍රිමිජ හෘද රෝගයෙහි** විළඟසාල්, සුවඳ කොට්ටන් කුඩු ගෝමූත්‍ර සමඟ දෙන්නේ ය. දී කිරි, පල ගුලි, සීනි ආදිය මුලින් දී **මානස හද් ශෝධනයෙන්** විරේක කරවන්නේ ය.

**උරෝ ග්‍රහ රෝගය**

අක්මාවත්, පිලාවත් අසළ ඇති අන්ත්‍ර මාංස, වෘද්ධි ප්‍රාප්ත වන රෝගය උරෝ ග්‍රහය යි. එහි පිටතින් කුම්භයකුගේ සෝ

සජීයකුගේ ස්වභාවය, පරීක්‍ෂා කිරීමේ දී දැන ගත හැකි වේ. ශරීරය පීත වර්‍ණවත් ව දුර්වල වේ. අග්නි මාන්‍ද්‍ය, දුර්වලතා, මස් කෑමෙහි ප්‍රිය බව ඇති වේ. උණ, අරුචි, පිපාසා, ඉදිමුම් ද ඇති වේ.

**ප්‍රතිකාර Treatment** සිවිය, ගොරක, පෙරුංකායම්, රත්කිඹුල්, සමභාග චූර්ණ කර, ගෝමූත්‍ර සමඟ හෝ රා සමඟ දෙන්නේ ය.

## හෘද් රෝගයෙහි සාධාරණ චිකිත්සා

### Treatment of Heart Disease (Common)

කුඹුක් පොතු, වදකහ, අරත්ත, බැබිල, බෙත් අතෝද මුල්, අරළු, හිඟුරු පියලි, සුවඳ කොට්ටං, තිප්පිලි, ඉඟුරු සමභාග චූර්ණ, ගිතෙල් සමඟ දෙනු. සියලු හෘදය රෝග නසා.

## හෘද් රෝගයෙහි පථ්‍ය අපථ්‍ය

### Diet & Forbidden Practice

**පථ්‍ය Suitable** ස්වේද, විරේචන, වමන, උපවාස, වස්ති ක්‍රියා, විලේප, පුරාතන රත්හැල්, මුං පුස, කොල්ලු පුස, පතෝල, කෙසෙල්, පැසුණු පුහුල්, ඉදුණු අඹ, දෙළුම්, ඇපල්, මසන්, එරබු තෙල්, වැසි ජල, සහිඳ ලුණු, මුද්‍රික, කිරිමෝරු, පුරාතන උක්හකුරු, කොත්තමල්ලි, ගම්මිරිස්, සුදුලූනු, මීපැණි, කස්තුරි, රත්හඳුන්, බුලත්, ලුණුමිල, නීරමුල්ලි, කුඹුක්, බෙත් අතෝද, බැබිල ආදිය හෘද් රෝගයෙහි පථ්‍ය යි.

**අපථ්‍ය Unsuitable** තෘෂ්ණා, වමන, මූත්‍ර, අධෝ වාත, ශුක්‍ර, කාස, උද්ගාර, ශ්‍රම ජනිත ශ්වාස, මල, මූත්‍ර, අශ්‍රු යන මොවුන්ගේ වේග ඉසිලීම, බැටළු කිරි, දූෂිත ජල, කෂාය රස, විරුද්ධ ද්‍රව්‍ය, උෂ්ණ ද්‍රව්‍ය, ගුරු ද්‍රව්‍ය, තික්ත ද්‍රව්‍ය, අම්ල ද්‍රව්‍ය, බහු දිව සොත්පන්න පත්‍ර ශාක, යවක්ෂාර, බිංගෙඩි, දන්ත ධාවන (=දෑහැටි භාවිතය) හෘද්රෝගයෙහි අපථ්‍ය යි.

## කොෂ්ඨ බද්ධය, මල බද්ධය හෙවත් බඩ එලිය යෑමේ ප්‍රමාදය

### CONSTIPATION

බඩ එලිය හොඳට නො යන්නේ නම්, බඩ වැලෙහි මල රැඳී නැවත ඒවා ලෙයට උරීමෙන් නානා විධ වාත ආබාධ ද, මූලයෙහි කිරි පණුවන් ඇතිවීම ද වෙයි. මෙය ඇතිවූ විට අරළු, වැල්මී කුඩු කර කලං 1½ ක් උණු වතුරෙන් යුතිරියේ සමඟ පානය

කරන්නේ ය. නැතහොත් අරළු කුඩු කළං 6 කි, සුකිරි කළං 6 කි, කැබිලි ගෙඩියකට දමා සවස පිහන්නේ නම්, උදේ කිප වරක් පෙරා බොන්නේ ය. අභයාදි මෝදකය හෝ මානිභද්‍ර මෝදකය හෝ පාවිච්චි කරන්නේ ය. ශරීරය හොඳට ශුද්ධ වී දවස් කීපයකට පසු මලබද්ධය නො සිදුවන පිණිස එළකිරි, ගිතෙල්, බටර්, ඔලිව් තෙල් හා රට ඉඳි, ඇපල්, පැණි දොඩම්, ඉදුණු කෙසෙල්, අන්නාසි, පැපොල්, අඹ ආදී පලතුරු පමණ දැන අනුභව කට යුතු යි. එක විට සියල්ල ම භාවිත නො කරන්නේ ය. නියම වේලාවලට දවස කට එක වර්ගයක් පමණ දැන අනුභව කරන්නේය. එවිට මලබද්ධය නැති වෙයි. තැම්බූ බෙලි, වට්ටක්කා, අර්තාපල්, ඉදුණු දිවුල්, ගම්මිරිස් කුඩු හා සීනි සමග දී කිරි ද යෝග්‍ය යි.

## පපුවේ ඇමීම

### Chest - pain

පපුවේ ඇමීමක් ඇති වූ විට වාතික හෘද රෝගයේ ප්‍රතිකාර කරනු. මධ්‍යම උණෙහි නියම දරුෂට්පලාදි කසාය පානය කරනු. 'බුද්ධරාජ ගුලිය' පපුවේ 'ඇමීමට' ඇති අනුපානයකින් බොනු. සුදුළූනු, ගම්මිරිස් ටිකක් දමා තම්බා, ප්‍රතිශ්‍යා ගති නො තිබේ නම් ගිතෙල් දමා ද, එසේ තිබේ නම් සීනි දමා ද දෙන්නේ ය.

## මූත්‍ර කෘච්ඡ්‍ර

### Strangury of Urine

'මූත්‍ර කෘච්ඡ්‍ර, මූත්‍ර ඝාත, අශ්මරී' ය යි මූත්‍ර පිළිබඳ රෝග තුනෙකි. මූත්‍ර කෘච්ඡ්‍ර නම් දුක සේ, වේදනා සහිත ව මූත්‍ර පැවැත්ම යි. 'මූත්‍ර ඝාත' යනු මූත්‍ර බද්ධය හෙවත් මූත්‍ර නො පැවැත්ම යි. අශ්මරී නම් මූත්‍රාශයේ ගල් ඇති වීමෙන්, අමාරුවෙන් මූත්‍ර පිටවීම යි.

මේ රෝග තුනට ම, එක එකට නියම කල බෙහෙත් යෝග්‍ය ය. විශේෂ වශයෙන් ම වුවමනා බෙහෙත් ද දක්වන්නේ ය. මූත්‍ර කෘච්ඡ්‍රාව ඇති වූ කල මෙහි පහත දැක්වෙන කසායක් සාදා දෙන්නේ ය.

i. හොරෙටඩු, නීරමුල්ලි, බෑබිල කසාය යවක්ෂාර ලුණු දමා දෙන්නේ ය. මූත්‍ර කෘච්ඡ්‍ර, මූත්‍ර ඝාත නසා.

ii. හරීතක්‍යාදි කසාය :— අරළු, හොරෙටඩු, ඇහැළ පොතු, පාෂාණ භේදී (=පොල්පලා හෝ අස්සපාත), දුරාලභා (=කසකිලිය මුල්) කසාය මී පැණි සමග යෙදීමෙන්, දාහ, වේදනා, මූත්‍ර විබද්ධතා,

මූත්‍ර කෘච්ඡ්‍ර නසා ලයි. ගර්භිණීන්ගේ මූත්‍රබද්ධාවලට ද ඖපසර්ගික මේහයට ද මේය යොදනු ලැබේ.

iii. **ශතාවර්‍යාදිය**:— හාතාවාරිය අල, කාශ (=වැලුක් මුල්) කුශ (=ඉළුක් මුල් ගත හැකියි), නෙරෙංචි, කිරිබඳු අල, ඇල් වී මුල්, කළු උක් මුල්, හෙනපිය අල කසාය නිවුණු විට සීනි, මීගෙන් දෙනු. දැවිලි ආදිය ඇති පිතින් උපන් මූත්‍රකෘච්ඡ්‍ර නසා.

i. 'පොල් පලා' කබලෙන් බැද කුඩු කර උණු වතුරෙන් දෙනු. ii. පුසුල් යුශ යවක්ෂාර ලුණු බහා දෙනු. මූත්‍ර ඝාත, මූත්‍ර කෘච්ඡ්‍ර නසා. iii. තිපල, වැල්මී, ඉඟිනි ඇට, රතුලූනු, ඉරිවේරිය මුල්, එන්සාල්, බැදි යවක්ෂාර ලුණු, බැදි පුසාර සමභාග ගෙන කුඩු කර කුඩු කලං $1\frac{1}{3}$ ක් තැඹිලි ගෙඩියට දමා, එය පැහෙන තුරු ලිපේ තබා පෙරා දෙන්නේ ය. මූත්‍ර ඝාත, මූත්‍ර කෘච්ඡ්‍ර, ප්‍රමේහ නසා. iv. අළු කාටුවැල් බටු යුෂ දෙනු. මූත්‍ර ඝාතයටත් (=අඩස්සියටත්) යෝග්‍යය යි.

**වාහද් ආමලකාද්‍යාදි කසාය** :— තෙල්ලි, මුද්දිරප්පලම්, වැල්මී, කිරිබදු අල, නෙරෙංචි, කුශ තණ (ඉළුක් ගත හැකි යි), කළු උක් මුල්, අරළු කසාය යවක්ෂාර ලුණු බහා දෙන්නේ ය. මූත්‍ර කෘච්ඡ්‍ර සහ එයින් උපන් දහ ආදි උපද්‍රව නසා.

i. නෙරෙංචි සහමුලින් ගෙන අඹරා ප්‍රලේප දමනු. ii වැල් පෙනෙල කොළ, කුප්පමේනිය කොළ, ඔලිද කොළ, අක්කපාන කොළ මෙයින් ලැබුණු දෙයස් මෙබිලුණු සමඟ අඹරා ප්‍රලේප (=පැලැස්තර) දමන්නේ ය.

**පථ්‍ය Suitable** පුරාතන රත්හැල්, යවක්ෂාර ලුණු, මෝරු, එළකිරි, දී කිරි, මුං යුෂ, සීනි, පැසුණු පුසුල්, පතෝල, රතුලූනු, නෙරෙංචි, කෝමාරිකා, රටඉඳි, කුරුම්බා, තල් කුණාටු, එන්සාල්, ශීතල අන්නපානීය, සීතල ජල, කපුරු, මූත්‍ර කෘච්ඡ්‍ර රෝගීන් හට හිත යි.

**අපථ්‍ය Unsuitable** මද්‍යපාන (ස්හැප්ස් බීර ආදී), පරිශ්‍රම, ස්ත්‍රී ප්‍රසංග ගමනය, අශ්ව ආරෝහණ, සකල ප්‍රකාර විරුද්ධ භෝජන, විෂමාශන, තාම්බූල භක්ෂණ, මත්ස්‍ය, ලවණ, අම්ලතුරු, තෙල ගැබ ද්‍රව්‍ය, කලඹුරු, පෙරුංකායම්, අඹ, මලමූත්‍රාදි වෙග ධාරණ, උඳු, උණ ගොඩපිලි අතිශය තීක්ෂණ විදාහි රූක්ෂ හා අම්ල රස සංයුක්ත ද්‍රව්‍ය ආදිය සියලු මූත්‍ර කෘච්ඡ්‍ර රෝගීන් කෙරෙහි අහිත ය.

# මූත්‍ර ඝාත

## Retention of Urine

මුත්‍ර නොයා පැවැත්ම හෙවත් අඩස්සිය මූත්‍ර ඝාතය යි. මූත්‍ර ත්‍රිවිජ්‍යාංශයෙහි දක්වුණු හරීතක්‍යාදී කසාය ද, පැසුණු පුහුල් යුෂ හා යවක්ෂාර ලුණු ද මාරුවෙන් මාරුව දෙන්නේ ය. කසාය පැය 6 න් වරක් වරක් දෙනු. මූත්‍ර පිට වන තුරු පුහුල් යුෂ, පොල්පලා යුෂ, අස්සපාන යුෂ ආදිය පැයෙන් පැය දෙනු. නෙරෙංචි, කොත්තමල්ලි තම්බා දෙනු. වාත නාශක තෙල් ගල්වා එඬරු කොළවලින් තවන්නේ ය.

i. තිපල, ඉඟිනි ඇට, රතුලූනු, ඉරිවෙරිය, සැවැන්දරා, වැල්පෙනෙල මුල්, පුස්කර බෑද - විත විත ගෙන අඹරා කැකිරි ගෙඩියක ඇතුලේ බහා, උණු අළුවෙන් එය තම්බා, මිරිකා බොන්ට දෙන්නේ ය.

ii. නෙරෙංචි, එරබදු මුල්, හාතාවාරිය අල, බහා කිරි කසාය සාදා දෙනු.

අධික ස්ත්‍රී ප්‍රසංගයෙන් මූත්‍ර මාර්ගයෙන් රුධිරය නික්මේ. එවිට මෛථුනයෙන් වෙන් ව බල කාරක ද්‍රව්‍ය දෙනු. තෙල්ලි, රසකිඳ, නෙරෙංචි කසාය හෝ කුඹ මීපැණියෙන් දෙන්නේ ය.

මූත්‍ර ඝාතයට මෙහි පහත දැක්වෙන කසාය ද යෝග්‍ය ය.

ඉඟිනි ඇට, එන්සාල්, සුදු හඳුන්, සුදුදුරු, කළුදුරු, සුදුළූනු, සැවැන්දරා මුල්, කළු උක් මුල්, නෙරෙංචි, බෙත් අතෝද මුල්, කසාය කර, යවක්ෂාර ලුණු, වෙඩි ලුණු දමා දෙන්නේ ය.

පථ්‍ය :— (Suitable) අභ්‍යඞ්ග, ස්වේද ප්‍රයෝග, විරේචන, වස්ති ක්‍රියා, ස්වේද, අවගාහන, උත්තර වස්ති, පුරාණ රත්හැල්, මෝරු, කිරි, දී, උඬු යුෂ, පැසුණු පුහුල්, පතෝල, වල් ඉඟුරු, තල් බොඩ, ඉඳි බොඩ, කොසෙල් බොඩ, අරළු, කුරුම්බා, රට ඉඳි, කෙසෙල්, දුම්මැල්ල, පිවුලු පලා, කුර, හාතාවාරිය අල ආදිය මූත්‍ර ඝාත රෝගියා කෙරෙහි පථ්‍ය යි.

අපථ්‍ය :— (Unsuitable) :— සකල ප්‍රකාර විරුද්ධ ද්‍රව්‍ය, ව්‍යායාම, නිරත පයින්වත, රූක්ෂ ද්‍රව්‍ය, විදාහි ද්‍රව්‍ය, විෂ්ටම්භි ද්‍රව්‍ය, ස්ත්‍රී ප්‍රසංග, මල මූත්‍රාදී වේග ධාරණ, උණු කිලිල්, වමන යන මේවා මූත්‍ර ඝාත රෝගියා කෙරෙහි අහිතකර ය.

# අශ්මරී

## Calculus or Stone

අශ්මරී යනු මුත්‍ර ගල් ඇඳෙන රෝගය යි. ශර්කරා (=මුත්‍ර වැලි) ඇති වූ කල මුත්‍ර මාර්ගයෙහි ඒවා රැඳී මුත්‍ර කෘච්ඡ්‍ර හටගනී. ශර්කරා (=වැලි) ලොකු වීමෙන් අශ්මරී හට ගනී. එම නිසා හෘද් පීඩා, කම්ප, කුක්ෂිදේශ ශූල, අග්නි මාන්ද්‍ය, මූර්ච්ඡා ආදී සකල ලක්ෂණ හටගනී.

**පරීක්ෂණය** :— මුත්‍ර ගෙන භාජනයක බහා අඩියට මිදුණු මණ්ඩි ගෙන තීන්ත පොවන කඩදාසියකට දමා වේලනු. වේලුණු පසු ඇඟිලිවලින් වැලි තිබේ දැයි අතුල්ලනු. වැලි තිබේ නම් අශ්මරී, ශර්කරා ඇති වීමේ ලකුණු යි.

**ප්‍රතිකාර**
**Treatment**

i. 'අක්කපාන' යුෂ පත ¼ බැගින් උදේ උදේ බොන්නේ ය. ii. පොල්පලා කැඳ දෙන්නේ ය. ඉහතින් දැක්වූ කසාය ද යෙදිය හැකි යි. තව ද විශේෂ කසාය කිහිපයක් මෙහි පහත දැක්වේ.

i. **ශුණ්ඨ්‍යාදි ක්වාථය** :— ඉඟුරු, මිදි මුල්, අක්කපාන, මුරුංගා මුල්, ලුණුවරණ මුල්, නෙරෙංචි, අරළු, ඇසළ පොතු (හෝ කරල්) කසාය, යවක්ෂාර ලුණු, පෙරුංකායම් සහිඳු ලුණු බහා දෙන්නේ ය. අශ්මරී, මුත්‍ර ඝාත, මූත්‍ර කෘච්ඡ්‍ර, කුක්ෂියෙහි වූ ද කටියෙහි වූ ද ඌරුවෙහි වූ ද, භග පීඨයෙහි වූ ද, ගුහ්‍යස්ථාන යෙහි වූ ද වේදනා නසා. පැසවයි, ගින්න දල්වයි.

ii. **වරුණාදි කසාය** :— ලුණුවරණ මුලේ පොතු කසාය, ලුණුවරණ මුලේ පොතු, උක් හකුරු අඹරා දමා බොන්නේ ය. මුත්‍ර ගල් දිය වේ.

iii. ඉඟුරු, ලුණුවරණ මුල්, නෙරෙංචි, අක්කපාන, කොවක්කා කොළ කසාය, උක්හකුරු, යවක්ෂාර ලුණු බහා බීමෙන් අශ්මරී, ශර්කරා, පිතෙහි ගල් නසා.

iv. **මහා වරුණාදි කසාය** :— ලුණුවරණ පොතු, ඉඟුරු, නෙරෙංචි, හින්තල් අල, කොල්ලු, කුශමුල්, කළු උක් මුල්, වැලුක් මුල්, හැවැන්දෑ මුල්, රම්බුක් මුල් කසාය යවක්ෂාර ලුණු බහා බොන්නේ ය. මූත්‍ර ශර්කරා, අශ්මරී (=ගල්), පිත්තාශයේ අශ්මරී නසා ලයි.

**ඒලාදි චූර්ණය** :— එනසාල්, තිප්පිලි, වැල්මී, අක්කපාන මුල්, වාල් මොලතු, නෙරෙංචි, ආඹාතෝඹා මුලේ පොතු, සමභාග - චූර්ණ කර උණු වතුරෙන් දෙනු. අශ්මරී නසා.

පාෂාණභේදාදී ඖෂධ :— අස්සපාත මුල්, ආඹාපෝඹා මුල්, තොරෙසැඹි, දියමිත්ත, අරළු, ඉඟුරු, තිප්පිලි, ගම්මිරිස්, හිඟුරු පිපලි, දන්ත මුල්, අසමෝදගම්, ඇල් බී මුල්, හැකිරි ඇට, දේවදුරු ඇට, කළුදුරු, සේරුහාගම්, කොරස, බදබටු, බුබමගත මුල්, සමභාග චූර්ණය, පොල්පලා (=පුස්පැන්න) සුෂින් හෝ එම කසා යෙන් දෙන්නේ ය. මූත්‍ර ඝාත, මූත්‍ර කෘච්ඡ්‍ර, මූත්‍රාශ්මරී, පිත්තාශ්මරී නසා.

**අශ්මරී රෝගයෙහි පථ්‍ය :—** වස්ති ක්‍රියා, වමන, විරේචන, උපවාස, සේවද, අවගාහන (=උණු වතුර බාල්දියේ හිඳීම), ජල සේචන, බාර්ලි, කොල්ලු, පුරාතන හැල් ධාන්‍ය, මද්‍ය, පැසුණු පුසුල්, තොරෙසැඹි, පොල්පලා, ලුණුවරණ, අක්කපාත, තුඹ කරවිල, ඉඟුරු, යවක්ෂාර ලුණු, උණු සහල්, ශිලාජතු, එන්සාල් ආදිය අශ්මරී රෝගයෙහි පථ්‍ය යි.

**අශ්මරී රෝගයෙහි අපථ්‍ය:—** මූත්‍ර-ශුක්‍ර වේග ධාරණ, ඇඹුල් ද්‍රව්‍ය, විරුද්ධ අන්නපාන ආදිය අපථ්‍ය යි.

## ප්‍රමේහය

### Kidney & Urinery Disease

ශාරීරික කොටස් ද්‍රව ව මූත්‍ර සමග මූත්‍ර මාර්ගයෙන් වැගිරෙන්නේ මේහය යි. මේහය ඇති වීමෙන් ශාරීරික යන්ත්‍රය යේ ඇති වන රෝගය 'ප්‍රමේහය' නම් වේ.

නිශ්චිතතා භාවේ කේවල මාත්‍ර උපවේශන ජනිත සුඛානුභව යෙන් ද නිද්‍රා සුඛයෙන් ද දධි, දුග්ධ (=කිරි), ග්‍රාම්‍ය ඖදක ආනූප (=සජල දේශ ජාත වරාහ කච්ඡපාදී), මාංස රස, නූතන අන්න පානීය, ක්ෂීර ජාතීය ඛාද්‍ය හා දෙස් කිපෙන ද්‍රව්‍ය අනුභවයෙන් ද ප්‍රමේහ රෝග උපදවයි.

ස්ත්‍රී ප්‍රසංග, හදිස්සියේ අලංග පැමිණ සිය වසඳවල වීම හා නූතන 'ශීඝ්‍රචාරතාවය' ද ප්‍රමේහ රෝග උපදවීමට හේතු යි.

පූර්වෝක්ත කාරණා යග වාත ය, පිත්ත ය, සෙම ය යන මේවාට විරුද්ධ ආහාරපාන විහරණ ආදියෙන් ඒ ඒ දෙස් කිපීමෙන් ප්‍රමේහ රෝගයෝ පහළ වෙති.

එසේමෙන් ප්‍රමේහ රෝගයෝ දශයෙක් වෙති. ඔවුහු සාධ්‍ය යෝ ය. උදක මේහ, ඉක්ෂු මේහ, සාන්ද්‍ර මේහ, සුරා මේහ, පිෂ්ට මේහ, ශුක්‍ර මේහ, සිකතා මේහ, ශීත මේහ, ශනෛර් මේහ සහ ලාල මේහය යන දශය සෙම කිපීමෙන් වූවෝ ය.

පිතෙන් මේහ රෝගයෝ සය දෙනෙක් වෙති. ඔව්හු යාප්‍යයෝ ය. හෙවත් පිළියමෙන් යට කළ හැක්කෝ ය. ඔව්හු නම් ක්ෂාර මේහය, නීල මේහය, කාල මේහය, හරිද්‍ර මේහය, මඤ්ජිෂ්ඨා මේහය, රක්ත මේහය යන මොවුහු වෙති.

වාතයෙන් මේහ රෝගයෝ සතරෙකි. ඔව්හු නම් වසා මේහය (=සර්පිමේහය), මජ්ජ මේහ, ක්ෂෞද්‍ර මේහ (=මධුමේහ), හස්ති මේහ යන මොවුහු වෙති. මොවුහු අසාධ්‍යයෝ ය.

ඒ ඒ දෝෂ ප්‍රමේහයන් සිද්ධ වීමට දැක්වූයේ හඳුනු සර්වප්‍රකාර ප්‍රමේහයන්හි වායු, පිත්ත, කඵ යන දෝෂත්‍රය ද, මේදස්, රක්ත, ශුක්‍ර, දෛහික ජලීය පදාර්ථ, වසා (=මාංස ස්නේහය), ලසිකා (=මාංස හා ත්වක් අභ්‍යන්තරයේ ජලීය පදාර්ථ), මජ්ජා, රස, ඕජස් (=ධාතු සාර), මාංස යන සකල පදාර්ථයෝ දූෂ්‍ය වෙති.

ප්‍රමේහයන්ගේ ආරම්භයේ දී දත්, චක්ෂු, කර්ණාදීන්හි අධික මල රැස් වේ. අත් පාවල දාහය හා හිරිය ඇති වේ. දේහයාගේ තෙල් ගතිය, පිපාසය, මුඛයෙහි මිහිරි රස ආදි ලක්ෂණ ඇති වේ. මූත්‍රයාගේ විකාර ගති ඇති වේ. හෙවත් ස්වාභාවික ගති වෙනස් වේ.

සියලු ම ප්‍රමේහයෝ පිළියම් නො ලබා කල් ගත වීමෙන් 'මධු මේහ' බවට පැමිණෙත්. මූත්‍ර මාර්ගයෙන් මීපැණි වැනි, මධුර රස, ද්‍රව පිට වේ. ශරීරය මුළුල්ල පැණි රසවත් වේ. එම රෝගය සුව කට නො හැකි වේ.

ප්‍රමේහයන්හි භේදවල දක්වන ලද වර්ග ඒවාට සමාන පැහැති මූත්‍ර පිට වේ. නැතහොත් ආකාරයට මූත්‍ර පිට වේ.

1. **උදක මේහය** :— පුදුවත් වූ හෝ ශීතල ජල වැනි ව හෝ සෙවෙල් සහිත ව බහුල ව මූත්‍ර පිට වේ. එවිට i. අරළු, කටුඑල (=ඇඳ්දෙමට), කලාදුරු අල, ලොධු (=ලොත් සුඹුලු) කසාය, මීපැණි සමග දෙන්නේ ය. ii. එරබදු පොතු කසාය දෙන්නේ ය.

2. **ඉක්ෂු මේහය** :— උක් රස වැනි මූත්‍ර ඇති වේ. එවිට i. දියමිත්තා, වලගසාල්, කුඹුක් පොතු, සැවැන්දර මුල් කසාය දෙන්නේ ය. ii. ජයන්ති කසාය දෙන්නේ ය.

3. **සාන්ද්‍ර මේහය** :— මෙහි මූත්‍ර ඝනවත් ය, ද්‍රව්‍ය බහුලත්වයෙන්. මීට කහ, වෙනිවැල් ගැට, පොඹිදුල්, වලගසාල් කසාය දෙනු.

4. **සුරා මේහය** :— මූත්‍ර සුරා සමාන ය, නිම්නයෙහි මණ්ඩි මෙන් ඝන ය, උඩ ද්‍රව්‍ය අඩු ය, ඊට හොරෝම් පොතු, ගල්පොතු, කුඹුක්, අසමෝදගම් කසාය දිය යුතු යි.

5. **පිෂ්ට මේහය** :— පිෂ්ට සහිත රෝගියා මූත්‍ර කරන කල ලොමු බැහැ ගනී. මූත්‍ර සුදු පැහැ වේ. පිටි මිශ්‍ර ද. ඊට වෙනිවැල්ගැට, වලුකසාල්, කිහිරි, වෙලං පොතු කසාය දෙන්නේ ය.

6. **ශුක්‍ර මේහය** :— මූත්‍ර සමග ශුක්‍ර පහ වේ. නොහොත් මිශ්‍ර ව ඇත්තේ ය. ඊට සද්මදුර, සුවඳ කොට්ටං, කුඹුක්, සුදු හඳුන් කසාය දෙන්නේ ය.

7. **සිකතා මේහය**:— මූත්‍ර කරන කල වැලි සහිත මූත්‍ර පිට වේ. i. වෙනිවැල් ගැට, මිදි මුල්, තිපල්, දියමිත්ත කසාය දෙනු. ii. සහ, වෙනිවැල් ගැට කසාය දෙන්නේ ය.

8. **ශීත මේහය** :— ශීත මේහීන්ගේ මූත්‍ර සීතල ය, මධුර රස ය, බොහෝ වැඩිවේ. ඊට දියමිත්ත, මුරුවා මුල්, නෙරෙඤ්චි (=ගොකටු) කසාය දෙනු.

9. **ශනෛර් මේහය** :— මෙහි දී සෙමින් සෙමින්, ටික ටික මූත්‍ර වැහේ. අසමෝදගම්, සැවැන්දරා, අරළු, රසකිඳ කසාය දෙන්නේ ය.

10. **ලාල මේහය** :— ලාල යුක්ත සෙවෙල මූත්‍ර කෙරේ. ඊට ජම්බු පොතු, මාදම් පොතු, අරළු, කොත්තමල්ලි, රුක්අත්තන, පොතු කසාය දෙන්නේ ය.

ආහාර නොදිරීම, අරුචි, වමන, නිදි අධික බව, තොත් කැස්ස, පීනස යන උපද්‍රව කඵජ මේහයෙහි වේ.

11. **ක්ෂාර මේහය** :— මූත්‍රවල ක්ෂාර පදාර්ථ ඇත්තේ ය. ක්ෂාර දිය කල ජල මෙන් මූත්‍ර ඇති වේ. ලෝධ්‍ර (=ලොත් සුඹුලු), ඉරිවෙරිය, වෙනිවැල් ගැට, මලිත්ත (=මයිල) කසාය මීපැණි සමග දෙන්නේ ය.

12. **නීල මේහය**:— එහි නිල්වන් ව, කළුවන් ව, මූත්‍ර ඇති වේ. දුම්මැල්ල, කොහොඹ, තොල්ලි, රසකිඳ කසාය, මීපැණි සමග දෙන්නේ ය.

13. **හරිද්‍රා මේහය** :— මූත්‍ර කහවන් පැහැය වේ. මූත්‍ර කරන කල ලිංග නාලයෙහි වේදනාව ඇති වේ. සැවැන්දරා, කලාදුරු, තොල්ලි, අරළු කසාය මීපැණි සමග දෙන්නේ ය.

14. **මජ්ජිෂ්ඨා මේහය** :— ආම ගන්ධ යුක්ත, වැල්මදට තැම්බූ වතුර වැනි මූත්‍ර ඇති වේ. සැවැන්දරා, ලොත්, කුඹුක්, රත්හඳුන්, කසාය මීපැණි සමග දෙන්නේ ය.

15. **රක්ත මේහ** :— මූත්‍ර ආම ගන්ධ යුක්ත ය, ලේ වන් ය, උෂ්ණ ය, ලවණ යුක්ත ය. කොහොඹ, කුඹුක්, අඹ, සහ, නිල් මානෙල් කසාය මීපැණි දමා දෙන්නේ ය,

16. **කාල මේහය** :— නීල මේහයට වඩා මූත්‍ර කළුවන් වේ. කලාඳුරු - අරළු - පද්මකාෂ්ඨ (=නීත අරටු) - කෙළිඳ පොතු කසාය - මීපැණි බහා දෙන්නේ ය.

ක්ෂාර මේහයෙහි සිට කාල මේහය දක්වා වූ මේහ සය පිත්තෙන් උපන් මේහ යි. මේ සියල්ලට ම පොදු මේ කසාය සතර දිය හැකි යි.

i. ලොධු (=ලොත්) - කුඹුක් - හැවැන්දෑ - රත්හඳුන් කසාය - මීපැණි බහා.

ii. කොකොම් - හැවැන්දෑ - නෙල්ලි - අරළු කසාය - මීපැණි සමග.

iii. නෙල්ලි - කුඹුක් - කොකොම් - කෙළිඳ කසාය - මීපැණි සමග.

iv. නිල් මානෙල් අල, එත්කාල්, කොවක්කා කොළ - කුඹුක් පොතු කසාය - මීපැණි සමග.

පිත්ත මේහයෙහි වස්තියෙහි ඉඳිකටුවලින් අනින්නාක් මෙන් වේදනා ද - අණ්ඩ කෝෂයෙහි වේදනා ද - උණ - දුර්වලි - පිපාස - ඇඹුල් උගුරට ඒම - මූර්ඡා - මල බිඳීම ද ඇති වේ.

17. **වසා මේහය** :— මූත්‍ර සමග (වසා) වුරුණු තෙල් ඇති වේ.

18. **මජ්ජා මේහය** :— මූත්‍ර සමග මජ්ජා ඇති වේ.

19. **ක්ෂෞද්‍ර මේහය** :— මීපැණි බඳු මූත්‍ර ඇති වේ.

20. **හස්ති මේහය** :— මූත්‍ර රෝධ වෙයි. ඇතැම් විට හස්තීන්ට සමාන ව මූත්‍ර පහ වේ.

**සංලක්ෂණය** :— අනතිමට දක්වූයේ වාතයෙන් උපන් මේහ යි. උදාවර්ත - කම්ප - හෘදය වේදනා - සර්වප්‍රකාර ආහාරයෙහි ලෝලතා - ශූල - අනිද්‍රා - ශෝෂ - කාශ - ශ්වාස යන මොවුහු වාතජ මේහයේ උපද්‍රවෝ යි. වාතජ මේහවල පූර්ව රූප පහළ වන විට තුන් දොසට ම සහ පොදු වූ ඇති ඖෂධයන්ගෙන් ප්‍රතිකර්ම කරන්නේ ය.

**ප්‍රමේහ රෝගයෙහි සාධාරණ ප්‍රතිකාර**
**Treatment.**

සාමාන්‍යයෙන් ප්‍රමේහ රෝගය සුව කිරීම අමාරු එකකි. ඒ නිසා පූර්ව රූප පහළ වූ කල ම ප්‍රතිකර්ම යොදන්නේ නම් එහි දරුණුභාවය නැති කර ගත හැකි වේ.

මූත්‍රවල වෙනස්කම් ඇති වූ විට ම නෙල්ලි - රසකිඳ කසාය නිපයක් බොන්නේ ය. i. නෙල්ලි යුෂ - ii. කාතාවාරිය අල යුෂ - iii. එළ ඇඹුල් මූලේ යුෂ - ආදිය ද මීපැණි බහා බීම ඉතා යෝග්‍ය ය. මෙවාට කහ කුඩු ද මඤ්ඤාඩි 2 සිට 5 දක්වා එකතු කළ හැක.

මල ශුද්ධිය - මුත්‍ර ශුද්ධිය දෙකම හොඳින් ඇතිකර ගත යුතු යි. මල ශුද්ධියට අරළු සමඟ තැම්බූ දිය - ත්‍රිඵලා පානය හෝ කිසල් කසාය මෙන් පානය කළයුතු. මුත්‍ර ශුද්ධියට නෙල්ලි - රසකිඳ - ඉඟිරිය (=කිරඹුල්ලි) - කොතරයමුටු (=කොතලහිඹුටු) රණවරා පසද්වාංගය කසාය දෙන්නේ ය. මුත්‍ර සමඟ කොයිසම් ද්‍රව්‍යයෝ වුවත් පිටවන විට ද - එයින් උපන් දහ ඉස් වේදනා - හන්දි රුදා - කටියේ වේදනා - වළලුකර, පතුල් ඉදිමුම් සහ වේදනා - දැවිලි ආදිය ඇතිවන විට ද මෙය මුලට යෙදිය හැකි යි.

i. නෙල්ලි - වෙනිවැල් කසාය ද ප්‍රමේහ සම්බන්ධ ආබාධයන්ට යෝග්‍ය ය.

ii. **කලම්බපාෂාදි කසාය** :— රණවරා පසද්වාංගය - කහ - වැල්මී - මාතෙල් අල - ඉරමුසු - සුදු හඳුන් - කලාඳුරු අල - අරළු - හාතාවාරිය අල - ඉඟිනි ඇට - සැවැන්දන මුල් - කොත්තමල්ලි කසාය බීමෙන් සියලු ආකාර ප්‍රමේහවලට ගුණ ලැබේ. කන්දිපත් සැක්කුම - වාතරුජා - කටියෙහි රුජා - දනහිස් වළලු කර ඉදිමුම - සකුල්වල වේදනා සහිත ප්‍රමේහ රෝගවලට මෙයින් බොහෝ ගුණ ලැබේ.

iii. **අරළු** - ඉඟුරු කලං 3 බැගින්, නෙල්ලි කලං 6 යි, ඇසළ පොතු කලං 12 යි. ආඩතෝඩා මුල් කලං 6 යි, රසකිඳ කලං 3 යි, පත 16 ය 2 ට සිඳ - උදේට එඬරු තෙල් - යවක්ෂාර ලුණු බහා - සවසට සීනි - මීපැණි බහා දෙන්නේ ය. විසි ආකාර මේහ - සන්ධි වාත තැන තැන මොල්ලි බැඳීම - දනහිස් වළලුකර ඉදිමුම - කොර ආදියෙහි මෙය යොදන්නේ ය.

iv. තිපල් - දරුහරිද්‍රා (=වෙනිවැල් ගැට) - කොත්තැකිරි අල - කලාඳුරු අල කසායට, කහ කුඩු - තල තෙල් බහා දෙන්නේ ය. මල ශුද්ධි - මුත්‍ර ශුද්ධිවලින් පසු ව මෙය යොදන්නේ ය. නිශලාදී ක්වාථය යි.

## චූර්ණ

## Powders

කසාය - ගුළි දීමෙන් පසු චූර්ණ දිය යුතු වරකට කල ½ බට සාලද දක්වා අනුපානයක් හොඳට අඹරා දිය කර චූර්ණයත් සමඟ පෙවීම ඔනෑ කෙරේ. චූර්ණයත් ඇඟුලට ගාවීහ වන තීරා ඉතා සියුම් ව චූර්ණ කළ යුතු යි. අපේ සමහර වෙදමහත්තයන්ගේ චූර්ණවල ලී කෑලි තිබේ. කෑලි නො සිටින්ට 'පිරිට' ගණනට තිබෙන්ට චූර්ණය සැදිය යුතු වේ. උණු වතුර වත් කර පෝ - කෝපි මෙන් බොන ඒවායේ චූර්ණ ද්‍රව්‍ය පෙරීමෙන් අයත් කරන නිසා, ඒවා කොසේ වුවත් කමක් නැත.

**න්‍යග්‍රෝධාදි චූර්ණය :—** නුග - බෝ - ඇහැටු (=ඇහැටූ) - පුලිල (=කවුඩු බෝ) - අට්ටික්කා - කම්බිලියේ පොතු - තොවිල්ල මූලේ පොතු - ඇහැල පොතු - අසන (=ගම්මාලූ) පොතු - අඹ ඇට මද - මාදම් ඇට - දිවුල් ඵල - බෝර පොතු - කුඹුක් පොතු - වෙළන් ලී - මී අරටු - වැල්මී - ලෝධ්‍ර (=ලොත්සුඹුලු) - ලුණුවරණ මූලේ පොතු - එරබදු පොතු - දුම්මැල්ල - මැඩහතු (=වෙලි පරිත්තියා)- දූත්ත අල - රත්නිටුල් මූල් - අලගර - කුඹුරු ඇට - තිපල - කොළිඳ - බදුල්ල ඇට සමභාග - චූර්ණ කරනු. මීපැණි සමග හෝ තිපල් කසාය සමග හෝ තෙල්ලි රසකිඳ කසාය සමග හෝ සදන්නේ ය පිසි ආහාර මේහ නාසා. මේය මූල දී සුනු පස් භාවිත කොමලොත් ප්‍රමේහ 'පිඩකා' සෑදීම වළකින්නේ ය.

ii **චන්දනාදි චූර්ණය :—** සුදු හඳුන් - රත් හඳුන් - සාවුඳම්බල් මූලේ පිටි - කුරුඳු පොතු - කොල්ලන් කොළ - එන්සාල් - සාන - වෙනිවැල් ගැට - කබරස මූල් - ඉරමුසු මූල් - කලාඳුරු අල - සැවැන්දරා මූල් - වැල්මී - තෙල්ලි - ක්ෂේත්‍රගෙ කොළ - උණ කපුරු - සිරිකේක්කු - සාරණ - දේවදාර - අරළු - රසකිඳ පිටි - කොමරසැව් - නීර මුල්ලි - බින්තල් අල - කිරිබදු අල - හාතාවාරිය අල - වැල් පෙනෙල මූල් - මූඩම්ගත මූල් - ගම්සුරිය පොතු - ත්‍රිස්සවලු - ලුණුවරණ මූල් - බැබිල මූල් - කොහොඹ පොතු - නුග අරළු (=නුග ගස්වල එල්ලෙන මූල්) සමභාග - චූර්ණ කර, මීපැණියෙන් කොඳකාර නැමත අඹරා කල්ක කරන්නේ ය. කලං 1 සිට 1½ දක්වා උදේ සවස අනුගම කර තෙල්ලි රසකිඳ කසාය බොන්නේ ය. දුර්ල අයට කලං ½ න් පටන් ගන්නේ ය.

සියලු ආහාර මේහ - දියවැඩියා - ශුක්‍රමේහ - ස්ත්‍රීන්ගේ ප්‍රදර රෝග - රක්තපිත්ත රෝග - දාහ රෝග ආදිය නාසා.

**ප්‍රමේහ රෝගයෙහි පථ්‍ය :—** උපවාස - වමන - විරේචන - උද්වර්තන - ශමන ද්‍රව්‍ය - අග්නි දීපන ද්‍රව්‍ය - කුරක්කන් - මෙනේරි ආදි ශුෂ්ක ධාන්‍ය වර්ග - පුරාතන ගොධූම - කොල්ලු - මුං - තල - පුරාතන මද්‍ය - බාර්ලි - කිරිමෝරු - කොමඩු මුත්‍ර - මීයරක් මූත්‍ර - මුරුංගා - පතෝල - බින්තල් අල - බටු - අට්ටික්කා ගෙඩි - සුදු ළූනු - රතුළූනු - රට ළූනු - කොමරැසැව් - තෙල්ලි - රසකිඳ - නීරමුල්ලි - රණවරා - කුඹුක් - හාතාවාරිය - මුඟුණු වැන්න - ගොටු කොළ - මිකන් පලා - දියේ හැදෙන වර්ග - එරබදු දලු - තිපල් - දිවුල් - මාදම් - කොකාපිය - තොළුම් - මාතල් අල - රට ඉඳි - ඇපල් ආදි ද්‍රව්‍ය - ඇතුන් පිට නැගීම - අසුන් පිට නැගීම - පරිශ්‍රම - රෞද්‍ර සේවන, ප්‍රමේහ රෝගීන් කෙරෙහි පථ්‍ය ය.

ප්‍රමේහ රෝගයෙහි අපථ්‍ය :— මූත්‍ර වේග ධාරණ - ධූම පානය - ස්වේද රක්ත මෝක්ෂණ - අතිශ උපවේශන - දිවා නින්ද - අළුත් හාල් බත් - දධි - අනූප මදශජ පක්ෂි ආදීන්ගේ මාංශ - ක්ෂීරංගා - පිෂ්ටාන්න - මෛථුන - සුරා - කාම - තෙල - දුම් - ඝෘත - උක් සකුරු - පැණි රස සෑදූ ආහාර - විරුද්ධ භෝජන - පත් - කෝපි - උක් - දූෂිත ජල - මධුර ද්‍රව්‍ය - අම්ල ද්‍රව්‍ය - ලවණ ද්‍රව්‍ය - අභිෂ්‍යන්දි ද්‍රව්‍ය අපථ්‍ය යි.

## ශුක්‍ර මේහය

## SPERMATORRHEA

මූත්‍ර සමග ශුක්‍ර පිටවීම ද රාත්‍රි කාලයේ ස්වප්න දර්ශනයෙන් ශුක්‍ර පහවීම ද ශුක්‍ර මේහය යි. තරුණයන් බොහෝ දෙනෙක් මේ රෝගයෙන් කෘෂ ව ලජ්ජාවෙන් බෙහෙත් නො ගෙන අන්තිමේ දී ක්ෂයට භාජනය ව මැරී යත්. ඒ නිසා මෙය වෙන පරිච්ඡේදයක් වශයෙන් දක්වීමට අදහස් කෙළෙමු.

මීට ප්‍රමේහයෙහි දක්වූ කෂායන් හා චූර්ණ ද - එකොළොස්වෙනි දෙවූ කිරි ආදී පෝෂ්‍ය ජනක දේ ද - යන්ත්‍ර මන්ත්‍ර කවච දැරීම ද කරන්නේ ය.

චූර්ණවලින් පසු ව මේ පහත දක්වෙන බෙහෙත භාවිත කරන්නේ ය.

අමු කපුරු, ඔලිද ඇට 1 ක බර - වාල් මොලගු කුඩු මඤ්ඤාඹි 1 ක බර - අඹින් ඔලිද ඇට ½ ක බර මීපැණියෙන් අඹරන්නේ ය. මේ එක ගුලියක ප්‍රමාණය යි. මෙසේ ගුලි 16 ක් කනා දින පතා උදේ උදේ අනුභව කොට එකොළොස්වෙනි දෙවූ කිරි හෝ කොල්ලු සූප හෝ කොල්ලු, රසකිඳ කසාය හෝ භාවිත කරන්නේ ය.

අරළු කලං 5 යි, බුළු කලං 10 යි, කොල්ලු කලං 20 යි, සියල්ල කුඩු කරනු. මීට ගෝ මූත්‍ර බෝතලයක් වත්කර අව්වේ තබනු. එය රාත්‍රි කාලයට ගෙයි තබනු. ගෝමූත්‍ර සිඳුනොත් තව වත් කරනු. මෙසේ සත් දිනක් අව්වේ තබා ගෝ මූත්‍ර සිඳුණු පිට මෙය අඹරනු. නැවත මීපැණියෙන් අඹරා ඇත්තිඹබටු පමණට ගුලි කරනු.

මෙයින් ගුලියක් බැගින් දවාලට සහ රෑට කෑම ගෙන ඉවර ව නිවුණු උණු වතුරෙන් දිය කර ගන්නේ ය. කිරි ද භාවිත කළ යුතු. දිගට ම මාසයක් භාවිත කරන්නේ ය. දිරන සුලු පෝෂ්‍ය දායක ආහාර ගන්නේ ය.

# සෝම රෝගය හෙවත් දියවැඩියාව

## Diabetes Insipidus

අධික ස්ත්‍රීසංගම, ශෝක, අධිරිසාන පරිශ්‍රම හා ආනිවාරික ද්වේෂ හෙවත් විෂ ද්‍රව්‍ය ප්‍රයුක්ත කාරණාවන්ගෙන් සර්ව දේහයට ජල පදාර්ථ (=ජල කොටස්) විකෘත ව ස්වස්ථානයෙන් චලනව මූත්‍ර මාර්ගයට ප්‍රවිෂ්ට වෙයි. එම සම්ප්‍රාප්ත ජලපදාර්ථ මූත්‍ර ස්වරූපයෙන් අධික පරිමාණයෙන් පිට වෙන්ට පටන් ගනී. ඒ ද්‍රව්‍ය ප්‍රසන්න ය - නිර්මල ය (=පෙනීමට) - ශීතල ය - ශුභ්‍ර ය - ගන්ධ රහිත ය. මෙවිට ශරීරය දුර්වල වන්ට වෙයි. ගති ශක්ති රාහිත්‍ය - මූත්‍රකයාගේ ශිථිලතා - මුඛතාලු ශෝෂය ආදි ලක්ෂණයෝ ද පහළ වෙති. එම රෝගයෙන් ශාරීරික සෞම්‍ය ගුණය (=සෝම පදාර්ථ) ක්ෂය වන හේතුවෙන් සෝම රෝගය යි නම් කෙරේ. ක්ෂය වීම - ජල පිපාසය ඇති වේ. වතුරයාට ද 'සෝම' ය යි කියන්නේ 'ජලය' නිසයි.

ස්ත්‍රීන්ට සෑදෙන 'ශ්වේත ප්‍රදර' නම් රෝගයට ද මේ නම ඇතැම් පොතක සඳහන් කර තිබේ. ස්ත්‍රීන්ට ද මෙම රෝගය සෑදුණු විට ශ්වේත පදාර්ථ උපස්ථෙන්ද්‍රියෙහි රැස්වෙන බැවින් ද ඒ ශ්වේත ප්‍රදරයට ද මේ ක්‍රමයේ ම ප්‍රතිකාර සුවය පිණිස හේතු වන බැවින් ද එයින් කිසි යම් වරදක් සිදු නො වන්නේ ය. මෙය ද ප්‍රමේහ විශේෂයෙකි.

**ප්‍රතිකාර**
**Treatment**

i. තෙල්ලි පුස මීපැණි දමා දෙන්නේ ය. ii. වියලි තෙල්ලි කසාය මීපැණි, මාදම් ඇට කුඩු දමා දෙන්නේ ය. iii. අරළු - බුළු - තෙල්ලි - උණ කොළ - කලාදුරු අල - දියමිත්තා කසාය තල් සකුරු දමා දෙනු. iv. ඕතිමල් කොළ ඩ්‍ර. ¼ බැගින්, තේවතුර මෙන් වත් කර බොන්නේ ය. v මාදම් ඇට කුඩු - අට්ටික්කා ගෙඩි - කොස් කොළ - රණවරා - කොහිල අල - ගල්කුර - එත්තාල් සමභාග - චූර්ණ කරනු. වරකට කළඳ බැගින් ගිතෙලින් අනා අනුභව කරන්නේ ය.

**දියවැඩියා රෝගීන්ගේ දුර්වල - පිපාස ආදිය**
**Thirst**

දිය වැඩියා කාරයන්ගේ පිපාස, දුර්වල ආදිය ඇති වූ කල i. තෙල්ලි - තෙරෙස්ස (=ගොතබු) - අළුකෙසෙල් අල - බැබිල - සුදුහඳුන් - කොසාලා හිඹුටු කසාය මීපැණි දමා දෙන්නේ ය. ii. කොස් කොළ තම්බා වතුර බොන්නේ ය. iii. කල් රා - තල් කොලිදිය බොන්නේ ය.

## ත්‍රිඵලාරිෂ්ටය

අරළු කලං 20 යි. බුළු කලං 40 යි. නෙල්ලි කලං 80 යි. වසිල පොතු කලං 40 යි. මාඑරම්නියාපොතු කලං 12 යි. නවරතඹුල් කලං 60 යි. ජම්බල (=මහනාරං) කොළ කලං 60 යි. වතුර බෝතල් 16 ය 4 ට සිඳ පෙරා ඊට මයිලා සුඹුලු කළු වසිල (=ධාතකී) මල් - කොස් කොළ - මාදන් ඇට - නුගමුල් - ඉරමුසු - කහබිලියා මුල් - කලං 12 බැගින් සුණු කර දමා, භාජනයකට වත් කර තල් හකුරු රාත්තල් 3 ක් ද දමා කට වසා මාසයක් තබා නැවත පෙරා මෙයින් වරකට පහසින් 1/6 බැගින් දවසට තෙ වරක් බොන්නේ ය. දියවැඩියා - ස්ත්‍රීන්ගේ ප්‍රදර - ප්‍රමේහ - අතුල් පතුල් දැවිලි නසා ලයි.

දියවැඩියාවෙහි පථ්‍යාපථ්‍ය ප්‍රමේහ රෝගයාගේ පථ්‍යාපථ්‍ය මැ යි. තල් රා - තල් කුණාටු - මහනාරං පුස (=ජම්බල), - මාදන් ඇට - ජම්බු ඇට - දම් - තිඹුටු - ජේර දෙළුම් - අළු කෙසෙල් කෙඩි - අළු කෙසෙල් පුහ - කාමල් රේණු ආදිය පථ්‍ය යි. දිමේ හැදෙන සියලු අල වර්ග යෝග්‍ය යි. ඒවායේ දලු ද හොඳ ය. තල් ගසේ සියල්ල ම පථ්‍ය යි.

## ඖපසර්ගික මේහය.

### GONORRHOEA

රණව මිට සුද බින්දුම ය යි කියති. නරක හැසිරීමෙන් වේ. ප්‍රථම කොට මුත්‍ර මල ශුද්ධි කරන බෙහෙත් ද ඊ ළඟට ලේ පිරිසිදු කරන බෙහෙත් ද යොදන්නේ ය.

i. අරළු කලං 6 යි - සුකිරි කලං 6 යි කරමින කැලි කඩා - කැබිලි ගෙඩියක බඟා - සවස පින්නේ තබා උදය 4 වරක් රෙද්දකින් පෙරා බොන්නේ ය. මෙසේ තුන් දිනක් බොන්නේ ය.

ii. නෙල්ලි - රසකිඳ - නීර මුල්ලි - ගොකටු (=නෙරෙංචි) - රණවරා පඤ්චාංගය කෂාය - මීපැණි දමා දෙන්නේ ය. මෙසේ කෂාය තුන යි.

iii. අරළු කලං 6 යි - සියඹලා කොළ කලං 6 යි, කසාය එන්සාල් කුඩු දමා දෙන්නේ ය.

iv. වාත රක්තයෙහි සඳහන් ලේ ශුද්ධ වන කසායන් දෙන්නේ ය.

v. **අරළු** භාග 1 - බුළු භාග 2 - නෙල්ලි භාග 4 යන ප්‍රමාණයට කුඩු කර - වරකට කළං ¼ බැගින්, නෙල්ලි රසකිඳ කසායයෙන් දෙන්නේ ය.

vi. සාරිබාද්‍යාසවය - ශාරිබාරිෂ්ටය - උශීරාසවය - චන්දනාසවය යනාදිය දෙන්නේ ය.

## මූත්‍ර දැහයට

### Burning Sensation of Urinery Passage

ඖපසර්ගික මේහයෙහි මූත්‍ර දහ - ඇති වූ කල මෙහි පහත දක්වෙන දේ දෙන්නේ ය.

i. සැවැන්දරා මුල් - සුදු හඳුන් - ඉඟිනි ඇට - පොල්පලා - රසකිඳ කොටා හැලි ගෙඩියට දමා උදේ උදේ දෙන්නේ ය.

ii. සුදු හඳුන් - ඉඟිනි ඇට - සැවැන්දරා - කැහිපිත්තන් - කිතුල් හකුරු - හැලි ගෙඩියට දමා තිබා උදේ උදේට පෙරා දෙන්නේ ය.

iii. නෙල්ලි - රසකිඳ - හාතාවාරිය යුෂ දෙන්නේ ය. මූත්‍ර අඩස්සි ඇතිවූයේ නම් මූත්‍ර කෘච්ඡ්‍රයෙහි බෙහෙත් යොදන්නේ ය.

**සුද නැවතීමට**
**Whitish discharge**

ඖපසර්ගික මේහයට මල - මූත්‍ර - ලේ පිරිසිදු කොට පසු ව සුද නැවතීමට මෙහි පහත දක්වෙන බෙහෙත් යොදන්නේ ය.

i. කුඹුක් පොතු - රණවරා පසඟුවංගය - පෙනෙලමුල් - කලාඳුරුඅල - කපු ඇට මද - අරළු - ඉඟිනි ඇට - සුදු හඳුන් - වැල්මී - වෙනිවැල් ගැට - කිරි බඹ කසාය සිඳ දෙන්නේ ය.

ii. එන්සාල් - වලකසාල් - වැල්මී - පොල්පලා මුල් - එරබදු මුල් - දූනුවිල නැටි - කීත් නෙරෙංචි කසාය, මීපැණි දමා දෙන්නේ ය.

iii. කොකාවිය අල - ඉරමුසු මුල් - රසකිඳ - කිරිබදු අල - පොල්පලා - සුදු හඳුන් - හාතාවාරිය අල - නෙරෙංචි - රණවරා පසඟුවංගය කසාය - මීපැණි දමා දෙන්නේ ය.

**මේ ඉහතින් දැක්වූ කසායයන්, දියවැඩියාවට ද ස්ත්‍රීන්ගේ ශ්වේත ප්‍රදරයට ද ගර්භිණීන්ගේ වගා මේහයට ගෙවන 'ඇල්බියුමන්' නම් පදාර්ථය මූත්‍රසමගපිටවෙනකල ද දෙන්නේ ය.**

වාල්මොලගු රනි (=බලිඳ ඇටේ මද) ½ කි. කපුරු රනි ½ කි. අබින් රනි ¼ කි. මේ සියල්ලම ගුලි සාදනු. රාත්‍රී නින්දට යන කල 'ගුලි 1' බැගින් අනුපාන සහ පොල්ලී තැම්බූ වතුර බොන්නේ ය. රෝගය ඇති තැන ඉදිමුම් - වණ ආදිය තිබේ නම් දෙළුම් කොල - දෙබ කොල - කොල් එඩරු කොල, අවරිස්සා කොල - නුග කොල - කරඳ කොල - කටුකරඬු කොල තම්බා තවන්නේ ය. සෝදන්නේ ය.

ස්ත්‍රීන්ගේ යෝනියෙහි වණ ඉදිමුම් ඇති වූ විට මෙහි දක්වෙන කසායෙන් සෝදනු. උත්තර වස්තියත් දෙනු. බෝ - නුග - ඇහැටු - අවරිස්සා - නුග කේවාගේ පොතු - මහ කොල - දිවුල් කොල - කටුකරඬු කොල - දෙළුම් කොල - කරඳ මුලේ පොතු - වෙනිවැල් ගැට - අරළු - බුළු - නෙල්ලි - කසාය සකාරනු. සිනක්කාරන් කබලෙන් බැද ටිකක් දිය කරනු. මෙයින් සේදීමෙන් ද - උත්තර වස්ති දීමෙන් ද - යෝනි ලිංග ආදියේ වණ - ඉදිමුම් - නසා ලයි.

## උශිරාදී චූර්ණය

සැවැන්දරා මුල් - එත්සාල් - කොල්ලන් කොල - නෙල්ලි - මුද්දිරප්පලම් - නාමල් රේණු - නෙළුම් දඬු - රත්හඳුන් - සුදුහඳුන් - ඉඟුරු - තිප්පිලි - විලඳ - හාතාවාරිය අල - කොකට්ය අල - කපුකිනිස්ස ඇට - සුදුරු - මාගෙල් අල - බිත්තල් අල - වාල් මොලගු - කුම්කුමප්පු - නෙළුම් රේණු - කපුරු - මිරිස් - වැල්මී - අමුක්කරා - නෙරෙංචි - සාදික්කා - කළුදුරු - ඉරමුසු - කබරස මුල් - අලබිත් (=සීත මුල්) සමභාග - සියල්ල බරට රසකිඳ පිටි චූර්ණ කරන්නේ ය.

**මාත්‍රා :**— වරකට කලං ¼ බැගින් දවසට දෙවරක් මීපැණියෙන් අතං අනුපාන කොට, නෙල්ලි - රසකිඳ - නෙරෙංචි තැම්බූ වතුර බොන්නේ ය.

**ගුණ :**— රත්පිත් - දවිලි - ප්‍රමේහ රෝග - මූත්‍ර පිලිබඳ රෝග - මූත්‍ර සමග යම් යම් පදාර්ථ පිටවීම - උපසාතිකසුයන් පිලිබඳ රෝග - ධවජ භංග - සන්නිපාත් කෙම්ලි - අතුල් පතුල් දවිලි - කොන්දේ කැක්කුම - ස්ත්‍රීන්ගේ ප්‍රදර - මාල රෝග - දියවැඩියා - මල මූත්‍ර බද්ධ - මූත්‍රසර්ජනා ආදී සකල ආහාර රෝග නසා.

ප්‍රමේහයේ දෝෂවලින් විෂ ව මූත්‍ර බද්ධ (=අඩස්සි) ඇති වූ කල මෙහි පහත දක්වෙන ඒවා යොදන්නේ ය.

i. ඉඟිනි ඇට – සුදු හඳුන් – සුදු ලූනු – රතු ලූනු – මුරුංගා මුල් – එන්සාල් – මේවා එක පමණ ගෙන අඹරා පුහුල් ඇස්ස ගසා මදක් මද හැර බෙහෙත් දමා මද ගත් ඒවායේ පුස වත් හාර පියන වසා වැලිවල වළලා ගිනි හාර මිරිකා බොන්ට දෙන්නේ ය.

ii. සුදු හඳුන් – ඉඟිනි ඇට – වැල්මී – රතුලූනු – කලාඳුරු අල – ඉරමුසු – සැවැන්දරා – ඉරිවේරිය – පත්පාඩගම් කළඳ බැගින් ගෙන– අඹරා හැඳිලි ගෙඩි 3 හාට දිය හාර ගිනි හාර පෙරා එක එක බොන්ට දෙන්නේ ය.

**මුත්‍ර මාර්ගයෙන් ලේ යන හල්ලි:—** ඉරමුසු – කලාඳුරු අල – හාතාවාරිය අල – වැල්මී – මුද්දිරප්පලම් – ඉරිවේරිය කසාය දෙන්නේ ය.

**බෝවෙන පුමේහ – සුදු බින්දුම් – ගිනියම් – පරංගි – උපදංශ – හොරි – කුෂ්ඨ – භගන්දර – ගෙඩි – වණ – පිළිසල් ආදි ලේ දූෂිත වූ සකල ආහාර රෝගයන්හි ලේ පිරිසිදු වීමට මෙහි පහත දැක්වෙන කසාය තුන යොදන්නේ ය. මෙය ඉතා ශ්‍රේෂ්ඨ කසාය තුනෙකි.**

i. **මඤ්ජිෂ්ඨාදිය :—** අරළු – බුළු – නෙල්ලි – කොහොඹ පොතු – වැල්මදට – වදකහ – කටුකරෝසන– රසකිඳ – වෙනිවැල් ගැට කසාය.

ii. **ශාරිබාදි කසාය :—** ඉරමුසු – කබරස මුල් – වැල්මී – තිරස්සවාළු– එන්සාල් – අසමෝදගම් – බින්තල් අල– හාතාවාරිය අල – මුද්දිරප්පලම් – කිරිබදු අල – කටුකරෝසන – අරළු – බුළු – නෙල්ලි, අතුන මුල් කසාය, මෙය දූම්ලි වාතවලට ද පරණ නිධාන ගත සංකර ජ්වර රෝගවල දී ලේ පිරිසිදුවීමට ද ස්ත්‍රීන් ගේ දරුවන් ලැබීමෙන් පසු සැදෙන අතුල් පතුල් දැවිල්ලට ද – ගන්දිපත් හැක්කුම්ම ද යෙදීමෙන් මහගු ගුණ ලැබේ.

iii. **අම්‍රතාදිය :—** රසකිඳ – තිරස්සවාළු – ඉඟුරු – සැවැන්දරා – ඉනිරිය (=නීරමුල්ලි) – ලුණුවරණ – අසිම්බඩයන් – රත්හඳුන් – සුදු හඳුන් – බැබිල – වැල්මී– කොහොඹ – දුම්මැල්ල– අරළු – හාතාවාරිය අල කසාය.

**සංලක්ෂණය :—** අළුත් ඖපසර්ගික මේහයට – මල – මුත්‍ර කොඳකාර ශුද්ධ නො හාර මේ කසාය මතා දෙන්නේ ය. අන්තිමට නියම කළ කසාය දෙක දියවැඩියා කාරයන්ගේ පිළිකා (=කාබන්කල්)වලට යෙදීමෙන් අධික ගුණ ලබා තිබේ. මූල කසාය භගන්දරවලට දීමෙන් ද අධික ගුණ ලබා තිබේ.

**ප්‍රමේහ රෝගීන්ගේ ඇසේ රෝග**
**Eye Disease**

ප්‍රමේහ රෝගීන්ගේ ඇස්වල ද අමාරු ඇති වන්නේ ය. එවිට දක්ෂ අක්ෂි වෛද්‍යකු හරා ගොස් කාරණය සොයා හැකි පැහැදිලි කර බෙහෙත් ලබාගත යුතු යි. රත - කෙඹිලි - කඳුළු ගැලීම ඇති වූ විට, කිහා පොල - ඉග්ගා පොල තම්බා - කොළවලින් තවා, වකුළෙන් සෝද - අරළු - බුළු - නෙල්ලි - වෙනිවැල් ගැට - කහ - ඉරමුසු මුල් - උක්දඹු - කොහොඹ කොළ තම්බා එම දියව මීපැණි මුසු කර ඇසට වත් කරන්නේ ය.

i. අරළු - බුළු - නෙල්ලි - රසකිඳ - ඉඟිනි ඇට - වැල්මී කසාය - සීනි මීපැණි බහා බොන්නේ ය.

ii. කෝමාරිකා - අරළු - ඉඟිනි ඇට - රිදී තුත්තන් - සිවන්ගුරු - සුදුහඳුන් - රත්හඳුන් එකට අඹරා ඇස වටේ ගානු. අඹරන ද්‍රව්‍යවලට කෝමාරිකා මද ගත යුතු.

## ප්‍රමේහ පිඩකා

## CARBUNCLE

දියවැඩියා ආදි ප්‍රමේහ රෝගීන්ගේ පිළිකා, ඉතා දරුණු ය. ලකුණු පහළ වන විට ම ප්‍රතිකාර කට යුතු යි. මීට ඉහතින් දක්වූ ශාරිබාදි කසාය - අමෘතාදිය, කසාය 3 බැගින් දෙන්නේ ය.

**ලේප :—** බෝ - නුග - ඇහැටු - අට්ටික්කා - මේවායේ පොතු අංකුර එකට ඇල්වතුරෙන් අඹරා ගල්ලනු. මෙහි පහත දක්වෙන කසාය ද සුවය ලබන තුරු දෙන්නේ ය.

i. ඉරමුසු මුල් - කබරස මුල් - මුද්දිරප්පලම් - තිරුස්සවාළු - ඇහැළ පොතු - කටුකරෝසන - අරළු - ආඹාතෝඹා මුල් - කොහොඹ පොතු - කහ - වෙනිවැල් ගැට - සතරෙකුම්බ කසාය - මීපැණි බහා දෙන්නේ ය.

ශාරිවාදි ලේහනය - ශාරිවාද්‍යාසවය ආදිය ද දෙන්නේ ය. මේ කසායයන් කලල් ගඩු (=ඉතිලියේ ලසිකා ග්‍රන්ථි ඉදිමීමෙන් සෑදෙන ගෙඩි) වලට ද දෙන්නේ ය.

## පක්ෂාඝාතය

## PARALYSIS

පක්ෂාඝාතය තදබල වාත රෝගයෙකි. වාත අධ්‍යායයේ මෙය දක්විය යුතු ව ද ඇතැම් විට ප්‍රමේහ විෂ - අධික මෛථුන- ඊයම් ශරීරගත වීම් ආදියෙන් ද පක්ෂාඝාතය සෑදෙන නිසා එය

මේ තැන දී වෙන ම අධ්‍යායයෙක් වශයෙන් දක්වන්නෙමු. ඇතැම් විටක ශරීරයේ අංශයෙක් ද ඇතැම් විටක ශරීරයේ පහළ කොටස ද හැඟීම් - දැනීම් - නො දැනී අවසන බවට පත් වේ.

මීට තෙල් ගැල්වීම - තෙල් වස්ති දීම - වාත නාශක කසාය දීම ඝෘත දීම කට යුතු යි.

ඇතැම් විටෙක පක්ෂ ඝාතයෙන් සිහි නැති ව වැටෙයි. එවිට මෙහි පහත දක්වෙන ප්‍රතිකර්ම යොදන්නේ ය.

හිසට වාත නාශක නාරායන - සිද්ධාර්ථ ආදි තෙල යොදනු. මේ තෙල් කොඳු ඇට දිගේ ද මාපට ඇඟිලි දෙකේ ද නාභියේ ද ගල්ලනු. කකුල් දෙක රත් කරන්නේ ය. කන්වල රත් කර තෙල් දමනු. යවාසකුටාර රසය වැනි සන්නි කුඩු නාසයට පිඹිනු. උරවනු.

කුප්පමේනිය - දෙළුම් පැඟිරි - මිඹුරු පුසට තල් තෙල් දමා දෙ වරක් දි වමනය කරවන්නේ ය. ඊට පසු කිරිඅඟුන, බිටුදලු, ආඹාතෝඹා දලු, අඹුඹුරු, සුදුලුනු පුසට බුද්ධරාජ කල්කය ගිතෙල් - තලතෙල් - මීපැණි - සීනි - තනකිරි - දෙළුම් ඇඹුල් බහා දෙන්නේ ය.

මේ එක්කා ම උණ අධ්‍යායයේ කියා තිබෙන දරුපජීව කසාය හා මෙහි පහත දක්වෙන කල්කයත් දෙන්නේ ය.

කල්කය :— දසමූල් - ඉඟුරු - කලාදුරු අල - ගජපිප්පිලි - දේවදාර - කොත්තමල්ලි - කටුකරෝසන - කෙළිඳ කාල් සමභාග - උණු දියෙන් අඹරා කලං 2 ක් ඊට දිය කර - පෙරා දෙන්නේ ය.

බඩඑළිය නො යන්නේ නම් බෙත් අනෝද, තම්බා ඊට එඬරු තෙල් එකතු කර වස්තියක් යොදන්නේ ය. සුදුලුනු උළුහාල් කසායෙන් විරේක ගුලියක් යොදන්නේ ය.

මීට පසු වාත රෝග අධ්‍යායයේ බෙහෙත් දෙන්නේ ය. තෙල් ගල්ලනු. නෑවිලිවලින් තවනු. දිනපතා වස්තියක් දෙන්නේ ය. කෑම පුළුවන් නම් කොඳව කන්ට දෙනු. කෑම පුළුවන් වන තුරු පෝෂ්‍යදායක සුප් වගී - රට පානයක් දෙනු. ගිතෙල් - බටර් - දෙනු. අජීර්ණ නො වන සේ පෝෂ්‍යදායක කෑම දෙනු.

නාරායන - මහාමාෂ - කෝරණ්ඩ - සිද්ධාර්ථ ආදි වා නාශක තෙල් ගල්ලන්නේ ය. දුම්මල තෙල් එන බෙහෙත් තෙල් ඉතා ම ශ්‍රේෂ්ඨ යි.

මේ හි සඳහා දැක්වෙන කසායවල් ද යොදන්නේ ය.

i. අරත්ත අල - රත්හිඳ - දේවදාර - අරළු - එඬරු මුල් - අරත්තක - බෑබිල - ඇසළ පොතු - සාරණ - කපු මුල් - කටු කරඬු - කහඹිලියා - මුඟුණුවැන්න - කොළොම් අල - අමුක්කරා - සහිඳ ලුණු - බලල් ලුණු - සිවඳ ලුණු - වෙබිලුණු - අතිවිඩයන් - වැල් බැබිල - කොහොඹ - ආඩාතෝඩා මුල් - මුඹම්කහ මුල් - ගල්මද - ගුගුල් කසාය, සර්වාංග ගත සියලු වාත - සන්ධි ගත වායු - ඇට ගත වායු - සොළු රෝග නසා ලයි.

ii. අරත්ත අල - එරඬු මුල් - රත්හිඳ - වදකහ - කටුකරඬු මුල් - සිවිය අල - තිත් කොහොඹ - කලාදුරු අල - සිරිතේක්කු - අසමෝදගම් - කබරස මුල් - කොරකාහි - දියමිත්ත - දේවදාර - වලකසාල් - මුරුංගා පොතු - ඉඟුරු - බැබිල - මුරුවා - කටු කරෝසන - අතිවිඩයන් - වැල්මදට - අරත්තක - අරළු - බුළු - කොල්ලි - තිප්පිලි - යවකාර ලුණු - රත්හඳුන් - ඇහැළ - කපුකිනිස්ස ඇට - කහඹිලියා මුල් - දසමූල් කසාය, සියලු වාත රෝග නසා. වැදූ ස්ත්‍රීන්ගේ වාත රෝග ද පක්ෂාඝාත ද නසා. මැලේරියා උණ කාලවල ලේ විෂ ව මොළයට ගැසීමෙන් සෑදෙන සිහි නැතිවීම්වලට ද, එම උණෙන් සෑදෙන පාද දෙකේ අවසන බවට ද වෙඩි වැදීමාදියෙන් ඇති වුණු පිටගැස්මට ද මෙය යොදන්නේ ය. පක්ෂාඝාතයට ලෙශුණු සිහිතෙල් බහා දෙනු. කලං 24 ට කිරනු.

## වෘහද් රසෝන පිණ්ඩය

අරත්ත - ඉඟුරු - වලකසාල් - එරඬු මුල් - තිපල - දසමූල - කබරස මුල් - පලම් බැගින් ගෙන, කසාය කරනු. ඒ ජලයෙන් සුදුලූනු රාත්තල් 3½ ක් හොඳට තම්බනු. ඒවාට පෙරුංකායම් - සුදුදුරු - සහිඳ ලුණු - සුවඳ ලුණු - තිකුළු - මුඹම්කහ - මේථි කලං 6 බැගින් - චූර්ණ කර දමා හොඳට ම හිඳෙන තුරු ගිනි කරනු. නැවත මීපැණියෙන් අඹරා කලං 1½ පමණට ගුලි කරනු. සියලු වාතවලට ම දවසකට දෙවරක් ගුලිය බැගින් දෙන්නේ ය.

## අශ්වගන්ධ ඝෘතය

අමුක්කරා රාත්තල් 6¼ ක් ගෙන වතුර නැලි 6¼ ක් - 16 ට සිඳ පෙරා ගිතෙල් නැලි ¼ ක් සහ අමුක්කරා කල්කය රාත්තල් ¼ ද මුඹම්කහ මුල් කල්කය රාත්තල් ½ ද බහා කකාරා ශ්‍රිත පදමට පිස ගන්නේ ය. තෙල පෙරා ගත යුතු. තෙලවිය නෑතාය කියන්නේ.

මෙහිය ඇඟේ ගැසෙන් මස් පිඩු ගොඩනීම්ත් වේ. පැත්තක් අවසාන වූ කල එහි හෙල්ලනු. කුඹා තන ඇති පත්‍රින් මේ තෙල් පිහ පිහ අනුභව කොට, පයෝදරයන්හි ස්නානය කල්වා කොඳව අත හාන්නේ ය. තන මහත් වන්නේ ය. නියම ගණනට මහත් වූ විට ම ස්නානය ගැනීම ද හෙල්ලීම ද විහා ම නවත්වනු.

පඤ්ඤාභාසයට පථ්‍යාපථ්‍ය වාත රෝගයෙහි ම පථ්‍යාපථ්‍ය මැ යි.

## මේදෝ රෝගය

## OBESITY

ශරීරය වුවමනාවාට වඩා මහත් වීම මේදෝ රෝගය යි. රස ආදීන්ගේ ධාතු ක්‍රමයෙන් පැසී මේදස් ධාතුව අධික ව ඉන් එහාට නො පැසී ඒ ධාතුව ම ශරීර ගත වීමෙන් මේ රෝගය හැමදත නිසා ශරීර ශක්තිය ද අඩු වේ.

මෙය සෑදුණු විට මත්ස්‍යමාංස, තෙල් ආහාර ආදිය නවත්වනු. බත් ද පුළුවන් පමණ නවත්වනු. පලතුරු, එළවළු, හැකි පමණ අනුභව කරනු. අරිෂ්ට ආසව භාවිත කරන්නේ ය.

i. මීපැණි - ඇල්දිය අවුන්ස ½ බැගින්, උදේ උදේ භාවිත කරනු. ගත මෙදවියා වත් කෘශ වේ.

ii. සිවිය මුල් - සුදුදුරු - තිකුළු - පෙරුම් කායම් - සුවඳලුණු - රත්නිවුල් සමභාග - සියල්ල මෙන් හරි අඩක් බාර්ලි, චූර්ණ කරන්නේ ය. බාර්ලි බැද ගත යුතු. වරකට කලං ½ සිට කලං 1 දක්වා කිරිමෝරුවෙන් දෙන්නේ ය.

iii. අරළු - බුළු - නෙලි චූර්ණය මීයෙන් අනුභව කරන්නේ ය.

iv. අරළු ආසවය :— අරළු රාත්තල් 12 යි, ගෝ මූත්‍ර බෝතල 48 යි භාජනයකට දමා පියන වසා මාසයක් තබා පෙරා ගෙන - දවසකට මෙය හැන්දෙන් 2 බැගින් උදේ සවස පානය කරන්නේ ය. ගුල්ම, උදර, ඉදිමුම්, පාණ්ඩු, මේද රෝග, නසන්නේ ය. වුවමනාවට වඩා ශරීරය මහත් වූ කල්හි චින්තා (=සිතිවිලි) - පරිශ්‍රම - රාත්‍රි ජාගරණ (=රෑ නිදි මැරීම) - මෛථුන - අත්‍යන්ත ශරීර මාර්ජන - ලඞ්ඝන - රෞද්‍ර සේවන - ඇතුන් අසුන් පිට ගමන - ප්‍රපයණීවන - විරේචන - වමන - අපතර්පණ - පුරාණ උණ සහල් - රළු ධාන්‍ය - මීපැණි - ඊළඳ - කටු ද්‍රව්‍ය - තිත්ත ද්‍රව්‍ය (කිරි) මෝරු - සුරා - තිපල - ගෝ මූත්‍ර - තිකුළු - අබ තෙල් - උණු දිය - කොළ වගී - එළවළු - පලතුරු - ශිලාජතු - භෝජනයාගේ පූර්වයෙහි ජලපාන යනාදිය පථ්‍යයෝ යි.

ගිතෙල් පත 4 යි. තලතෙල් පත 2 යි. ලුණු ඉතා තල තාළ තල පත 4 යි. (මෙය ඉතා හොඳව ගලහා දමා, කිතලින් හෝ තල තෙලෙන් අඹරා ගත යුතු) - හිරිබද්ද අල යුෂ පත 4 යි. බින්තල්අල යුෂ පත 4 යි. ඉඟිනි ඇට - අරළු - ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - කරාබු නැටි - එන්සාල් - හොල්ලම් කොල - කුරුඳු පොතු - නාමල් රේණු - අමුක්කරා - සුදුදුරු - තිප්පිලි මුල් - සාරණ - හිරිබද්ද - බින්තල් - මදනකාමපු - කුම්කුමප්පු - සාලාමිශ්‍රි - සාදික්කා - කලාදුරු අල - ගජතිප්පිලි - උලුහාල් - වසවාසි - බුළු - නෙල්ලි - සීනමුල් - මුරුක්කු තිප්පිලි - ඉරමුසු - කටු ඉඹුල් මුල් - හෙරෙසැඩි - උඳු - මූඹමිකහ මුල් - ඇද්දෙමට මුලේ පොතු - රසකිඳ - අමුවා කලං 6 බැගින් ද වියළි වා කලං 3 බැගින් ද ගෙන හොඳව අඹරා යොදන්නේ ය. තෙල් පැදෙන විට පෙරා අනා තබන්නේ ය. වරකට බුළු පමණ උදේ සවස වළඳන්නේ ය. ප්‍රමේහ - දියවැඩියා - ශ්වෙත ප්‍රදර - කකුල්, හන්දි කෙවුම් - ශරීර දුර්වලවීම ආදී රෝග නසා ශරීරය පුෂ්ටිමත් කරන්නේ ය. රසායන යි. වාජීකරණ යි.

## උදර රෝගය

### Abdominal Dropsy

**සාධාරණ ලක්ෂණ** :— ආමාශයෙහි වේදනා - ගමන් කිරීමෙහි අශක්තිය - අතිශය අග්නි මාන්ද්‍යය (=ආහාර නො දිරීම) - ඉදිමුම - මුළු ශරීරයේ වලංගු මද බව - අධෝ වායු මල දුක සේ පැමිණීම - සමේ දුර්වලය යනාදිය සියලු උදර රෝගයාගේ සාමාන්‍ය ලක්ෂණ යි.

**වාත උදරයෙහි ලක්ෂණ** :— අත් පා නැබ බඩ යන මේවායේ ඉදිමුම - යටිබඩ - බඩ - කවිය - ඉද ඇට යන මේවායේ වේදනා - හන්දිවල වේදනා - වියළි කැස්ස - මලබද්ධ - කළුවන් ලේ නහර මතුවීම - උදරයේ සාද වේදනා ආදිය ඇති වෙයි.

**පිත්තෝදරයේ ලක්ෂණ** :— උණ - කලාන්තය - දූවිල්ල - වතුර පිපාසය - තරකැවිල්ල - අතිසාරය - සම, ඇස්, තිය තහ පැහැවීම ඇති කෙරේ. මෙය ක්‍රමයෙන් ජලෝදරය බවට හැරේ.

**ශ්ලේෂ්මජ උදරයේ ලක්ෂණ** :— අඟ පසඟවල වලංගු නැති නාම - ඇඟ අත ගැ තාල වේදනා නො දූනීම - ඉදිමුම - අත පය බර බව - නිදි - වමන වේග - අරුචි - ශ්වාසය (=ඇදුම) කැස්ස ඇති කෙරේ.

ත්‍රි දෝෂජ උදර රෝග ලක්ෂණ :— ස්ත්‍රී පුරුෂාදීන් විසින් ඉතා නිදිමට දෙන - නිය - රෝම - මල - ආර්තව ආදිය යුක්ත බෙහෙත් විෂ පීතෙහින් ද - සතුරු ජනයා විසින් දෙන ලද විෂ යෝග නිසා ද, අහාර සංයෝග විරුද්ධ දේ නිසා ද කිපුණා වූ දෝෂයෝ මෙය උපදවති. අසාධ්‍ය ලක්ෂණ ඇති වේ.

ප්ලීහ ජනිත උදර :— පිලාව ඉදිමීමෙන් හා අක්මාව (=කැමුත්ත=පීගුඩුව) ඉදිමීමෙන් මෙය වේ. වම් තනයට යටින් මහත් වූ කල පිලාවෙන් වූ උදරය යි. දකුණු පැත්ත මහත් වූ කල අක්මා උදරය යි. පියෝ උවදුරු ඇති කෙරේ. උණ, මලබද්ධ, උදවන් ඇති වේ.

බද්ධ ගුද උදරය :— නාභියත් හෘදයත් අතරේ මල රැස්වීමෙන් හැදේ. ඊට ශල්‍ය කර්මය යොදනු.

ක්ෂත ජනිත උදරය :— බඩවැල් තුවාල වීමෙන් හැදේ.

ජලෝදරය :— ආමාශය මහත් වේ. රෝගියා යන එන කල බඩේ වතුර ශබ්ද වේ. නාභිය වටේ වේදනාව පවතී.

**ප්‍රතිකාර**
**Treatment**

සාමාන්‍යයෙන් සියලු උදරයන්ට ම විරේක-ගෝමූත්‍ර, යෙදිය යුතු යි. i. ගෝ මූත්‍රවලට එඩරු තෙල් දමා දෙන්නේ ය.

ii. ගෝමූත්‍ර බෝතල 12 යි. අරළු රාත්තල් 2 යි. මෙය භාජනයකට දමා, 15 දවසක් වසා තබා, නැවත ගෙන පෙරා වරකට පත ¼ බැගින් පානය කරන්නේ ය. ඉදිමුම් - උදර - පාණ්ඩු නසා.

iii. සුවඳ කොට්ටන් - දුත්ත අල - යවකාර ලුණු - තිකුළු - සහිඳ ලුණු - බලල් ලුණු - පුවස ලුණු - වදකහ - නළදුරු - අසමෝදගම් - පෙරුම්කායම් - සිතක්කාරන් - සිවිය - රත්නිටුල් සමභාග, චූර්ණ කරන්නේ ය උණු දියෙන් දෙන්නේ ය. අජීර්ණ- අග්නි මාන්ද්‍ය - ශූල - වාත උදර - පරිශ්‍රාවී උදර (Appencitis) නසා ලයි.

iv, සාරණ - දේවදාර - අරළු - රසකිඳ කසාය, ගෝ මූත්‍ර - ශුඩ කල ගුගුල් බහා දෙන්නේ ය. ඉදිමුම - උදර - පාණ්ඩු - උඩ කයෙහි සෙම් අම්රු - කෙල ඉහීම යන රෝග නසා.

v. ගෝමූත්‍රවලින් සකාරන ලද තිපල් කසාය දෙන්නේ ය.

vi. සාරණ - දේවදාර - රසකිඳ - දියමිත්ත - බෙලි මුල් - හෙරෙසැඩි - එළබටු - කටුවැල් බටු - කහ - වෙනිවැල් ගැට - තිප්පිලි - රත්නිටුල් - ආඩාතෝඩා - සමභාග කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය. කසාය ද ගෝ මූත්‍ර බහා සකාරා දෙනු.

ඇඟ පුරා ම පැතිරුණු ඉදිමුම් සහිත උදර රෝග, හෘදවල වණ රෝග නසයි. පපුව ඉදිමුණු උණ (=Pneumonia) ට, ලෙඩේ ගෙඩිවලට, කුඩ උණු බහුරෙන් හා ගෝ මූත්‍ර සමග දෙනු.

vii. සාරණ - දේවදාර - සහ - කටුවැල් බටු - දුම්මැල්ල - අරළු - කොහොඹ - කලාදුරු අල - ඉඟුරු - රසකිඳ - තෝඩු-පතක් ද වතුර පත 7 ක් ද බහා පහට සිඳ ශුද්ධ කළ ගුගුල් දමා දෙන්නේ ය. සර්වාංගගත ශෝථ (=ඉදිමුම්) - උදර - කාස - ශූල - ශ්වාස - පාණ්ඩු නසා. තද ඉදිමුම්වලට 'ස්නැප්ස්' නම් මද්‍ය බහා දෙන්නේ ය.

## නාරායන චූර්ණය

අසමෝදගම් - ඕඩම්ගත - කොත්තමල්ලි - තිපල - කළුදුරු - සුදුදුරු - තිප්පිලි මුල් - කොරසාහි - අරත්තග - වදකහ - ශතකුප්ප - මහදුරු - ගිතුළ - රංකිරි ගොකටු කිරි වියලා - රත්නිටුල් - යවක්ෂාර ලුණු - සිනක්කාරන් - පුෂ්කර මූල (=සින් වන ඉද්ද මුල් හෝ) - සුවඳ කොට්ටන් - මුහුදු ලුණු - දියේ සෑදෙන "දියපරඬැල්" යන වර්ගය පිලිස්සූ අළු-සහිඳ ලුණු - බලල් ලුණු - සුවඳ ලුණු - (ලුණුවලින් ලැබුණු තරමක් ගන්නේ ය.) වලගසාල් සමභාග - දන්ත අල 3 භාග-තිරස්සවලලු 2 භාග - ගොන්නැකිරි අල දෙ භාග-කහ 2 භාග-චූර්ණ කරන්නේ ය.

උදර රෝගයෙහි මෝරු සමග, ගුල්මයෙහි කොල්ලු කසාය සමග, බඩ පිපුමෙහි සුරා සමග, මලබද්ධයෙහි උණු දියෙන්, අජීර්ණ - ආම රෝගයන්හි දෙළුම් මුල් කසායෙන්, පාණ්ඩු- කාස- ශ්වාස - අග්නි මාන්ද්‍ය ආදී රෝගවල දී ඊට හිත අනුපානයක් සමග අනුභව කරන්නේ ය.

**උදර රෝගයෙහි පථ්‍ය**
**Suitable**

උදර රෝගයෙහි විරේචන - උපවාස - පුරාණ කොල්ලු සුප - මුං සුප - රත්හැල් - බාර්ලි-පේයා - සුරා - මී පැණි - සිඹු - මාධව (=මද්‍ය විශේෂ) - මෝරු දිය - සුදු ලූනු - එරඬු තෙල් - අඹ ඉඟුරු - පත්තෝල - පිටසුදු පලා-තුරංගා - අරළු - බුලත් - එන්සාල් - යවක්ෂාර ලුණු - අයගම-එළකිරි - එලකිරි - ඔටුකිරි - මීකිරි - එළු මුත්‍ර - එල මුත්‍ර - මීගොන් මුත්‍ර - ලඝු ද්‍රව්‍ය - තික්ත ද්‍රව්‍ය - අග්නි දීපක ද්‍රව්‍ය යනාදිය පථ්‍ය ය.

**උදර රෝගයෙහි අපථ්‍ය**
**Unsuitable**

උදර රෝගයෙහි තෙල් බීම - ධූම පානය - ජල පානය - ශිරා විදීම - වමන - ඇතුන් අසුන් නැගීම - දවල් නිදීම - ව්‍යායාම - පිෂ්ට විකාර - උදක මාංශ - ආනූප මාංශ - පත්‍රශාක - කල උෂ්ණ ද්‍රව්‍ය - විදාහි ද්‍රව්‍ය - ලවණ - විරුද්ධ භෝජන - දූෂිත ජල - ගුරු ද්‍රව්‍ය - මිශ්‍රකෘත පචිත ජාත නදී ජලය - විෂ්ටම්භකාරක ද්‍රව්‍ය - විශේෂයෙන් ජලෝදරයෙහි සෙවද ආදිය අපථ්‍ය යි.

## ක්ෂතජ උදරය හෙවත් පරිශ්‍රාවි උදරය

### APPENDICITIS

කුඩා බඩවැල මහ බඩවැලට සම්බන්ධ වන තන්හි පිහිටි උපාංගයෙහි වේදනා සහිත ප්‍රදාහයක් ඇති වේ. මෙය ක්‍රම ක්‍රමයෙන් වැඩේ වමනය ද දහඩිය දැමීම ද ඇති වේ.

**ප්‍රතිකාර**
**Treatment**

මීට උදර රෝගයෙහි දක්වුණු 'vi' කසාය හා 'iii' චූර්ණය යොදන්නේ ය. තාරායන චූර්ණය 'ලුණුවරණ' මුල් කසායෙන් යොදන්නේ ය.

## ප්ලීහ යකෘත් රෝග

### Enlargement of Spleen & Liver

පිලා - අක්මා ශරීර ගත වූ විෂ (මැලේරියා ජීවානුන්) නිසා සිදු වේ. කුඩා දරුවන්ට ගර්භිණීන්ගේ කිරි බීමෙන් අක්මාව ඉදිමේ. මෙයිට වාතද් ගාර්ගෂ්‍යාදී කසාය හා දසියාදී කසාය (පුරාණ හුවණ්ණ නියම) - ගෝ මූත්‍ර බත කාකාරු දෙන්නේ ය. එසෙත් කසාය ගැලි (මඩ හෝ කාල්) 6 බැගින් දී, අභයාදී මෝදකයෙන් විරේක කරවන්නේ ය. අක්මාව ඉදිමුණු ළමයන්ට 'මාත්දම්' කසාය ද දෙන්නේ ය.

## ගුඩූචාදී චූර්ණය

රසකිඳ පොතු - ඇඹිලියම - ඉඟුරු - බින් කොහොඹ - කාලමෙස (=තවකීත්සා) - කලාදුරු - තිප්පිලි - යවකාර ලුණු - ජීරක්කාසි (=පැරසිකල්ප්) - නාපොතු, සමභාග චූර්ණ කරනු.

**මාත්‍රා** :— රතී 5 සිට 10 දක්වා දවසට දෙවරක් උණු දියෙන් දෙනු. එළකිරි - දිය ලබු පථ්‍ය යි. කරවිල - අළුපුහුල් - විනාකිරි - මද්‍ය අපථ්‍ය යි.

# ශෝථ රෝගය (ඉදිමීම)

## ŒDEMA

ශරීරය ඉදිමුණු කල දෝෂානුසාරයෙන්, ඒ ඒ දෙස් ශමනය වන බෙහෙත් යොදන්නේ ය.

i. තිපල් කසාය ගෝ මූත්‍ර බහා දෙන්නේ ය.

ii. අරළු ගෙඩි 12 ක් සුණු කර, සිනිඳු ව ප්‍රමාණ ගෙන අත්තෝමාරිකා පෙත්ත ඉරා බෙහෙත් ඒට දමා මැටි ගසා සවස තියා උදය ගෙන එම පිත්ත ලියා තැඹිලි ගෙඩියකට දමා, තකාරා දෙන්නේ ය. උණ ඉදිමුම් - බෙහෙත් විෂ ඉදිමුම් - ශෝථ - පාණ්ඩු - අඩස්සි - මලබද්ධ නසා. සන්නි ලකුණු ඇති විට මෙය නො දෙනු.

iii. රා බෝතලයසි - දෙහි ඇඹුල් පත සි - කිතුල් හකුරු බැවසි (රා: ½ සි) - අරත්තාහ කලං 2½ සි - කළුදුරු කලං 12 සි - සියල්ල භාජනයකට දමා පරණ යබර ගිනියම් කර ඒට බස්සා, කට බැඳ ලිප ළඟ 60 පැයක් තබා, පෙරා 7 වරුවක් දෙන්නේ ය. පාණ්ඩු - ඉදිමුම් නසා.

iv. අරළු - ඉඟුරු - ගොලෑපෙති කලං 12 සි. සියඹලා කොළ කලං 12 සි. සියඹලා පොතු කලං 12 සි. පත 16 ය 4 ට සිඳ රොඩු පෙරා කසායට සහිඳ ලුණු කලං 2 සි. කිතුල් හකුරු කලං 6 සි. පරණ සියඹලා බෝර කලං 4 සි. අඹරා දමා පත 3 ට සිඳ, උදේට තිරස්සවළුදු කුඩු දමා, හවස අනුපාන නැතිව ද යොදන්නේ ය සියලු ඉදිමුම් නසා.

v. ප්‍රතිශ්‍යා උණෙන් ඇති වූ ඉදිමුමට:— සුදු පස් මූල් - කොත්තමල්ලි කසාය ගෝ මූත්‍ර බහා සාදා දෙනු.

vi උදර රෝගයේ සුදුසු කසාය යුක්ති යුක්ති බලා දෙන්නේ ය.

vii. කහ - අරළු - සිරිතේක්කු - රසකිඳ - කොත්තමල්ලි - දේවදාර - කාරණ - වෙනිවැල් කැට - ඉඟුරු කසාය, ගෝමූත්‍ර බහා සිඳ කර දෙනු.

සංලක්ෂ්‍යය :— ඉදිමුම්වලට මෙම කසාය උදේ හවස දෙනු. අතරට දවසට දෙ වරක් චූර්ණයක් දෙනු. පුනර්නවාදි චූර්ණය ආදිය යොදනු.

viii. ආඹාහෝබා (=වැටකිරා) මුල් - රසකිඳ - කටුවැල් බටු කසාය දෙනු. ශෝථ - ශ්වාස (=ඇදුම) - කාස - උණ - පීනස - වමන නසා ලයි.

ix. සාරණ - කොහොඹ පොතු - දුම්මැල්ල කොළ - ඉඟුරු- කටුකරෝසන - රසකිඳ - දේවදාර - අරළු කසාය, සර්වාංග ශෝථ- උදර - පාණ්ඩු ශූල (=අංග වේදනා) - දූෂිත සන්ධිගේ වම ඇලයේ ඇතිවන වේදනා - ගුල්ම පාණ්ඩු රෝග නසයි.

සංලක්ෂය :— මේ ගුණ දක්වූ සිංදු යෝග පාණ්ඩුවට ද ඇදුමට ද යෝග්‍ය ය. පහත දක්වෙන චූර්ණ ද යොදන්නේ ය.

පුනර්නවාදි චූර්ණය:—සාරණ - දේවදාර - අරළු - දියමිත්ත- බෙලි මුල් - හෙරෙසැවි - දෙබටු - රත්නිටුල් - කහ - වෙනිවැල් ගැට - ආඩාතෝඩා මුලේ පොතු සමභාග, චූර්ණ කරන්නේ ය

සුකුමාර ඇත්තන්ට ද ළමයන්ට ද රත්නිටුල් වෙනුවට කොත්තමල්ලි ගත යුතු යි.

උදේ 10 ට සවස 2 ට දී, නීරමුල්ලි - හෙරෙසැවි තැම්බූ දිය දෙනු. ලුණුවරණ පොතු තැම්බූ වතුර දෙනු.

(Key Gin) කී ජින්, පින ටික දෙනු. ඉදිමුම් නසා ලයි.

පථ්‍ය :— සංශොධන ඖෂධ - උපවාස - රක්ත මෝක්ෂණ - ස්වේදන - ප්‍රලේපන (=ගැල්ලීම්) පරිශේචන - පුරානන රක්ත ශාලි ධාන්‍ය - කොල්ලු - මුං - බාර්ලි යන මේවායේ යූෂ - පුරානන ඝෘත - මෝරු දිය - සුරා - මීපැණි - ආසව - පතෝල - පිවසුදු - තිව්ති සුප් - රාබු - මුරුංගා - එරඬු තෙල් - කහ - අරළු - සෝර- බඳුල්ල - ගුගුල් - ශිලාජතු - යකඩ භස්ම - යකඩ මිශ්‍ර ද්‍රව්‍ය - ගෝ මූත්‍ර - එළු මූත්‍ර - මහිෂ මූත්‍ර - කස්තූරි - ශිලාජතු ආදිය ඉදිමුම් රෝගයෙහි පථ්‍ය යි.

අපථ්‍ය: —සම් ද දූෂිත වායු සේවන - දූෂිත ජල පාන - මල මූත්‍රාදි වේග ධාරණ - සම්ප්‍රකාර විරුද්ධ පාන භෝජන - විෂම භෝජන - මෘත්තිකා භක්ෂණ - ග්‍රාම්‍ය ජලජ අනූපම මාංස- ලවණ - ගුඩවිකාර - පිෂ්ටාගත - දීකිරි - අමල - ශුෂ්ක මාංස (=වියලි මස් හා කරවල)- දිවා නිද්‍රා - මෛථුන ආදිය ඉදිමුම් රෝගයෙහි අපථ්‍ය යි.

## කෝෂ වෘද්ධි

### Enlargement of the Scrotum

අණ්ඩ කෝෂයාගේ ඉදිමුම - ශරීරයේ පහල කොටසේ වාත වේදනා - මෙහින් කියවේ.

මෙසේ වේදනා - ඉදිමුම ආදිය ඇති වූ වහා ම පිළිවෙලින් මෙහි පහත දක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.

i. බුඩම්හත මුල්, සුදුලූණු, උළුහාල්, වැල්පෙනෙල මුල්, පෙරුම්කායම් කසාය - උදේට එඬරු තෙල්, සවසට සීනි මීපැණි දමා දෙන්නේ ය. මෙසේ කසාය 7 ක් දෙනු. පෙරුංකායම් අප්‍රිය අයට එය අහක් කර දෙනු.

ii. කටුකරඹු මුල්, එරඬු මුල්, නික මුල් කසාය - උදේට එඬරු තෙල් සහිඳ ලුණු දමා, සවසට සීනි මීපැණි දමා දෙන්නේ ය.

iii. වදකහ, සුදුලූණු, කුඹුරු ඇට මද, මූඩම්හත, සාරණ, අරළු, තෙල් එරඬු මුල්, හෙරෙසැඩි, නීරමුල්ලි, දන්ත, කොල්ලු කසාය දෙන්නේ ය. මුත්‍ර රැඳීමෙන් ඇති වන අණ්ඩ වෘද්ධි, මේදෝ වෘද්ධි, වායු වෘද්ධි නසා.

**වැල්ලුම් :—** කටු උණ කොළ, වැල් පෙනෙල, බිත් එඬරු කොළ, කහ ලුණු දමා කොටා මලවා බඳින්නේ ය.

**අණ්ඩ වෘද්ධියෙන් බණ්ඩි වේදනා, අඩස්සි ආ කල :—** තුඹ ගැට, පෙරුම්කායම්, සුදුලූණු, කැප්පිටියා මුලේ පොතු පෙරං ගා- පැසුණු පොල් එකට කොටා මිරිකා - එඬරු තෙල්, ගිතෙල් දමා දෙන්නේ ය. විරේක ගුලියක් දුම්මොත් වඩා යෝග්‍ය යි. ගිතෙල් එවිට අනුපානව යොදනු.

**අන්ත්‍ර වෘද්ධිය :— (Hernia)** තහරයක් මෙන් අණ්ඩ දෙසට පැත්තෙන් තෙරා එයි. ඇතැම් විට පුස් ඇටයක් මෙන් සිටී. මිරිකූ කල බිරි බිරි ගගා ඉහළට පනී. ඇතැම් විට තද වේදනා ද ඇති වේ. එවිට මේ රෝග අධ්‍යායයේ දැක්වූ මූඩම්හත මුල් එත මුල කසාය ද කැප්පිටියා මුලේ සුඹුලු එත බෙත ද දෙන්නේ ය.

වදකහ, බූරුංගා පොතු, ආඩතෝඩා කොළ, මූඩම්හත මේවා කොටා මිත්‍රාඵලන් අනා වණ්ඩුවේ තම්බා තවනු. 'බූරු බෙටි' ගෝ මුත්‍ර සමග අනා වණ්ඩුවෙන් තම්බා තවනු.

i. අරත්ත, වැල්මී එරඬු මුල්, බැබිල, ඇහැළ, නාහෙරෙසැඩි, දුම්මැල්ල, ආඩතෝඩා මුල් කසාය - එරඬු තෙල් දමා දෙනු.

**අණ්ඩ වෘද්ධි, අන්ත්‍ර වෘද්ධි දෙකට ම කල්ක :—** i. සුදුලූණු, කටුකරඹු මුලේ පොතු, සාරණ, කුඹුරු ඇට මද, සහිඳ ලුණු පෙරුම්කායම්, උණු දියෙන් අඹරා බිත් එඬරු කොළේ ඔතා උණු අළුවෙන් තම්බා කුඹුරු ඇට පමණ ගුලි කරනු. උණු දියෙන් දෙනු.

ii. හෙළිඳ හාල්, අතිවිඩයන්, සුවඳ ලුණු, අරළු, වදකහ, මූඩම්හත, කුඹුරු ඇට මද, සුදුලූණු, වැල්පෙනෙල මුල්, එරඬු ඇට සමභාග සියල්ලෙන් ¼ ක් පෙරුම්කායම්, ඒ පමණ උළුහාල්, පෙර සේ ගුලි තනනු.

අණ්ඩ වෘද්ධි, අන්ත්‍ර වෘද්ධි නාශ. අන්ත්‍ර වෘද්ධියට ශල්‍ය කර්මයක් ද වුවමනා විය හැක.

අණ්ඩ වෘද්ධියෙහි තැවිලි :— දෙබම් ඇට, මී ඇට, පුස් ඇට, සුදුළූණු, කොට්ට පොල් දමා කොටා මී තෙලෙන්, දෙබම් ඇඹුලෙන් අනා පොට්ටනි බැඳ වණ්ඩුවෙන් තම්බා තවනු. රස්නය බලා තවනු පුලුස්සනවා නො වෙයි

**වේදු** :— පුස් ඇට මද, කුඹුරු ඇට මද, පඹුරු, හාපු, මිල්ල, කුරුඳු, අංකෙන්ද, ලුණුවරණ මේවායේ කොළ පොතු, වල් ඉඟුරු, අරංකහ, හිරස්ස, කළුවා අල, මේ හැම ගෝ මූත්‍රයෙන් අනා කොටා දිය කර වංගඩියකට දමා යබර රත්කර දමා තුන් දිනක් වේදු පානු. තද හුමාලයට නො අල්ලා ප්‍රවේසමෙන් අල්ලනු

**මැල්ලුම** :— දෙහි, තෝර, තීත, ගම් කොළ සහ ලුණු දමා, කොටා මලවා දුම්කොළයකින් බඳිනු.

**'මූරුංගා තෛල'** :— මූරුංගා මුල් පුස නැලියයි, එරඬු තෙල් මනාවයි. **කල්කයට**: පෙරුම්කායම් කලං 5 යි, සුදුළූණු දෙපසයි, කුඹුරු ඇට මද, සහිඳ ලුණු කලං 3 බැගින් අඹරා දමා තෙල සිඳ ගෙන කලං බොත්ට දෙන්නේ ය. 7 දිනක් උදේ උදේට දෙනු.

අණ්ඩ වායු බන්ධ හැක්කුම, අන්ත්‍ර වෘද්ධි බන්ධ හැක්කුම, මූත්‍ර ගල්, බඩරුජා, යටිබඩ කොරවීම, උස්මුරුතා, පිපුන්, තුනටිය දිගේ අවුත් හොන්දට යන රුජා ආදිය නාශ.

**මූඪන** :— අපථ්‍ය ආහාර, විෂ ද්‍රව්‍ය සේවන, ලේ විෂ වීම ආදියෙන් ඉකිලියේ කිරිගඩු ඉදිමී ඇති වන ගෙඩි විශේෂය යි. කලල් ගෙඩි යනු ද මීට නමි.

i. වාත රෝග අධ්‍යායයේ සඳහන් මඤ්ජිෂ්ඨාදි කසාය දෙන්නේ ය. මෙය ද ගෝ මූත්‍ර බහා කසාරා දිය යුතු. ඒ අතරට අරළු - තිප්පිලි - සහිඳ - ලුණු එඹරා තෙලෙන් අනා ලේප කරන්නේ ය. වරනාට මසඳාවඩ 5 සිට 10 දක්වා දවසට දෙවරක්.

ii. දුග කිරි ආලේප කරනු.

iii. අරළු, වදකහ, ඉඟුරු, හිරස්ස මඬු, ඇහැළ පොතු, ගින් එන්සාල් (=කර්දමුංගු), මහ එන්සාල් කරාබු නැටි කසාය - ගෝ මූත්‍ර බහා කසාරා දෙන්නේ ය.

**විල්වාදි චූර්ණය** : බෙලිමුල්, දිවුල් මුල්, හොටිල, රත්නිටුල්, දෙ බවු, වෘශ්චිකාරක (=විල්ලුද වැල්වල ඇට) කුඹුරු ඇට, මූරුංගා මුල්, ඉඟුරු, බදුල්ල ඇට, තිප්පිලි, තිප්පිලි මුල්, සිවිය, ලුණු පස, යවක්ෂාර ලුණු, අසමෝදගම් - සමභාග චූර්ණ, උණු දියෙන් අනුපාන කරන්නේ ය.

**ප්‍රලේප** :— ලාහඬ, හරඳ ඇට, ඉඟුරු, දේවදුර, සිවන්ගුරු, ඊරුලු සමිවන්, ගෝ මූත්‍රයෙන් අඹරා ප්‍රලේප දෙනු. ව්‍රධිත ශොථ නසා. මෙය ද 'ව්‍රණ ශොථ' මෙන් ප්‍රතිකාර කළ හැකි යි.

## විද්‍රධි – ව්‍රණ – ව්‍රණ ශොථ

### වණ – ගෙඩි – ගඩු – පිළිසල් ආදිය යි.

### Deep Seated Abscess, Abscess Wounds, Ulcers Etc

විද්‍රධි, ව්‍රණ ශොථ (=ගෙඩි) යක් ඇති වූ කල මුල දී ලේ ඉහිරීමට ප්‍රතිකාර කළ යුතු යි. මේ පොතේ ඖපසර්ග මේහයේ අග කොටසේ සඳහන් වන i. මඤ්ජිෂ්ඨාදිය, ii ශාරිබාදි කසාය, iii අමෘතාදි කසාය එකෙකින් 6 බැගින් දිය යුතු යි. ලේ නරක් වීමෙන් විෂ වීමෙන් සෑදෙන සියලු රෝගවලට මීට වඩා හොඳ කසායක් සොයා ගැනීම අමාරු ය. වණ, ගෙඩි, පිළිසල් ඇති සියලු අවස්ථා වල දී ම මේ කසායන් පෙදිය යුතු ය. කලල් ගෙඩිවලට ද මේවා පෙදිය හැකි යි. මේ කසාය දෙන කල ප්‍රලේප යොදන්නේ ය.

## ගෙඩි ඉහිරෙන පත්තු

### Plasters for Boils

**දැවිලි ගෙඩිවලට**
**Burning Boils**

දැවිලි ගෙඩි ඇති වූ විට ඉහිරීමට මුල දී මෙහි පහත දක්වෙන පත්තු යොදන්නේ ය. i. රත්මල් සහමුලින්, සියඹලා දලු, අරලිය දලු, ගොන් කැකිරි කොළ මේ හැම කොටා එළකිරෙන් අනා මිරිකා කකාරා ගානු.

ii. සැවැන්දන, ඉරිවේරිය, ඉරමුසු, වැල්මී, නෙළුම් අල, අමුක්කරා, සුදු හඳුන්, සුවඳ කොට්ටන්, තල ඇට, මානෙල් අල, කොවඳිඹුලා ගෙඩි, එළු මූත්‍රාවෙන් අඹරා ගානු.

iii. නුග පොතු, එඹ දලු, බෝ පොතු, බෝ දලු, ඇහැටුපොතු, එඹ දලු, වදකහ, ගෝ මූත්‍රයෙන් අඹරා කකාරා ගානු.

**සංලක්ෂණ** :— නාසයේ සෑදෙන ගෙඩිවලට ද මේ යෝග යෝග්‍ය ය.

**බැමෙ සෑදෙන ගෙඩිවලට**
**Abscess in Eye-brow**

බැමෙ සෑදෙන ගෙඩිවලට i. කෝමාරිකා මුල්, ඉඟුරු, මිරිස්, පල්මාණික්කන්, සුදු ළූනු, සිවන්ගුරු, දෙඹ ඇඹුලෙන් අඹරා ගානු. ii. ගොරක පුලුස්සා අළු මීපැණියෙන් ගානු.

**කම්මුලේ ගෙඩිවලට** Abscess in Cheek — i. අරළු, බුළු, නෙල්ලි, කරාබු පුවක්, සියඹලා දළු, ලුණු දිමෙයන්, මීපැණියෙන් අඹරා ගානු. කම්මුලේ ගෙඩි, ඇතොත්සා ගුණ වේ. ii. පුස් ඇට මද, කුඹුරු ඇට මද, කප්පමේනිය කොළ, වේලා කොළ, පෙරුම්කායම්, ලුණු දිය, මීපැණියෙන් අඹරා ගානු. කම්මුලේ සහ අනිකුත් සියලු තැන ගෙඩි සුව වේ.

සියලු තැන ම සෑදෙන ගෙඩිවලට මෙහි පහත දැක්වෙන පත්තු යොදන්නේ ය.

i. නික පොතු, රුක්අත්තන පොතු, අත්තන මුල් පොතු, අත්තන කොළ, එම ගෙඩි, අරළු, ඉඟුරු, ගම්මිරිස්, සියඹලා කොළ යුසින් අඹරා ඒව දිය හර හකාරා ගාන්නේ ය. සියලු ගෙඩි, නිති දුටු ඉටි මෙන් ඉහිරේ.

ii. මදටිය කොළ පොතු, සියඹලා කොළ, පොතු, කොටා මිරිකා දෙඩම් ඇඹුල් දමා තකාරා ගානු.

iii. පුස්ඇට මද, කුඹුරු ඇට මද, සිවන්ගුරු, මීපැණියෙන් අඹරා ගානු.

iv. රසදිය, සාදිලිංගන්, ගෙන්දගම්, පුස්ඇට, පුස්කර, සියඹලා ඇට මද, කුඹුරු ඇට, ඉඟිනි ඇට, කැකුණ මල, ගොරමල, මීඉටි, දෙදුරු, සිවංගුරු, පල්මාණික්කන්, පරත ගොරත, සීනක්කාරන්, සාරණ, නවසාරන්, සාරණ මුල්, දෙඩම් ඇඹුලෙන්, ගෝ මූත්‍රයෙන්, දිව්කදුරු යුසින් අඹරා බරපතළ ගෙඩි ඉසිරීමට යොදන්නේ ය.

**ගෙඩි ඉසිරීමට තැවිලි :—** ලුණු පොට්ටනියක් සාදනු. කබලක් ලිපේ තබා ඒට ලුණු වතුර දමනු. පොට්ටනිය ඒ පිට දමා ගිනි කරනු. ලුණු වතුර වියලුණ විට තවන්ට පුළුවන් රස්නය තිබෙද්දී තවනු. එතෙකණකි ගෙඩි ගැට වේ. දූවිලි ගෙඩිවලට මෙය නො යොදනු. කදුරු ගෙඩිය රත් කර තවනු. ඒට පසු පැලෑස්තර දමනු.

**සියලු ම ගෙඩි කුඩා වී පැසවන්ට :—** i. තිකුළු, තිපල්, කළුදුරු, විශන්දුඹුලු, වදකහ, දේවදර, ආඩාතෝඩා මුල්, රත්නිටුල් මුල්, කහ, කහ යුසින් අඹරා තකාරා ගානු.

ii. ඇද්දෙමට පොතු, පුල්වැල් කොටා මිරිකා ඇඹුල් දෙඩම් යුස වත් කර තකාරා ගානු. **ගෙඩි ඉසිරීමට පත්තු දැමූ කල නො ඉසිරෙන්නේ නම් පැසවීමට ඔබින් දැමිය යුතු.**

**ගෙඩි පැසවීමට :—** i. අඟු ගැට, දෙහි කැට, සියඹලා දළු, දියහබරල, පැපොල් මුල්, මුරුංගා මුල්, හාල් පොතු දිමෙයන් අඹරා ගානු.

ii. දිවි කදුරු ගෙඩි සහ දමා තම්බා, අඹරා සත දිනයක් ගානු. එසේ පැසවන ගෙඩි පවා පැණවයි.

iii. වෙන්බඹංගා කොළ, හබපුරුක් කොළ, හාපිරිත්තා දලු එක පරම ගෙන කොටා දෙබම් ගෙඩිය ඇතුළට දමා උණු අළු පල්ලේ තම්බා, දෙබම් ඇඹුලෙන් අඹරා ගානු.

iv. කාඩි බත් (=නීල් බත්), කෝමාරිකා, කෙල්ලී, රාවෙන් අඹරා දමනු.

v. හාපිරිත්ත දලු, අහු දලු, සියඹලා දලු, කපු දලු, දෙහි ගැට, අළු සහ, හාල්පාන දිගෙන් අඹරා දමනු. පැසවයි, ඉකිරවයි.

ගෙඩි පැසවූ විට මෙහි පහත දැක්වෙන යෝග යොදනු. එවා පැසවීමට ද, ගති ඇදීමට ද යෝග්‍ය ලේපයෝ යි.

i. හාපිරිත්ත දලු, වෙන්බඹංගා, වල්තම්පලා, සියඹලා කොළ, ඇට්ටඹුරු කොළ, රත්මල්, දෙමට මල්, වරාමල්, රණවරා මල්-කොළ, හිරුස්සපලු, දෙහි ගැට, කැකුළුහාල්, හාල් පානුවෙන් තම්බා අඹරා දමන්නේ ය. ගෙඩි පැසවයි. ගති අද්දයි.

ii. දුම්මැල්ල, එඬරු, වරා, වවුලුටිය, වෙන්බඹන්ගා, හාපිරිත්ත, ගොන්කැකිරි, රත්මල්, දෙමට, වල්වෙලා, වරා, ගැට දෙහි, කරඳ- මේවායේ යුතු වූ පරිද්දෙන් දලු මල්, පොතු ගෙන හාල් පානුවෙන් තම්බා දෙඩම් ඇඹුලෙන් අඹරා ගානු.

iii. දෙහි ගැට, කෝමාරිකා, කැකුළු හාල්, මුං ඇට, මුරුංගා දලු, කහ ලුණු දමා හාල් පානුවෙන් තම්බා අඹරා දමනු.

iv. වල්හබරල අල, කදුරු පොතු, දෙඩම් ඇඹුලෙන් අඹරා දමනු.

**ගෙඩි පැසවන්ට පුපුරවන්ට :—** i. කිංදුම්මල, සීනක්කාරන්, රත්නිටුල් මුල්, අමුකහ, මෙකී දේ සමභාග ගෙන දෙහි ඇඹුලෙන් අඹරා ගානු.

ii. ගව දත්, එඬරු තෙලෙන් ගලගා දමනු.

iii. මුව අං කුඩු, ගෝන අං කුඩු, ඇද්දත් කුඩු, මී අං කුඩු, කබල්ලෑ පතුරු කුඩු, ඉත්තෑකුරු, හලීස්, විශන් දුඹුලු, බැබිල කොළ, සමභාග ගෙන, කබලෙන් බැද, කුඩු කර සිතෙලින් අඹරා, ගෙඩියේ මුහුන ඇර ගානු. සියලු ගෙඩි පැසවා පිපිරේ.

iv. දිවි කදුරු ගෙඩි උණු අළුවෙන් තම්බා, ඇතුලේ ඇටබන ඇට හා සිව්ගත් අකන දමා, අතෙක් තොටස සිතෙලින් අඹරා දමනු. දුම්ලි ගෙඩි පුපුරයි.

**කඳ ගෙඩි මෝලොක් වීමට:—** දිගලඹු, කහ ලුණු දමා පොල් කිරෙන් තම්බා අඹරා දමන්නේ ය.

සඟඩි ගිල් වැලේ සිට ගැනී ඇද්දුවහම :— i. කබරල අල, බෙදුරු අල, අරත්තාග, කහ, වල් කුකුරු, බෙහි අල- කොහිල අල, කැලණිය අල, කදුබම හැට, දෙබම ඇඹුලෙන් තම්බා අඹරා දමනු.

ii. එලුපිගලි, රසකිඳා කොළ, හැකුළු හාල්, හාල් පානුවෙන් තම්බා අඹරා දමන්නේ ය.

iii. පුවක් මිද, හොඹපොර මිද, හාපිරික්ක දලු, හත්හාරත් ගෑට, වල් ගුකු අල, දෙබම් ඇඹුලෙන් තම්බා දීහිරිවලින් අඹරා ගාන්නේ ය.

iv. සියඹලා දලු, හෝමාරිකා, මූං ඇට, හීනටි හාල්- දෙහි ඇඹුලෙන් තම්බා අඹරා ගානු.

v. බෙබත් අනෝද කොළ, හම්සුරිය දලු, රුක්අත්තන පොතු, හැකුළුහාල්, හාල්පාන දියෙන් තම්බා අඹරා දමන්නේ ය.

ගෙඩිවල දී :— ලේ පිරිසිදු වන කසාය දෙන ගමන් අවසානයේ අභයාදී මෝදකය, මානිභද්‍ර මෝදකය ආදි විරේකයක් ද කළ යුතු. ගෙඩිවල 'වණ' ශෙෂ වූ විට මෙහි පහත දැක්වෙන 'ව්‍රණ' අධ්‍යායයේ ක්‍රමයන්ගෙන් ප්‍රතිකාම් කරන්නේ ය.

## ව්‍රණ (වණ)

## WOUNDS

වණයක් දුටු විට පළමුවෙන් ශුද්ධ වීමට බෙහෙත් දැමීම ද, එය බෙහෙත් වතුරකින් සේදීම ද, දූෂ්ට වණවලට දුම් අල්ලා බෙහෙත් දැමීම ද, ලේ පිරිසිදු වන කසායන් හෝ ශාරිබාද්‍යාසවය, ශාරිබාරිෂ්ටය ආදිය දීම ද කට යුතු.

වණ ශුද්ධ වීමට මෙහි පහත දැක්වෙන වතුරකින් සෝදන්නේ ය. i. අරළු, බුළු, නෙල්ලි, කහ, ගොරක, මැල්ල කොළ, දුණු කසායෙන් සෝදනු.

ii. නුග පොතු, බෝ පොතු, හාක් බෝ පොතු, අට්ටික්කා පොතු, ඇහැටු පොතු, දිවුල් පොතු තම්බා පල්මාණික්කන් ටිකක් කබලෙන් බැද දමා ඒව දිය කර වණ සෝදනු.

iii. තිපල, කහිප්පු, වෙනිවැල් ගැට, නුග පොතු, අට්ටික්කා පොතු, කොලොං පොතු, හාක් බෝ පොතු, ඇහැටු පොතු, ගොරක, කනේරු මුල්, වරා මුල්, කිරිවල්ලා පොතු, හොඹොබ කොළ, මසන් කොළ කසාය කර සෝදන්නේ ය.

iv. රත්මල් පොතු, කටුදෙමට පොතු කසායෙන් සෝදනු.

'වණ' මේ වතුරකින් සෝද, දෙදුරු, කරාබු, රතුලූනු, පල්මාණික්කන්, මී වී කුඩු, පැහැවච පොල් කොටා, ගිනි අඟුරු වලට දමා දුම අල්ලන්නේ ය. සුදු අඩාලිවලට එය වුවමනා නැත.

**වණ ශුද්ධ වීමට ලේප** :— බොහෝ වතුරකින් සෝදා වණ ශුද්ධ වීමට මෙහි පහත දැක්වෙන ආලේපයක් යොදන්නේ ය.

i. මඟුල් කරඳ පොතු, අඹුතන, පොල් කිරෙන් තම්බා අඹරා දමනු.

ii. මඟුල් කරඳ පොතු, ඇද්දෙමට මුල් පොතු, අඹු තන, පොල් කිරෙන් තම්බා අඹරා දමනු.

iii. රත්මල් කැකුළු, දලු, උඩුපියලි, නාපිරිත්තා දලු, එම මල්, සියඹලා දලු, තන, කැකුළු හාල්, පොල් කිරෙන් තම්බා අඹරා දමනු.

iv. තල, සහිඳ ලුණු, වැල්මී, නිරුස්සවාළු මුල්, කොහොඹ කොල, තන, වෙනිවැල් ගැට, මීපැණියෙන් අඹරා දමනු.

v. කොහොඹ කොල, තල, දුත්තමුල්, නිරුස්සවාළු මුල්, සහිඳ ලුණු, මීයෙන් අඹරා දමන්නේ ය.

**වණ ශුද්ධ වූ කල්හි** :— රෝපණයට ද, සුවවීමට ද සුදුසු බෙත් යොදනු.

**වණ රෝපණය හා සුවවීමට**:— i. ඉහත දැක්වූ අංක i සහ ii. තල තෙලෙන් මලවා අඹරා දමන්නේ ය.

ii. ගුගුල් කලං 4 ක් උණු වතුර පතක දිය කර තෙත රොඩු අහක් වීමට පෙරා අරගෙන, දුම්මල කුඩු, සහිඳ ලුණු කුඩු, ලිපේ රතු මැටි (කුඩු කොට හලා ගත යුතු). මේවා මිශ්‍ර කර තබා, යකඩ තැටියකට ගිතෙල් රාත්තල් $\frac{1}{4}$ ක් මී ඉටි රාත්තල් $\frac{1}{8}$ ක් උණු කර, තලින් ගුගුල් මිශ්‍රණය වත්කර ගිනි මොලවා ශබ්ද නැවති වතුර සිඳී ගිය විට, පෙර කී කුඩුත් එකතු කර අනා තබා ගන්නේ ය. තුවාලයේ බෙත් එලා කොපෙල් දලුවක් එලා බඳිනු. සුව වේ.

**වණවලට දමන කුඩු වගී** :— i. තිපල්, කහට පුවක්, සලක පොතු, කොට්දිඹුලා ගෙඩි පොතු, එඹ ගසේ පොතු, ඇහැටු ගෙඩි පොතු, එම ගසේ පොතු, අට්ටික්කාත් එසේ ම, කහඹ පොතු, කටුඹු බෝ පොතු, නුග පොතු, තොල්ලි ගසේ පොතු, මඟුල් කරඳ පොතු, නාගිප්පු, රත්හඳුන්, පල්මාණික්කන්, මේවා කුඩු කර අවුවෙන් වේලා අළුත් වණවලට ද, තබ තෙලෙන් බැද කුඩු කර පරණ වණවලට ද දමන්නේ ය. වණ සුව වේ.

ii. මූණමල් පොතු, කහ, පුස්කර, කපුරු, කහට පුවක්, වෙනිවැල්ගැට, ඉරමුසු, අරළු, කොහොඹ කොල, කරඳමුල් පොතු, රත්මල් පොතු, සීනක්කාරන්, පල්මාණික්කන්, නික කොල, ගොඩ කදුරු පොතු, තබ තෙලෙන් බැද කුඩු කරන්නේ ය. මීපැණියෙන් අනා යොදනු. මේවා අළුත්, පරණ වණවලට දැමිය හැකි යි. විෂ බීජ (=ජීවාණුන්) නසා ලයි.

iii. තල, රත්හඳුන්, පුහෙර, සමන්කුරු, කපුරු, රත්මල්, කාසිප්පු, සමන්පිච්ච කොළ, පල්මාණික්කන්, සිනාස්සාරන්, අල ගඩිය් (=සින මල්), ඉරමුසු මුලේ පොතු, මරුමුල් පොතු සමභාග- සාබලින් බැඳ කුඩු කරන්නේ ය. තුවාල, වණ සුව වේ.

මේ ධූම "බොරික්" කුඩු මෙන් වණවලට යෙදිය හැකි යි.

# ප්‍රලේප - ආලේප (පැලැස්තර)

## PLASTERS

අශුද්ධ පරණ වණවලට පැලැස්තර යොදන්නේ ය. මෙසින් කැපී මස් වඩා, සුව වේ.

i. පල්මාණික්කන්, රිදී තුත්තන්, ගිතෙල්, පූණු සබන්, කිතුල් හකුරු, එකට අඹරා කඩමල්ලේ ගා වණේ එලනු. පරණ වණ සුව වේ.

ii. මීඹුවි කලං 12, බිම්දුම්මල කලං 6 යි, පල්මාණික්කන් කලං 3 යි දෙදුරු, කරාබු, වසවාසි, සාදික්කා, සුදුහඳුන්, වැල්මී, ඉඟිනි ඇට, පුෂ්කර සාලඳ බැගින් කුඩු කර කඹලෙන් උණුකර පැලැස්තර සාදනු. මෙය තල්තෙල්වලින් ද මීපැණියෙන් ද අඹරා කඩමලුවල ගා පැලැස්තර දැමිය හැකි ය.

iii බින්දුම්මල, පල්මාණික්කන්, හල්දුම්මල, කුඩු කර බඳුනකට දමා, උණු වතුර වත්කර සෝදා වතුර පෙරා දමනු. මෙසේ 7 වරක් සෝදා වතුර පෙරා හැර ගෙන තුවාලවල යොදනු. මස්දලු, උස් වූ මාංස කැපේ.

නාගර කැපී ක්ෂාර වණවලට :— i. මුවකිරිය පොල් එක්ක කොටා, මලවා බඳින්නේ ය. ii. එඬරු තෙලෙන් තවනු iii වණ වූ විට උඳුපියලි කොළ අඹරා සතර දිනක් වණේ එලා කුණු කැපුණු පසු එම කොළ තලතෙලෙන් මලවා බඳිනු. ගුගුල්, මාදම්, පුපුර, කුඩු මිරිස - පොල් දමා කොටා තෙල් සිඳ බොහේට දෙනු.

දැවි, වලස්, ඌරන් කොඩු වණවලට:— වරකා පොතු, ලොකු කිරිවැල්, රත්මල් පොතු, පොල් දමා කොටා මිරිකා දෙදුරු, සුදු ලූනු, අඹරා දමා තෙල සිඳ දමනු. ජාත්‍යාදී තෛලය දමනු.

ඉදිබුම වණයට:— i. කුඹුරු, සියඹලා, එඬරු මෙවායේ කොළ ලියා මලවා බඳිනු. කටු උල් ඇණුනාම ද බඳිනු. ii. පරණ ගොරක, සහ සාබලෙන් බැඳ කුඩු කර සඳුන් පුණු දිය කල වතුරෙන් අඹරා ඉදිබුමේ ගානු.

# ව්‍රණ, ගෙඩි කාලයේ ලේ ශුද්ධ වීමට බිය යුතු කසාය ආදිය

## Blood Purifier

i. වාත රක්තයෙහි වූ ද, ප්‍රමේහ පිටකා අධ්‍යායෙහි වූ ද, කුෂ්ඨ රෝග අධ්‍යායෙහි වූ ද කසාය බොන්නේ ය.

ii. එළමිත්තඹුරු, හාතාවාරිය අල, කඹරන මුල් කලං 6 සි, සිහමුල් (=අල බෙත්) කලං 6 සි කසාය දෙනු. දරුණු ව්‍රණ සුව වේ.

**සංලක්ෂ්‍යය :—** අල බෙත් යොදන විට 'අපොල්' අඹංගු කැම නො දෙනු. ගිතෙල්, දුංතෙල් කැමවලට යොදා භාවිත කරනු. සාමාන්‍යයෙන් ව්‍රණවලට පොල්, මාළු, මස්, අපථ්‍ය යි.

iii. **සින මුල් චූර්ණය :—** අල බෙත් පලම්සි, කරාබු, වසවාසි, සාදික්කා, දෙදුරු, වැල්මී, කුරුඳු පොතු, වලගසාල්, කලඳ බැගින්, අසමෝදගම් කලං 2 සි, සුදු හඳුන් පලම්සි, රත්හඳුන් පලම්සි, ඉරමුසු පිටි පලම්සි, රසකිඳ පිටි පලම්සි, තෙල්ලි කලං 6 සි, අරළු කලං 2 සි, බුළු කලං 4 සි, කලාදුරු අල, කපු මුල්, රණවරා ඇට, ඉඟිනි ඇට, සැවැන්දරා මුල්, කලං 2 බැගින් විනාකිරේ දමා තිබා වේලාගෙන කුඩු කළ කොත්තමල්ලි රු: 1 සි, උක්සිනි රු: 1 සි, චූර්ණ කරන්නේ ය.

සියලු ව්‍රණ, ගෙඩි, තුවාල, උපදංශ ව්‍රණ, පිනස්, නාසයේ මස් දලු ආදියට වරකට කලං ½ සිට 1 දක්වා උදේ සවස දෙවරක් අනුභව කොට තෙල්ලි තම්බා පානය කරන්නේ ය. කොත්තමල්ලි, වෙනිවැල්ගැට තැම්බූ ජලය හෝ දෙන්නේ ය. සදිස්සි තුවාලවල දී තුවාලයට ද 'බෝරික්' කුඩු යොදන්නාක් මෙන් යෙදිය හැකි ය.

**ව්‍රණ තෙල් :—** කරඳ මුල්, දෙමට මුල්, ගම්මිරිස් මුල්, රණවරා මුල්, කොහොඹ මුල්, මෙණී දේ තොට්ට, දිය වක්කර තම්බා, මිරිකා, ලිප තබා, තලතෙල් වත්කර ඊට සසිප්පු, කාරංගා, පල්මාණික්කම් සතකුප්ප, කපුරු, මෙණී දේ අඹරා තෙල සිඳිනු. සියලු ව්‍රණවලට දමනු. කල්කය කුඩු සාදා ද ව්‍රණවලට දමන්නේ ය.

කොකුම් ඇට තෙල්, රටකැකුණ තෙල් යන දෙක අයුරින් මෙන් ම භාවිත කළ හැකි යි. මේවාට නික කොළ යුෂ හා කපුරු දමා සිඳ ගතහොත් විශිෂ්ට ගුණ ලැබේ.

**ජාත්‍යාදි ඝෘතය සහ තෛලය :—** සමන් පිච්ච කොළ, කොහොඹ කොළ, දුම්මැල්ල කොළ, මඟුල්කරඳ සහමුලින්, නික සහමුලින්, ඉරමුසු සහමුලින්, අවරිත්ත සහමුලින්, ගස සහමුලින්, ඉඟුරු සහමුලින්, කැප්පිටියා සහමුලින්, සියල්ල යුෂ කැලිය

බැගින්. කල්කයට: මිඳුට, බෑල්ම්, සුවඳ කොට්ටම්, කහ, වෙනිවැල් ගැට, කටුකරෝසන, වෑල්මදට, කිහිරඅරටු, ලොත්, අරළු, නෙළුම් රේණු, පිදිකුත්තන්, ඉරමුසු, කරඳ ඇට, කපුරු, කිහිරකොළ, පුස්කර, පල්මාණික්කම්, රත්හිරියල්, සියල්ල රාත්තල් 1 කි. තෙල්, පොල් තෙල් හෝ තලතෙල් හෝ රටකැකුණ තෙල් හෝ කිහිර තෙල් හෝ දවුල් කුරුඳු ඇට තෙල් හෝ නැලි 4 කි, සිඳිනු. සෑහෙයට දුන්තෙල් හෝ සිතෙල් හෝ දමා සිඳ පෙරා ගන්නේ ය. සකල ආකාර වණ වලට යොදනු.

**හිසපොත්ත තැළුණාව, තැලී ගැලවුණාව** :— i අඹ ඉඟුරු, සුදුලූනු, කොත්තමල්ලි, එක තරම ගෙන කොටා ලේ පිට බඳිනු. ii. ගොරක, කහ, සුදුලූනු, කොත්තමල්ලි එලෙස බඳිනු. iii ලුණු වතුර කබලක දමා, ඊට පොල් තෙල් පාත්තයක් දමා, කකාරා ලුණු දිය සිඳුණු විට තරමක් රස්නය තිබෙද්දී බඳිනු.

**වණ තුවාලවල අධික හැක්කුමට :—** i. වණය තිපල් කසායෙන් හෝ දෙළුම් කොළ, කරඳ මුල්, සියඹලා කොළ, බෝත් අනෝද කොළ තැම්බූ දියෙන් සෝදනු. එම කොළවලින් තවනු. ii. තික්පොතු, තලා බඳිනු iii. වණය වටේ පුපුලකොළ ඇල්දියෙන් අඹරා ගානු. iv. වෙනිවැල් ගැට, සුදුලූනු, කොත්තමල්ලි, තම්බා පානය කරනු.

**කාඩුවේගයට :—** කකුලේ දණ ඉහසන් පහළ කෑඩීම ඇති ව මෙය සෑදේ. ඇතැම් විට වාත රක්තයෙන් ද මෙසේ වේ. වසුරුසා අනු ව අඩු වැඩිවීම වන්නේ කාඩුවේගනුයි.

i. මඤ්ජිෂ්ඨාදි කසාය, ශාරිබාදි කසාය, අමෘතාදි කසාය, තිප්පිලි කුඩු, මීපැණි දමා දෙන්නේ ය.

ii. රණවරා කොළ අඹරා ගානු. iii. දිවිකදුරු කොළ පොතු සහ ලුණු පොල් දමා කොටා මලවා බඳිනු. iv. පුසුල කොළ, පැණි තෝර කොළ, ඇත්තෝර කොළ කොටා මිරිකා ගල්මැලියම් අඹරා දමා කකාරා ගාන්නේ ය. v. පැණිපොල් මලවා බඳින්නේ ය. vi. අරළු, බුළු, නෙල්ලි, අට්ටික්කා පොතු, මසන්කොළ කසායෙන් සෝදන්නේ ය.

**ඉඳිකටුවක් ගිලී අබ්‍යස්සියයි, ගැනියයි ආවිට:—** ඔලිඳකොළ යුෂ සීනි දමා දෙනු. වෛද්‍යාධාර වහා ම ලබාගත යුතු.

# උගුරේ රෝග

## Diseases of the Throat such as Tonsilitis Etc

**කණ්ඨමාල, සෙම්** රෝග යන නමින් ව්‍යවහාර වන උගුරේ හැදෙන සියලු **රෝගවලට ම මේ** ප්‍රතිකාර යොදනු.

**1. වන අවස්ථාව:— (1st Stage)** i. ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, සිහක්කාරන්, පල්මාණික්කම්, ඉද්දමුලේ පොතු, සුදුලූනු, සහිඳ ලුණු පිස පිහ ගෙන, කොටා අඹරා පොට්ටනි බැඳ කටේ තබා සෙම් අරිනු.

ii. **ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, සහිඳ ලුණු,** කුඩු කර ඉඟුරු යුසට **දමා ලේහ කරනු.**

iii. **අෂ්ටාංග අවලේහය (=උණ අධ්‍යායයේ තාපමෝතියා සන්නිපාත ආදියෙහි සඳහන් ය), දෙළුම් ඇඹුල්, ඉඟුරු යුස, මීපැණියෙන් ලේහ** කරනු.

iv. ඉඟුරු, ගම්මිරිස්, **තිප්පිලි,** කොත්තමල්ලි කලං 2¼ බැගින්, සියඹලාකොළ කලං 2 යි, ගෝමූත්‍ර **පත 1** යි, වතුර පත 7 යි, 1ට සිඳ පානය කරන්නේ ය. ගෝමූත්‍ර නො **ලැබුණොත්** වතුර පමණක් දමා කසාය දෙනු **උගුරේ, දිවේ සියලු රෝගවලට ගෝ මූත්‍ර බහා ම සාදා දීම රෝග සුව වීම ඉක්මන් කරයි.**

v. **වුවමනා නම් මීඇට කහ කිරෙන් ගලහා නස්න කරනු.**

**2 වන අවස්ථාව :— i අමුඉඟුරු, යවක්ෂාර ලුණු, නාමරංගා, පොතු, දෙහි ඇඹුලෙන් අඹරා පොට්ටනි බැඳ සෙම අරිනු**

ii. **තිකුළු, එත්සාල්,** වැල්මී, **කොළිඳහාල්, ලුණු දෙවර්ගයක්, කුඩු කර දෙළුම් ඇඹුලෙන් අඹරා සෙම අරිනු.**

iii. යමදේවරාජ, **කෝල** ගෙලසමා, වජ්‍රකානසි, කණ්ඨමාල **යන තෙලක් තිබේ නම් නස්න කරනු. දෙළුම් ඇඹුල් සීනි සමග ලේහ කරනු. රෙදි කෑල්ලේ ගා උගුරේ තබා** සෙම අරිනු.

**iv. ඉඟුරු, කාබුවැල්බටු, රසකිඳ, සුවඳ කොට්ටන්, ගෝමූත්‍ර සමග කසාය කසාරු දෙනු.**

**v. සියඹලාකොළ, එමපොතු, ගලගාහලද රත්හඳුන්, අත්තන මුලේ පොතු, එම රෝග, කොළ, කැපි ලුණු, දෙළුම් ඇඹුලෙන් අඹරා කසාරා බෙල්ලේ පිටින් ගානු.**

ඊ බාහ අවයවයන්ට— i. ඉඟුරු, තිප්පිලි, තිප්පිලිමුල්, ගම්මිරිස් මුල්, සිවිය, සිහක්කාරන්, අසමෝදගම්, සුවඳ කොට්ටන්, ඉද්ද මුලේ පොතු, දෙහි ඇඹුලෙන් අඹරා පොට්ටනි බැඳ තාවේ තබා දෙම අපිනු.

ii. තිකඩුසාල, ගම්මිරිස්, ගොරක, තග, තරද මුලේ පොතු, සිවිය මුල්, ලුණු, තම්බා තව සෝදනු. ගෝමුත්‍ර දමා තාද තව සෝදන්නේ නම් වඩා වැනාවි. දිවෙව් ගෙනී ද නාහා.

iii. වද්වදුර, පත්පාඩගම්, සිරිගෝක්කු, තලාදුරුඅල, වදකහ, කොත්තමල්ලි, සිවියමුල්, අරළු, ඉඟුරු, කුඹුරු ඇට මද කසාය— එළමුත්‍ර බහා කසාරා දෙනු.

iv. තෙල් වගී, අෂ්ටාංග අවලේහය, ලේප කරනු.

## කටු ඇනීම් ආදිය

### Foreign Bodies in the Skin

i. කටු ඇද වරක්සි දමනු.

ii. තෝරපත් කහ ලුණු ලා මලවා බඳිනු.

iii. එරබදු පුස, දෙහිඇඹුල්, පානුදිය, කටුව ඇනී තැන හල්ලා තබනු, කටු ඇදේ.

iv. තැල්කොල සහඹුලිත්ගෙත, කහ, ලුණු, කයිප්පු, කළුදුරු, රතුලූනු, විත විත දමා කොටා, මලවා බඳිනු කටු උල් ඇදේ.

v. මාඑරමිතියා කොළ පොතු කහ ලුණු දමා කොටා මලවා බඳිනු.

vi. කෝමාරිකා පල්ලට කහ ලුණු දමා උණු අළුවෙන් තම්බා අඹරා බඳිනු. වේදනා නැහ.

vii. කොත්තමල්ලි මිපැණියෙන් අඹරා මලවා බඳිනු.

කටු ඇනී පැසවා තිබුණු කල :— i. කාසාවාරිය අල, අඹ කහ, බුරුල්ල මද, පෙරුංකායම්, පොල් කිරෙන් තම්බා බඳිනු.

ii. පතුක්, කහ ලුණු දමා මලවා බඳිනු.

iii. කටුපිල පංචාංගය, පොල් කිරෙන් තම්බා අඹරා ගානු.

යකඩ ඇණ ඇනුණු විට :— යකඩ ඇණ ඇතුළේ කැඩී තිබේ නම් i. අඹ, දිවුල්, දෙඩම ආදි ගස්වල තිබෙන පිළිල (=දිම් කෙගෙල් කියන) වර්ගයේ මල් කහ ලුණු දමා මලවා අඹරා බඳිනු.

ii. එය පොල් කිරෙන් තම්බා අඹරා බඳිනු.

**කඩු ඇණෙ ගැලවුණු විට මල යෑමට:—** i. කුඹු තෙල් දමනු.

ii. වේලුණු රට ඉඟිස් කටලෙන් බැද කුඩු කර කොහොඹ තෙලෙන් මලවා බඳිනු.

iii. කාමරංගා ගෙඩිය සහ ලුණු දමා උණු අළුවෙන් තම්බා අඹරා බඳිනු.

**මුනිස්සන් ඇදීමට —** i. ඉත්ත පොතු, කොළ කොටා තුවාලවලට ඉස්ම මිරිකනු. වෙඩිවලින් දූවිලි නසා. ඒගම උණ්ඩ ඇදේ.

**ඉඳිකටු ඇදීමට :—** i. ඉඳිබඩ, සහ ලුණු දමා කොටා මලවා බඳිනු. ii. පිළිල මල් එලෙස බඳිනු. iii. මිම්නිමිසිල් සහ ලුණු දමා පොල් කිරෙන් මලවා බඳිනු.

**ඉඳිකටු ඇණුන කල:—**ඉඳිකටු ඇදීමට කියනලද ප්‍රතිකාර ද යකඩ ඇණ ඇණීමේ දී කියන ලද ප්‍රතිකාර ද කරන්නේ ය.

## විෂ කටු වීදිය

### Poisoned Thorn

අනුරාධපුර, යාපනය ආදි දිශාවල කටු ඇණුනු කල ලේ විෂ ව උණ, වේදනා, දූවිලි ආදිය හටගනී. ඇතැම් විට පිටගැස්ම පවා සෑදේ. ඒ නිසා පිළිවෙලින් මේ ප්‍රතිකාර යොදනු.

i. වෙනිවැල්ගැට; කොත්තමල්ලි, සුදුලූනු තම්බා දෙනු.

ii. අරළු කලං ¼ යි, සුදුහඳුන් කලං ¼ යි, බෙලිපොතු කලං ¼ යි, ඉඟිනිඇට කලං ¼ යි, වැල්මී කලං 2 යි, වෙනිවැල්ගැට කලං ¼ යි, සුදුලූනු කලං 2 යි, එළමූත්‍ර පත 2 යි, වතුර පත 1¼ යි පත 2 ට සිඳ දෙනු. විස කටු ඇණීම, උණ, මැලේරියා උණ, කට තොල වේලුම, විඩාව ආදිය නසා. කටු ඇණී උණ ගැනුණුවිට මේ කසාය දෙනු.

iii. කරඳ මුල්, බොල්පනා මුල්, රණවරා කොළ පොතු, සහ ලුණු දමා කොටා පොල්කිරෙන් තම්බා කටුව ඇණුන තැන බඳිනු.

iv. කැලියපොතු, දමුනුපොතු, (=දමින්න පට්ටා), සහ ලුණු දමා පොල්කිරෙන් තම්බා බඳිනු.

v. ඉඟුරු, මිරිස්, සුදුලූනු, අබ, පෙරුංකායම්, තිපල්, වෙලිකහ, ගලීස් (=කොළ ලාබඩ), කොටා මීතෙලෙන් මලවා බඳිනු. කටුව ඇණුනු තැන විෂ ද යෙයි.

vi. කොහොඹ කොළ පොතු, අමු කහ පොල් දමා කොටා එඬරු තෙලෙන් මලවා බඳිනු. කටු ඇදෙයි.

vii. කොබ්බෑපොතු,වල්මිරෝමියන්,කහලුණු දමා මීතෙලෙන් වත් තලතෙලෙන් වත් මලවා බඳිනු. සියලු කටු උල් ඇදේ.

කාමු ඇණේනෙන් ඇතිවුණු කස් දද්දුවට:— i. වරාමල් දශ මුල් එම මිද පොතු අමුකාන දමා කොටා උණු අළුවෙන් තම්බා බඳිනු. මස් දලු සපා වැළේ.

## සද්‍යෝව්‍රණ

## Wounds & Cuts

ආදිස්සියෙන් එකෙනෙහි කැපීම, තැලීම ආදියෙන් වන තුවාල සද්‍යෝව්‍රණ නම්.

සද්‍යෝව්‍රණ ඇති වූ කල ප්‍රථම කොට ලේ ගැලීම නැවැත්විය යුතු. ධමනියකින් ලේ යන කල හෘදය දෙසින් තද කිරීම ද බැඳීම ද කළ යුතු. ශිරාවකින් ලේ යන කල හෘදයට විරුද්ධ දෙසින් තද කිරීම ද බැඳීම ද කළ යුතු. කේශනාලයන්ගෙන් ලේ යන විට එතන ම තද කළ යුතු යි.

ලේ ගැලීම නැවැත්වීමට මෙහි පහත දැක්වෙන යෝග ද යෙදිය යුතු යි.

i. පින්නදලු, කහ සහ ලුණු ටිකක් දමා තලා තියනු.

ii. හීන් උදුපියලි, හීන් නිදිකුම්බ, කහ දමා ඇල් වතුරෙන් අඹරා තිබා බඳිනු.

iii. දියමිත්ත, කරල්හැබ කොළ, ගල්කුර මේවා තලා බඳිනු.

iv. මෙහි පහත දැක්වෙන චූර්ණය ලේ පිට තබා බඳිනු.

**චන්දනාදි චූර්ණය :—** සුදුහඳුන්, රත්හඳුන්, කිතඅරටු, නෙළුම් අල, මානෙල්අල, සැවැන්දරාමුල්, ඉරිවේරිය, කුසතණ, වැල්මී, කාකාවාරිය අල, බට මුල්, උක් මුල්, කබරස මුල්, ඉරමුසු, ජලජ පුෂ්ප (=දියේ හටගන්නා මල් ලැබුණු තරමක්), ජලජ උද්භිද ද්‍රව්‍යවල අල, (=ජලයේ හැදෙන වර්ගවලින් ලැබුණු අල වර්ග) සමභාග ගෙන චූර්ණ කරනු.

ලේ ගැලීමෙහි යොදනු. ලේ වමනයෙහි ඇල් දියෙන් පානය කරනු. රක්ත ප්‍රදරයෙහි දෙනු.

**සද්‍යෝ ව්‍රණ සුවවීමට :—** i. කැප්පිටියා කොළ, ඉඟුරු, ගහක්, කහ ගහක් අලත් සමග, ලුණු ටිකක් දමා හොඳට තලා අඹරා ලේ පිට බඳිනු.

ii. සුදුළූනු, ගුරුල්ල සුඹුලු, එම මද, ඉඟුරු, ලුණු, තලා බඳිනු.

iii. රතුළූනු, අමු ඉඟුරු, එරබදු පොතු, මල බුලත්, කපුකර, උදුපියලි, කැප්පිටියා කොළ කහ ලුණු දමා කොටා මලවා බඳිනු.

iv. සියක් වර සේදූ ගිතෙල් කපුරු සමග අතා තිබා බඳිනු.

v. එරබදු දලු, අඹ දලු, පාවට්ටා දලු, තණ දමා තම්බා නල තෙලෙන් මලවා බඳිනු. තැළුම් තොවුම් සුව වේ.

vi. කැප්පිටියා ලාකඩ, සාන, පුණ්නාර (තාමලෙන් බැඳ පිපුරු විට), හපුරු, මීපැණියෙන් අඹරා බඳිනු.

හදිස්සි ගෑස්සීම් ආදියෙන් සිටගැස්ම ආ විට:— i. වෙනිවැල් ගැට, කොත්තමල්ලි, සුදුලූනු තම්බා දෙනු.

ii. වෙනිවැල්ගැට, සුදුලූනු, අරත්ත, කොත්තමල්ලි, තිප්පිලි තම්බා දෙන්නේ ය.

iii. දහඹුල්, තිහඹුල්, දේවදාර, දේවදුරු, අසමෝදගම්, ගම්මිරිස් සමසේ කර සහිඳ ලුණු, තිප්පිලි, එඬරු තෙල් දමා දෙනු.

iv. අමුකුහුරු, සුදුලූනු, අරත්තඅල, අමු වදකහ, දෙඩම් පැතිරි, මීඹුරු, ඔලිද, කුප්පමේනිය, නික, කොසඹ, මීවාගේ කොළ පොතු කොටා වණ්ඩුරුවේ තම්බා මිරිකා, සීතාරාම, රත්තාදිය ආදි ගුලියක් දමා තලතෙල්, දෙඩම් ඇඹුල් ද යොදා දෙන්නේ ය.

v. අමුකුහුරු, සුදුලූනු, වදකහ, දෙහිපොතු, තිකපොතු, කුඹුරු වැලේ පොතු, නාගොඩ පොතු, එක හරම ගෙන කොටා උණු අළුවෙන් තම්බා මිරිකා, බිත් (මාත්තු පහ, සීතාරාම හෝ රත්තාදිය) පස්තෙල්, දෙඩම්ඇඹුල් දමා දෙනු.

වාත තැවිල්ලෙකින් තවනු.

## අගනි දග්ධය (ගින්නෙන් දැම)

### Burns & Scalds

i. හුණු වතුර, තලතෙල් සමව ගෙන මිශ්‍රකර පිලිස්සුණු විගස යොදන්නේ ය.

(බුලත් විටට කන හුණු ගඩාගෙන ගෙන වතුර පත 1½ ක පමණ දිය කරනු. නිශ්චල ව තිබූ විට පැදෙන වතුර ගෙන එපමණ තල තෙල් දමා බෝතලයක වත් කර සොලවනු. එවිට කිරි පාට වේ. ඒවා දැවුම් වණයෙහි දැ විගස යොදනු. බිබිලි නො සාඩා ම ඒවා ගානු. (තලතෙල් නො ලැබුණොත් වෙන පොල්තෙල්, ලින්සීඩ ඔයිල්, කිලිව තෙල් ආදියක් ගත හැකි යි.)

ii. ගෝ කොළ අරළු කොදුට තම්බා ගත ජලය තිබුණු විට යොදනු.

iii. පණන් පෙති යුෂ දමනු. iv. කෝමාරිකා යුෂ දමනු. v. රසකිඳ කොළ යුෂ vi. ගෙඳ අඹරා දමනු. vii. පුහුල් දඬු යුෂ viii. කීන වතුර ix. අළුකෙහෙල් යුෂ x. කළුහැම්මෙරිය කොළ අඹරා ගානු. xi. අන්නාසි කොළ යුෂ යොදනු.

**දැවුම් තුවාලවලට :—** (පරණ බු) i. දම්මල් පුලුස්සා අළු තල තෙලෙහි දමනු. ii. බුරුල්ල මල් එලෙස යොදනු. iii. තල, බාර්ලි, පුලුස්සා අළු ඉසිනු. iv. බාර්ලි පුලුස්සා අළු මීපැණියෙන් යොදනු v. බෝ පොතු කබලෙහි බැද කුඩු කර තල තෙලෙන් දමනු. දැවුම් වණ සනී.

**තෙල් :—** i. බුරුල්ල සහ ඉගිරුණු දළු, අමුකහ සමඟ පැසුණු පොල් හා දමා කොටා, මිරිකා අටුවෙහි තෙල් සිඳ ගානු. දැවුම් වණ අළුත් පරණ අවස්ථා දෙකටම යෝග්‍ය ය.

ii. පෙනිතෝර, සහ, පැසුණු පොල් දමා කොටා මිරිකා තෙල් සිඳ ගානු.

iii. වැල්මදට, සුදුහඳුන්, මූරුවා මුල්, කල්හ සමභාග, ජීවාගේ සිවු ගුණයක් වතුර, ගිතෙල් හෝ තල තෙල් බහා තෙල සිඳිනු.

iv. කොච්ච පොල්, බුරුල්ල ගහේ මද, බුරුල්ල දළු එකට කොටා මිරිකා ගානු.

**කසාය :—** තද දැවීම්වල දී කසාය ද දිය යුතු ය.

i. ඉරමුසු මුල්, කිරි කසාය දෙන්නේ ය.

ii. වෙනිවැල්ගැට, කොත්තමල්ලි, සුදුලූනු, නාපොතු කසාය, කිරි පතක් වතුර පත 7 ක් එකට කකාරා සිද්ධ කරන්නේ ය.

## නොයෙක් ආකාර වණ – තුවාල

### Various Wounds Etc

**පාද අලසකය:—** තුණු මඩ පැගීමෙන් කකුල්වල කැසීම ද එයින් තුවාල ඉදිමුම් වණ ද ඇති වේ. එවිට:—

i. චී තැම්බූ වතුරෙහි ඉවසන්ට පුළුවන් රස්නය ඇති විට කකුල බහා සිටිනු. ii. ගොඩ කොළ තැම්බූ ජලයෙන් පා සෝදා අඹු පොල් කොළ දුම අල්ලනු. iii. කටුකරඹු කොළ, එඬරු කොළ, ඉත්තෑ කොළ යන මෙයින් එක වර්ගයක් තම්බා සෝදන්නේ ය. iv. බටු කටුවකින් විද ලේ හරිනු.

තුවාලවලට කොහොඹ කොළ, අරළු, නිකකොළ කබලින් බැද කුඩු කර තල තෙලෙන් දමනු. ඉදිමුම් කොර්වයේ දෙබ පුලුස්සා තල තෙලෙන් අඹරා දමන්නේ ය.

**කකුල්වල බිබිලි ලේ දෝෂ:—** i. කළුදුරු කලං 1 යි, සුදුහඳුන් කලං 3 යි, රත්මල් පොතු කලං 3 යි, දුණු මිල කලං 6 යි. කසාය- කර මීපැණි දමා බොන්නේ ය,

ii. එරබදුඇට, පැණිකෝරඇට, හැඹිලිපොතුලෙන් අඹරා ගානු. iii. කොහොඹ කොළ මීපැණියෙන් අඹරා ගානු.

**ගල් තැළුම්වලට** :— i. හාල් පෙල්ලෙන් කිරිය පොතු, නාග පොල් දමා කොටා, මීතෙලෙන් මලවා බඳිනු.

**ළමයින්ගේ තොයිලි පාසෙ**:— කුඩා ළමයින්ගේ නාභිය ඇතැම් විට පැසවයි. එවිට අරළු, වැල්මී, කොහොඹ කොළ කාබලෙන් බැද කුඩු කර දමන්නේ ය.

## නාඩිව්‍රණ - බඩු වණ

## SINUS

i. මුරුත කොළ ලියා මලවා බඳින්නේ ය. ii. වරා කිරි, ගොන්න කිරි, අරලිය කිරි, රත්කිරි, ගොකටු කිරි පිඹිනු. iii. රුක් අත්තන කිරි පාන් වැටියෙන් අරිනු. iv. ඇතැටු කිරිත් එසේ අරිනු. v. පොල් අල සහ ලුණු දමා, මලවා බඳින්නේ ය. vi. බඩු තෙල් පිඹිනු. vii. බඩු තෙල් වෑටි ගා තැලිය පට පොට්ටනියෙන් තවනු.

බඩුව දුව නිබන්ධන ඉහා අන්තිම සීමාවේ සිට ක්‍රමයෙන් වසේවට මෙහි පහත දක්වන පත්තුව දමනු. රුක්අත්තන පොතු, තිත්ත පොතු, අරළු, ඉඟුරු, තිප්පිලි, සියඹල කොළ ඇඹුලෙන් අඹරා රත් කර දමනු. ලුණුයේ ඉහතින් දක්වූ මැල්ලුම බඳිනු. බඩු කිරි, බඩු තෙල් පිඹිනු.

ලේ පිරිසිදු වන කසාය, අලබත් චූර්ණ, ශාරිබාරිෂ්ටය, සාරිබාද්‍යාසවය, රසමාණික්‍යය ආදිය වෛද්‍යොපදෙශ අනුව භාවිත කරන්නේ ය.

**වැල්දෙහි චූර්ණය** :— අලබත් (=සීන මූල්) රාත්තල් 1 යි, සාදික්කා අට කලඳ යි, ගම්මිරිස් හය කලඳ යි, ඉඟුරු පස් කලඳ යි, කපුමල් කලඳ යි, වසවාසි කලං ¼ යි, කරාබු නැටි කලං ¼ යි, පාන් පිටි බැද කලං ¾ යි, කොරසාණි කලං ¾ යි, කළුදුරු, මාසක්කා, වැලිදෙහි මූල්, සුවඳ කොට්ටං, රසකිඳ පිටි, ගල්කුර, කුරිඥ්ඥන් කලං ½ බැගින් චූර්ණ කර දෙන්නේ ය.

**මාත්‍රා** :— කලං ⅛ සිට 1 දක්වා, දි. දෙ. ව. ඉරමුසු කසායෙන් දෙන්නේ ය. ගෙඩි, වණ, බඩු වණ, භගන්දර සනසා.

ගෙඩි, වණ, ආමාල ආදී රෝගීන් කෝෂරගි විරේචන, ප්‍රලේපන, ලේ පිරිසිදු වන කසාය, මිදු, රසාද බෝජනය, පුරාතන හැල්, කොල්ලු සුප, පුදලඟු, රතුලූණු, මුරුංගා, කරවිල, කාරණ (=බිමකුදු පලා) ඇද්දෙමට, මීපැණි, දුම්මැල්ල, පතෝල, හොඹෙල්, මුං සුප, ශාක, උණු දිය, බාර්ලි, පාන්, විස්කෝත්තු, තල තෙල්, පරිප්පු, උක්සීනි, තිපල, දෙළුම්, මුද්‍රික යනාදිය පථ්‍ය ය.

මෙම රෝගීන් කෙරෙහි අළුත් හාල් ආහාර, පොල්, මාළු (=මත්ස්‍ය), මාංස, හරමල, තිත්කර, කිරි විකෘති, අම්ල ද්‍රව්‍ය, මෛථුන, ව්‍යායාම, වැසිදිය, ධූලි, භය, ක්‍රෝධ, චම්භන, ප්‍රහර්ෂණ, ශෝක, විරුද්ධ භෝජන, දූෂිත ජල සේවන, ප්‍රියාදර්ශන, දිවා නිද්‍රා, රාත්‍රී ජාගරණ, සුන්දරීන් සමඟ ප්‍රිය සල්ලාප, අතිශය පර ග්‍රහණ කෘත්‍යාදිය අහිත කර ය.

සිත අළු භාවිත කරන කල 'පොල්' එම කිරි යුක්ත ආහාර නො වළඳනු. ගිතෙල් හෝ දූන්තෙල් ආහාරවලට යොදන්නේ ය. ලුණු ඇඹුල් අඩුවෙන් භාවිත කළයුතු. ඉස්සන් කකුළුවන් ආදිය අතිශයින් ම අපථ්‍ය ය.

## භගන්දර

### Fistula-in-Ano

මල මාර්ගයටත් මූත්‍ර මාර්ගයටත් අතරේ සෑදෙන ගෙඩි වර්ගයෙකි. දරුණු වූ භගන්දරවලින් මූත්‍ර වැහේ. පැසවීමට පළමු ප්‍රතිකාර යෙදීම වඩා මැනවි. මඤ්ජිෂ්ඨාදි කසාය නිතර දිය යුතුයි. ගෙඩිවලට කියූ ප්‍රතිකාර කරනු. රුක්අත්තන පොතු එන පත්තුව වඩා යෝග්‍ය යි. නො ඉහිරී පැසවන්ට ආමොත් එසේ බෙහෙත් දමනු. කාරේ අද්දන්ට බත් එඬරු කොළවලින් පාප්ප සාදා දමනු. ව්‍රණ ශෝධනයට හිතැති තිපල් කසාය හා ඉඟුරින් දක්වන ලද කසාය සින් ව්‍රණ සෝදන්නේ ය. බළලෙකුගේ ඇටයක් හෝ බල්ලෙකුගේ ඇටයක් ගෙන ,අතුල්ලා සෝදනු. ශුද්ධ වූ විට සුව වීමට වුවමනා බෙහෙත් යොදනු. ජාත්‍යාදි තෙලය යොදනු.

**ඉහිරීමට පත්තු** :— i. තුන දලු, ඉඟුරු, වතුරේ බොහෝ කල් තිබුණු ගබොළු, හාරණ අඹරා දමනු.

ii. පතොක්, කටු අගකට දමා අතෙක් සියල්ල ගෙන තල ලුණු දමා කොටා, උඩුමත් තම්බා, කඩා - කිස, අරළු, රුක්අත්තන, මුරුංගා, සිංහල කොළ, අත්තන කොළවලින් ගෙන, ගෝමූත්‍රයෙන් අඹරා කාකාරා ගාන්නේ ය. ගිනිදිවූ ඉටි මෙන් භගන්දර විනා යෙයි.

iii. රත්හඳුන්, තිපල, කසාය - ද්‍රංහොල්, වලගසාල් කුඩු, ගුගුල් (ශුද්ධ කර) දමා බොන්නේ ය. iv. කරඳමුල් කසාය ද දෙනු.

**ගුග්ගුල්වාදි ලේපය** :— ශුද්ධ කරන ලද ගුගුල්, තිපල්, නිකුළු, සම්භාග ගෙන ගිතෙලින් අඹරා ලේප දෙන්නේ ය. නාඩි ව්‍රණ දුෂ්ට ව්‍රණ, භගන්දර නසා ලයි.

# උපදංශ රෝගය

## SYPHILIS

### වණ පිළිකල් සෑදෙන ගිනියම් ලෙඩ

අත්‍යන්ත අනුරාගයෙන් හෝ තලනාදියෙන් හෝ ලිංග - යෝනි ආදිය අතින් හෝ නියෙන් ආඝාත වීමෙන් ද උප්පත්ති [illegible] අප්‍රක්ෂාලනයෙන් ද අධික මෛථුනයෙන් ද දූෂිත ස්ත්‍රී පුරුෂ ප්‍රසංගයෙන් ද ක්ෂාර ද්‍රව්‍ය පතිත වීමෙන් ද බ්‍රහ්මචාරිණීන් කරා යෑමෙන් ද, ජීවාණු සහිත අවයව ඝට්ටනයෙන් ද උපදංශ නම් රෝගය වන්නේ ය.

ජනනේන්ද්‍රියෙහි වණ ඇතිවීම මෙහි ප්‍රධාන ලක්ෂණය වේ. මෙයට ප්‍රධාන හේතුව බහු සංකර සේවනය යි. මේ රෝගය සෑදුණු ස්ත්‍රී පුරුෂයන් සමග සංගමයෙහි යෙදෙන්නෝ ද මේ රෝගය ලබත්.

උපදංශ වණ මැද වලගැසී, තැටිය උස් ය, කල් යාමෙන් ගල් සැව මෙන් තද වේ. බර ස්පර්ශ ය. මේ උපදංශ ස්පර්ශ වීමෙන් බෝ වී යන්නා වූ ව්‍රණ කීප වර්ගයක් වෙති. ආයුර්වේද ප්‍රතිකාරය සියල්ලටම සමාන ය.

**ප්‍රතිකාර**
**Treatment**

මෙය දුටු හැටියේ මෘදු විරේචනයකින් විරේක කරන්නේ ය. ඖපසර්ගික මේහයට නියම විරේක යෝගය ය. වාත රක්ත අධ්‍යායයේ දැක්වූ කසාය දෙන්නේ ය.

i. අරළු, බුළු, නෙල්ලි, ඇහැළපොතු, ආඩතෝඩා මුල්, රසකිඳ කසාය එඬරු තෙල් දමා දෙන්නේ ය.

ii. ඇහැළ පොතු, ආඩතෝඩා, රසකිඳ කසාය - එඬරු තෙල් මිශා දෙන්නේ ය.

iii. මඤ්ජිෂ්ඨාදි කසාය, අමෘතාදි කසාය, සාරිබාදි කසාය දෙන්නේ ය.

සංලක්ෂණය :— එක කසායක්, හැලි 3 බැගින් ගොදනු. 'වණ' ව්‍රණ අධ්‍යායයේ සඳහන් බෙහෙත් වතුරකින් සෝදන්නේ ය.

iv. වාත ආබාධ ඇති බුහුණාත් :— අරළු, බුළු, නෙල්ලි, ඉරිවේරිය, බැබිල, කටුකරඹු, ඉඟුරු, රත්හඳුන්, එරඬු මුල්, ආඩතෝඩා මුල්, කලාදුරු අල, ඉරමුසු, කබරස මුල්, බෙලි මුල්, කොරෙසැඩි, නීරමුල්ලි, (=ඉකිරිය) මුඩමහන මුල් කසාය - යවක්ෂාර චූර්ණ මිශා දෙන්නේ ය.

v. තිපල් කලං 12, අලබෙත් කලං 6, ආඹෑහෝඹා, රසකිඳ, එළබටු, එඬරු කලං 3 බැගින්, ඇහැළ පොතු කලං 12 කි, තැලි අට තැලි 1 ට සිඳ උදේට එඬරු තෙල්, හවස සීනි මීපැණි බහා දෙනු. ජනිතෙන්ද්‍රියෙහි ඇති කුෂ්ඨ, වණ, උපදංශ, පරංගි, සොර, වාදන්, මොල්ලි බැගිම නසා.

කසද්ම දුම්මල්ල නිබුණෙනොත් :— විරේක කසායකින් පසු මේ කසාය දෙන්නේ ය.

දුම්මැල්ල, කටුකරෝසන, හාතාවාරිය අල, තිපල, රසකිඳ කසාය - සීනි මීපැණි බහා.

උපදංශයෙහි මද්‍යම, පුරාණ, නෑවත මතු වුණු අවස්ථාවන්හි ලේ පිරිසිදුවීමට යොදන කසායවල්:— i අලබෙත් (=සීන මූල්) කලං 6 කි, ඉරමුසු, වැල්මී, හාතාවාරිය අල, කලං 2 බැගින්.

ii. ඉරමුසු, එළබිම්තඹුරු, හාතාවාරිය අල, කලං 2 බැගින්, අලබෙත් (=සීනමූල්) කලං 6 කි,

සංලක්ෂ්‍යය :— මේ කසාය දෙක අනෙක් වණවලට ද පරංගි, සෙඬි, භගන්දර ආදියට ද යොදන්නේ ය.

iii. අලබෙත් කලං 6 කි, රත්හඳුන්, දුම්මැල්ල, ඉරමුසු, කොහොඹපොතු, සුදුහඳුන්, හාතාවාරියඅල, කලද බැගින් කසාය.

iv. කබරසමුල්, එළබිංතඹුරු, හාතාවාරිය අල, ඉරමුසු මුල්, රුක්අත්තන, අලබෙත්, කලං 2 බැගින්,

v. අල බෙත් කලං 6 කි, කබරස, ඉරමුසු, එළබිත්තඹුරු කලං 6 කි,

මේ කසාය සියලු වණ සඳහා ම යෝග්‍ය ය. අලබෙත් එන කසාය අළුත් පිට නො දෙන්නේ ය.

මුත්‍ර මාර්ගයෙන් ලේ සාරව් යන කල්හි :— i. රසකිඳ සුප, කොත්තමල්ලි කුඩු සුකිරි කුඩු දමා දෙනු.

ii. තෙල්ලි, වෙනිවැල් ගැට කසාය - දහය, ලේ සාදේ යාම වලකී.

iii. සියඹලා කොළ කලං 12 ක් අඹරා කසාය කර, සීනි මීපැණි දමා දෙන්නේ ය. මූත්‍ර මාර්ගය හැසිම, ඉදිමුම, සුද යාම වලකී.

## උපදංශ වණ

### Syphilitic Wounds

i. ඇහැටු, බෝ, නුග, අවිපික්ෂා, ගම්සුරිය මේවායේ පොතු කම්බා සෝදන්නේ ය.

ii. වතුරට බෙලි කටු හුණු දිය කර කඹා පැදුණු විට ගෙන ඒ දියෙන් සෝදනු. ඊට රසගණ විකාන් මිශ්‍ර කර සේදීම වඩා හොඳ වේ.

**ව්‍රණ ශුද්ධිය- රෝපණයට :—** i. බෙහෙත් අනෝද සාප්පමලට පල්මාණික්කන් තඹලින් බැද කුඩු පිහක් මිශ්‍ර කර දමනු.

ii. තිපල්, වැල්මී, ලොත් (කළු තඹර හෝ හොබර), වැල්මදට, බෙලි, ගුගුරු, මයිල, කුඹුල්පොතු, බෝ පොතු, කුඹුල් මැලියම්, කැට මැලියම්, පුවක්, පුස්නර, පල්මාණික්කම් කුඩු කර වණේට එලනු.

iii. කොහොඹ කොළ, නික කොළ, අරළු, තඹලෙන් බැද කුඩු කර එලනු. මීපැණියෙන් දමන්නේ ය.

**උපදංශ ගෙඩි පැසවීමට :—** (Bubo) i. මදටිය කොළ පොතු, සියඹලා කොළ පොතු, දෙහි ඇඹුලෙන් අඹරා තකාරා ගානු. ii. නික දලු, මරා දලු, දෙහි දලු, සියඹලා දලු, දෙහි නැට කාල් පාසුවෙන් අඹරා ගානු.

**ව්‍රණ ශුද්ධියට :—** i. අරළු, බෝපොතු, මාදම් පොතු තම්බා සිනක්කාරන් දමා සෝදනු.

ii. අනෝද කොළ, ගී තපිහාල්, වැල්මීකුඩු, තම්බා අඹරා දමනු. මීපැණියෙන් අනා ද දමනු.

**ව්‍රණය ගොඩවීමට:—** i. අරළු, බුළු, නෙල්ලි, මීඇට, කෝමෙක දමා පුලුස්සා එළගිතෙලෙන් අඹරා ගානු.

ii. හුණ, බෝ, අටපික්කා, ඇහැටු, මාදම්, තඹලෙන් බැද මීපැණියෙන් අඹරා ගානු. මෙම බෙහෙත ලිඟු, යෝනි ආදියේ හැදෙන සියලු වණවලට යෝග්‍ය ය.

iii. රසදිය, අබින්, පුස්නර, සාදිලිංගන්, සිවංගුරු තවසාරන්, පෙරුංකායම්, සිනක්කාරන්, හල්මිල, හොරමල, පල්මාණික්කම්, කැකුණ ඉටි, මීඉටි, ගිංපලින් අඹරා කබගා එලනු:

## ශාරීරිකෝපදංශ

## Congenital and Constitutional Syphilis

උපදංශ (=නිනිය මී ලෙඩ) හැදී කලක් යටපත් වීමෙන් සිඩි ඒ විෂ ශරීර ගත වීමෙන් ශරීරයේ හැදෙන්නාවූ කුෂ්ඨ විශේෂය ශාරීරිකෝපදංශය යි. ළමුන්ගේ ද මේ විෂ නිසා කුෂ්ඨ ඇති වේ. එසේ ම උඩු තල්ලේ ද හැදේ. ඇතැම් විට ඇස් ද රතුව වණ වේ. ඇතැම් අයගේ හිස් මුල් කරා ද ගොස් හිස් කබල් පවා පුපුරා මරණය වන්නේ ය.

**ප්‍රතිකාර**
**Treatment**

උණ අධිකාරයෙහි දක්වූ අභයාදී මෝදකය හෝ සාලින් දක්වූ විරේචන කසායක් මුලින් දෙනු. ඊළඟට වාතරක්ත කසායන් යොදනු. ඔෂ්ඨකර්ණිකා රෝගයේ අග දක්වන ලද මඤ්ජිෂ්ඨාදිය, ශාරිබාදි කසාය, අමෘතාදිය ආදී ලේ පිරිසිදු වෙන කසායන් දෙනු.

# අභ්‍යන්තර් විද්‍රධි

## Internal Deep Seated Abscess

ශරීරාභ්‍යන්තරයෙහි හටගන්නා ගෙඩි අභ්‍යන්තර් විද්‍රධි නම්. මේ රෝගය දක්ෂ වෛද්‍යවරුන්ගේ අවවාද පරිදි ප්‍රතිකාර කළයුතු එකකි.

කිපුණු වා පිත් සෙම දොෂ්‍යු තනි තනිව හෝ දෙකක් හෝ සියල්ල හෝ ශරීරාභ්‍යන්තරයේ ඒ ඒ ස්ථානවලට පැමිණ ගුල්ම සදෘශ වාල්මීක නාමි අභ්‍යන්තර විද්‍රධි උපදවති. එවුනු ගුදය වස්ති මූලය, නාභිය, කුක්ෂි දෙශය වංක්ෂණ ප්‍රදේශය; වෘක්ක ප්‍රදේශය (=වකුගඩු දෙක), ප්ලීහය (=පිලාව) යකෘතය (=අක්මාව) හෘදය ක්ලොම ආදී ස්ථාන්හි හටගනිත්.

අභ්‍යන්තර විද්‍රධිවල ලක්ෂණ හා විශේෂයෙන් මෙහි පහත දක්වෙන ලකුණු අභ්‍යන්තර විද්‍රධින්හි දක්නා ලැබේ. i. ගුද ස්ථානයෙහි වූ කල අධෝ වායු නවති. ii. වස්ති මූලයෙහි වූ කල මූත්‍ර කෘච්ඡ්‍රා, මූත්‍ර ඝාත, මූත්‍ර අල්පතා ඇති වේ. iii. නාභියෙහි වූ කල හික්කා, උදරයෙහි සවේදන ගුඩ් ගුඩ් ශබ්ද පැවැත්ම වේ. iv. කුක්ෂියෙහි වායු ප්‍රකෝප ඇති වේ. v. ඉකිලි දෙශයේ වූ විට කටි, පෘෂ්ඨ දෙශයේ තීව්‍ර වේදනා ඇති වේ. vi වෘක්කයෙහි පාර්ශ්ව සංකෝච, vii. ප්ලීහයෙහි ශ්වාසාවරොධ, viii. හෘදයේ ශරීරයේ සැම තැන ම තදවේදනා, කාස, ix. යකෘතයෙහි ශ්වාස, හික්කා, x. ක්ලොමයෙහි ජල පිපාසා ද ඇති වේ. උණ ආදී ඒ ඒ දොෂයන්ට හිමි ලකුණු ද ඇත්තේ ය.

උණ ඇති වූ කල ඒ ඒ දොෂයන්ට අනුව උණට නියම කෂායන් දෙන්නේ ය. දුනගත් හැටියේ ම මඤ්ජිෂ්ඨාදී ක්වාථය, ශාරිබාදිය, අමෘතාදිය ආදී කෂායන් හෝ මූත්‍ර බහු සිද්ධ කොට දෙන්නේ ය.

ශ්‍රී දේවරාජ චූර්ණය:— දෙදුරු, අසමෝදගම්, තිප්පිලි, කරාබු, වසවාසි, සාදික්කා, වලගසාල්, අතිවිඩයන්, සුවඳ කොට්ටන්, සහිඳ ලුණු, සිනක්කාරන්, වැල්මී, කටුකරෝසන, සතකුප්ප, කත්තිකායම්, ඉලවන්ගන්, රත් හඳුන්, හාල් අළු, ඉඟිනි ඇට, තිපල්, වදකහ, අරත්තත, කහ, ඉඟුරු, මිරිස්, අමුක්කරා, ගුඩ කරවිල, නාරණ, වං ඇපල, මුන්ඇපල, ගම්කොළ, කත්තා කොළ, අඹ දළු, අබින් - චූර්ණ කර සීනි උප්පෑණි, දෙබම් ඇඹුල්, එළගිරි, මීපැණි, උණු දිය, හෝ මූත්‍ර යන මේ එක එකින් වෙන ම ගුළි දිග බැගින් දෙන්නේ ය. අභ්‍යන්තර් විද්‍රධි, කුෂ්ඨ, වණ, භගන්දර, ගුල්ම, පාණ්ඩු, කාමලා, ඇවිදින ඇලිශා, උත්කිල, කයි හැන්කුම්, කරකැවිලි, අත පය රිදීම, කොර, වාදම් නසා ලයි.

**ෂඩ්ධරාදි පැන්මය :—** සැවැන්දරා, ඉරමුසු, කවරගේ මුල්, කලාදුරු අල, හස්සද මුල්, රත්නිටුල්, රණවරා, මුරුංගා පොතු, නාමල්, කපුමල්, දෙදුරු, අසමෝදගම්, තිප්පිලි, ත්‍රිජාත, සෙරුම් කායම්, වැල්මී, දේවදාර, සුවඳ කොට්ටං, අතිවිඩයන්, ගන්කුප්ප, සිහක්කාරන්, පල්මානික්කන්, ඉඟුරු, මිරිස්, එළකාල්, වලකාල්, උලාඅරිසි, මෙප්පල් අරිසි, කලඳ බැගින් - සියල්ල බරට සීනි අට චූර්ණ කරන්නේ ය.

**මාත්‍රා:—** කලං ½ සිට 1 දක්වා, දවසකට වරක්, උණුවතුරෙන් හෝ ගෝමූත්‍රයෙන් දෙන්නේ ය. පථ්‍යයන් ඇති ව කෑදිය යුතු.

**ගුණ :—** ගෙඩි, වණ, පිළිලියල්, ඇතුළත් ගෙඩි, කප්ප වාත, සන්නිපාතේ පරණ රෝග, බෙල්ලේ ඇතුළත පිටත ගෙඩි, උණ, මැලේරියා උණ, පරණ උණ නසා ලයි. වෛද්‍යයකු ලවා කාදවා, වෛද්‍යයකුගේ අවවාද පිට භාවිත කරන්නේ ය.

**ශරීරාභ්‍යන්තර රෝගවලට දෙන කල්ක කසාය :—** අත්තෙඹද කොළ පොතු, ලුණුවරණ මුල්, මුරුංගා පොතු, සස්සද මුල්, කැප්පිටියා දෙමෙක් මුල්, අඟුර බැගින් ගෙන පත 16 ක් වත් කර ¼ ට සිඳ රෙදි පෙරා කසායට, තිපල්, සුදුලූනු, අබ, අතිවිඩයන්, ඉඟුරු, ගම්මිරිස්, වදකහ, කලඳ බැගින් අඹරා දමා පත ½ ට සිඳ දෙන්නේ ය. මෙයට හෝ මූත්‍ර දමා ද සිඳගත හැකි යි. මෙය බඩේ සියලු ගෙඩිවලට පුරාණ වෙදුන්ගේ බෙහෙතකි.

**ආමු ගණ්ඩාදි කසාය:-** අංකෙන්ද, ඇහැළ, කිරිඅඟුන, මුරුවාදුල් මුල්, තුඹ, යක්බෙරිය, යකවනස්ස, හීරැස්ස පළු, අරළු, මුරුංගාමුල්, ගම්පුරිය, මදටිය, ඉඟිරි, මූඩම්ගහ, කුඹුරු, වරා, නික, නිකුළු, සුදුළූනු, වදකහ, කරාබු, වසවාසි, කාදික්කා, රත්හඳුන්, සුදුහඳුන්, කබරස මුල්, එළබින්හඹුරු, තිරස්සවෑල් කසාය දෙනු. සියලු ගෙඩි නසා.

**ගෙඩිවල දී ඇති වූ උණවලට :—** මහා භාර්ගයාදිය, දසියාදිය හෝ මූත්‍ර මිශ්‍ර කතාරා දෙන්නේ ය.

## ගලගණ්ඩ

## GOITRE

බෙල්ලෙහි බෘහත් (=මහත්) හෝ ක්ෂුද්‍ර (=කුඩා) මුෂ්කවත් (=අණ්ඩ වැනි) යම් එල්ලුණු ශෝථයක් වේ ද ඒ ගලගණ්ඩ නමි. මෙය වා සෙම් මේදස් තුනෙන් වෙයි.

බාර්ලි, පරිප්පු, රටලූනු, කිවිනි, ශාරණ, පෙතල, මූඩමගහ, බිව්අල, රාබුඅල, දිගලබු ආදියෙන් සෑදූ සුප් වර්ග නිතර භාවිත කරනු. කවුන, රූක්ෂ ද්‍රව්‍ය හෝ මූත්‍ර ඉතා පථ්‍ය යි.

i. දියලබු, කහ ලුණු දමා පොල් කිරෙන් තම්බා අඹරා ප්‍රලේප දෙනු.

ii. සතුරු සම්මැටට සහඹුලියා ගෙන හාල්පානු දියෙන් අඹරා ප්‍රලේප දෙනු.

iii. අබ, මුරුංගා පොතු, රාබුඅල, කුඹුරුඇට, පුස්ඇට, කළුදුරු, කරාබුනැටි, තිප්පිලි, හාල්පානුවෙන්, මෝරු දියෙන් අඹරා ප්‍රලේප දෙනු.

iv. පැපොල් ගෙඩි, දියලබු, කණෙහාල්, කහ, ලුණු, පොල් කිරෙන් තම්බා අඹරා ප්‍රලේප දෙන්නේ ය.

v. වැල්මී, කොටා මීතෙලෙන් අනා වණ්ඩුවෙන් තම්බා, තවනු.

vi. සිවන්ගුරු, සින්න අබින්, සාදිලිංගන්, තින් දුම්මල කැප්පිටිය ලාකඩ මිපැණියෙන් අඹරා ගානු.

vii. කළුදුරු, සුදුදුරු, සුදුළූනු, අරළු, සාදික්කා, මේවා කොටා මීතෙලෙන් අනා පොට්ටනි බැඳ වණ්ඩුවෙන් තම්බා තවනු.

viii. මිහුල්කරද පොතු, මුරුංගා පොතු, වේලිච්ච ඉඟුරු, සහිද ලුණු, වතාකිරෙන් අඹරා ගානු.

ix. යවක්ෂාර ලුණු, ඉද්දමූලේ පොතු, දේවදාර, අසමෝදගම්, තිපල්, සුදුළූනු, ආඩාතෝඩා මූලේ පොතු, පිඹ තෑ හල රත්නිටුල් මූල්, අමුකහ, කුරුම්බා වතුරෙන් අඹරා ඊට දිය කර කසාරා ගානු.

x. ලුණු පොට්ටනියෙන් තවනු.

xi. දෙළුම් ලෙලි, නිකදලු, වියලි ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, වදකහ, සුදුළූනු, දෙඩම් ඇඹුලෙන් අඹරා එඬරු කොළල් ඔතා උණු අළුවෙන් තම්බා මිපැණියෙන් අඹරා ගානු.

**සංලක්ෂණ** :— මේවා පහත යොදන අතර මෙහි දැක්වෙන කසායන් යොදනු. මිඇට නස්න කරනු.

i. දුරුපම්වාදි කසාය, ගෝමූත්‍ර බහා සිඳා කර දෙනු

ii. වංගද් කව්ළාදි කසාය දෙනු. පෙර සේ ම.

iii. කොරෙණ්ඩි මූල්, රත්කිරි ගොකටු මූල්, මුඩමහත මූල්, කුඹුරු ඇට මද, වැල්පෙනොල මූල්, කැති බිංකේ සුදුළූනු, අරළු, තුඹ මූල්, ගෝමූත්‍ර බහා සිඳ, තලතෙල් දමා දෙන්නේ ය.

iii. පුවද කොට්ටන්, දේවදාර, රසකිඳ, තුඹ මූල් ගෝමූත්‍ර බහා කසාය දෙන්නේ ය.

**සංලක්ෂණ**:— එක කසායෙන් හැලි (කාල් කෝ පත) ට බැගින් දෙන්නේ ය.

එළු බෙටි, ඔටු බෙටි, කර මූත්‍රයෙන් අඹරා ඊට දිය කර කකාරා ගාන්නේ ය. 'අලි බෙටි' ද කර මූත්‍රයෙන් අඹරා ගාන්නේ ය.

## ගණ්ඩමාල

ගලගණ්ඩ ආකාර වූ හේතූන්ගෙන්, බෙල්ලෙහි සහ එතැන් සිට කිහිලි දක්වා තොල්ලි ගෙඩි ආකාරයෙන් කුඩා ව සෑදෙන බහු සංඛ්‍යා ගෙඩි විශේෂය ගණ්ඩ මාල යි. ඒවට ද ඉහත ගලගණ්ඩයට යොදන ප්‍රතිකාර කරනු.

## අපචි

කලින් දක්වූ ඇතැම් ගණ්ඩමාලාදිය කල්යාමෙන් පැසවා ශ්‍රාවය හලයි. ඇතැම් ඒවා අදෘශ්‍ය ව තිකී නැවත නැගේ. ඒ අපචි නම් රෝගය යි.

i. මූඩමහන කසාය දෙන්නේ ය. අපචි ගණ්ඩමාල, ගලගණ්ඩ නසා.

ii. මූරුංගා පොතු, දේවදාර රාවෙන් අඹරා තකාරා ගානු.

iii. එළඅබ, කොතොඹ කොළ, සෙන්කොට්ටන් මෙන වෙන ම කබලින් බැද එළු මූත්‍රයෙන් අඹරා රත් කර ගාන්නේ ය. අපචි, ගණ්ඩමාල, ගලගණ්ඩ, අර්බුද, ග්‍රන්ථි නසා ලයි.

iv. සිංහල කපු මුලේ පොතු කලං 1½ යි, හිඟටි කාල් කලං 4½ යි, දුන්තෙල් සෑහෙන තරමක් දමා රොටි පිස කන්නේ ය.

## ග්‍රන්ථි

ගැට මෙන් ශරීරයේ තන්හි තන්හි ඇතිවෙන ගඩු විශේෂය ග්‍රන්ථි යි. නො පැසුණු අවස්ථායෙහි ශොථ රෝගයෙහි මෙන් ප්‍රතිකාර කරනු. පැසුණු පසු ගෙඩිවල දී මෙන් ක්‍රියා කරනු. නො පැසෙන ග්‍රන්ථි ශස්ත්‍රයෙන් අහක් කර ව්‍රණ චිකිත්සා යොදනු. මෙය දක්ෂ ශල්‍ය වෛද්‍යයකුගෙන් කරවා ගත යුත්තෙකි. ගලගණ්ඩ, ගණ්ඩමාල චිකිත්සා ද යොදන්නේ ය.

## අර්බුද

වාතාදි දෝෂ සියල්ල කිපී රක්ත, මාංස, දූෂිත කොට, ශරීරයේ කොතැන නමුත් ගෝලාකාර, අචල, අල්ප වේදනා යුක්ත දුරානුප්‍රවිෂ්ට, සුතරාං, අනල්ප මූල වෘහද් ආකාර යම් මාංස පිණ්ඩයක් වේ ද ඒ අර්බුද නම්.

ශරීරයේ රස ආදිය කිපීමෙන් මෙය වැඩේ. ගසක ඇති වන පිළිලයක් මෙනි.

හල්මැලියම්, රුක්මල්, රත්හඳුන්, කළුකබර (=කොබර) අසප්ත කැට, වැල්මී, කොමදිඹුලාඹිල්, ගෝමූත්‍රයෙන් අඹරා රත්කර ගානු.

කහ, කළුකොබර, රත්හඳුන්, සිවන්ගුරු, මනෝසිල, රසදිය, ගෙන්දගම්, පුස්කර, ඊයම් ගසම, ගෝමූත්‍රයෙන් අඹරා රත් කර ගාන්නේ ය.

මේ ඉඳුරු වන සියලු ම කසායයන් ගෝමූත්‍ර බහා සිඳු කර දෙන්නෝ ය.

**ගලගණ්ඩ, ගණ්ඩමාලා, අපචි, අර්බුද, ග්‍රන්ථි ආදි රෝග යන්හි පථ්‍ය** :— වමන, විරේචන, නස්‍ය, ස්වේද, ධූම, සිරාවේධ, අග්නි කර්ම, ක්ෂාර ප්‍රයෝග, ප්‍රලේපන, උපවාස, පුරාතන ඝෘත පාන, පුරාතන රක්තශාලිධාන්‍ය, බාර්ලි, මුං, දුම්මැල්ල, පතෝල, මුරුංගා, වම්බටු, රූක්ෂ කටුද්‍රව්‍ය, අග්නිදීපන කරන ද්‍රව්‍ය, ගුගුල්, සිලාජතු (=ගල්සෙවෙල්), ගෝමූත්‍ර, එළුමූත්‍ර ආදිය ප්‍රමේහක ගලගණ්ඩාදි රෝගයන්හි හිත කර ය.

අපථ්‍ය :— **කිරීප්‍රකාර දුග්ධ විකෘති (දී, නවනීත, තක්‍ර ආදිය) ඉක්ෂු විකෘති (=සීනි ආදී), මත්ස්‍ය, මාංස, පිෂ්ටාන්න (=කැවුම්, ආප්ප ආදිය), අම්ල ද්‍රව්‍ය, මධුර ද්‍රව්‍ය, ගුරු ද්‍රව්‍ය, අභිෂ්‍යන්දි ද්‍රව්‍ය ආදිය ගණ්ඩමාලාදී ඉහතින් දක්වූ රෝගීන් කෙරෙහි අයහපත් ය.**

## ශ්ලීපද රෝගය (බරවා)
## ELEPHANTIASIS

බරවා රෝගයට **දක්ෂ වෛද්‍යයකුගෙන් ම බෙහෙත් ගත යුතු යි. සිරි හබු උණය හි උණයක් ඇතැම් කොටහතුව සෑදෙයි. එවිට i. තිප්පිලි, තිපල්, දේවදර, ඉඟුරු, සාරණ, වලඟසාල්, අරත්ත අල කබලින් බැද කුඩු කර උණු වතුරෙන් දෙනු.**

ii. **දරුපපිවාදි කසාය දෙන්නෝ ය. නිත්‍යානන්ද රසය මීට යෝග්‍ය ය.**

## මසූරිකාව
## Measles - Chicken Pox & Small Pox
### සරම්ප, පැපොල්, වසූරිය, වසඩ, විස්ෆොට ආදී රෝග
### සරම්ප

වඩා සිහිල් ද නො කරන්නෝ ය. මල බැඳී ගතිය නො වෙන්ට තබා ගත යුතු.

මේ සියලු රෝගවල දී උණ තිබේ නම් කොත්තමල්ලි හෝ කොත්තමල්ලි පැපිලිය හෝ කොත්තමල්ලි, පැපිලිය, කාලමෙස (කිරාත) හෝ තම්බා දිය යුතු යි.

උණ අඩු වූ කල ලුණුවිල තම්බා තිප්පිලි කුඩු, සීනි දමා දෙන්නෝ ය.

තෘෂ්ණා, ඇදුම, ඇති වූ කල :— කොත්තමල්ලි, වැල්මී, වද සඳුන්, තිප්පිලි කසාය දෙනු.

වැල්මී කසායෙන් මකරධ්වජය දෙනු.

# පැපොල්, වසූරිය

## POXES

ලීව මලබද්ධය හෝ සිව්හේව ලුණුවිල තම්බා, සීනි, එඬරු තෙල් දමා දෙන්නේ ය. උණ තිබුණොත් කොත්තමල්ලි, පැපිලිය, කිරිආතා (=කාලමේඝ) තම්බා දෙනු. කාලමේඝ චූර්ණය තල 1½ ක් උණුවතුරෙන් දෙනු. 'ගෝමූත්‍ර' වරකාව සත බැගින් දෙන්නේ ය.

සනීපයෙන් සිටින අය අරළු කුඩු දමා ගෝමූත්‍ර බීම යෝග්‍ය යි.

දුබිල්ල ආවොත් හෙල්ලි තම්බා සීනි දමා නිවුණු විට දෙනු. කොරබඩු, හෙල්ලි, කොත්තමල්ලි, ලුණුවිල, තම්බා දෙනු.

පැපොල්, වසූරිය, විසජි, විස්ෆෝට ආදි සියලු රෝගවලට මෙහි පහත දැක්වෙන කසාය, ගෝමූත්‍ර බහා කසාරා දෙන්නේ ය.

i. රසකිඳ, ආඩතෝඩා, දුම්මැල්ල, රුක්අත්තන, රත්කිහිරිය, වේමුල්, කොහොඹ කොළ, සහ, වෙනිවැල් ගැට කසාය- විසජි, කුෂ්, විස්ෆෝට, කැසීම්, දැවිලි, මසූරිකා- සිත උණ නසා.

ii. දුම්මැල්ල, තිපල, කොහොඹ කොළ, රසකිඳ, කලාදුරු අල, රත්හඳුන්, මුරුවා, කටුකරෝසන, දියමිත්ත, සහ, වැල්පිබ්බටු කසාය- පිත් සෙම්.උණ, සමේ දෑෂ, විස්ෆෝට, විෂදුෂ්ටි, මසූරිකා, විනාශ කෙරේ.

iii. කොහොඹ, පැපිලිය, දියමිත්ත, දුම්මැල්ල, කටුකරෝසන, ආඩතෝඩා, කහබිලියා, හෙල්ලි, සැවැන්දරා, දෙ සඳුන් කසාය- කුෂ් දෙස්, මසූරිකා (සරම්ප, පැපොල්, වසූරිය, දැවිලි උණ, සීත උණ, තද සිත) නසා ලයි.

iv. දුම්මැල්ල, රසකිඳ, කලාදුරුඅල, ආඩතෝඩා, කහබිලියා මුල්, හීන්කොහොඹ, කටුකරෝසන, පැපිලිය කසාය- පැසුණු මසූරිකා වියලී යයි. දැවිලි ගෙඩිවලින් උපන් උණ නසා.

v. පාද දැවිල ඇති වූ කල හාල්පාඩු දියෙන් සෝදනු.

මේ රෝගවල දී ආණ්ඩුවේ සෞඛ්‍ය රක්ෂක නිලධාරීන්ගෙන් ද මේ රෝග වැළඳී සුව වුණු ඒ සම්බන්ධ හොඳ දැනීමක් ඇති අයගෙන් ද උපදෙස ලබා ගෙන ඒ අනුව කටයුතු කළ යුතු යි.

# කුෂ්ඨ රෝග

## Skin-Disease

ලෙහෝරි, හමේ කැසුම්, දද, පණු හැවිලි, කබර, වණ, තුවාල, පිලිසල්, ලාදුරු ආදී සියලු ලේ දූෂිත වීමෙන් වන රෝග කුෂ්ඨ රෝග නම් වේ.

ප්‍රථම කොට විරේක කරනු. ඒව අරළු, ඇල් විරේකය හෝ තිපල කසා යෝග්‍ය ය. වාතරක්ත අධිකාරයෙහි ඇති සියලු කසා යන් මිට ශුභා යෝග්‍ය ය. මෙහි පහත දැක්වෙන කෂායයන් ද යොදනු

i. රසකිඳ, ආඩාතෝඩා මුල්, දුම්මැල්ල, කොහොඹ කොළ, හෙල්ලි, අරළු, බුළු, රත්හඳුන්, ඇඹැලපොතු කසාය දෙනු.

ii. වැල්මදට, බෝධි ඇට, නෝර මුල්, කොහොඹ, අරළු, කත, හෙල්ලි, ආඩාතෝඩා, හාතාවාරිය, බැබිල, වල්බෙලි, වැල්මී, නීර මුල්ලි, දුම්මැල්ල, සැවැන්දත, රසකිඳ, සුදුහඳුන් කසාය.

iii. කොහොඹ, පැපිලිය, දියමිත්ත, දුම්මැල්ල, කටුකරෝසන, ආඩාතෝඩා, කහබිලියා, හෙල්ලි, සැවැන්දත, දෙ සඳුන්, බෝදලු කසාය - දුවිලි කුෂ්ඨ නසා.

**ඇඟ සේදීමට හා නෑමට :—** සියලු කුෂ්ඨවල දී මෙහි පහත දැක්වෙන දේ තම්බා ඒ ජලයෙන් ඇඟ සේදීම ද නෑම ද ශුභ යි.

i. අව්රිස්සා ගැට, පොතු, කොළ තම්බා නානු. සියලු ආකාර කුෂ්ඨ විනාශ වේ.

ii. කොහොඹ කොළ, ඉත්තෑ කොළ තම්බා සෝදනු.

iii. නුග, බෝ, ඇහැටු, මාදම්, කොටදිඹුලා, අව්රිස්සා, කොහොඹ, මීසන්, ගොරක, මැල්ල, මේඩාගේ කොළ පොතු ලැබුණු තරමක් ගෙන තම්බා ඇඟ සෝදනු, නානු. ඇඟේ කැසුම්, කුෂ්ඨ නසා.

iv. ගොඩගම් තැම්බු වතුරෙන් නානු.

**ගෝඩි කුෂ්ඨ ගසන්නා:—** තිපල්, රත්හඳුන්, ඉරමුසු, ලුණුවිල, ආඩාතෝඩා, දුම්මැල්ල, සැවැන්දත මුල්, රසකිඳ, හාතාවාරිය අල, එරබදුපොතු, ගම්සූරියපොතු, සියඹලාපොතු, මීදවිය පොතු, මීගුල් කරඳ පොතු, අසෝද කොළ, ගුගුල්, කසාය කර දෙනු.

වණ, දද, කුෂ්ඨ, පරංගි, ප්‍රමේහ, ඉදිමුම, පීනස, මහෝදර, ඇලියා- ගෙඩි ගුණ වේ.

**හොරි තෙල් හා ඇඟ ගැල්ලීම්** :— හොරි - කුෂ්ඨ ආදියට ප්‍රතිකාර කරන කල මුලින් කසාය දී තෙල් හා ගැල්ලීම් ඊ ලඟට යොදන්නේ ය.

i. වරාකොළ, කෑප්පිටියා කොළ - කහ - පොල් දමා කොටා ඇඟ ගා පැ 2 ක් 3 ක් ඉඳ නාන්නේ ය. ලුණුයන්ව හා පැයකින් සෝදනු. මිට ගෙන්දගම් ටිකක් දමා තෙල් සිඳ ගානු. **ළමයින්ගේ සිරුට ගෙන්දගම් එක සේ නොගල්ලනු** එසින් වකුගඩු පිළිබඳ රෝග උපදී.

ii. අත්තනගහ සහමුලින් - කහ - පොල් - ගෙන්දගම් දමා කොටා මිරිකා අවුවෙන් සකාරා තෙල් සිඳ ගානු. සියලු කුෂ්ඨ නසා.

iii. කරවිල කොළ - වැල්රුක්අත්තන කොළ - කහ - පොල් දමා කොටා මිරිකා ඊට තිත්ත අඟින් - ගුගුල් - තෝර ඇට - පැණි තෝර ඇට - ගෙන්දගම් - හල්මල - අඹරා දමා තෙල සිඳ ගානු. දද - කුෂ්ඨ නසා.

## දද - පණු කැවිලි

### Ring Worms

i. **අත්තනකොළ දෙහිඇඹුලෙන් අඹරා ගානු**. ii. **ඇත්තෝර කොළ**, iii. **පැණිතෝර කොළ**, iv. **හල් කොළ එසේ ම** ගානු. v. **අඹු පොල්කොළ පුලුස්සාපු අළු පොල්තෙලින් ගානු**. vi. වලඟ සාල් - සහිඳලුණු - වියන් දුඹුළු - වදකහ - ඇහැල පැණි - බෝධි ඇට - නෙල්ලික්කා ගෙන්දගම් - පැණිතෝර ඇට - ගුගුල් - හල් මල - සාදිලිංගන්, ගෝමූත්‍රයෙන් දවස් දෙකක් අඹරා මීපැණියෙන් අඹරා කල්ක කර තබා ගාන්නේ ය.

**දද - කුෂ්ඨ ආදියට විරේචනයක්** :— කටු කරොසන - පීත කරෝසන - ඇහැල පොතු - අරළු - ඇත්තෝර කොළ- කටුකරළු මුල් - තිරස්තවලලු - සෙසකගෙන කොළ- කැප්පිටියා මුල් සමභාග, කරාබු - වසවාසි - සාදික්කා - එත්සාල් - ඉඟුරු - ගම්මිරිස්, තිප්පිලි - සියල්ල ම 1 භාග, ඇහැල පැණියෙන් අඹරා ඇත්තිඹබටු පමණ ගුලි කරනු. ගුලි 2 සිට 4 දක්වා උදේ අනුහව කර නිවුණු උණු දිය බොනු.

**පමෝලාදි චූර්ණය** :— දුම්මැල්ල මුල් පලම් යි - ගොත්කැකිරි අල පලම් යි - තිපල එක එකෙකින් පලම් බැගිනි. තිරස්තවාළු පලම් යි - අටිටික්කා පලම් ½ යි - ඉඟුරු කලං 3 යි - සුඛ උණු දියෙන් බොන්නේ ය.

කුෂ්ඨ - දද ශෝථ - ග්‍රහණී - අශ්ශ - මූත්‍ර කෘච්ඡ්‍රා - හලීමක - පාද ශූල - මස්තී ශූල - විෂම ජ්වර නසයි.

**මුසනාදි චූර්ණය:—** කලාදුරු අල - යිකුළු - තිප්පලි - වැල්මදට - දේවදාර - දසමූල් - රුක්අත්තන - කොහොඹ පොතු - කොත් තැඹිලි අල - රත්නිටුල් මූල් සමභාග - විළඳ 8 භාග.

**කුෂ්ඨ රෝගයෙහි භාන්‍යය:—** සහිඳ ලුණු - දුත්තමූල් - වැල්මිඳුරු තල්‍රා මල් පොතුරු - තිප්පිලි - කරඳ ඇට - වලංග සාල් සියල්ල උණු පැනින් අඹරා පෙරා භාන්‍ය කරනු.

**කුෂ්ඨ රෝගයෙහි ධූම පාන :—** වාල් මොලතු - රුක්මල් - කළුදුරු - නාමල් රේණු - තබ් - ඉරිවේරිය - සුදුහඳුන් - කොල්ලන් කොළ - කුරුඳු පොතු - එන්සාල් - සැවැන්දරා මූල් - නීත අරටු - වැල්මී - ජටාමාංස - ගුගුල් - අගිල් - සිනි - නුග පොතු - කොට්ටම්බුලා වගඩි - ඇහැටු පොතු - බෝ පොතු - ලෝට්ටු - සැවැන් අල - හල් මල - කලාදුරු අල - නෙළුම් රේණු - තෙල් ඹිලු රේණු - තිප්පිලි මූල් - සමභාග ගෙන කුඩු කර, ගින්නට දමා දුම් උරවා බොන්නේ ය.

සියලු ආහාර කුෂ්ඨවලට යෝග්‍ය ය. මේ දුම් නාසයේ පණුවන්ටත් අල්ලනු. පණුවෝ වැහිරෙත්.

## භග්න රෝග

### කැඩුම් - බිඳුම් - තැළුම් ආදිය

### Fractures & Dislocations

### තැලීම් උළුක්කු ඇම්මැට්ට ආදිය - Dislocations

i. හීන් නාරන් කොළ - අමුකහ - ලුණු කැටයක් - උණුකර දමා කොටා බඳිනු. උළුක්කු වී තිබේ නම් තලතෙල් හෝ මීතෙල් හෝ දෙබ තෙල් හෝ පොල් කිරට කහ දමා හෝ ගා ඇද බෙහෙත් බඳිනු. තැලීම - ඇම්මැට්ට - උළුක්කු ආදිය නසා.

ii. එබිත් එඩරු කොළ පොතු එඩරු තෙල් දමා මලවා බඳිනු.

iii. ලෝලු කොළ පොතු අමුකහ ලුණු දමා මලවා බඳිනු.

iv. ගොඩිවැල් කොළ - පෝවැ කොළ - කොබ්බෑ කොළ - පොඩි අරිසි - කහ ලුණු දමා මලවා බඳිනු.

v. ඇට්ටඹුරා - පොඩි අරිසි - හුණුහිරිල්ල කොළ පොතු - කහ ලුණු දමා මලවා බඳිනු.

vi. කොට්ටම්බුලා කොළ පොතු කහ ලුණු දමා කොටා මලවා බඳිනු

**පරණ වූ විට :—** බෝම් - බන්ඩි - ඇඹුල් මී - මේවායින් ලැබුණු වශයෙන හෝ සියල්ලගේ ම පොතු ගෙන ලුණු දියෙන් ගල ගා - අළු විකක් දමා පැසවා රත්කාග තිබෙද්දී ගානු අළුත් පරණ තැළුම් නසා.

**හැල්ම ඉදිමුම රුජා** :— කුඹුක් - දුම්මැල්ල - අවරිස්සා - සහ ලුණු දමා කොටා මලවා බඳිනු.

**හැලීමෙන් ගිය පැළුණු විට** :— i. අරළු - දුම්මල කුඩු පොල් තෙලෙන් දමනු. ii. දුම්මල කුඩු - අරළු - සහ කුඩු ලේ පිට දමනු.

**පසුමෙට හැල්මට, රුජාවට** :— කබෝ මී - බත් මී - ගම්මාළු - පුලිල (=කාන් කබෝ)-අවරිස්සා- මුදුහැන්ද - සහ ලුණු ටා කොටා ගෝමූත්‍ර බහා මිරිකා යුෂ ගෙන ලුණු දිය, මීපැණි, පස්කුළු බඩු දමා සකාරා ගානු.

මෙලෙස බෙහෙත් බෝඹු (=කබෝම්) හෙවත් උළුල් පොතු ද ගොදනු.

# කැඩුම් - බිඳුම් - නැළුම් - ගස්වලින්
# පාත්වීම් - ආදිය
## FRACTURES

ඉහත කී හදිස්සියක් සිදු වූ විට මුලින් ම ලේ නවත්වනු. මෙහි පහත දක්වෙන කසායක් ඉක්මනින් ම උණු හර දෙනු.

i සුදුලූනු - පෙරුංකායම් - වද කහ - ඉඟුරු - අබ කසාය සිඳ දෙනු. ඉක්මන් නම් උණු දියෙන් අඹරා ඊට දිය හර දෙනු.

ii වෙනිවැල් ගැට - කොත්තමල්ලි iii වෙනිවැල් ගැට - සුදු ලූනු - කොත්තමල්ලි. iv. පොල්පලා - දෙබටු - තෙරෙසද්- එරබු- නස්නාරන් මුල් - බෙලි මුල් - අරළු - යවකාර ලුණු - එඬරු තෙල් දමා. v ගොනිකා කොල යන කසායවල් දෙනු vi අංකෙන්ද කොල පොතු කැද දෙනු. vii අරළු - ඉඟුරු - තිප්පිලි- පොල් පලා, කලං 2 බැගින්, උණ කුඩු කලං ¼ කසාය, යවකාර ලුණු බහා දෙනු.

**මූණ අඩස්සිය තිබේ නම්** :— පුසුල් කොටා යුසට ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - සුදුදුරු - කොත්තමල්ලි අඹරා දමා දෙනු.

**බඩට ලේ බැසී තිබේ නම්** :— උණ ගොපිලි- තෝරකොළ- සහ කොටා යුසට ඉඟුරු - ගම්මිරිස් - තිප්පිලි - සුදුලූනු අඹරා දමා සකාරා දෙනු.

**ගසෙන් වැටුණු මිනිසාගේ හැල්ම තිබෙන තැන්වල** :— ගම්මාළු පොතු - බෝඹු පොතු - හුඹස් දලු කොටා ලුණු දියෙන් මිරිකා සකාරා ගානු. මෙදහ ම නො ලැබුණු විට එකක් වත් සපයා සාදා ගානු. ii, හැල් කොල - කාකාවාරිය කොළ- අත්තෙන්ද කොල පොතු - මදටිය කොළ පොතු - ගොනිකා කොල පොතු - බෝම් (=උළුල්) පොතු - ගෝමූත්‍රයෙන් අඹරා- අරළු - ඉඟුරු - තිප්පලි - අඹරා දමා - සකාරා ගානු.

**තැල්මෙන් වූ අඩස්සිමෙට:—** හැප්පිටියා මුල් - අරළු - සියඹලා හැටි - මුඩමහන මුල් - උණහුඩු - වැල්පෙපොල මුල් - පොල්පලා- තොරෙරසැව් - නාරංගා පුවක් - නාරද මුල් - සහිඳ ලුණු - ගෝ මූත්‍ර පත 1 යි - වතුර පත 7 යි - 1 ට සිඳ දෙනු. ii. අන්නෙනඳ කොළ පොතු හෝ ගම්සූරිය කොළ පොතු හෝ සීනාවී කාලෙන් තැද පිස දෙනු. හැඹිරි ඇට - වෙනි ලුණු අඹරා එළමූත්‍රාවට දිය කර පැසවා යටි බඩේ ගානු.

**කැඩුණු තැන්වල සන්ධි වීමට :—** තොදව් හරිගස්කා, තල තෙල් හෝ සන්ධි වදින තෙලක් හෝ ගා, මුරුවාදුල් අල කොට සහ ලුණු දමා මලවා බඳිනු. ii. බෝ - නුග - අට්ටික්කා පොතු සහ ලුණු දමා කොටා සකාරා ගා, නාවාපොත්ත තලා බඳිනු. iii. දුනුමඩලා පොතු උගුල්ලා තලා, සහ - ලුණු - කුළු පස පොල්කිරි දමා සම්බා සන්ධියේ තබා බඳිනු. iv. කොබ්බෑ කොළ පොතු- අනු - කොටදිඹුලා - සහ ලුණු ලා මලවා බඳිනු. තුන්වරුවට සන්ධි වදී. v. අනු - කොටදිඹුලා - මුදු තැඳ - නාවා පොතු - ගොනිකා වැල්- ගම්මිරිස්- දමින්න පට- සහ ලුණු ලා කොටා මලවා බඳිනු. දවසට සන්ධි ගනී. vi. කිරිවැල් - මුදුතැඳ - කුළුපස - සහ - ලුණු දමා කොටා, ගෝමූත්‍රයෙන් මිරිකා යුෂ මිරිකා සකාරා ගා රොඩු පිට බඳිනු. vii. මුදුතැඳ - නවසන්ධි - ගොතිකා - නාවා පොතු - අනු- කොටදිඹුලා - හිරුස්ස - සහ ලුණු - රා දමා මලවා බඳිනු. නව පැයට සන්ධි වදී. viii. කොටදිඹුලා- හැප්පිටියා කොළ පොතු- සහ ලුණු දමා කොටා මලවා බඳිනු පය බිදුණොට යි. ix හැප්පිටියා කොළ පොතු - බෙදුරු අල - දුනුමඩලා පොතු - සහ ලුණු සමග මලවා බඳිනු. අත කැඩුණොට ය. x. වෙදපතා කොළ පොතු - ගොනිකා - ඇට්ටඹුරු - සහ ලුණු ලා මලවා බඳිනු. සලකේ සන්ධියට යි.

xi අනු - මී - කොටදිඹුලා - මුදු කැත්ද - නාවා - මුරුංගා - නව සන්ධි - හැප්පිටියා - සුදු පරිද්දෙන් කොළ පොතු ගෙන සහ ලුණු ලා කොටා යුෂ මිරිකා ගෙන බෝමු පොතු ගල ගා දමා - කුළු පස - පෙරුංකායම් - සුඹස් දලු, අඹරා දමා ඔතුල් පැණියෙ බකා, පැසවා, මල ඇට - ගුහාපිය ආදි පාත්‍රි කැඩුම් තැළුම්වල ගානු.

xii තිපල්, කුළුපස, ඉත්තෑමුල්, අනමුල්, ගොතිකා, මුරුංගාඅල, හැප්පිටියා මුල්, පද්වතුර, වද්මතුරු, පෙරුංකායම්, වැල්මී කාකාසිඳ, හස් තෙල් දමා තෙනත්ව දෙනු. ඉලඇට, තව්, තොඩු ඇට සන්ධි වදී.

# මුඛ රෝග

## Diseases of the Mouth

**දිව, තොල් ගෑගීම:—**

a. අරළු කලං 6 ක්, සුනිපි කලං 6 ක්, තැඹිලි ගෙඩියට බහා තිබා - පෙරා දී විරේක කරවනු.

b. අරළු, බුළු, නෙල්ලි, රසකිඳ, පැඹිලිය කසාය දෙන්නේ ය.

c. ගොටුකොළ, රතුලූනු, කොහිල අල තම්බා ගිතෙල් දමා කට සෝදනු. බොනු.

d. ගොන්කැකිරි කොළ කසා දමා කොවා කකාරා කට සෝදනු.

e. හල්දුම්මල කුඩු කර තල තෙලෙන් අනා - උණු වතුර එක් කර සෝද අන්තිමේ ලැබෙන මල්පය පැළුණු තැන්වල ගානු. මෙය 'දද' වලට ද යෝග්‍ය ය.

**විදුරුමසන් ගෙඩි, පණු ගෙඩි :—**

අ. ගොරක කැල්ලක් සහ හැටි ලුණු එ පමණ ගෙන එකට කහඩුව සේ තලා ගෙඩිය පමණට කපා එතන ම තබනු. දතට කැක්කුම වැටෙන විට ද ඒ නහරය හරියේ තබනු.

ආ. කුරුඹා ඇට්ට මීපැණියෙන් ගලගා, කඹ හැටියක කකාරා පණු ගෙඩි එන අග නිතර විදුරුමසේ ගානු. ගෙඩි ඒම නවතී.

ඉ. සඳිඳ ලුණු, සිනක්කාරන්, පල්මාණික්කම්, කරාබු නැටි, කුඩු කර පොට්ටන් බැඳ දත මුල හෝ ගෙඩිය ලඟ තබා සෙම අරිනු. විදුරුමසේ ගෙඩි ද දත් කැක්කුම ද නසා.

**කටේ සියලු රෝගවලට කට සෝදන කසාය :—**

රසකිඳ, වෙනිවැල් ගැට, මිදි, අසමෝදගම්, තිපල, පිච්ච කොළ කසාය - දත්වල, දිවේ, උගුරේ, විදුරුමස්වල රෝග නසා. ගෝමූත්‍ර බහා සිඳ යෙදීමෙන් අධික ගුණ ලැබේ.

# දත් රෝග

## Diseases of the Teeth

**දත් කැක්කුමට:-** i. කරාබු නැටි කසායෙන් කට සෝදනු. ii. කුරුඳු තෙල් හෝ කරාබු නැටි තෙල් හෝ කැක්කුම ඇති දතේ හෝ දත ලඟ සුලුන්වල බහා තබනු. iii. මඟුල් කරඳ මුලේ පොතු, රත්හඳුන්, සමන් පිච්ච කොළ, කට්ටකරඹු මුල්, පිලමුල්, මූණමල්, පොතු, නාගිජ්ජු, සිනක්කාරන් තම්බා කට සෝදන්නේ ය.

**පිටහින් වාත කැක්කුම ඇ නම්:—** i. වාත තෙල් ගා තවනු. ii බෙලි, බැබිල, ඉඟුරු, කොත්තමල්ලි කසාය බොන්ට දෙනු

**දත් කැක්කුම නිසා හම්මුල ඉදිමුණොත්:** i අත්තන ගෙඩි, එළු කොල, කහලුණු දමා තොටා දෙඩම් ඇඹුලෙන් මිරිකා කසාර ගාන්නේ ය. ii. රත්හඳුන්, සිවන්ගුරු, සාරණ, දෙහි ඇඹුලෙන් කල ගා ගනු. iii. පිලමුල්, සිවියමුල්, කොරහ, කහ, ලුණු තම්බා කට සෝදනු. **දත් කැක්කුම නො ඇරුණොත්** කටුවැල්බටු ඇට, එළබටු ඇට, කොහොඹ කොළෙන් අහා - උදලු තැටියක් ගිනියම් කර ඒ පිට දමා, ගස් ලබු (=පැපොල්) පිත්තක් ගැසූ පොල් කටුවෙකින් වහා දුම් හටව උරවනු.

**දත්මුල අමාරු, විදුරුමසේ හැරව ඒම, ලේ ඒම ඇති වූ විට :—** පිහස් කසාය ද ශරීරයේ ඌර්ධව භාගයේ වාත රෝග වලට නිම් කසාය ද දෙනු. වාතය තද නම් වාතය මග හරින ගුලියක් සුදුසු අනුපානකින් දෙනු. (සුදුලූනු, ගම්මිරිස් තම්බා තවරන්න කල්කය මාත්‍ර පහ ආදීය යොදනු.)

දත් කැක්කුම මූල්වීමෙන් තදබල දරුණු වාත දරුවන් ලැබූ සත්‍රීන්ට වන බව සැලකිය යුතු. එවිට දරු ප්‍රජිවාදි කසාය, වෘහද් කාර්ගසාදි කසාය හා ගුලියක් සුදුසු අනුපානයකින් දීම ද කරනු.

**දත්වල රෝගවලට කසායවල් :—** (අ) දුම්මැල්ල කොල, කොහොඹකොල, අරළු, බුළු, නෙල්ලි කසාය කකාරා කට සෝදනු. දත්මුල වණ, ලේ යාම, හැරව ඒම් නසා.

(ආ) කුඹුක් පොතු, රණවරා පොතු, යබර, තිප්ල්, කටුකරඹු මුල්, වෙනිවැල් ගැට, කළුවීර කුඩු, මයිල පොතු, කසාය කර කට සෝදනු. දත් සවි වේ. ලේ යෑම නසා..

**දත්වලට ප්‍රලේප චූර්ණ :—** 1. අලබෙයි, කයිප්පු, කුඩු කර දත් මදිනු. විදුරුමසින් ලේ යාම, හැරව යාම නසා.

2. තිපල, කොට්ටම්, කලාදුරු අල, අඹරා දත මුල තබනු. දත් වේදනා නසා.

3. නුග, බෝ, ඇහැටු, අට්ටික්කා පොතු කුඩු කර දත් මදිනු. විදුරු මසින් ලේ යාම නවතී.

4. අරළු, සිනාස්සාරත්, කහ, අලබෙත් (=සිනාමුල්), කටුකරඹු මුලේ පොතු, මඟුල්කරඳ මුලේ පොතු, පිළමුල්, කල්පොතු දුඹු අළු, සමභාග- සියල්ල බරට මුණමල් පොතු චූර්ණ කර දත් මදිනු. සියලු දන්ත රෝග, විදුරුමසේ රෝග නසා ලයි.

5. **සුවඳ** කොට්ටං, වෙනිවැල් ගැට, ලොත්, කලාඳුරු අල, නිදිකුම්බා කොළ, දියමිත්තඹිල්, සිවියඹුල්, කහ, සමභාග - චූර්ණ කරනු. දත්මුල්වල ලේ යාම, වේදනා ආදී සකල ආකාර විදුරු මහස් ද දත්වල ද රෝග නසී.

6. කැවන් අල (=හෝ කලාඳුරු අල) අරළු, නිකුළු, බුලුගස්පොල්, කොහොඹ කොළ, ගෝමූත්‍රයෙන් අඹරා ගුලි කර වේලා කටට තබනු, සෙලවෙන දත් තද වේ.

7. **දන්ත රෝගාන්තක චූර්ණය** :— කම්බෝපිච්ච කොළ, සාරණ, කල, තිප්පිලි, කටුකරඹු කොළ, කලාඳුරු අල, වදකහ, ඉඟුරු, අසමෝදගම්, අරළු සමභාග චූර්ණ කරනු. මෙයින් දත් මදිනු. තිතෙලින් අනා දත් මදිනු. දන්ත ගත වාත විකාර, කාමි, කණ්ඩු, ශූල, දුගඳ ආදී සියලු දත් රෝග නසී. **දත් පිරිසිදු වීමට** මීට හරි බරක් බුණමල් පොතු කුඩු බහා ද, ලේ ගාලේ යෑම වැළක්වීමට සිනාඹුල් කුඩු දමා ද හොඳ මදිනු.

8. **දශන සංස්කාර චූර්ණය** :— ඉඟුරු, අරළු, කලාඳුරු අල, රත්හඳුන් (කිහිරිමලින් හැදූ කයිප්පු වඩා හොඳ යි), කපුරු, සිවංගුරු, ගම්මිරිස්, කරාබු නැටි, කුරුඳු පොතු, සමභාග - රටහුණු කුඩු සියල්ලට සමාන වී (රටහුණු වෙනුවට බුණමල් පොතු කුඩු හෝ සිවංගුරු කුරුම්බා වතුරේ අඹා අව්වෙන් වේලා කුඩු කර හෝ දඟවියා අළු හෝ 'පර්ල් ඇෂ්' නම් විශේෂ හෝ ගත හැකි යි ) සියලු ආකාර විදුරු මහස් ද දත්වල ද රෝග නසී.

9. **වකුලාදි චූර්ණය** :— බුණමල් පොතු කලං 12, අරළු, අඟුරු කලං 6 යි, සිතක්කාරන් බැද කුඩු කලං 3 යි, කරාබු නැටි කලං 3 යි, ලුණු කලං ½ යි, කපුරු කලං ½ යි කුඩු කර උදය සවස දත් මදිනු. තල තෙලෙන් කට සෝදනු. සියලු දන්ත රෝග නසී.

10. **දන්ත අවලේපය** :— (**Dental Cream**)

| | |
|---|---|
| කපුරු | 1 |
| ඔලීව තෙල් | 5 |
| රට හුණු කුඩු | 10 |
| මෙන්තෝල් | 1 |

Spt. Ammonia Aromatic. Q. S.

ස්ප්‍රිට් ඇමෝනියා ඇරමැටිකස් කපුරු දිය කිරීමට වුවමනා තරම්, මිශ්‍ර කරනු. මැදීමෙන් දත්වල රෝග නසී.,

# කර්ණ රෝග

## Disease of the Ear

**කණේ වේදනා**
**Earache**

කණේ වේදනා ඇති වූ කල වා නසන තෙල් රත් කර කණට දමනු. කණට එන නහරවල තෙල් ගා තවනු. උඩ කයේ වාත මඟ හරණ කසාය දිය යුතු.

i. දේවදාර කෑල්ලක් ගෙන, තලතෙල්වල පොඟවා පත්තු කර වැටෙන තෙල් බින්දු එක් කර තරමක් රස්නේ තිබෙද්දී කණ වත් කරන්නේ ය. ii. මී අරටු මේදයේ ම තෙල් ගෙන කණට වත්කරනු.

iii. සුදුලූනු, වෙලා කොළ, පෙරුංකායම් කුඩු කර තල තෙල් වත් කර තබලේ පැසවා මිරිකා රස්නේ තිබෙද්දී වත් කරනු.

iv. අමු ඉඟුරු, සුදුලූනු, මුරුංගා පොතු, මේවායේ යුෂ, අළු කෙහෙල් අලේ ඔරුව සාදා එහි දමා, පෙරුංකායම් සහිඳ ලුණු, මීපැණි, තල තෙල් ටික ටික දමා අඟුරු උඩ දමා කකියවා පෙරා තරමක් රස්නේ තිබෙද්දී කණ වත් කරනු.

ප්‍රතිශ්‍යා ගතියක් තිබේ නම් ඉඟුරු, කොත්තමල්ලි, තිප්පිලි, සුදුලූණු තම්බා දෙන්නේ ය. ප්‍රතිශ්‍යා උණට තියම් කුඩක් ද දෙනු. වාතාදි අන්‍ය කාරණයකින් සිදුවී නම්, බෙලි, බැබිල, ඉඟුරු කසාය, තිප්පිලි කුඩු දමා දෙන්නේ ය. දරු පසිවාදි කසාය දෙන්නේ ය.

**කණ පැසවීම**
**Otalgia**

ඇතැම්විට කණ පැසවා සැරව නික්මෙන්ට පටන් ගනී. එවිට තිපල්, ඉත්ත, දෙඹ කොළ, කහ, වෙනිවැල් ගැට, සමන්පිච්ච කොළ, දිවුල් කොළ තැම්බූ ජලයට සීනක්කාරන් ටිකක් දිය කර වස්ති යන්ත්‍රයෙකින් සෝදන්නේ ය. ඉක්බිති පාන් වැටියකින් පොතා සිඳ මේ තෙල බහන්නේ ය.

i. වදකහ, ඉඟුරු, දේවදාර, සහිඳ ලුණු, පෙරුංකායම්, සතකුප්ප, සුවඳ කොට්ටන්, ගෝමූත්‍රයෙන් අඹරා ජට දිය කර තලතෙල් දමා තෙල් සිඳ පෙරා කණ වත් කරනු. කණ පැසවා සැරව යන විට ද වේදනා ඇති විට ද මෙය යොදනු.

ii. 'අලබේත්' (සීන ඕල්) එන පිතාස් කසායවල් දෙන්නේ ය.

**කණේ කුරුම්බිණි, කුහුඹි, ආදී සතුන් වැදුණු කල**
**Foreign Body in the Ear**

කණේ කුරුම්බිණි ආදී සතුන් රිංගුවිට අධික වේදනා ඇති වේ. එවිට මුලින් ම i. පොල්තෙල් පුරවනු. සතා එළියට එන්නේ ය. උගේ පණ ගලවා හරිනු. ii. සුදුලූනු, මුරුංගා, මේවායේ යුෂ තල තෙලින් පැසවා නිවුණු පසු කණ පුරවනු.

**කණේ කිණි කුලන්ම** :— දිවුල් මද, දලු, යුෂ වත් කරනු.

# නාසා රෝග

## Diseases of the Nose

### ප්‍රතිශ්‍යා, පීනස්, නාසයේ ගෙඩි ආදිය අධිකාරය

**ප්‍රතිශ්‍යාව Cold** ප්‍රතිශ්‍යාව හැදුණු විට හිස, නළලත් සමග වැසෙන්ව රෙද්දකින් වෙළනු. නාසය, කට හෙම වසන්නේ නා- උණුසුම ව, සුලඟට අසු නොවනු.

i. සියඹලා කොළ යුෂක් - ගම්මිරිස් විසක් සමග තම්බා, සීනි දමා බොන්නේ ය. එසේම පැසවා.

ii. අමු ඉඟුරු, යකිනාරන් කොළ පොතු, සුදු ලූනු එක තරම ගෙන කොටා හඩ පිම්බෙන් තම්බා මිරිකා- මීපැණි, සීනි, තිප්පිලි කුඩු දමා දෙන්නේ ය.

iii. අරළු, කොත්තමල්ලි කුඩු කර උණු වතුරෙන් දෙනු. උණු නම් ඉඟුරු යොදා දෙන්නේ ය. iv. තිප්පිලි, මුරුංගා ඇට, වලගසාල්, ගම්මිරිස් කුඩු කර නාසයට උරවන්නේ ය.

# පරණ ප්‍රතිශ්‍යා, පීනස, නාසයේ පිනස් ගෙඩි ආදිය

## Chronic Catarrh & Polypus

i. ඉඟුරු, කටුවැල්බටු, රසකිඳ, සුවඳ කොට්ටං කසාය- සීනි, මීපැණි, තිප්පිලි කුඩු දමා දෙනු. පීනස, පපුවේ පරණ කැසි, පරණ උණ, හිසේ වේදනා, දත් රෝග නසා.

මෙය හැලි 3 ක් දී - පථ්‍ය වූ වතුරක් දින 3 ක් නෑම නොට - නව හැලි 3 ක් බොන්නේ ය. දිගට ම හැලි 6 ක් බොන්ට පුළුවන් නම් වඩා හොඳ යි. 'හැලිය'යනු යෙදුණෙන් නාට වඩිය පත සඳහා යි. නෑමට හොඳ ඉරෙන් කැකැරුණු පිරිසිදු ජලය යි. මෙසේ හැලි 12 ක් බීමෙන් අධික ගුණ ලැබේ.

ii අරළු, ඉඟුරු, සිව්ය, සුදු පිටවක්කා කසාය - ජලගට පෙරසේ ම පීනසට යොදනු. එය කසාය 6 ක් බිය යුතු.

මේ කසාය දී නස්‍යයක් යොදනු. නස්‍යය:— i කුම්කුමප්පු, උක් සකුරු, තන කිරෙන් අඹරා කිනෙලින් බැඳ පෙරා නස්න කරනු.

**සංලක්ෂණය** :— කුම්කුම්ප්පු හොඳ එක රතුපාට හෝ වෙනත පාට යි. හොඳ ඒවා නො ලැබුණේ නම් නාග කුඩු හෝ කොකුම් පොතු කුඩු ගත යුතු යි.

ii. පෙරුම්කායම් වලගසාල්, සුවඳ කොට්ටන්, වැල්මී, ඉඟුරු, කුඩු කර ගිතෙලින් බැද පෙරා නස්න කරන්නේ ය. (බින්දු 7 ක් පමණ), ඉවසන්ට බැරි හිස රදයටත් හොඳ යි. තරමක් රස්නේ තිබෙද්දී නස්න කරනු.

**නස්‍ය කරන ලද දිනවල නෑම නො කළ යුතු. ඒ ලඟ දවස් දෙකට පසු වුවමනා නම් ඉස ඇල්ලුම් දමන්නේ ය.**

**ඉස ඇල්ලුම්** :— i. **කොහොඹ කොළ, තෙල්ලි, සැවැන්දරා මුල්, එළකිරෙන් තම්බා අඹරා දමනු.**

ii. **අරළු, බුළු, තෙල්ලි, හීකිරිඳිය, නිකකොළ, එළකිරෙන් තම්බා අඹරා දමන්නේ ය.**

iii. **උඳුපියලි කෝමාරිකා, හීකිරිඳිය, මේවා හොඳට කොටා, සුදුහඳුන්, ඉඟිනි ඇට, වැල්මී අඹරා එකට මිශ්‍ර කර එළකිරෙන් තම්බා ඉස ගල්ලන්නේ ය.**

**ඉස ඇල්ලුම් දවස් තුනක් පිට පිට දමා නාන්නේ ය.**

**පීනස් චූර්ණ** :— i. **අසමෝදගම්, වැල්මී කුඩු කර නාසයට උරවනු. ප්‍රතිශ්‍යාව එකෙණෙහි සුව වේ.**

ii. **මයිල මල්, සපු කැකුළු, සැවැන්දරා මුල්, ඉරිවේරිය, කොල්ලන්කොළ, අගිල්, ඉරමුසු, කුරුඳු, නාමල් රේණු, හාතාවාරිය අල, තිකුළු, වැල්මී, දෙදුරු, එන්සාල්, සුදුහඳුන්, අසමෝදගම්, කොත්තමල්ලි, උළුහාල්, කුරුඳු පොතු, කොල්ලන් කොළ, කොකුම් පොතු - සමභාග චූර්ණ කර නාසයට උරවනු සියලු පීනස නසා.**

**සංලක්ෂණය**:— දත්වල වේදනා, පණුවන් කෑම, හඬේ අමාරු, හිසේ වේදනා පවතින විට නස්න සහ ඒවාට නිසා බෙහෙත් කරන අතර, පීනසට උරවන කුඩු මගී ද උරවන්ට දෙන්නේ ය.

iii. කුරුඳු පොතු, කොල්ලන් කොළ, නාමල් රේණු, එන්සාල්, සුදුලූනු, කළුදුරු, සුදුදුරු, සුදුහඳුන්, තිකුළු, සුවඳ කොට්ටන්, අසමෝදගම් - සමභාග චූර්ණ කරනු. නාසයට උරවන්නේ ය. පීනස, ශිරෝ රුජා නසා. දත්වල වේදනා ද නසන්නේ ය.

# උෂ්ණ, ගිනියම්, නාසයෙන් ලේ යන පීනස්

## Bleeding from the Nose

නාසයෙන් ලේ යන කල මෙහි පහත දැක්වෙන කසාවල දී රක්තපිත්ත (=රක්ත පිත්තයෙහි) ප්‍රතිකාර කරනු.

i. කහ අල කසාය දෙනු.

ii. ඉඟුරු, කටුවැල්බටු, රසකිඳ, නෙළුම් දඬු කසාය දෙනු.

iii. කොහිල අල, ගොටුකොළ, රතුහඳුන් කසාය දෙනු.

හෙල්ලි කුඩු ගිතෙල් සමග කකාරා හිසට දමනු. රක්තපිත් අධිකාරයෙහි කියන චූර්ණයක් නාසයට උරවනු. දෙළුම් මල් යුෂ නස්‍ය කරනු.

නාසයෙන් දිය වැගිරෙන විට ඉහතින් දැක්වූ කසාය දෙමින් සහිඳ ලුණු, අමු කපුරු, තිකුළු කුඩු කර නාසයට උරනු.

**දරුණු පීනස්වලට, නාසයේ කෑද ගඳට, නාසයේ වණ, අර්බුද ඇති වූ විට :—** මෙහි පහත දැක්වෙන කසායන් දෙනු.

i. එළබින්තඹුරු - කබරස මුල්, කාකාචාරිය අල, සීන මුල් (=අලබෙත්) කසාය දෙනු.

ii. සිවිය, ගොටු දඬු, එළබින්තඹුරු, කබරස මුල්, කාකාචාරිය අල, රතුහඳුන්, කලං 2 බැගින් - අලබෙත් කලං 12 යි, අට 1 ට සිඳ දෙනු. කල්ගිය පීනස් සුව වේ.

**නාසයේ මස්දලුවලට** :— i. පීනස් කසාය නියම ලෙස දෙනු. ii. යවකාර ලුණු, සහිඳ ලුණු, ඉඳුණු බටු යුසින් අඹරා තිතෙලින් අනා පාන් වැටියක් හා නාසයේ මස් දලුවේ ගැවෙන්ට අරිනු iii. යවකාර ලුණු, සහිඳ ලුණු, පල්මානික්කම්, මුරුංගා ඇට, රත්නිට්ටල් මුල්, ඉඳුණු බටු යුසින් හා ගිතෙලින් අඹරා පෙර ලෙස කරන්නේ ය.

**නස්‍ය ද යොදනු:—** i. එඩරු ඇට, තෝර ඇට, මැල්ම, අරත්ත, කාකාචාරිය අල, සහිඳ ලුණු, ඉඟුරු, මී අරටු, වලකසාල්, කල්ක කර තලතෙලින් තෙල් සිඳ පෙරා නස්‍ය කරන්නේ ය. ii. මුරුංගා ඇට, බටු කර, දුන්න, තිකුළු, සහිඳ ලුණු, රත්නිට්ටල්, කල්ක තල තෙලෙන් තෙල් සිඳ නස්‍ය කරන්නේ ය.

**පීනස් තෙල් :—** i. යක් එරබදු පොතු, මීඅඹ පොතු, යුෂ නැළිය බැගින්, තලතෙල්, මීපැණි, ගිතෙල් සියල්ල නැළිය යි. **කල්කයට:—** හොල්ලන් කොළ, කුරුඳු පොතු, එන්සාල්, මැල්ම, දෙදුරු, සුවඳ කොට්ටං කලං 2 බැගින්, තෙල සිඳින්නේ ය. ඉස අල්ලනු. නාසයට උරවනු. කිවිසුම් යැම, මොලය දුම, ලේ සොටු වැගිරීම, කට කුණු රස ඒම නසා ලයි.

ii. **ශීර්ෂ පීනස් තෙල** :— යක්වරබිඳු කොළ, පොතු යුෂ පත 2 යි, කලතෙල් පත 2 යි, එරබුතෙල් පත 2 යි, **කල්කයට** :— කළුදුරු, සුදුදුරු, අසමෝදගම්, තිප්පිලි, සුවඳ කොට්ටං, අබ, සහකුප්ප, අතිවිඩයම්, කටුකරෝසන, මුද්‍රපර්ණ, දේවදාර, තිප්පිලි, ඉඟුරු, එන්සාල්, කුරුඳු පොතු, හිඟුරුපිඟලි, ඉරිවේරිය, කොතාවිය අල, කැමැත්දත මුල්, කලාදුරු අල, කොල්ලන් කොළ, සුදුහඳුන් කලඳ බැගින්, හොඳ ගම්මිරිස් පත 2 යි, ගිතෙල් අවුන්ස 1 යි, කල්කා අඹරා දමා තෙල සිඳිනු. හැම පීනස්, නාසය ඇහිරීම, නාසයෙන් ලේ යාම, කන් කැසුන්, කැක්කුම, හිස, දත් රෝග, ඇදුම නැති වේ. හිසේ ගානු, නාසයට උරවනු, නස්‍ය කරනු, උණුවතුරට දමා බොනු.

# නේත්‍ර රෝග

## Eye - Diseases

### ඇස් රුදාව

i 'සින්ක් සල්ෆ්' නම් ඉංග්‍රීසි බෙහෙත් අවුන්සයක් ඉංග්‍රීසි බෙහෙත් ශාලාවකින් ලබා ගත යුතු යි. මෙය ඉතා ලාභ යි. මෙයින් වතුර බෝතලයකට ඔලිඳ ඇට 24 ක බර දමා දිය කර වසා තබා ඇස්වලට වක් කරන්නේ ය.

වතුර අවුන්සයකට ඔලිඳ ඇටයක බර සෑහේ. අළුත සැදුණු හැටියේ ම ඇස් රුදාවට වක් කරන්නේ ය. ඇසේ ලප තිබෙන විට මෙය නො වක් කරනු.

ii. සියඹලා කොළ, දෙළුම් කොළ, සමන් පිච්ච මල් තම්බා ඇස් සෝදනු.

iii. තෝර කොළ, කොටා දෙහි ඇඹුලෙන් මිරිකා තඹතැටියක බහා රත් කර සකාරු ඇස වටේ ගානු.

ඇස් රුදා දරුණු වූ විට වේදනා අධික වූ විට මෙය යොදනු.

මේ සමඟ ඇසට iv අරළු, බුළු, නෙල්ලි, වෙනිවැල් ගැට, උක් දඬු කසාය, මීපැණි දමා ඇසට වක් කරන්නේ ය.

v. 'නාලිකේරාඤ්ජනම්' ඇස වටේ ගානු. vi. මීපැණියෙන්, කොහොඹ කාක යුසින් ඇසට දමනු.

සාමාන්‍යයෙන් නේත්‍ර රෝගවලට ඇසට යුෂ, කසාය වැක් කිරීම හිස වටේ බෙහෙත් ගෑම (=පුරවලියක්), කසාය දීම දින පස ගත වෙන තුරු නො කළයුතු යි.

ඇස් රුදාව සුව නො වී ශෝෂ වූ කල වෙනිවැල් ගැට කසාය හෝ, ඊට සුදුසු ඇස් වතුරක් වක් කරනු නාලිකේරාඤ්ජනම වටේ ගානු.

# ආගන්තුක ඇස් රෝග

**ඇස් තුවාල** :— i. සුදු හඳුන්, අමු කහ එකත් දමා තලා කිරිකා ඇස වත් කරනු. ii. සුදුහඳුන්, මිණහඳුන් කහ ලා කොටා කිරිකා ඇසට වත් කරනු. දිව්‍ය ඖෂධ යි. iii. බෙලිද කොළ යුෂ වත් කරනු. තුවාල ගුණ වේ. iv පොල්පලා, උල්කෙන්ද, කහ සමඟ කොටා යුෂ වත් කරන්නේ ය. v. මොනර කුඩුම්බිය කහ සමඟ එළලස වත් කරනු. vi. දෙළුම් දලු, vii කොහොඹ, viii. දිවුල් දලු, ix. කැල්කොළ, x. උල්මැරණිය කොළ යුෂ, කහ සමඟ පෙර සේ වත් කරනු.

**ඇස තුළ උල් ඇදීමට** :— i. හීන් දදකීරිය කොළ, මොනර කුඩුම්බිය කොළ, සුදු පිටවක්කා කොළ, තලා ඇස වත් කරනු. කටු උල් ඇදේ.

ii ඉත්තා දිය පට්ටිය කිරිකා ඇස ලනු. යකඩ කෑලි එයි. iii. මහ නයි හක්කට කර තපනු. iv. කොබ්බෑ දලු කහ අඹා කොටා යුෂ වත් කරනු. v. කොවක්කා කොළ යුෂ වත් කරනු. මේ බෙහෙත් වලට උල් ඇදුණා ම කොහොඹ කොළ පොඩි කර අනත් තබා ඉඳලා ඇදෙන විනස වත් කරනු. තුවාලේ එවලේ ම පැළෙත්. උඩුපියලි කොළ, කොහොඹ කොළ, ඇල් පැනින් ඇසට වත් කරනු. තුවාල පැහී හොඳ වේ.

**සියලු සතුන්ගේ ඇස තුළ ඇණුනාට** :— දියමිත්ත කොළ යුෂ වත් කරනු. ඇස පැදේ. කටුපිල කොළ මිටක්, ලුණු කැටයක් බැඳ කොටා රත් කර ඇස වටේ තමනු. ගස් කදුරු ඇට (=කොඩ කදුරු), කහ, මූත්‍රයෙන් ගලගා ඇස ලනු.

**ඇසට තුවාලයක් වී ලේ ගලන්නේ නම්** :— i. දියමිත්ත කොළ යුෂ වත් කරනු. ii. කරල් හැබ කොළ, බෝදලු, ඉඩ ඇති ම එනේ ලා කොටා කබලෙන් බැද කුඩු කර තබා ලේ යන විට ලේ ගැල්ලුම්ට අල්ලනු. ලේ හිටී. iii. රණවරා දලු යුෂ වත් කරනු.

**ඇසේ කැපුණ්, තොමුණ්, ඇණුන් වී ලේ බොහෝ ජ නම්:-** කිඹුබටු දලු, කැප්පිටියා දලු, කැබෙල්ල දලු, කැකිරි දලු, කරල්හැබ දලු, කහ ලුණු විනාකිරි සමඟ අඹරා තුවාලේ ඔතනු. ලේ හිටී. තද ඇස් තුවාලවලට පමණ යි.

**ඇසේ තුළ ඇණී ඉතිරි වී තිබුණු විට** :— පොල් ඉරටු මිටියක් බැඳ ඉසට තබා කටුම් ලීල නූල බැද ඒ නූල උඩ බැද බෙලිද කොළ යුසින් රෙද්ද තෙමා තලපෙ වකා ඇල් දිය ඉසට ඉස කොල් තුරු එක එක අදිනු. කෑල්ල කොළ, කටුපිල කොළ, යුෂ ඇසට

වක් කරනු. තැංදේ නම් තලප පිට බර තබනු. කට්ටුව ඇදුණ විට ජල් ගාමශිත්ව දියඹින්න කොළ යුෂ වක් කරනු. එම කොළ අඹරා එලනු. කටුව ඇදුණ කල කොහොඹ කොළ, අඟුණ කොළ, මීපැණි යෙන් ඇසට වක් කරනු. වණය පහළ වන තුරු වක් කරනු. අරළු, නෙල්ලි, ඉඟිනි ඇට, ගොලු පුවක් ලයා අඹරා වටේ ගානු

ඇස කැල්ඹම :— i. කොහොඹ කොළ, අමු කහ පොට්ටනි බැඳ මිරිකා ඇසට වක් කරනු ii. සීසිලි බිජු ලෙලි, අමු කපුරු, හඳුන්, එඬරු තෙලෙන් අඹරා වටේ ගානු. iii. කොහොඹ කොළ, උදුපියලි කොළ, ගොටු කොළ, පිටසුදු, උල්කෙන්ද, මොණර කුඩුම්බිය, බෝම් සඹුදු, පේච්ච පොතු, රත්මල් කැකුළු, කැබෙල්ල කෙමෙල, අමු කහ, සුදුළූනු, තලා පොට්ටනි බැඳ ඇසට වක් කරනු. එයින් තෙපුල් දෙනු. තුන් වරුවක් කරන්නේ ය.

ඇස දූවීම :— i. කෝමාරිකා, වද දළු, පොඩි කර ඇසට තෙලනු. ii. සඳුරු, වැල්මී, කොට්ටන්, කුරුඹුල්, දුණුවිල, පිච්චමල්, දෙළුම් කොළ, අඹ දළු, කෝමාරිකා, කොහොඹ දළු, කොත්බෙලි සාරු, එකට කොටා මිරිකා ඇස වක් කරනු හිංගල ගොලුබෙලි සාරු යි

ඉපල්, වී කරල්, ගල් කැට, බානලාලියා අතු ආදිය ඇණුන විට :— i මුගුණුවැන්න, තිකිරිදිය, ගොටු කොළ, උදුපියලි, උල්කෙන්ද, හැල්කොළ, බුම්මැසිමියා කොළ මෙයින් ලැබුණු තරමක් ගෙන කොටා යුෂ වක් කරනු ඉපල්, වී කරල්, කටු ඇණුනාව, තුවාල වූවාට යොදනු. ගුණ වේ. ඖෂධ ලබාගත් තරමට යනපති

ගුණු ඇසේ වැටුණු විට :— i. දිවුල් ඇඹුල්, දෙහි ඇඹුල් ආදි ඇඹුල් වක් කරනු. ii. කහ යුෂ වක් කරනු. iii. එඬරු තෙල් වක් කරනු.

දිමියන් කෑ විට මුණු කල විට :— අරළු, බුළු, නෙල්ලි වෙනිවැල් ගැට, කොහොඹ කොළ, දෙඹ කොළ සම්බා ඇස් සෝදන්නේ ය.

ඇස කඩා ගියාම :— අඹ කැලටි කොළ, කුඹුරු කලපි කොළ, යුෂ වක් කරනු. රෙබු පිට බඳිනු.

ඇස දළුන් කිරි වැමුණාම :— ඇඟිල්ලක් විද ලේ තෙත බින්දු දෙකක් තුනක් වක් කරනු. ලේ ගැසීමට විදින කටුවේ කහ ගා ගත යුතු යි.

# නාලිකේරාඤ්ජනම

වෙනිවැල් ගැට, තිපල, වැල්මී, පලම් දෙක බැගින්, කැබිලි වතුර නැලි 8 ක් වත් කර නැලියට සිඳ පෙරා අමු කපුරු කලං ¼ යි, සහිඳ ලුණු කලං ¼ යි, අඹරා දමා නැන්ඳේ ඇතුළත පදමට කකාරා, මීපැණියෙන් අනා පුරස්සිනා ලෙස තබා, සියලු ඇස් රෝගයට සොඳනු ඇසට ලනු. දින පහ පසු වූ විට වළට ගානු. සියලු ආකාර ඇස් රෝග සුව වේ. මෙය නැලියේ ¼ ට කකාරා මීපැණි ඉගන් ¼ ක් දමා හින්ත පොවත තඹදසියකින් පෙරා ද්‍රව්‍යන් මෙන් පාද කිබා ඇසට වත් කරන්ට ද පුළුවන. මේ සඳහා දරුකාරීනු නම් නියම වශයේ වෙනිවැල් ගැටවලට වඩා හොඳ යි.

**සියලු ම ඇස් රෝගයට පූරවලියමක් :—** සියඹලා දළු, සිවන්ගුරු, සුදු හඳුන්, ඉඟිනි ඇට, අරළු, රත්හඳුන්, පිදි තුත්තන්, මදටිය බැගින් ගෙන අඹරා කෝම්පිකා පල්ල තුලට දමා රසකිඳ වැලෙන් වෙලා බැඳ - සියඹලා කොළ උඹින් තබා නැවත වෙලා ලිප යට දමා ඉංග්‍රිසි පැයක් ගිනි ගසා - බෙහෙතුත්, කෝම්පිකා පුසත් මීපැණියෙන් අඹරා වළේ ගානු සියලු ඇස් රෝග නසා. මාන්දම් ඇස් රෝගවලට ද වළේ ගානු.

**සුද නැපමට :—** i. තුරම්ල්, කොවක්කා යුස මීපැණියෙන් වත් කරනු. ii. ඇද්දත් පුලුස්සාපු අළු, මූට අං අළු, ගිතෙලින් ගානු. iii. මෝර ඇට දෙහි ඇඹුලෙන් ගානු. iv. දෙඹ කොළ කසායෙන් ඇස් සෝදනු

**සියලු ඇස් රෝගවලට කසාය :—** i. අරළු කලං 3 යි, බුළු කලං 6 යි, නෙල්ලි කලං 12 යි, වතුර පත 16 යි 2 ට සිඳ 4 වරකට දෙනු සියලු ඇස් රෝග නසා. ii. අරළු 1, බුළු 2, නෙල්ලි 3, මේ ක්‍රමයට කලං 1½ කිරා කසාය කර දෙනු. iii. අරළු, බුළු, නෙල්ලි, රසකිඳ කසාය දෙනු iv. ආඹාබෝඹාමූල්, කළුදුරුඅල, කොත්තමල්ලි, දුම්මැල්ල, කටුකරෝසන, රසකිඳ, රත්හඳුන්, කොළිඳ පොතු (=කිරිවල්ලා පොතු) කොළිඳ කාල්, වෙනිවැල් ගැට, එබරු මුල්, නෙල්ලි, අරළු,බුළු, ත්‍රස්තවළ්ලු කසාය, සකල ඇස් රෝග නසා ලයි.

**රත්නාදි ගුලිය :—** තිපල, සිකස්කාරන්, අංජන නැට, පල්මාණික්කන්, තඹ අළු, පිදි අළු, රත් පොඹ සන්නාත්, කිස්සබිල්, රත්රන් අළු, ගම්මිරිස්, ඉගුරු, පිදිතුත්තන්, කන නිරෙන් දවසක්, එළු කිරෙන් දවසක්, දෙහි ඇඹුලෙන් දවසක් අඹරා දිගට පලු සේ ගුලි කරන්නේ ය.

රතට නාහශිරෙරණ්, මීපැණියෙන් හා මීපැණි සහිත තිපල් කසායෙන් ද උල්ඇණියාවට සුදුමල් යුසින් ද කාචයට එළු කිරෙන් ද, ඉලුප්පම්ලයට සුදු යුසින් ද ඒ ඒ රෝගයට ඒව හිත අනුපානයන් ද යොදනු.

**චක්ෂුෂ්‍යෝදය වර්ති:—** අරළු, වදකහ, සුවඳ කොට්ටන්, තිප්පිලි, ගම්මිරිස්, බුලු ඇට මද, ශංඛනාභි (=හක් ගෙඩියේ කරකැවී තිබෙන මුදුන), මහෝසිල්, එළුකිරෙන් අඹරා කරාබුනැටි සේ පලු කරනු. සියලු ඇස් රෝගයට මීපැණියෙන්, වෙනිවැල් කසායෙන්, තිපල් කසායෙන් ඇසට ලනු. තිමිර, කාසීම, පටල, අර්බුද, ඇසිපියේ මස් දලු, රක්තාණ, මල් පටල, කඳුළු ගැලීම නසා. ඇස් පෙනීම වඩා.

**ඇස් විරේචන :—** ඇස්වල දූවිලි ආදි අපවිත්‍ර ද්‍රව්‍ය බැඳී පෙනීම දුර්වල වූ විට ඇස් විරේචන කරනු. දෙහි කොළ තම්බා පෙරා ඇස් සෝදනු. ඉත්තෑ කොළ, කීන කොළ මෙසේ ම තම්බා ඇස් සෝදනු.

**ඇස් පෙනීම දියුණු වීමට :—** ඇස් තිපල් කසායෙන් සෝදනු. අරළු, බුලු, නෙල්ලි, 1, 2, 3 ප්‍රමාණයට ගෙන කුඩු කර ගිතෙලින් වළඳනු පලතුරු, එළවළු, පිරිසිදු කිරි, ගිතෙල් භාවිත කරනු.

**රක්තාණ රෝගයට :—** සතුන්ගේ අක්මා (=පීගුඩු) උයා කෑම හොඳය යි කියති.

**සියලු ඇස් රෝගයට ඇස් වතුරක් :—** දරුහරිදු, (කොලැඹු කොත් වෙනිවැල් ගැට ගත යුතු) තිපල, සුදු හඳුන්, රත්හඳුන්, ඉරමුසු මුල්, උක්දඹු, දිවුල් දලු, දෙළුම් දලු, හොහොබ දලු, රත්මල් පඤ්චාංගය, පලම බැගින් ගෙන වතුර නැලි 8 ක් වක්කර නැලි 2 ට සිඳ පෙරා ඊට සහිඳ ලුණු, කපුරු, රිදී තුත්තත්, මුදුපෙණ, සමන් පිච්ච මල්, කීන මල්, කලං 6 බැගින් අඹරා දමා නැලියට සිඳ - උක් සීනි කලං 12 ද, මීපැණි පතක් ද දමා, දවසක් තබා-තීන්ත පොවන කඩදාසියකින් පෙරා බෝතලවල වත් කර තබනු. සියලු ඇස් රෝගයට ඇස්වලට වත් කරනු.

ඇස් රෝගවල දී හිසට සිසිල් තෙල් වගී දමනු. ඇසේ රදය තද විට පිතාස් තෙල් නස්න කරනු. කායයට උරවනු.

**ඇස් රෝගයෙහි පථ්‍ය :—** (Suitable) ආශ්චොතන, උපවාස, අඤ්ජන, සෙවද. විරේචන, ප්‍රතිසාරණ, අක්ෂි පූරණ, නස්‍ය, රක්ත මෝක්ෂණ, ශස්ත්‍ර ක්‍රියා, ප්‍රලේපන, ස්නේහපාන, පරිෂේචන, මිතගෙහි ස්ථිරතා, පාද අවයෙහි සේවා, මුං, බාර්ලි, රත්හැල්, පුරාතන ශාත, සුදුළූනු, රතුළූනු, රටළූනු, බෙලි, දිවුල්, පතෝල, ගොටුකොළ,

මුගුණුවැන්න - සාරණ - නිවිති - ලීක්ස් - කෝන්ච - බීට් - රාබු- පෝෂ්‍යප්‍රදායක කෙසෙල් වර්ග (=සුවඳැල් කෝලිකුට්ටු ආදී)- කළුකැම්- බිරිය - කෝමාරිකා- මුද්දරප්පලම් - සහිඳ ලුණු - බෝංචි-කිපල- මීපැණි - පාවතන්- පොළොම් පැණි - තානාහිරි- රත්හඳුන්-කපුරු- සම්පන්න තික්ත ද්‍රව්‍ය - ලඝු ද්‍රව්‍ය - නේත්‍ර රෝගයෙහි හිත යි.

ඇස් රෝගයෙහි අපථ්‍ය:— (Unsuitable) ක්‍රෝධ - ශෝක - ලිංග සටන - අශ්‍රු වේග - වායු වේග - මලවේග - මූත්‍ර වේග - නිද්‍රා වේග - වමන වේග යන මේවා දැරීම - සූක්ෂම වස්තු දර්ශන - දන්ත මාර්ජන - ස්නාන - රාත්‍රී කාලේ භෝජන - ශරද සේවන- තරල ද්‍රව්‍ය - ධූලි ධූම සේවන - චක්ෂු: ඛේද - විරුද්ධ භෝජන - අධික වාක්‍ය කථන- වමන - අධික ජලපාන- මීමල්- දී - තල- අංකුරිත ධාන්‍ය ආහාර (=මෝල්ට්ඩ් කළ ධාන්‍ය) - අම්ල ද්‍රව්‍ය - මාංස - මත්ස්‍ය - සුරා - තාම්බූල - ලවණ සංයුක්ත ද්‍රව්‍ය - විදාහී ද්‍රව්‍ය - තීක්ෂ්ණ ද්‍රව්‍ය - කටුද්‍රව්‍ය - උෂ්ණ ද්‍රව්‍ය ආදිය ඇස් රෝගයෙහි අපථ්‍ය යි. (අපේ **අක්ෂි රෝග චිකිත්සාවලිය** බලා ඇස් රෝග වලට සවිස්තර ප්‍රතිකාර දත හැකි යි.)

## ශීර්ෂ රෝග

### හිසේ වේදනා, ඇමබ, රක්තචාප ආදිය

### Headache - Cephalalgia
### Hemicrania & Blood Pressure

i. බොහෝ සෙයින් ම පීනස් අමාරු නිසා ද සෙම නාසාදට නහා පැසවා ශේෂ වූ විට ද හිසේ වේදනා ඇති වේ. එවිට පීනස් රෝගයට දක්වන ලද ප්‍රතිකාර යොදන්නේ ය.

ii. මල බද්ධයෙන් ද නිතර නිතර හිසේ කැක්කුම පවතී. එවිට අභයාදි මෝදකයෙන් විරේක කර - අරළු- බුළු- නෙල්ලි කසාය දෙන්නේ ය. පලතුරු බහුල ව භාවිත කරන්නේ ය.

iii. ආහාර දිරීමේ අඩු පාඩු නිසා ද හිසේ ආබාධ ඇති වෙයි. එවිට අග්නි මාන්ද්‍ය අධිකාරයෙහි දැක්වෙන ප්‍රතිකාර යොදනු.

iv. ප්‍රතිශ්‍යා - කාස - ආදී කිසි සෙම් උවදුරු නැති ව, ලංසීම ලේ ගමන අධික වීමෙන් හෙවත් රක්ත පිත්ත නිසා ද නිතර නිතර හිසේ ආබාධ (කැක්කුම) ඇති වේ. එවිට රක්තපිත්ත රෝගයට නියම ප්‍රතිකාර කරන්නේ ය.

v. බස්රථ - කාර් ආදියේ යෑම නිසා වමනය වන අයගේ පවතින හිසේ වේදනාව ද රක්තපිත්ත නිසා වේ 'බ්ලඩ් ප්‍රෙෂර්' ය යි අපරදිග වෛද්‍යයන් කියන්නේ ද මෙය ය. මීට ඉතා ම හොඳ සුදුළූණු බැද කෑම ය. රක්තපිත්ත කසාය දෙමින් එය යොදන්නේ ය.

**සියලු ම හිසේ වේදනාවලට මෙහි සඳහන් දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.**

නාරායන තෛලය - දශ මූල තෛලය - නීලයාදිය වැනි ඇසට හිත තෙල් හිසට දමන්නේ ය. නස්‍ය කරනු. කන්වලට රස් කර දමන්නේ ය. බෙල්ලේ නහරවල ගානු. පීනස් කුඩුක් උරවන්ට දෙන්නේ ය.

i. බෙලි - බැබිල - ඉඟුරු කසාය තිප්පිලි කුඩු දමා දෙනු.

ii. අරළු කලං 2 යි - බුළු කලං 4 යි - නෙල්ලි කලං 8 යි, කසාය කර දෙන්නේ ය. පරණ හිසේ වේදනා නසා මල බද්ධය ද ඇරේ. අක්ෂි කාරයන්ගේ හිසේ වේදනා ද ඇරේ.

iii. තිපල - බින්කොහොඹ - නාග - රසකිඳ - කොහොඹ කසාය, සීනි කලං 1½ දමා දෙන්නේ ය. හිසරද - දත් රෝග - ඉරුවා රද නසා.

iv. වෑහද් භාගීනාදිය - දුරුපසීවාදී කසාය - වෑහද් කට්ඵලාදි කසාය (=උණ රෝගයෙහි සඳහන්) දෙන්නේ ය. දරුණු හිසේ වේදනා නසා. අධික විරේක වීමෙන් ඇති වන ඉසේ වේදනා ද නසා. පණුවන් නිසා ඇති වන ඉස රුදාවට මේ කසායවල් විළඟසාල් කුඩු දමා දෙන්නේ ය.

සැලකිය යුතුයි :— මේ දැක්වූ කසායන්, හෘදය - පපුව - බෙල්ල - හිස - මේ තැන්වල ඇති වාත වේදනා පහ කිරීමෙහි ද යොදනු.

තද හිසේ වේදනාවලට කසාය දෙන අතර අමුඉඟුරු සුදුලූනු - බලිඳ - කුප්පමේනිය - ආඩාතෝඩා - වදකහ - සස්සඳ - වරාමූලේ පොතු, තිත කොල යුෂින් - මාන්තු පහ - බුද්ධරාජ - චන්ද්‍ර කල්ක - නවරත්න කල්කය ආදි බෙහෙතක් දමා, දෙහි ඇඹුල් - මීපැණි - තලතෙල් යොදා දෙන්නේ ය.

ප්‍රලේප:— ඉඟුරු - දේවදාර - අබ - වරා මුල් - වද - කොට්ටන් - මුරුංගා පොතු - කහකිරන් අඹරා කළලේ දමනු. තද ඉසරද නසා.

දුම් පත්‍ර :— තිබුළු - දෙදුරු - වදකහ - සුදුලූනු - අත්තෝදඹ - තග - කුඹු කාර රෙද්දේ ඔතා දුම් පත්තුව කහා තලතෙල් තොඹා පත්තු කර දුම් නාසයට උරනු. මෙය සියලු හිසේ වේදනාවලට යෝග්‍ය යි. ප්‍රතිකාවන්ගේ හිස රුද්දට ලෙහෙස යි.

තෙල් :— ලඝුණු තෛලය; රසුලූනු - සුදුලූනු - කිසිරිදිය - කපුරු මුරුංගා - බැබිල - තෝර කොළ - දෙහි ඇඹුල් - ඉඟුණු වැන්න - වැටකෑ මුල් - කපුරු තම්බැටුව - වෙලා කොළ - තිත කොළ - එවා යුෂ තැලිය බැගින්, දකමුල සියල්ල පලම 12 ක් ගෙන එකුර

තැලි 1 ක් වත්කර තැලියට පිඳ පෙර කී කසාය - ඉඟුරු මුල තැලිය යි - තලතෙල් තැලි 4 යි කල්යගෙව — තිපල් - සිතුළු - සැවැන්දරා - තෙරාළු - වසවාසි - සාදික්කා - සුදුහඳුන් - ඉරිවෙරිය - සුදුදුරු - කළුදුරු - ජටාමාංශ, කපුරු කලං 2 බැගින් අඹරා දමා, පොල සිඳින්නේ ය.

හිසළු ඉස් රෝග - පීනස් - ඇස් පෙනීම අඩු වීම - කඳුළු ගැලීම - අඩියක සැත්තුම - කුරුවා - රදය කණ් රෝග නසා ලසි.

## ජනනෙන්ද්‍රියන්ගේ කණ්ඩූති

**Prurigo & Itching**

උපපත්ති ඉන්ද්‍රියයන්ගේ ද, ඉකිලි ආදීන්ගේ ද කැසීම බොහෝ විට ඇති වන්නේ ය. මෙය කල් පැවතීමෙන් දියුණු තියුණු වේ.

**ප්‍රතිකාර**
**Treatment**
මෙය පිරිසිදු ව තබා ගත යුතු. තෝර කොළ - පිටවක්කා - ගම්සූරිය කොළ පොතු - අංකෙන්ද කොළ පොතු - අවිරික්කා කොළ පොතු - නුග කොළ පොතු - මසන් කොළ යනාදී කිසිවක් තම්බා සෝදන්නේ ය. අවරස්තාය මනා ව වැටෙන්ට සැලැස්වීම ද - කෘමින් නසන දුම් දීම ද - ප්‍රලේප යෙදීම ද කරන්නේ ය

**ධූපයක් :—** වාල්මොලගු - රුක්මල් - හෝරමල - හල්මල - ගලිස් - බින් දුම්මල - පෙරැත්කායම - කළුදුරු - තාම්ල් රේණු - ඉද්ද මූල් - සුවඳ කොට්ටන් - සැවැන්දරා - අකිල් - ඉරිවේරිය - සුදු හඳුන් - කොල්ලන් කොළ - කුරුඳු පොතු - එන්සාල් - ජටාමකුට - ජටාමාංස - වදකහ - කහ - අරත්තහ - තිඹුරු පියලි - තිත අරටු - වැල්මී - ගුගුල් - උක්සිනි - නුගපොතු - බෝ පොතු - තොටදිඹුලා පොතු - අට්ටික්කා පොතු, ලොත් සුඹුලු - සැවැන් අල - කලාදුරු - කොකුම් පොතු - සත්තිනායන් - මුරුංගා මැලියම - වලගසාල් - කොහොඹ කොළ - කපුරු - සපුමල් - සම්භාර, චූර්ණ කර ගිනි අඟුරුවල බහා දුම් දෙනු. කැසුම් - කුණු ඇති තැන්වලට අල්ලනු. ඉහ දෝෂ නැති වීමට අල්ලනු. අඩහ ළමයන්ට අල්ලනු. උකුණු ගඳ ඇති ඉසකෙස් සුවඳ වීමට අල්ලනු. ශරීරයේ දහඩිය ගඳ ආදී දුගඳ ඇති විට අල්ලනු.

**ප්‍රලේප :—** i. හල් මැලියම - තිඹුරු පියලි - පැණිතෝර කොළ සුසින් අඹරා ගානු.

ii. ගුගුල් - අඹු පොල් කොළ - මිලිස්සූ අළු - තෝර ඇට - තලතෙලෙන් අඹරා ගානු.

iii. රසදිය - හෙල්ලික්කා ගෙන්දගම් - රත්හිරියල් - පල්මාණික්කන් - පුෂ්කර - කපුරු - පැණිතෝර ඇට - සන්තිනායන් - වලහසාල් - ක්‍රිමි සැහැරු - කල් මැලියම - සමභාග, පැණි තෝර කොළ යුසින් අඹරා - මීපැණියෙන් අඹරා - ගෝමුත්‍රයෙන් අඹරා - අතිතන කොළ යුසින් අඹරා - ගිතෙලින් අඹරා - හරක් අගක බකා - හරක් ගාලක වළලා තබා සුම්ඝාතයනින් පසු ගෙන ගානු. ගෑම අමාරු වූ විට ගිතෙලින් අඹරා ගානු.

අභයාදී මෝදකයෙන් විරේක කර - ලේ ශුද්ධ වන කසායවල් දෙන්නේ ය.

## ශීත පිත්ත - උදර්ද - කොඨ
## URTICARIA

ශීතල වායු සේවනාදියෙන් කුපිත මාරුත ප්‍රදුෂ්ට ව පිත්ත හා මිශ්‍ර ව ත්වක් (=සම), රක්තාදී ධාතු පරිසර්පණ කර ශීත පිත්ත රෝගය උපදී.

ශීත පිත්ත උදර්ද රෝගවල දී ගාත්‍රයන්හි කහඹිලියා-දළඹුවන් ගැවුණක් මෙන් කොට ඇති වේ. මේ රෝගයන්හි අතිශය කැසීම - වමන-දාහ ඇති වේ. ශීත පිත්තයෙහි වායුව ද - උදර්ද රෝගයෙහි සෙම ද අධික ය. උදර්ද කොටයන්හි මැද වල ගැසී තිබේ. රක්ත වර්ණ ය, කැසීම් යුක්ත ය, මණ්ඩලාකාර ය, හිම සම්භූත ය. එය සෙම අධික ව වේ. වමන ක්‍රියාවන්ගෙන් මනා ලෙස වමනය නො වීමෙන්, ඇතුළත පිත - සෙම - හා භුක්තාන්නය පිට නො වීමෙන් ශරීරයෙහි රක්තවර්ණ කණ්ඩු විශිෂ්ට මණ්ඩලාකාර බහු සංඛ්‍යා යම් කොට හට ගන්නේ ද ඒ 'කෝඨ' නම් රෝගය යි.

**ප්‍රතිකාර**
**Treatment**

ශීත පිත්ත - උදර්ද - කොඨ යන රෝගයන්හි දුම්මැල්ල - කොකොඹ පොතු කසායට, කුඹුරු මුවන් ඇට චූර්ණ පිහක් දමා දී වමනය කරවීම ද - තිපල් කසායට ගුගුල් දමා දී විරේක කරවීම ද සුදුසු වන්නේ ය.

i. අරළු ½ - බුළු ¼ - නෙල්ලි 6 - නීරමුල්ලි - කොතරසඬු - රසකිඳ කාලං 2 බැගින් - තැඹිලි වතුර පත 16 න් දමා 2 ට සිඳ දෙන්නේ ය.

ii. 'සෝඩා බයිකාබ' (=සජ්ජක්ෂාර), තේ හැන්දෙන් 1 ක් වතුර වීදුරුවකට දමා දෙන්නේ ය. නැත්නම් සෝඩා එකක් බොත්ල දෙන්නේ ය. ඇතැම් මස් වර්ග හා අන්නාසි ආදිය ද එකකට එකක් විරුද්ධ කෑම කෑමෙන් ද හැදෙන 'ගැවැම්බලය' යි කියන මේ රෝගයෙහි ද යොදන්නේ ය.

iii. සහ - තිරස්සවාළු - අරළු - වෙනිවැල් ගැට - කලාදුරු අල - අසමෝදගම් - පොත්තම්ල්ලි - කටුකරෝසන - කළුදුරු - තිප්පිලි - ඉඟුරු - සුරුඳු පොතු - කොල්ලන් කොළ - නාමල් රේණු - එන්සාල් - වලගසාල් - රසකිඳ - ආඹා කෝඹා මුල් පොතු - සුවඳ කොටිපින් - බුළු - නෙල්ලි - බිත්තල් අල - හාතාවාරිය අල - සමභාග, චූර්ණ කර උණු වතුරෙන් දෙන්නේ ය.

iv. පොල්කිරි සහ දමා රත් කර රස්නයෙන් ගානු. අළු පොල් කොළ දුම් අල්ලනු.

v. හෝරකොළ - ඇඹුල් පොල්පිති තම්බා රස්නයෙන් ඇඟ සෝදා, සහ - වැල්මී කුඩු අතුල්ලනු.

**පථ්‍ය Suitable** — වමන - විරේචන - ප්‍රලේපන - රක්ත මෝක්ෂණ - පුරාතන ධාන්‍ය - මුං සුප - කොල්ලු සුප - කරවිල - මුරුංගා - වෙබඩ - ඉදළම් - තිපල - මීපැණි - අබ තෙල් - උණු දිය - පිත්ත ශ්ලේෂ්ම නාශක ද්‍රව්‍ය - මුද්දරප්පලම් - ඇපල් - රටඉඳි - බීට්රූට් - ලීක්ස් - ලූනු වර්ග - කටුක වර්ග - තික්ත වර්ග ආදිය ශීත පිත්තාදි රෝගයන්හි පථ්‍ය ය.

**අපථ්‍ය Unsuitable** — නානාවිධ ක්ෂීර විකෘති - ඉක්ෂු විකෘති - මත්ස්‍ය මාංස - තිත්තර - නුතන මද්‍ය - වමිත වේග ධාරණ - පූර්ව වායු දක්ෂිණ වායු සේවන - දිවා නිද්‍රා - ස්නාන - විරුද්ධ භෝජන - රෞද්‍ර සේවන - ස්නිග්ධ ද්‍රව්‍ය - අම්ල ද්‍රව්‍ය - මධුර ද්‍රව්‍ය - කෂාය ද්‍රව්‍ය - ගුරුපාක අන්නපානීය ආදිය ශීත පිත්ත, කොඨ, උදර්ද රෝගයන්හි අහිත කර ය.

## අම්ල පිත්ත රෝගය

### Acidity & Dyspepsia

විරුද්ධ භෝජන (=ක්ෂීර මත්ස්‍ය ආදි එකකට එකක් විරුද්ධ වූ ආහාර මිශ්‍ර වී ගැනීම) - දූෂිත අන්න - අම්ල - විදාහි ද්‍රව්‍ය - පිත්ත ප්‍රකෝපක අන්නපාන ආදි සකල කාරණාවන්ගෙන් පූර්ව සංචිත (=රැස් වූ) - පිත්ත විදග්ධ ව (=දූෂී) - අම්ල පිත්ත නාමයෙන්, පරිණත වේ.

අම්ල පිත්ත රෝගයෙහි භුක්තාන්නවශයෙන් (=කෑ ආහාරවල) අපරිපාකය ද ක්ලාන්ති බොධය ද - වමන වේගය ද - තීක්ෂණ අම්ල උද්ගාරය ද (=ඇඹුල් හා තිත්ත රසව රාම තෙල් ඒම)- උගුර පපුව දැවිල්ල ද - අරුචි ආදි සකල ලක්ෂණ ප්‍රකාශ වේ.

අධෝග අම්ල පිත්තයෙහි හරිත් පීතාදි වර්ණව දූෂිත මල භේදය වේ. හෙවත් ද්‍රව මල ඇති වේ.

මේ රෝගයෙහි තෘෂ්ණා (=පිපාසය) දාහ - මූර්ඡා - භ්‍රම - දෙහ අවසන්නතාව - වමන වේග - ශක්ති උත්සාහ හානි - අග්නි මාන්ද්‍ය - රෝමාංචය (=ලොමු ඩැහැ ගැනීම) කෝෂ්ඨාධ්මානම (=බඩ) අංගයන්හි පීත වර්ණත්වය ආදී ලකුණු ඇති වේ.

ඌර්ධ්ව ගත අම්ල පිත්තයෙහි හරිත් - පීත - නීල - කෘෂ්ණ - රක්ත - අතිව අම්ල - මාංස ජල සදෘශ - අති පිච්ඡිල - අච්ඡ - කඵ සංසෘෂ්ට කටුක තික්තාදී විවිධ රස විශිෂ්ට වමනය ඇති වේ. හෑ ආහාර දිරන අවස්ථාවෙහි හෝ අනුභතාවස්ථාවෙහි ඊට පිත උගුරට තිත්ත ඇඹුල් රසව රාම කොල් එයි. කණ්ඨ - හෘද - කුක්ෂි දෙශ දැවිල්ල ඇති වේ. ශිරෝ වේදනා - දැවිල්ල - ශරීරයෙහි උෂ්ණත්වය - අරුචි - පිත් සෙම් උණ - නානා විධ රෝග - බහු සංඛ්‍යක පිළිකාපපත්ති - නානාවිධ උපද්‍රව ඇති වේ, බොහෝ වෙදුන් මුළා කරන්නා වූ මේ රෝගය අම්ල පිත්ත නම් වේ.

**ප්‍රතිකාර**
**Treatment**

අම්ල පිත්ත රෝගයෙහි පළමු කොට ලය විරේක කරවිය යුතු යි. ඊට දුම්මැල්ල - කොහොඹ පොතු කසායට, පෙරුංකායම් - මීපැණි - සහිද ලුණු දමා පානය කරවනු අම්ල පිත්ත රෝගයෙහි වමනයෙන් පසු ව මෘදු විරේචනයක් දෙනු. ඉක්බිති ශෝධන ක්‍රියා - අනුවාසන ක්‍රියා - කරන්නේ ය. පරණ වූ අම්ල පිත්තයෙහි වාතාදී දෝෂ විවේචනය කර නිරූහණ වස්ති යොදන්නේ ය.

දෙකක් හෝ තුනක් දෝෂ මිශ්‍ර ව අම්ල පිත්ත රෝගය සෑදේ. වමන විරේක දෙකින් පසු ව දෝෂයන් කල්පනා කර බලා ඒවා සමනය වන ආහාර පාන යොදන්නේ ය.

අභයාදී මෝදකය හෝ තිපල් කසාය හෝ තොල්ලි යුසට තිරුස්සවලලු කුඩු දමා හෝ විරේක කරන්නේ ය.

i. ආඹා තෝඹා පොතු - රසකිඳ - පැපිලිය - කොහොඹ පොතු - බින්කොහොඹ - හීකිරිඳිය - තිපල් - දුම්මැල්ල කසාය, කුරුඳු පොතු - එත්තාල් - නාමල් රේණු කුඩු හා මීපැණි දමා දෙනු.

ii. තිපල් - දුම්මැල්ල - කටුකරෝසන - කසායෙහි, සීනි - වැල්මී චූර්ණ මීපැණි බහා දීමෙන්, උණ - වමන - අම්ල පිත්ත නසා.

iii. අරළු - කිසිරිඳිය - චූර්ණ කර - පුරාතන උක් හකුරු සමග - වරකට කලං 1 සිට 1½ දක්වා, දවසට දෙවරක් අනුභව කරන්නේ ය. අම්ල පිත්ත - පපුව දැවිල්ල, වමන නසා.

iv. රසකිඳ - රත්හිහිරිය - වැල්මී - දරුහරිද්‍ර (=වෙනිවැල් ගැට) - සමාංශ මීපැණි දමා දෙන්නේ ය. v. රසකිඳ - කොහොඹ - දුම්මැල්ල - තිපල - සමාංශ මීපැණි දමා දෙන්නේ ය.

මල ද්‍රව ව පවතින්නේ ද - ලවංගාදී චූර්ණය උණු දියෙන් දෙන්නේ ය.

## බෘහද් ඒලාදී චූර්ණය

එන්සාල් - සදුපොතු - රත්සඳුන් - අරළු - කොත්තමල්ලි - රත්නිටුල් - නෙල්ලි - පොල්පලා - දුම්මැල්ල - කලාඳුරු අල - සමභාග චූර්ණ මීපැණි සීනි සමඟ සේවනයෙන්, අම්ලපිත්ත - දාහ - අරුචි - වමනා වේදනා - ජ්වර (=උණ) - ප්‍රබල ශෝථ (=කඳමල ඉදිමුම) ප්‍රශමිත වෙයි.

## අවිපත්තිකර චූර්ණය

**තිකුළු - තිපල්** - කලාඳුරු අල - වලගසාල් - එන්සාල් - කොල්ලන් කොළ - කලං 1 බැගින්. කරාබුනැටි කලං 10 යි - තිරස්සවලලු කලං 40 යි - සීනි කලං 60 යි - සියල්ල චූර්ණ කරනු. මාත්‍රාව දන සැමට පෙර හෝ පසුව හෝ දෙන්නේ ය. අම්ල පිත්ත - ශූල - මල මූත්‍ර අවරෝධ - අග්නි මාන්ද්‍ය ජනිත රෝග සමූහ - ප්‍රමේහ - අර්ශස් ආදි සකල රෝග නසන්නේ ය.

**අම්ල පිත්තෙහි පථ්‍ය** :— (Suitable) ඌර්ධ්වග අම්ල පිත්ත යෙහි වමන - අධෝග අම්ල පිත්තයෙහි විරේක, ප්‍රථම කොට කරන්නේ ය. පුරාතන රත්හැල් - බාර්ලි - ගොඩුම් - මුං - උෂ්ණ ජල ශීතල කර පානය - සීනි - මධු - පතෝල - දිඹුල් - බෙලි - ඇඹුල්වැන්න - දෙළුම් - නෙල්ලි - තික්ත ද්‍රව්‍ය - කඵපිත්ත නාශක ගාවතීව අන්නපාන ආදිය අම්ල පිත්තයෙහි සුපථ්‍ය යි.

අපථ්‍ය :— (Unsuitable) අළුත් සහල්හි පිහු දෑ - විරුද්ධ භෝජන - පිත්ත ප්‍රකෝපක ද්‍රව්‍ය - මල මූත්‍රාදි වෙගධාරණ - තල - උඳු - කොල්ලු - තෙල හා බැදි ද්‍රව්‍ය - එළකිරි - කාඩි - ලවණරස - අම්ල ද්‍රව්‍ය - කටු ද්‍රව්‍ය - ගුරුපාක අන්න - දධි - මද්‍ය ආදිය අම්ල පිත්ත රෝගයෙහි අපථ්‍ය යි,

# ගල ගණ්ඩි

## Tonsilitis

උගුරේ ගෙඩිවලට කීවූ ප්‍රතිකාර යොදන්නේ ය. එළු කිරි පානය කරනු.

# ඉන්ද්‍රලුප්ත

## Falling of Hair due to Ring - Worms

මෙය හිසකෙස් - රැවුල් ගැලවී යන්නා වූ රෝගයෙකි. මීට උඳුපියාඩුවා කනවා ය යි රළවී කියති. i ඇත්දත් අළු මීපැණියෙන් හෝ තල තෙලින් ගානු. ii. අඹු පොල් කොළ පිලිස්සූ අළු තල තෙලෙන් ගානු. iii කොහොඹ තෙල් - වර්පැන්ටයින් මිශ්‍ර කර ගානු.

# අකාල පලිත

## Pramature Grey Hair

අකාලයේ හිස පැසුණු කල හිසේ රෝග තිබේ නම්, ඒවාට ප්‍රථම ප්‍රතිකාර කරන්නේ ය. නිතර ගොටුකොළ අනුභව කරනු. හිත සතුටෙන් සිටිනු. "සියල්ල සිදු වන්නේ යහපතට ය" යන අදහස තදින් හා වැදී සිටින අවංක ශිෂ්ට ගුණ යුතු රූපවත් රමණියක් හා සම්බන්ධයක් ඇති කර ගන්නේ ය.

**ප්‍රපෞණ්ඩරීක තෛලය :—** සුදු නෙළුම් අල - වැල්මී - තිප්පිලි - සුදුහඳුන් - නිල් මානෙල් අල, පලම බැගින් ගෙන දිය නැලි 4 ක් වක් කර නැලියට සිඳ ගත යුතු. ගෙල්ලිහුබ නැලි 1 යි- තලතෙල් නැලිය යි - කල්කයට :— කිත අරටු- වැල්මී- තිප්පිලි- රත්හඳුන් - සුදු හඳුන් - සුවඳ කොට්ටම් - හැවැන්දෑ - ජටාමාංසි - කිඹුරු පියලී - මානෙල් අල- සියල්ල රාත්තල් ½ යි. තෙල සිඳිනු. නස්‍ය කරනු. හිසට දමනු. අකාල පලිත - "බ්ලඩ් ප්‍රෑෂර්" රක්ත පිත්ත - ප්‍රදර - අශීස් නසා ලයි.

හිසේ රෝග නසා. නාසයෙන් ලේ යාම නසා, නාසයට මෙය නස්‍ය කිරීමෙන් තරුණියන්ගේ පයෝධර ශිථිල නො ව උන්නත ව බොහෝ කාලයක් තිබෙන බව කියා තිබේ.

# ස්ත්‍රී රෝග

## DISEASES OF WOMEN

ස්ත්‍රීන්ට සෑදෙන සාමාන්‍ය රෝගයන්ට කලින් දක්වූ ප්‍රතිකාර ම යෙදිය හැක්කේ ය. එහෙත් විශේෂ ඇති වූ විට මෙහි දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.

**වාත රුජා හා දැවිලි**
**Rheumatism & Burning Sensation**

ස්ත්‍රීන්ට වාත රුජා ඇති වූ කල මෙහි සහන දැක්වෙන කසායන් යොදනු. i. එළබටුමුල් - කටුවැල්බටු - අස්වැන්න මුල් - පොල් පලා - නෙරෙංචි - බෑවිල මුල් - හාතාවාරිය අල කසාය, සීනි දමා හෝ සිනි මීපැණි දමා හෝ දෙන්නේ ය. දැවිලි - වාත රුජා නසා.

ii. නෙල්ලි - රසකිඳ කසාය දෙන්නේ ය. දැවිලි - දනහිස් කොටුම් - සන්ධි රුජා නසා.

**වාත රුජා, දැවලි, ගුල්ම ආදි ජරාජවිල ස්ත්‍රී රෝග**
**Chronic Diseases of Women**

ස්ත්‍රීන්ගේ රෝග ගැන නො සලකා සිටීමෙන් නිදනගත වත් සොයා ගත නො හැකි, නානා උපද්‍රව ඇති රෝග ඇති වෙයි. ඒවා නොපප රෝගය යි පුරාණ වට්ටෝරුවල සඳහන් වේ. ඒවා i. දෙදුරු - කරාබු නැටි - සාදික්කා - තිප්පිලි - සුවඳ කොට්ටං - වැල්මී - පැපිලියා - කොත්තමල්ලි - සුදු හඳුන් පලම යි, සීන මුල් (=අල බෙත්) පලම යි, එළකිරි - උප්පැණි - තැඹිලි වතුර - දෙඹ ඇඹුල් මිනාම බැගින්, අට 1 ට සිඳ දෙන්නේ ය. ස්ත්‍රීන්ගේ නද වාත - දනහිස් කොටුම් - සන්ධි වාත - ප්‍රමේහ - සුදු යාම - යෝනි රෝග නසා ලයි.

**භෛෂජ්‍යරාජ කල්කය** :— අරක්කු බෝතලය යි - තම්බි වතුර බෝතල 2 යි - අලබෙත් (=සීන මුල් = වින අල) පලම 3 යි - කොත්තමල්ලි පත යි - තිකටු බෑද 3 න් කලඳ යි - සීනි කලං ½ යි, දෙදුරු - කරාබු - එනමාසි - සාදික්කා - තිප්පිලි - අරළු - බුළු - නෙල්ලි - වදකහ - සුදුළූනු - මෙවා තුන් කලඳ බැගින, කුඩු කර කල්ක පදමට සකාරන්නේ ය.

**සංලක්ෂණය** :— මේ ය පිසීමේ දී මුලින් තම්බි වතුර බෝතල දෙකට චූර්ණය එකතු කර කල්ක පදමට සිඳ අරක්කු ඉස්බිනි

ගොදා ගිනි පෙනා ගන්ට මිද මිද ව ගිනි දමා සිඳවන්නේ ය. මීට ශුද්ධ කළු හංසා හාලං 3 ක් හිතෙලින් අඹරා ගොළ ගතහොත් අධික ගුණ ලැබේ.

බුළු පමණ උළෙද් රාමෙවන් ද සවස අරාත්තුමෙවන් ද 15 දිනක් දෙන්නේ ය. සියලු යෝනි රෝග නසා. කෝපස වායුවට ද යෝනියෙන් බඩවැල පාත්වීමට ද උදරයට ද කොන්ද සිරිවැටීමට ද කපාලරෝද් - දියවැඩියා - හිසෙහෙන් කැම දීම - දුවන ගඳ ගැසීම - ඇගේ ගඳ ඇතිවීම - ලුස රද - පීනස් - ඉදිමුම - සිරිවැටුම - බිය වීම - මාලේ - ලේ සාමේ යෑම - යෝනි වණවීම ආදියට ද මෙය යෝග්‍ය ය. මෙය පාවිච්චි කරන ගමන් තිපල් - රසකිඳ - දන්ත මුල් කසායෙන් යෝනි සෝදන්නේ ය. න්‍යග්‍රොධාදි ගණයේ කසාය ද කහට පොතු කසාය ද පිටවක්කා ද ඊට යෝග්‍ය ය. කොහොඹ අරටු දුම් දීම ද කරන්නේ ය. මහළු අගනක් වුව තරුණ වේ. සැක නැත්.

**අශෘග්ධර**
**Menorrhagia**

සත්‍රීන්ට රක්ත ප්‍රදරය(=ලේ මාලේ) ඇති වුණ කල i. කුස තණ මුල් හෝ කුර මුල් හෝ මහරාවණ රැවුලා මුල් හෝ හාල් පානු දියෙන් අඹරා දෙන්නේ ය. නදේට යන්නේ නම් ii. අට්ටික්කා පොතු - තැඹිලි පොල් මල් - මෙයින් එකක් හෝ දෙක ම කොටා වණිදුමෙන් තම්බා මිරිකා බෙත්, මීපැණි දමා දෙන්නේ ය.

iii. අළු කෙසෙල් අල - අට්ටික්කා පොතු - මාදම් පොතු - තැඹිලි පොල් මල් - කසාය කහාරා කපිප්පු කුඩු - ලාකඩ කුඩු (බෙත් ලාකඩ නැත්නම් ඒ අත්හරිනු.) මීපැණි දමා දෙන්නේ ය. මෙය දෙන අතරට තැඹිලි පොල් මල් යුසට මී පැණි දමා දෙනු. තිබේ නම් නවරත්න කල්කය- බුද්ධරාජ කල්කය - චන්ද්‍ර කල්කය- මාන්තුපන ආදී ඊට සුදුසු බෙහෙතක් දෙන්නේ ය.

iv. වෙනිවැල් ගැට - ආඩාතෝඩා මුල් - බෙලි ගැට මද - සුදු ඔලු අල - හාලාදුරු අල - බිම්කොහොඹ - පතාගි කසාය දෙනු.

v. උක්දඹු - මානෙල් අල - නෙළුම් රේණු- නෙළුම් අල - අළු කෙසෙල් අල - වැල්මී - අරළු - මුද්දිරප්පලම් - ඇද්මෙදමට මුල් කසාය දෙන්නේ ය ගර්භිණීන්ටත් යෝග්‍ය ය.

**සංලක්ෂණය** :— මේ කසාය සියලු ප්‍රදර රෝගයන්ට යෝග්‍ය ය. රත්පිත් අධිකාරයේ බෙහෙත් ද මීට යොදන්නේ ය.

**ශල් ගිය අශෘග්ධරයට (=කිලුටු මාලයට)** :— දෙදුරු - අසමෝදගම් - තිප්පිලි - එත්හාල් - කුරුඳු පොතු - කොල්ලන් කොළ - නාමල් රේණු - වැල්මී - පත්පාඩගම් - සුදුහඳුන් - කළු

බැගින්, අලකෙඩින් හුන් පලම් යි, ගෙන චූර්ණ කර, උක්පැණි-
දෙබම් ඇඹුල් - එළකිරි - පැණිලි වතුර - පත පත එකත හැන්දේ
ඇලෙලහ පදම්ව කකාරා වරකට මුළු පමණ දෙවේලේ වළඳන
සහියන් ලුණු ඇඹුල් වලකිනු. මුඟුණුවැන්න- තෝරකොළු-
තෝර- කිරි ගෝර හරවල පත්යිගම, බත් හා තිවුණු කැබූ
කොත්තමල්ලි බොනු.

**කුසරදය, වාත අතිසාර, සහිත මාලිගෙට** :— බැබිල- කලාදුරු
අල - කෙල්ලි - කටුවැල්බටු - අඹ ඇට - දේවදාර - කුඹුරු -
කටුකරඹු - කැබිලි පොල් මල් - අට්ටික්කා කැට ශාකය දෙනු.

**උණ, කුසරදේ, ශිනිගම සහ මාකල්ව** :— i. ඉරමුසු -
ගුරිවේරිය - බැබිල - ගල්කුර - බෙලිමුල් - පුස්වරණ - මුඟුණු
වැන්න - සැවැන්දහ - මාකෙල් අල - මුං ඇට - පැපිලිය - මෙකී
දේ කලඳ බැගින් ගෙන, ඊට අරළු - බුළු - නෙල්ලි - තිතුරැපියලි-
සුවඳ කොට්ටන්- වැල්මී- කොලිඳ- කටුකාරෝසන- කොත්තමල්ලි-
අසමෝදගම් - එන්සාල්- සුදුහඳුන් - තිකුළු - කලඳ බැගින් අඹරා
වතුර පත 16 ය වූ ට සිඳ පෙරා දෙන්නේ ය.

ii. රත්මල් පසඬාංගය - ආඬාතෝඩා පසඬාංගය - උඳුපියලි-
කුඹුරු පිකක් සමග, කොටා කඩපිම්බෙන් තම්බා මිරිකා කවරත්ත
කල්කය හෝ චන්දු කල්කය හෝ යශෝධරා කල්කය හෝ දමා
මීපැණි දමා දෙනු. සුව වූ පසු, දේවපිච්ච කල්‍යාණ රසායනය -
පුෂ්‍යානුග චූර්ණය - දේව කල්පද්‍රැම සෑතය ආදී බෙහෙතක් භාවිත
කරන්නේ ය.

## ශ්වේත ප්‍රදරය

### Leucorrhoea

ස්ත්‍රීන්ට බහුල ව ඇත්තා වූ රෝගයකි මේ. පාසැල්හි
ඉගෙන ගන්නා ලොකු බාලිකාවන්ට ද - ගුරුවරියන්ට ද බහුල ව
මෙම රෝගය ඇත්තේ ය. ලජ්ජාශීලීභාවය නිසා මෙය නොකියා
සිටීමෙන් ශරීරය ක්‍ෂය වී-නිදන්ගතය ගෙවිය නො හැකි රෝගයන්ට
සහ ක්‍ෂය රෝගයට ද භාජන වීය හැකි යි.

මෙය ඇති වූ කල රහසෙහි ශ්වේත පදාර්ථ මඳ මඳ ව පිට
වන බව දක්නට ලැබේ. එමෙන් කලාන්ත ගතිය ද ශරීරයාගේ
උනන්දු ගතිය නැති වීම ද පපුවේ ගැස්ම ද ඇති වේ. නිතර හිසේ
වේදනා පවතී යන් රෝගයක් ය යි ඇතැම් අය කියති. මෙය
බෝවෙන රෝගයක් නො වේ. ශරීරයෙන් ම හැදෙන එකකි.

ඇතැම් විට කුඩා ගැහැණු ළමයින්ට ද මේ රෝගය ඇත්තේ ය. ඇස් පෙනීමේ දුර්වලතා, කණ ඇසීමේ අඩුතම ආදිය ද ඇති වේ.

මේ කාලයේ දී බාමරුකණ් සමීර (=එළකාමණ්ණි දෙමු කිරි)- බාර්ලි දිය-සුවඳැල්- කෝලිකුවටු- ඇපල් - බටර් - දිවුල් -දෙළුම්- පැණිදොඩම් හා මීපැණි - එළගිරි - නාරං - රටලූනු - ලික්ස් - රතුලූනු - කුරතම්පලා - තවුහාමපලා - ගොටුකොළ - ඉදුණු අඹ ආදි පෝෂ්‍ය ජනක පලුව පමණ දූන - දීර්ගෙ ශක්තිය අනුව - භාවිතා කරන්නේ ය. කිරි නාන්නා සතුන් නිරෝගී විය යුතු යි. රටින් ගෙන එන පෝෂ්‍ය විටමින් වගී ද ඇත්තේ ය. මෙහි පහත දැක්වෙන කසායන් ද යොදන්නේ ය.

i. තොල්ලී - රසකිඳ කසායට වරකට මීපැණි මේස හැන්දෙන් 1 බැගින් දමා බොන්නේ ය.

ii. තොල්ලි - රසකිඳ - නීරමුල්ලි - නෙරෙංචි - රණවරා පසැව්ංගය - කසායට වරකට මීපැණි මේස හැන්දෙන් 1 බැගින් දමා බොන්නේ ය.

iii. අරළු කලං 2 යි - බුළු කලං 4 යි - තොල්ලි කලං 6 යි- කසාය බොන්නේ ය. එසෙන් හැලි 3 බැගින් බිය යුතු යි. කසාය බොන කාලයේ නො නාන්නේ ය. එකක් බී පිරිසිදු වූ ද ඉරු රැසින් හොඳට කැකෑරුණා වූ ද ජලයෙන් නාන්නේ ය.

iv. රත්පිත් අධිකාරයෙහි දැක්වූ කසායන් දෙන්නේ ය

v. අවුතොල්ලි යුෂ හෝ, හැම්බු තොල්ලි යුෂ හෝ මීපැණි දමා බොන්නේ ය.

vi අළු කෙසෙල් මුහ යුෂ මීපැණි දමා බොන්නේ ය. vii දිවුල් කිරි සාදා බොන්නේ ය. viii නාමල් රේණු ගිතෙලින් අඹරා වරකට කලං ¼ බැගින් වලදන්නේ ය. ix රත්මල් පොකු යුෂ මීපැණි දමා බොන්නේ ය.

දේවදිව්ව කල්‍යාණ රසායනය - මහා සරසවතී චූර්ණය - දේව කල්පද්‍රැම කෘතය - පුෂ්‍යානුග චූර්ණය - අශෝක අරිෂ්ටය- චන්දනාසවය - උශීරාසවය - පනංගාසවය - ආදිය භාවිත කරනු.

ලේමාල ගෙවන ප්‍රදර ආදිය සැවතිගමුන්ගේ බෙහෙතට, ඇලුමට:— කටුවැල්බටු - ආඹාමෙසෝබා - මුද්දිරප්පලම් - වැල්මී - අමුක්කාර- සිරිතෝක්කු - රත්මල් පසැව්ංගය - ගිත් හිඳිකුම්බ- කලං 6 බැගින් ගෙන- පතුර බෝතල 8 න් 1 ට සිඳ පෙරා ඊට සූක්ෂ්ම රාත්තල් 1½ ද - තිප්පිලි කුඩු - නාමල් රේණු - එන්සාල් - කරාබු කලං 3 බැගින් ද කුඩු කර දමා පැණි පදමට කසාරා, මීපැණි මේස හැන්දෙන් දෙකක් ද දමා පිහ පිහ බොන්ට දෙනු. තලිසාදි චූර්ණය ද පිහ පිහ දෙන්නේ ය.

## නෂ්ට ආර්තවය

### Amenorrhoea

ස්ත්‍රීන්ගේ ඔසප් නැවතුණු කල්හි කල්පනා ඇති ව ප්‍රතිකාර කටයුත්තේ ය. මුල දී දූවිලි වාතයට නියම කළ කසාය බී, දක්ෂ වෛද්‍යවරුන්ගෙන් ප්‍රතිකාර ගත යුත්තේ ය. එය මෙහි දැක්වූව හොත් එය නො මගට ක්‍රියා කරන්ට ද හේතු විය හැක්කේ ය. කැපෙන ආයුධයකින් දක්ෂ ශිල්පියා හොඳ කැටයම් කර්මාන්තයක් කෙරේ. ඒ ගත් බාලයා ඒ ආයුධයෙන් ම ඒ කර්මාන්තය විනාශ කර දමයි.

## යෝනි දහය (දූවිල්ල)

### PRURITUS

යෝනි දහය ඇති වූ කල කලින් දැක්වූ අසනීපයෙන් නම් ඊට හිමි ප්‍රතිකාර ද කරන්නේ ය.

i. කොත්තමල්ලි පතක් තලා සවස ඇල්වතුර පතක දමා උදේ පෙරා උක් සීනි දමා බොන්නේ ය.

ii. අරළු - බුළු - නෙල්ලි - නුග පොතු - අට්ටික්කා පොතු තම්බා තරමක් (ඉවසිය පුළුවන්) රස්නය තිබෙද්දී සෝදන්නේ ය.

iii. නෙල්ලි - පිටවක්කා කසාය සීනි දමා දෙන්නේ ය.

iv. ආඩාතෝඩා මුල් - රසකිඳ - කාතාවාරිය අල කසාය, සීනි-මීපැණි දමා දෙන්නේ ය.

v. නීපල් - නුග - බෝ - ඇහැටු - අට්ටික්කා - කොටදිඹුලා - මාදම් - කීන - මසන් කොළ - දිවුල්දලු - මාතෙල් අල - තෙළුම් දඹු තම්බා සෝදන්නේ ය. උත්තර වස්තියක් දෙන්නේ ය.

## කෂ්ට රජස්

### Dysmenorrhoea

ඇතැම් ස්ත්‍රීන්ට ඔසප් වීමේ දී බඩේ කැක්කුමක් හටගනී. මීට සුමාන 2 කට පමණ කොත්තමල්ලි කසාය - උක් හකුරු දමා දෙන්නේ ය. මාස් වෙන දවසේ හොඳ කුම්කුමප්පු කලං ½ ක් උණු වතුරෙන් දෙන්නේ ය.

සැලකිය යුතු :— රතු කුම්කුමප්පු හොඳ නැත. නියම වර්ගය කහට හුරු ය. ගසක නියම මල් බව හැඟෙන්ට තිබේ.

තව ද i සස්සඳ මුල් - දෙහි ඇඹුලෙන් වේදනාව ඇති විට දෙනු.

වීයලි කෙලි ගැට මද - ලොත් - (රත් මල් පොතු ද ගත හැක) සිවංගුරු - තිප්පලී - අගුරු - ගම්මිරිස් - ඉද්දිරප්පලම් - රත්හඳුන් - හොවිල මුල් පොතු - කොළොඳ හාල් - ඉරමුසු - මලියත්ත මල් (=සුවදිගැනෙවි මයිල) - වැල්මී - කුඹුක් පොතු - සමභාග.

**මාත්‍රා** :— කලං ½ සිට කලඳ දක්වා කිතෙලින් හෝ මී පැණි යෙහි අනුපාන කොට හාල්පාන දිය පොවන්නේ ය.

ගුණ :— රක්ත - නීල - ශ්වේත ආදි නානා වර්ණ ප්‍රදර - යෝනි දෝෂ - ආර්තව දෝෂ - ගර්භාශයගත දෝෂ ආදිය නසී.

**නාගකේශරාදි ක්වාථය** :— ගිතෙල් සේරු ¼ යි. මෙහි පහත දක්වෙන ද්‍රව්‍ය පලම් 2 බැගින් ගෙන, වතුර සේරු 64 ක් බහා 16 ට සිඳ ගනු. නුග - බෝ - කුඹුක් - ඔම්වාගේ පොතු, රසකිඳ - ආඩතෝඩා මුල් පොතු - කටුකරෝසා - අතිවිෂ - මාදම් ඇට - මීපොතු - මොර පොතු - තොටිල - හොවදිඹුලා පොතු - බැබිල - වදකහ - කොලොම් පොතු - යක් එරබදු පොතු - කෝන් පොතු.

හාල් පාන දිය සේරු 4 යි - අමු තෙල්ලි සුන සේරු ¼ යි - ලිපේ තබා තකාරන්නේ ය. **කල්කයට**, වැල්මී - මීමල් - රටඉඳි - වෙනිවැල්ගැට - සාලාමිශ්‍රි - ඇඳ්දමට ගෙඩි - නානාවිරිය අල - අමුක්කරා - රත්හඳුන් - සුදුහඳුන් - ඉරමුසු - කිත්තල්අල - කලං 12 බැගින් දමා ගෘත පදමට සිඳ තෙල පෙරා ගන්නේ ය. වරකට තේ හැන්දෙන් එක බැගින් දවසට දෙවරක් දෙන්නේ ය.

**ගුණ** :— නොයෙක් ආකාර ප්‍රදර රෝග - බඩේ වේදනා (=කුක්ෂි ශූල) - යෝනි ශූල - වස්ති ශූල - අතපයේ දැවිල්ල - යෝනි දැවිල්ල - බඩපිපුන් - ඇස් පෙනීම් අඩුකම් ආදි සියලු සංකර ජටිල රෝග නසයි.

**අර්ත වැඩූ අයගේ ද ගස්සා මුණු අයගේ ද කිලුටු මාලේ යන කල්හි** :— සුදුළූනු මනාවක් ලියා, තලතෙල් මිනාවකින් තම්බා, රත්වන් පාට වූ විට, තෙල් වික අහක තියා, ගිතුල් කලං 9 ක් ගෙන සුදුළූනු සමග අඹරා, භාජනයක දමා ලිප තබා අරක්කු පතක් එක් කර කකාරා, නායම පදමට බා පෙරා, බට්ටු ගෙඩි පමණ ගෙන පලුදු තලතෙලෙන් දිය කර දෙන්නේ ය. ගර්භාශය ශුද්ධ වීමට ද බඩේ කැක්කුම් රුජාවට ද බඩ පිපුන් උත්සුරුකාවට ද කිලිමාලේ අබ්ජ්ජියට ද අත පය රුදා සීතල වීමට ද යහපති. මට පසු රත්පිත් තෑංග දෙනු.

**ඇතැම් ස්ත්‍රීන්ට මාස් මුණු දිනයේ ම නෑමෙන් මාලේ** අඩස්සිය වී යම් බඩේ ගා සුළුවේ කැක්කුම ඇති වේ. එවිට ඒ විනාශ ම (සුදුළූනු - ගම්මිරිස් (විකා වෙන්ව) දමා තම්බා තලතෙල් දමා දෙන්නේ ය.

ii. සුලු පස්මුල - බැබිල - ඉඟුරු - නොකන්කම්ල්ලි - සුවඳ කොට්ටන් - කොත්තමල්ලි - අරළු - සුදුහඳුන් - ගම්මිරිස් ඇට මිඳ කසාය දෙන්නේ ය.

iii. අමු ඉඟුරු - සුදුළූනු - නිකපොතු - ආඹිලමකෝඹා පොතු - කුඹුරුවැල් පොතු - කොහොඹ පොතු ලුනිත්, තලතෙල් දමා - කවරත්න හාල්ගල හෝ රත්නාදී ගුලිය හෝ ඊට සමාන ගුලියක් දෙන්නේ ය.

ප්‍රදර ආදියෙන් ද අධික මෛථුනයෙන් ද ඇතිවූ ස්ත්‍රීන්ගේ නේත්‍ර රෝගයන්ට :— i. අරළු - බුළු - නෙල්ලි - රත්කිද - කුරඹුල් කසාය ගිතෙල් දමා දෙන්නේ ය.

ii. ඉඟිනි ඇට - පොල්පලා - වෙනිවැල් ගැට - අරළු - වැල්මී - සුදුහඳුන් - සැවැන්දරා මුල් - සිනටි හාල් (බැදගත් සුනු) - සුලුකුර - තල 12 ක් ගෙන උක් පැණි පත සි - වතුර පත 7 සි එකට සිඳ සිනි - මීපැණි දමා දෙන්නේ ය.

iii. මුං ඇට - ඉරමුසු - හාතාවාරිය අල - සුදුහඳුන් - සැවැන්දරා මුල් - සුලුකුර - හිනටි විලඳ - වෙනිවැල් ගැට කසාය, පෙර සේ කසාරා දෙනු.

iv. තිපල් - වෙනිවැල්ගැට - වැල්මී - කහ - උක්දඬු කසායෙන් ඇස් සෝදන්නේ ය. මීට සමන්පිච්ච මල් හෝ කින මල් දමා ඇස් සේදීම වඩා ගුණ ය. ත්‍රිඵලාදි ඝෘතය - න්‍යග්‍රෝධාදි ඝෘතය දෙනු. අශ්වගන්ධ තෛලය හිසට දමනු. නාලිකේරාඤ්ජනම් ඇසට දමනු.

## ස්ත්‍රීන්ගේ අතුල් පතුල් දැවිල්ල

### Burning of the Feet

බොහෝ දෙනකුන්ට අතුල් පතුල් දැවිල්ල හැදෙන්නේ ලමයින් ලැබීමෙන් පසු ව ය. මීට වාත රක්ත කසායවල් දෙනු. ලේ පිරිසිදු වන කසායවල් ද දෙන්නේ ය. ශාරිබාරිෂ්ටය - ශාරිබාද්‍යාසවය දෙන්නේ ය.

i. හිඟුලවැල් මුලේ පොතු - කොලීය මුලේ පොතු - ගන්සූරිය මුලේ පොතු - හීනටි හාලෙන් කැද පිස ගිතෙල් දමා දෙනු.

ii. නෙල්ලි - රත්කිද - හීරමුල්ලි - කොරෙසඩු - ඉරමුසු - පොල්පලා - කබරස මුල් කසාය, ගිතෙල් දමා දෙන්නේ ය.

iii. සුලු පස් මුල් - බැබිල - හාතාවාරිය අල කසාය දෙනු.

iv. බැබිල මුල් - රත්කිද - වැල්මී - වලගසාල් - ඉරමුසු - කුරුම්බා වතුරෙන් කසාරු දෙන්නේ ය.

v. තිප්පලි, කරාබු, එනසාල්, සාදික්කා, දෙදුරු, වැල්මී, පැපිලිය, වදකහ, රසකිඳ, කලාදුරු අල, බිත්තල් අල, හාතාවාරිය අල, ඉරිවේරිය, සැවැන්දරා, නෙළුම් අල, කළුදුන්, ඉඳිබඩ පලම් 2 ඕ, එළකිරි පත 1 ඕ, වතුර පත 7 ඕ, එකට සිඳ දෙනු.

## ගර්භිණී රෝග

### Diseases of Pregnancy

ස්ත්‍රියක් හැබි දරු විට සාමාන්‍යයෙන් රෝග අටක් ඇති වන බව ආයුර්වේද ශාස්ත්‍රවල දක්වා තිබේ. i වමනය, ii ශෝෂය, iii කෙළ ගිලීම, iv උණ, v ඉදිමුම, vi අරුචිය, vii අතීසාරය, viii විවර්ණය යන මොහු ඒ රෝග වෙති.

එළවළු වර්ග - කොළ - පලතුරු - බොහෝ සෙයින් භාවිතා කරන, මාංස - මත්ස්‍ය - බිත්තර - කරවල - උම්බලකඩ ආදිය නොකොට ම නො ගන්නා වූ ගර්භිණීන්ට හෝ ස්ත්‍රීන්ට කිසි ම රෝගයක් නො සෑදෙන බව අප නොයෙක් වර දැක තිබේ.

## වමනය

### Nausea or Vomiting

සාමාන්‍යයෙන් ගර්භය වැඩීමේ දී ශරීරයේ රැස් වන්නා වූ විෂ නිර්විෂ භාවයට පැමිණවීමට වුවමනා ශක්තිය ශරීරයෙහි නො මැති කල්හි විෂ පිට කිරීමට ස්වභාවයෙන් ම ගර්භිණීන්ට වමනය ඇති වී තිබේ. ඒ නිසා විශේෂ අජීර්ණ ආදී අන්‍ය උපද්‍රවයක් නැත්නම් වැඩිපුර බෙහෙත් යෙදීම් වුවමනා නො වේ. ඇඳෙන් නැඟිටින්ට පෙර කිරි කෝපි එකක් හෝ අමු නෙළුම් අල සුප දැමූ කැඳ කෝප්පයක් හෝ බොන්නේ ය.

i පැණි දොඩම් යුෂ, ii මුද්‍රික යුෂ, iii බිදිශකීරා (=බ්ලූමාන්ජ් ඩ.), iv ඉදුණු අඹ යුෂ, v ඇපල්, vi දෙවූ සැටියේ කිරි, vii රතකිඳ කොළ යුෂ - සීනි මීපැණි සහ, viii නිවුණු කොත්තමල්ලි වතුර ආදිය දෙන්නේ ය.

**නිදබල ශ්ලේෂ වමනය පවතී නම්:-** i කොත්තමල්ලි කලඳක් කාල් පානු දියෙහි අඹරා ඒට දිය කර දෙනු.

ii රසකිඳ දඬු කොළ - ඇද්දෙමට මූලේ පොතු - කුරම්බල් - නෙළුම් දඬු - සම්භාග ගෙන, කොටා වණ්ඩුවෙන් තම්බා මිරිකා- මීපැණි (තිබේ නම් නවරත්න කල්කය) දමා දෙන්නේ ය.

**වාත වේදනාත් සමඟ වූ කල :—** i. බෙලි, බැබිල, ඉගුරු, කොත්තමල්ලි, සැවැන්දරා මුල්, වීලඳ කසාය දෙන්නේ ය.

ii. සුලුපස්මූල, කුර, නෙළුම් දඬු, කසාය දෙන්නේ ය.

**අජීර්ණයෙකින් වමනයෙන් බඩ යාම :—** තවරත්න කල්කය- i. ඉඟුරු යුෂ මී පැණියෙන් හෝ ii. ඉඟුරු කුම්බුදල යුෂ මී පැණියෙන් හෝ දෙන්නේ ය. iii ඉඟුරු කලං 2 යි, කොත්තමල්ලි කලං 10 ක්, කසාය දෙන්නේ ය. iv. බෙලි, බෑවිල, ඉඟුරු කසාය දෙන්නේ ය.

**දුබල ගර්භිණීන්ට පණුවන්ගේ හේතුවෙන් ද වමනය හට ගනී :—** එවිට i. වලහනාල් කුඩු මී පැණියෙන් දෙන්නේ ය. ii තවරත්න කල්කය සාදික්කා දෙහි ඇඹුලෙන් ගල ගා ඒව දිය කර දෙන්නේ ය.

**වමන, අජීර්ණ, බඩේ වේදනා ඇති කල මේ පහත දැක්වෙන කසායන් යොදනු :—** i ඉඟුරු කලං 4 යි, කොත්තමල්ලි කලං 8 යි, කසාය දෙන්නේ ය. ii ඉරිවේරිය දඹු, අඹු ඉඟුරු, උඳුපියලි කසාය හෝ යුෂ දෙනු. iii බෙලි, බෑවිල, ඉඟුරු, විලඳ, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

**මෙවා දෙන අතර මලබද්ධ ගතියක් ඇති වුවොත් :—** වතු හා පැසුණු අඹු බෙලි තම්බා, ගජපිප්පිලි කරල් ½ ක කුඩු, ඊට සීනි දමා දෙන්නේ ය.

**විෂ ද්‍රව්‍ය- ඉපෙසැසලාක්කා-අමු ධාන්‍ය ආදිය නිසා වමනයක් සිදු වුවොත් ඒව යෝග්‍ය ප්‍රතිකාර කරන්නේ ය:-** i. සුදුහඳුන් කල්ක තැඹිලි දියෙන් දෙන්නේ ය. ii කුර යුෂ දෙනු. iii අඹ නෙළුම් අල, දඹු යුෂ, iv පුහුල් යුෂ, v එළකිරි, vi ගිතෙල් vii තනකිරි දෙන්නේ ය.

## ශෝෂය හෙවත් වියලීම

## DRYNESS

ඇතැම් ස්ත්‍රීන්ට මුඛය, උගුර, වියලුම් ගතියක් ද ශරීරයේ වියලුම් ගතියක් සහ වැහැරුණු ස්වභාවයක් ද ඇති වේ. එවිට මෙහි පහත දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.

i නුග මුල්, පිප්පිලි, සැවැන්දරා මුල්, හලාඳුරු අල, සීනි සමග ගුලි කර කටේ තබා සිටිනු. ii සුලු පස්මූල, බෑවිල, කොත්තමල්ලි, කිරි කසාය දෙන්නේ ය. iii කොත්තමල්ලි තම්බා තිබුණු පසු හොඳ ගිතෙල්, සීනි දමා දෙන්නේ ය. iv බෑවිල කසාය, ගිතෙල් සමඟ දෙන්නේ ය. v. දවසකට හොඳ පෝවලින් මිනා මේ පිළිවෙල කළ තේ එක බැගින් බොන්නේ ය. vi. ඇඳ්දෙම්ම ගෙඩි, මුද්දරප්පලම්, කීන අරටු (=පද්මක) - කොත්තමල්ලි, වැල්මී, වෙනිවැල් ගැට, නුග මූල්, සුදු හඳුන්, අඹු නෙළුම් දඬු, කසාය කර දෙන්නේ ය. කට වේලීම, වතුර පිපාස සංසිඳේ

## කෙළ ඉනීම

### Ptyalism or Profuse Discharge from the Salivary Glands

ද්විතීය මාසාත්‍යයෙහි සුදු කෙළ හැලීම මේ කාලයේ ගර්භිණීන්ට ඇති වෙන ස්වාභාවික එකකි. ඊට ප්‍රතිකාර වුවමනා නො වේ. දෙළුම් ඇට එක එක වුවමනා නම් හපා යුෂ ගිලිනු. ඇට අහකට දමනු.

## උණ

### Fever

ගර්භිණීන්ට විරුද්ධ නැති, උණ අධිකාරයේ බෙහෙත් යොදන්නේ ය.

i. ඉඟුරු කලං 2, කොත්තමල්ලි කලං 10, කසාය සිද්ධ දෙන්නේ ය. ii **අළුත් උණෙහි සඳහන් පඤ්චෝලාදිය, මුස්තාදිය ආදි කසායන් දෙනු.**

iii **අමෘතෝශිරාදිය** :— රසකිඳ, සැවැන්දරා මුල්, දියමිත්ත, කලාදුරු අල, ඉඟුරු, බිංකොහොඹ, ඉරිවේරිය, පත්පාඩගම්, කොත්තමල්ලි, කකඩිලියා මුල් කසාය දෙන්නේ ය. මෙය උණ, දුවිලි, වමන කසා. ප්‍රතිශ්‍යා ඇති විට මෙය නො දෙනු. iv බෙලි, බැබිල, ඉඟුරු, විලඳ, කොත්තමල්ලි, කසාය දෙනු. v සුලුපස් මුල (=එලබටු, කටුවැල්බටු, අස්වැන්න, පොල්පලා, කටුරෙණ්ඩ), ඉඟුරු, කොත්තමල්ලි කසාය දෙන්නේ ය.

සංලක්ෂ්‍ය :— ගර්භිණීන්ට උණ හටගත් දින සිට 7 දින තෙක් මේ කසාය යෝග්‍ය ය. වුවමනා නම් අපරට උණ අධ්‍යායයේ තිබෙන චූර්ණයන් ද දිය හැක. උණ පාදව තිබේ නම්, මුද්‍රරාජ, සිතාරාම ආදි ගුලි ඊට හිත අනුපානයකින් (ජ්වර අධ්‍යායයේ කියවුණු) දෙනු. වතු කල්කය කොත්තමල්ලියෙන් දෙන්නේ ය.

මුල දී ප්‍රතිශ්‍යා උණ තිබේ නම් මෙහි අංක i. දක්වූ කසාය ද උණ රෝගයේ තිබෙන ආමලකාදි චූර්ණය ද මුස්තාදි ක්වාථය හා සුළු පස් මුල එක කසාය ද දෙන්නේ ය.

උණෙහි නැවත ගතියක් තිබේ නම් 'සාලිසාදි චූර්ණය' විටින් විට අනුභව කරන්නේ ය. දවසකට කලං 1½ ක් වුවාම වරදක් නැත.

**මලබද්ධ ගතියක් තිබේ නම්** :— කකඩිලියා මුල්, ඉරිවේරිය, කලාදුරු අල, ඉඟුරු, කටුකරෝසන, උණුවතුරෙන් අඹරා ඊට දිය කර දෙන්නේ ය. වරකට ද්‍රව්‍ය කලඳක් සෑහේ.

පස්වැනි, සයවැනි, සත්වැනි, අට වැනි දිනයන්හි දරු පණිවාදි කසාය යෙදිය හැකි යි. මීට පසු උණ අධිකාරයෙහි ක්‍රමයට ප්‍රතිකාර කරනු.

විෂම ජ්‍වර (=මැලේරියා) ඇති වී නම් ඊට සුදුසු කසාය යොදනු.

සීත, දාහ, වෙවුලුම් උණ ඇති වී නම් :— i. අමෘතෝෂිරාදි කසාය මුලින් යොදන්නේ ය. ii සුදුහඳුන්, මාතෙල් අල, ඉරිවේරිය, දියමිත්ත, නින්දෙහොබා, කොත්තමල්ලි, කටුවැල්බටු, සැවැන්දරා, කලාඳුරු, ඉඟුරු, පැපිලිය, රසකිඳ කසාය, iii සුදු හඳුන්, සැවැන්දරා, වැල්මී, ඉරිවේරිය, කොත්තමල්ලි කසාය, iv මුද්දරප් පලම්, රසකිඳ, පැපිලිය, කලාඳුරු, කටුකරෝසන කසාය, මූර්ච්ඡා, ප්‍රලාප, දාහ, පිපාසා, උණ නසා. v වෙනිවැල් ගැට, කලාඳුරු අල, කොර අරටු, ගජතිප්පිලි, ඉඟුරු, සිරිතෝක්කු කසාය, වෙවුලුම් උණ, සීත උණ, දූවිලි උණ, වමන නසා.

## අතීසාරය

### Diarrhoea

අතිසාරය හැදුණු විට මෙහි පහත දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය.

i. උළුපියලි, අමුඉඟුරු, තීන් නිදිකුම්බ, සම්භාග ගෙන කොටා, උණු අළුවෙන් තම්බා, මීපැණි දමා දෙවරුවක් දෙනු. ii මැල්බෑම්ල, ඉඟුරු විතක් දමා මිරිකා, කැඳ පිස දෙන්නේ ය.

ආම අතිසාර අධිකාරයෙහි වූ බෙහෙත් යොදන්නේ ය.

බඩේ කැද වේදනාව ඇති වී නම් වියලිඉඟුරු කලං 6 ක් කුඩු කර හලාගෙන, එය ඇතීමට පුළුවන් තරම් පමණක් ගිතෙල් දමා අනා මේත් එරබු කොළයක ඔතා උණු අළුවෙහි තම්බා බාගෙන, පිටි සීනි කලං 6 ක් සමග අනා, ටික ටික කන්ට දෙන්නේ ය.

ලවංගාදි චූර්ණය ආදී අනෙක් බෙහෙත් යොදන්නේ ය.

භෝජනයෙන් බෝවුණු අතිසාරයට පිළියෙලින් :—

i. බෙලි ගැට මද, කලාඳුරු අල, ඉඟුරු, කොත්තමල්ලි, අතිවිඩයන් කසාය, උදේ සවස කසාය භුක්ත දෙනු. ii. අතරම උළුපියලි, ඉඟුරු කුස මීපැණි දමා දෙනු. iii ගොටුකොල, රතුලූනු කොහිල අල කුසට මීපැණි දමා දෙනු.

අතිසාර පවතින කාලයේ බත් හොඳ නැත. කැඳ, බැබිලි කැඳ, කොහිල කැඳ ආදිය දෙන්නේ ය.

## ශෝථය – ඉදිමුම

### Intumescence

දරු ගැබ ක්‍රමයෙන් වැඩෙන කල 6-7-8-9 මාස්වල, කල් නහර පාද ව, ගැබිණියන්ගේ කකුල් ඉදිමේ. මීට වැඩි ප්‍රතිකාරයක් වුවමනා නැත. මුත්‍ර යෑම අඩුකමක් තිබේ නම්, i. නෙරෙංචි, කොත්තමල්ලි, හැම්බු ජලය, ii නෙල්ලි, රසකිඳ, නීරමුල්ලි (=කටුතිරිය), නෙරෙංචි කසාය, iii හැඹිලිවතුර, iv සහල බවතුර, v. බාර්ලි වතුර ආදිය දෙන්නේ ය.

**අධික ඉදිමුම ඇති වුවහොත් :—** i. මුලදී ඒ මාසයේ අමාරු වලට නියම කර තිබෙන කසායක් දෙනු. ii. සාරණ කලං ½ යි, අමුඉඟුරු කලං ¼ යි, කිරි දමා කසාරු දෙනු iii. සාරණ, නෙරෙංචි කසාය, ගිතෙල්, සීනි සමග දෙනු. iv සුලු පස් මුල් කසාය තිප්පිලි කුඩු, ගිතෙල්, සීනි දමා දෙනු.

**උණ, සෙම් උණ සුව වී ඉදිමුම් ගතියක් ආ විට :—** සුලු පස් මුල්, සාරණ, බැබිල කසාය දෙනු.

**සමහර අයට 'අල' ආදි තද උෂ්ණ කෑම වැඩි කෑමෙන් දැවිල්ල ද මුත්‍ර අඩුකම ද ඉදිමුම ද හටගනී. එවිට :—**

i. නෙරෙංචි, පොල්පලා, කහබිලියා මුල්, ඇහැළ පොතු, සැවැන්දරා, උක්දඬු කසාය දෙන්නේ ය. ii. ඇද්දෙමට මුලේ පොතු, රසකිඳ, කොටා වණ්ඩුවෙන් තම්බා, මීපැණි සීනි දමා දෙන්නේ ය.

## අරුචිය

### NAUSEA

අරුචිය ද, ආහාරයාගේ දුර්ගන්ධය ද, ඇතැම් දේ ළඟට ගැනීමේ අනභිලාෂය ද ඇති වේ. මීට ද වැඩි ප්‍රතිකාර වුවමනා නො වේ.

පලතුරු වර්ග(=සුවඳැල්, කෝලිකුට්ටු, ඉදුණු අඹ, ඇපල්, බෙලි, ආදිය)හා බාර්ලි, සාගු, විස්කෝත්තු ආදි ප්‍රිය බීමක් දෙන්නේ ය. පැපොල් හොඳ නැත. හොඳට ඉදුණු අන්නාසි ගෙඩියක් (අවුන්ස 2 ක් පමණ බර) කෑමට වරදක් නො වේ. දවසකට.

i. ඉඟුරු, ගම්මිරිස්, හාල්නාරන් රේණු මිශ්‍ර කර දිව මදිනු දත් මදිනු. ii බෙලි, බැබිල, අමු ඉඟුරු, කොත්තමල්ලි කසාය දෙන්නේ ය. iii. පැණි දෙළුම් යුෂ, iv දෙළුම් යුෂ, v දිවුල් කිරි, දෙන්නේ ය.

## විවණ්ණවය

## Discolouration

ඇඟ පැහැය වෙනස් වීම ද ස්වභාවයකි. මීට ප්‍රතිකාර වුවමනා නො වේ.

## මලබද්ධය

## Constipation

ඇඟට මහන්සි නැති ව්‍යායාමයකින් සන්සෙදනු. තමාගේ හිතවතා සමග විස දුරක් ඇවිදිනු. සුදුසු පලතුරු බහුල ව අනුභව කරන්නේ ය. උදේට රටඉඳි යෝග්‍ය ය. ඉර ගැමරන්ට පළමු දෙඩම් එකක් පානය කරන්නේ ය. උදේ ඇල්වතුර එකක් බොන්නේ ය.

i. සෙනෙහෙ කොළ, මුද්දරප්පලම් තම්බා දෙන්නේ ය. ii. කොත්තමල්ලි තම්බා ඒව ඇහැලු පැණි සීනි දමා දෙන්නේ ය. iii කිරි යෝග්‍ය තම් භාවිත කරන්නේ ය. iv එළබටු, කටුවැල්බටු, අස්වැන්න, පොල්පලා, නෙරෙංචි, අඹු නෙළුම් දඬු, හාතාවාරිය අල කසාය, ඇහැලු පැණි දමා දෙන්නේ ය. පථ්‍ය නම් කෑම සමග ගිතෙල් ටිකක් ගත යුතු.

## මූත්‍ර බද්ධය

## ISCHURIA

මූත්‍ර බද්ධය සමග දැවිල්ල ද ඉදිමුම ද ඇතැම් අයට ඇති වේ.

i. නෙරෙංචි, කොත්තමල්ලි තැම්බූ ජලය, ii පුහුල් යුෂ සීනි සමග. iii පුහුල්, රසකිඳ යුෂ. iv සාරණ, නෙරෙංචි, හීරමුල්ලි, පොල්පලා කසාය. v පොල්පලා චූර්ණය උණු වතුරෙන් දෙනු.

**සංලක්ෂණ :—** ඉහල කසාය දීමෙන් ඇතැම් ගැබිණියන්ට කැස්සක් ඇති වේ. එවිට අඟුරු කලං 2 යි, කටුවැල්බටු, කොත්තමල්ලි කලං 6 බැගින් කසාය කර දෙන්නේ ය. තලිසාදි චූර්ණය විට විට දෙන්නේ ය.

## මල හා මූත්‍ර බද්ධ

## Obstruction of Bowels & Retention of Urine

i. රතුළූනු, පෙනෙහෙල කොළ, කොච්චපොල්, කොවා මඬ්ඩුවේ තම්බා මිරිකා, ගිතෙල් දමා දෙනු. ii. උළුනාල්, හීනටිනාල්, ඉඟුරුපි අතලොස්ස බැගින් ගෙන, පොම්වති බැඳ දමා- වතුර වත් කර

තම්බා, වතුර පෙරා ගෙන, සුදු ලූනුත්, උළුහාලුත් ඒව මත් හා දමා දිය කර, මුරුංගා පොතු යුෂ හෝ හැන්දෑ හා ගිතෙල් අගේ එඬරු තෙල් දමා දෙන්නේ ය. ප්‍රසූතාක නි. මෙය ගර්භිණීන්ගේ වලිප්පු වල දී ද හොඳින්නේ ය. iii අරළු, ඇහැළ පොතු, පොල් පලා, තෙමරසඬි, කනකිලියා මුල්, උක්දඹු කසාය - සීනි, මීපැණි දමා දෙන්නේ ය. මලබද්ධ මූත්‍ර බද්ධ, දුවිලි නසා.

## කාසය

### Cough

i එළබටු, කටුවැල්බටු, ඉඟුරු, කොත්තමල්ලි, තිප්පිලි, සිරිතේක්කු, බැබිල මුල්, ආඬාතෝඩා මුල් කසාය, සීනි දමා. ii. කටුකරෝසන, සිරිතේක්කු, අරළු, ඉඟුරු කසාය, උක්සකුරු බහා කැසි, ඇදුම නසා. iii ආඬාතෝඩා යුෂ, ඉඟුරු යුෂ, ඇඹුල් දෙඩම් යුෂ, මීපැණි, සීනි, උක්පැණි, දෙළුම් ඇඹුල්, ලේහ කරනු.

## මූර්ච්ඡා

### Insensibility

හිසට i. නාරායන, සිද්ධාර්ථ ආදි තෙලක් දමනු ii මූණට ඇල් වතුර ගසනු හොඳ තේ එකක් දෙනු. iii සුළු පස් මුල් කසාය දෙන්නේ ය. iv තාමල් රේණු චූර්ණ කර උණු වතුරෙන් දෙනු. වෙදදූ ප්‍රතිකාර ලබා ගන්නේ ය.

## පිපාසය

### THIRST

පිපාසාධ්‍යායයේ යෝග භාවිත කරන්නේ ය. බැබිල කිරි, කසාය බොන්නේ ය.

## උදාවර්ත-ආමශූල

### General Obstruction

i. අමු බෙලි තම්බා - සීනි, මීපැණි, තිප්පිලි කුඩු දමා දෙනු. ii පෙරුංකායම් ටික ටික ගිතෙලින් වට කර ගිලින්නේ ය. කීප දවසෙක්.

## හිසරදය, දත් කැක්කුම

### Headache, Toothache

i. බෙලි, බැබිල, ඉඟුරු කසාය ගිතෙල් දමා දෙනු. ii දත ළඟ කරාබු නැටි තෙල් හෝ කුරුඳු තෙල් පුළුන්වල රඳවා තබන්නේ ය.

iii මෙල්ලංගොඩු, සුදුහඳුන්, දෙබම් පැඟිරි, වදකහ, තද්වදුර, තීත්තර ලියා, කළුතෙල් විතක් සමඟ කබල් තැල්ලක පැසවා, හොඳට බැදුණු විට පෙරා සරමක් රස්නය තිබෙද්දී තන්වල වත් කරනු. තහරවල ගානු.

## ශ්වේත ප්‍රදරය

### Leucorrhoea

ඇතැම් ගැබිණියන්ට සුදු යෑම ද ඇති වේ. එවිට කලාන්තය, උකුත්දුව අඩු කම ආදිය ඇති වේ. සාමාන්‍යයෙන් ශ්වේත ප්‍රදරයට නියම කැරුණු ඔසු යොදනු.

i. රණවරා පඤ්චාංගය, කලාඳුරු අල, කුඹුක්පොතු, වෙනිවැල් ගැට, තිපල්, සහ කසාය ගිතෙල් දමා දෙන්නේ ය. ස්ත්‍රීන්ගේ වාත වේදනා, දනඹුස් කොවුම්, ඉදිමුම්, මූත්‍ර අමාරු ආදිය ද නසයි. ii කොහිල අල, මාහෙල් අල, නෙළුම් අල හෝ දඬු, කතුරිය අල, නෙරෙංචි (=ගොකටු), තාමල් රේණු, සතාවාරිය අල කසාය ගිතෙල් දමා හෝ මීපැණි දමා හෝ දෙනු.

ශ්වේත ප්‍රදර කසා. වසා මේහ (=ගර්භිණීන්ගේ ඇල්බියුමින් පවතීම) ස්ත්‍රීන්ගේ 7 මාසයේ අග ද අට වැනි මාසයේ ද ඇති වන අසනීපවලට ද දෙනු. කිය යුතු අසනීපයක් නැතත් ඒ මාසවල මේ කසාය දීම ප්‍රයෝජන සහිත වේ.

**ගර්භිණීන්ගේ අක්මා වකුගඩු විෂවීම සහ වසා මේහය:-** ගර්භිණීන්ගේ ශරීරයේ විෂ නිර්විෂභාවයට පමුණුවන්නේ අක්මාවෙනි. අක්මාව ද විෂ නිසා දුර්වල වූ විට වකුගඩු ද විෂ වේ. එයින් කෙරෙන කාර්ය හොඳනාර නො කෙරේ. එවිට මූත්‍ර සමඟ ඇල්බියුමින් පදාර්ථය ඇති වේ. එය ද්‍රාවකයකින් පරීක්ෂා කර ගත හැකි යි. එසේ ඇල්බියුමින් ඇති වූ විට ශරීරයේ විෂ රැස් වූ බව තේරුම් ගෙන, ශරීරයේ විෂ නැසීමට ප්‍රතිකාර යෙදිය යුතු. එසේ නො කළහොත් ගර්භිණී වලිප්පුව හැදේ. ඒ නිසා ඇල්බියුමින් ඇති වූ විට මෙහි දැක්වෙන කසාය දෙමින් මූත්‍ර පරීක්ෂා කරනු

i. රත්පිත් චිකිත්සාවේ බෙහෙත් යොදනු ii තෙල්ලි, රසකිඳ, සුලුකුර, ගොකටු, නීරමුල්ලි, රණවරා පඤ්චාංගය කසාය දෙනු. iii තෙල්ලි, ගොකටු, කොවක්කා, තාමල් රේණු, මාහෙල් අල, නෙළුම් දඬු, සතාවාරිය අල, කුරමුල් කසාය දෙනු.

iv රෝස මල් - නාමල්රේණු - නෙළුම්දඹු - වදමල් - බැකිල - හාතාවාරිය අල කසාය දෙනු. v 'තුරපවුමල්' සියල්ල කොටා ගිතෙල් දමා යුෂ දෙනු.

සංලක්ෂණය :— අට වැනි මාසයේ වමනයක් ඇති වුවොත් ශරීරය විෂ වූ බව දත යුතු. මේ කාලයේ සෙදූ අයට ගර්භිණී වලිප්පුව ගෙනා හැදේ.

## දාහය - දැවිල්ල

### Burning of Body

i. කොත්තමල්ලි හම්බා සීනි දමා දෙන්නේ ය. ii ජෝඹා එකක් දෙන්නේ ය, iii. රත්පිත් කසාය දෙනු. iv. මුද්දරප්පලම් - ගොකටු (නෙරෙංචි) - කොත්තමල්ලි - අළුකෙසෙල් අල - සුදු හඳුන් කසාය දෙනු. v. ඇද්දෙමට මූලේ පොතු - රසකිඳ යුෂ - ගිතෙල් බහා දෙන්නේ ය.

## ගර්භය වියලීම

### Dryness of Womb

වාතයෙන් ගර්භය වියලුණු විට මෙය වැඩේ. එවිට i. සීනි - වැල්මී - ඇද්දෙමට මූල්, කල්ක කිරෙන් කකාරා දෙන්නේ ය. ii. රසකිඳ - නුගපොතු - කිරිබදු - අමුක්කරා - ඉරමුසු - හාතාවාරිය අල - ගොකටු (=නෙරෙංචි) - කිරිඅගුණ - මානෙල් අල - වැල්මී, මේවායේ කසායට, එම කල්ක බහා, ගිතෙල් බහා සිඳි තෙල දෙනු.

## ගර්භිණී වලිප්පුව

### CONVULSION

ගර්භිණීන්ට වලිප්පුව බොහෝ සෙයින් අට වැනි, නව වැනි මාස්වල හැදේ. කලින් මුත්‍ර පරීක්ෂා කර ඊට සුදුසු කසාය දීමෙන් මෙයින් නිදහස් විය හැක.

මෙය ආක්ෂේප - අපතන්ත්‍රක - අපතානක නමින් දැක්වෙන වාත රෝග කි. වාත රෝග අධ්‍යායයේ මේ ගැන සඳහන් වේ. මෙය දරුණු රෝගයක් නිසා වහා ම වෛද්‍ය ආධාර ලබා ගත යුතු.

හිස පිටට යන ඇය පියවෙන වලිප්පුව අපතන්ත්‍රක කි. ඇස් අඩක් හෝ සම්පූර්ණයෙන් ඇරී තිබෙන ආක්ෂේපය (=වලිප්පුව) අපතානක කි.

ඇස් පියවූ වලිප්පුවලෙහි වමන වසති ක්‍රියා නො කරනු. අනොනොහි වසති ක්‍රියා නොදන්නේ ය. වලිප්පුවේදී ම හිසට, කොඳු ඇටය දිගට, පතුලේ මාපට ඇඟිලි දෙකට, නාභියට වාත තෙල් දමන්නේ ය. දත කූඤ්ඤන් පහළ කරමින් රස්නය තිබෙන නොවත් කුඩයන්ට පුළුවන් තරම් රස්නය තිබෙන උණු වතුරේ දමනු.

i. වාතයට හොඳට ක්‍රියා කරන, මලත් පිට වන, කළු කුමාර ගුලිය හෝ ඊට සමාන ගුලියක්, අමු ඉඟුරු - සුදුළූනු - කොතොඹ පොතු - කුඹුරුවැලේ පොතු - කුඹුරු ඇට මද, ආඹතෝඹ පොතු - කුප්පමේනිය - ඔලිඳ කොළ යුසින්, තලතෙල් - ගිතෙල් මත දෙන්නේ ය. ii. එහා ම අරළු - බුළු - නෙල්ලි - වදකහ - සුදුළූනු කසායට, ගිතෙල් - සහිඳ ලුණු - සුවඳ ලුණු - යවක්ෂාර දමා දෙනු. iii නස්‍යඃ:- තිකකොළ යුසට තල තෙල් දමා රත්කර නස්න කරනු. iv. අරළු කලං 12 යි - සුවඳ ලුණු කලං 6 යි - සහිඳ ලුණු කලං 6 යි - කසාය කර ගිතෙල් දමා දෙන්නේ ය. v විරේක තෙල් ද - වෑහද් හාගීත්‍යාදි කසායට විරේක තෙල් තනකිරි දමා ද දෙනු. vi '**ශ්වාස කුඨාර රසය**' නාසයට උරවනු. vii. '**ලශුනෛරණ්ඩය**' වැනි ගර්භයට විරුද්ධ නැති, වාතයට හිතැති තෙල් දෙන්නේ ය.

## රක්ත ශ්‍රාවය - ලේ බින්දීම

### Bleeding from Womb

ගර්භිණීන්ගේ ඇතැම් විට වාරෙන් වාරේ රක්තශ්‍රාවය වීම (=ලේ බින්දීම) ඇති වේ. එසේ වූ විට රක් පිත් අධිකාරයෙහි වූ ද- ස්ත්‍රීන්ගේ ප්‍රදර අධිකාරයෙහි වූ ද කසායන් දෙනු. කසායන් දෙන අතර අතරට තැඹිලි පොල් මල් - ඉරිවේරිය දඹු - අළුකෙසෙල් අල - අවරික්කා පොතු - කුර, මෙයින් ලැබුණු දෙයක් ගෙන, ඒවායේ යුෂ මීපැණි දමා දෙන්නේ ය. i. මානෙල් අල - නෙල් ඔලු අල - නෙළුම් අල - වැල්මී කසාය දෙනු. ii බෙලි මුල් - ඉරිවේරිය - කලාදුරු අල - තැඹිලි පොල් මල් - අවරික්කා ගැට කසාය, ගිතෙල් දමා දෙන්නේ ය. iii මානෙල් අල - හීන් නොරෝක්ක - ඇද්දෙමට මුල් - ශතාවාරිය අල - ඉරමුසු - බෙබිල කසාය, සිතෙල් සමග දෙන්නේ ය. වැඩින් ලේ ගාම - රුජා - දවිල්ල - වාත වේදනා නැසා.

ඒ ඒ මාසයේ ලේ බින්දීම වන කල ඒ ඒ මාසයට නියම මෙහි පහත දැක්වෙන කසාය දෙන්නේ ය. ඒ කසාය, ගර්භිණීන්ගේ ඒ මාසවල ඇති අන්‍ය අමාරු ද නසන්නේ ය.

i. පළමු වැනි මාසයේ, වැල්මී - කාකබීජ - ක්ෂීරකාකෝලී (=කවෙළු) - දේවදාර කසාය, ii දෙවැනි මාසයේ - අශ්මන්තක - කළුතල - වැල්මදට - හාතාවාරිය අල කසාය, iii තෙවැනි මාසයේ, කිරිපලු - කිරිඅඟුණ - මාහහල් අල - ඉරමුසු, iv සිව් වැනි මාසයේ, ඉරමුසු දෙවර්ගයේ - අරත්ත - භාර්ගී (=සිරිතේක්කු) වැල්මී කසාය, v පස්වැනි මාසයේ, දෙබටු - ඇද්දෙමට ගෙඩි - කොහිල අල - ධුග මුල් - බෝපොතු - අවිට්ක්කා කසාය, vi සය වැනි මාසයේ, පොල් පලා - බැබිල - මුරුංගා කොල - නෙරෙංචි - වැල්මී කසාය, vii සත් වැනි මාසයේ, කොහිල අල - නෙළුම් අල - කිස්මිස් - සොකපිය - වැල්මී කසාය, සීනි සමඟ, viii අට වැනි මාසයේ, දිවුල් ගැට මද හෝ පොතු - බෙලිගැට මද හෝ මුල් - දුම්මැල්ල - එළබටු - උක්දඹු - කටුවැල්බටු කසාය. ix නව වැනි මාසයේ, වැල්මී - ඉරමුසු - ක්ෂීර කාකෝලී (=කවෙළු).

**සංලක්ෂණය :— මෙවා කිරි කසාය වශයෙන් ද හාල් දෙවුන් දියෙන් හෝ උණු කිරිවලට අඹරා දමා හෝ දෙන්නේ ය. ඇඹරීමට සියල්ල කලං 2 ක් සෑහෙයි.**

**වේදනා සහිත රක්තාශ්‍රවයට :— ඉරිවේරිය - අතිවිඩයන් - කලාඳුරු අල - ඉඹුල් මැලියම් - කොළිඳ හාල් කසාය දෙන්නේ ය.**

## ගර්භ ශ්‍රාවය හා ගර්භ පතනය

## ABORTION

**අධික මෛථුනයෙහි හැසිරීම - දිසි මාර්ගයෙහි ගමන් කිරීම - යානවාහනයන්ගෙන් යෑම - වෙහෙසීම - උණ - නොසා ඉඳීම - උඩ පැනීම - පහර වැදීම - අජීර්ණය - දිවීම - වමනය - කඳ විරේචනය - හිංසා වීම - ගැබ හෙලන ද්‍රව්‍ය හා ක්‍රියා යෙදීම - තියුණු වූ ද - කැපෙන සුළු වූ ද - උෂ්ණ වූ ද - කටුක වූ ද - තීක්ත වූ ද - රළු වූ ද ද්‍රව්‍ය සේවනය - වේග ඉසිලීම - ක්‍රෝධ - ශෝක - භය යන මෙසින් යුක්ත වීම යනාදී කාරණා හේතු කොට ගෙන, ගැබ වැවෙන කල්හි පළමු ව ගැබ පිහිටි ස්ථානය- කටිය - උකුල- වස්ති කෝෂය යන තැන්හි රුජා ද, ලේ දැකීම ද වේ. එකල්හි සිහිල් වූ නෑම - දියෙහි ගැලී සිටීම හා සීතල වූ ද්‍රව්‍ය සේවනය ද කරනු. මෙහි පහත දැක්වෙන කසායන් ද රත් පිත් කසායන් ද, අසෘග්දර හා රක්තශ්‍රව අධිකාරයේ බෙහෙත් ද දෙන්නේ ය.**

i. මාතෙල් අල - නෙළුම් අල - සුදුහඳුන් - වැල්මී - කිරි කොට කසාය දෙන්නේ ය. ii. ඔම් අහරට නෑඹිලි පොල් මල් - අට්ටික්කා ගැට (හෝ පොතු) යුහඹු ම්පැණි දමා දෙන්නේ ය.

වේදනා ඇති කල්හි-බෑබිල, වැල්බෑබිල, වැල්මී, නෙරෙංචි, කටුවැල්බටු කසාය කිරි කොට දෙන්නේ ය. මුත්‍ර බැඳුණු කල්හි- කුඹුක් මුල්, උක්මුල්, රඹුක් මුල්, ඉඟිරිය, නෙරෙංචි, පොල්පලා කසාය දෙන්නේ ය. බඩ පිපුම ඇති කල්හි - පෙරුම්කායම්, සුවඳ ලුණු, සුදුලූනු, වදකහ, බෙයි තිංතලින් අඹරා කල්ක කර දෙන්නේ ය. අධික කොට ලේ වැගිරෙන කල වලන් මැටි, වැල් මදට, මලිත්ත මල් (=මයිල මල්), සමන්පිච්ච මල්, ශුද්ධ කළු සිවංගුරු, (සිවංගුරු පුහුල් යුසිං අඹරා අවුවේහි වේලා ගත යුතු) හල්දුම්මල, වෙනිවැල් ගැට, මීයෙන් ලේහ කරන්නේ ය. තුණ දළු, බෝ දළු, අට්ටික්කා දළු, අඹරා කිරෙන් දීම ද, තෙකටිය අල, කොහිල, නෙළුම්, ඕලු, මාතෙල් යනාදී කල්කය හෝ කසාය දීම ද, අත්තික්කා ගෙඩි, අළු කෙහෙල් අල, මුද්දිරප්පලම්, සුදු හඳුන්, කලාදුරු අල කසාය දීම ද කරන්නේ ය. වෙඩි ලුණු දිය කල වතුරෙන් තෙමන ලද රෙද්දකින් යෝනිය වසන්නේ ය. මල් නො දැක වේදනා ඇති වූ කල- දෙබටු, මාතෙල්අල, හාතාවාරිය අල, කුරුඹුස, වැල්මී කිරෙන් කසාරා දෙනු. ගුන් පසු - සුව වූ පසු ධාත්‍රී ඝෘතය සාදා දෙන්නේ ය. ගර්භිණී වලිප්පුව සුව වූ පසු ශරීර සැපයට ද එය සාදා දිය යුතු.

ප්‍රතිකාරවලින් ගුණ නො ලැබ ගර්භ පතනය වුවොත් සූතිකාවන්ට කරන ප්‍රතිකර්ම - ක්‍රියා කරන්නේ ය.

ධාත්‍රී ඝෘතය :— අඹු නෙල්ලි, හිරිබදු අල, උක් දැණ්ඩ, හාතාවාරිය අල, පුසුල්, වම්බා යුෂ නැළිය බැගින්, එළකිරි, නැළි 2 කි, කල්කයට :— මුද්දිරප්පලම්, වැල්මී, සෙද හඳුන්, කලං 6 බැගින් ගෙන දියෙන් අඹරා, ගිතෙලින් පිස පෙරා ගන්නේ ය. ගිතෙල් නැළියක් ගත යුතු යි.

මාත්‍රා :— තේ හැන්දෙන් 1 - 2 දක්වා, උ. සෙ. ව. උණු සවස අනුපාන කර, බෑබිල කසාය බොනු.

ගුණ :— ගර්භිණීන්ගේ ප්‍රදර, දාහ, ආදිය නසා ගර්භය පුෂ්ටිමත් වේ. අන්‍ය ප්‍රදර සන්නිවත් නො ද යි.

# ගර්භ වේදනා

## Pains of the Womb

ගර්භිණීන්ට ගර්භයෙහි ශූල වාත ආදී වේදනා ද ශරීරයේ කොටසක් ගොඩයක් පිදීම ද ඇති වේ.

i. කුස මුල්, වැලුන් මුල්, එරබු මුල්, නෙරංචි කිරි සමග කසාරා දෙන්නේ ය. ii. ඉඟුරු, වැල්මී, දේවදාර කිරි සමග කසාරා දෙන්නේ ය. ගැබය වැඩෙ වේදනා නසී.

ඒ ඒ මාසයෙහි ගර්භයෙහි වේදනා ඇති වූ කල මෙහි සඳහන් දක්වන කසායන් දෙන්නේ ය.

i. **මාසය** :— (1) සුදු හඳුන්,සතපුෂ්ප,මානෙල්අල,සීනි,සියල්ල කලං 1½ ක් හාල් දෙවුන් දියෙන් අඹරා ඊට දිය කර දෙන්නේය. (2) නෙළුම් දඬු, සුදු හඳුන් කල්ක දෙනු.

ii. **මාසය** :— (1) මානෙල් අල, කොහිල අල, කෙකටිය අල, සහල් දෙවුන් දියෙන් අඹරා දෙනු. (2) මානෙල් අල, නෙළුම් දඬු, වැල්මී, කකුළු පුඟ කසාය දෙන්නේ ය.

iii. **මාසය** :— (1) හාතාවාරිය අල, තෙල්ලි කල්කය උණු දියෙන් දෙනු (2) නෙළුම් අල, මානෙල් අල, සුමද කොට්ටන් කොහිලඅල කල්ක, උණු දියෙන් මීදි සීනි සමග දෙනු.

iv. **මාසය** :— (1) මානෙල් අල, කොහිල අල, කටුවැල් බටු, නෙරංචි කල්කය (ii) නෙරංචි, කටුවැල්බටු, ඉරිවෙරිය මානෙල් අල කල්ක- කිරෙන් දෙනු.

v. **මාසය** :— (1) මානෙල් අල, හාතාවාරිය අල, ගිතෙලින් අඹරා දෙනු. (2) සාරණ, හාතාවාරිය, පොඩිදූල්, මානෙල් අල කසාය ගිතෙල් මිශා දෙනු

vi. **මාසය** :— (1) සඳුන්,මානෙල්අල,කිරෙන් දෙනු (2) දිවුල් කිරි කැද දෙනු.

vii. **මාසය** :— (1) හාතාවාරිය අල, කිරෙන් කසාරා දෙනු. (2) දිවුල් මද, විලද, සීනි එකට අඹරා දෙනු.

viii. **මාසය** :— (1) කොත්තමල්ලි හාල් සාලු දියෙන් අඹරා දෙනු.(2) වැල්මී, නෙළුම් අල, කලාඳුරු අල, කෙකටිය, ගජපිප්පලි, මානෙල් අල කිරි සමග කසාය සිඳ දෙන්නේ ය.

ix. **මාසය** :— (1) එරබු මුල්, හාතාවාරිය අල, සීත දියෙන් දෙනු. සමහර එරබු වගී විෂ නිසා වෙදකු උපදෙස නො ලැබුණු විට හාතාවාරිය අල පමණක් දෙනු. (2) පලාශ බීජ, කාකෝලි, කටුකරඹු හාල් පාත දියෙන් අඹරා ගිතෙල් දමා දෙනු.

x. **මාසය** :— මානෙල්අල, වැල්මී,බැදිමුං,සීනි කිරෙන් දෙනු.

## ගර්භිණීන්ගේ ඛාහ ආදී වේදනා

### Pain of Pregnancy

ඉමහි පහත දැක්වෙන කසායවල් සියලු මාසවල දී ම පොදුවේ යෙදිය හැකි යි.

i. අඹ ඉඟුරු, බැබිල, සුදු හඳුන කසාය – සීතෙල්, සීනි බහා ගර්භිණීන්ගේ සියලු මාස්වල සියලු වේදනාවන්ට දෙන්නේ ය. ii. බෙලි, බැබිල, ඉඟුරු කසාය සීතෙල් බහා දෙනු. iii කුඩාපස්මුල් කසාය දෙනු. ඒ අහරට ඇද්දෙමට කුල්, රසකිඳ සුසට තම්රත්න කල්කය දමා දෙන්නේ ය. iv. මහ පස්මුල, ඉරිවේරිය, බැබිල, ඉඟුරු, දේවදාර, එළකිරි සමග කසාරා දෙන්නේ ය. v ඉඟුරු, දේවදාර, බැබිල, අස්වැන්න, පොල්පලා, එළබටු, කටුවැල් බටු, එඬරු කසාය සීතෙල් දමා දෙනු.

**සංලක්ෂය :—** ගර්භිණීන්ගේ වාත ආබාධ - පිත්ත ආබාධ වල දී සීතෙල් යෙදිය හැක. සෙම් කිපුණු විට සීතෙල් අහක් කරනු. උගෙණ් අළුත් කොටසට ද අතීසාරයට ද සීතෙල් අහක් කරනු. විශේෂ ඇති තැන්වල පෙන්වා ඇත.

## ගර්භිණීන්ගේ රෝගවලට ගුලි

### Pills & Rasas

**චන්ද්‍රකලා ගුලිය:—** දේදුර, අසමෝදගම්, කරාබු, වසවාසි, සාදික්කා, තිප්පිලි, සහිඳ ලුණු, වැල්මී, සීනක්කාරන්, වැල්මදට, සුවඳ කොට්ටන්, අක්‍රපට්ටා, සාදිලිංගන්, පල්මාණික්කම්, තල්ලික්කා ගෙන්දගම්, තිපල්, කුඹුරු ඇට මද, පෙරුංකායම්, ඉඟුරු, සමභාග - ධාතු, උප ධාතු සියල්ල ශාස්ත්‍රයෙහි කියූ පරිද්දෙන් ශුද්ධ කටයුතු යි. දවස් තුනක් තන කිරෙන් උදය සමක අඹරන්නේ ය. කොටස් දෙකහාව මෙන් කර එක කොටසකට ශුද්ධ ජයපාල එපමණ දමා, වෙන වෙන ම දෙබෑ ඇඹුලන් දින තුනක් අඹරා, වෙන වෙන ඇඹුලෑට පමණ ගුලි කරන්නේ ය. විරේක වුවමනා විට ඒ කොටසෙන් ද, එසේ නැති විට අනෙක් කොටසෙන් ද දෙන්නේ ය.

**උණට :—** i උණු දිය, කිතුල් හකුරු වලින් ද, ii යකිනාරන් සුස, තනකිරි මිපැණියෙන් ද, iii මිදුරු තලා සුස මිපැණියෙන් ද, iv. කාලමේඝ සුසින් ද, v. දෙහි දලු, කුඹුරු දලු සුසින් මිපැණි දමා ද දෙන්නේ ය.

**සවස් පතා එන උණට :—** ශතාවතස්ස, වෙලා සුසට තන කිරි දමා දෙන්නේ ය.

**දවසක් ඇර ගැනෙන උණට** :— i නිසිවිදිය යුෂින් ද, ii. අරළු කසායෙන් ද දෙන්නේ ය.

**වමනෝට** :— i ඉඟුරු යුෂ මී පැණියෙන් ද, ii කුරුල්ල මද යුෂ මීපැණියෙන් ද, iii උප්පැණියෙන් ද, iv ඉඟුරු, රසපිංගලී යුෂ මීපැණියෙන් ද දෙන්නේ ය.

**ගැබිණියන්ගේ සියලු රුදාවලට** :— (1) උක් පැණියෙන් ද (2) බැබිල, හෙරෙසැඩි කසායෙන් ද දෙන්නේ ය.

**අඩස්සියට** :— සුදුලූනු, උළුහාල්, පෙතෙල, බූරුංගා කොළ, හීනටි යහ මෙහිනි හැද සාදා පෙරා බෙත්, ගිතෙල් දමා දෙනු.

**මුත්‍ර අධික නම්** :— ගම්සූරිය යුෂින් දෙනු

**යෝනි වලිප්පුවලට** :— වද කහ, සස්සඳ, සුප්පමේනිය, නීල කොළ - කුඹුරු ඇට මද, කුඹුරු පොතු යුෂින් ගිතෙල් දමා දෙනු.

## ගර්භිණීන්ට පථ්‍ය දේ

**Suitable**

ඇල් ආදී ධාන්‍යයෙන් පිසූ බත්, මුංයුෂ, ගොධූම, වෙඬරු, ගිතෙල්, කිරි, රසාල, මීපැණි, සීනි, පොලොස්, කෙසෙල්, නෙල්ලි, මුද්දිරප්පලම්, ඇපල්, මසන්, අඹ, දෙළුම්, පැණි දොඩම්, කින්නාරන්, මිහිරි ද්‍රව්‍ය, ශීතල ද්‍රව්‍ය, දිමයේ සැදෙන ද්‍රව්‍ය, කස්තුරි චන්දන මාලා ධාරණ, කපුරු සඳුන් ඇඟ ගැල්ලීම, නෑම, අභ්‍යංග, සඳළුතලය, කෝමල ප්‍රිය වාක්‍ය, කෝමල ශය්‍යාසයන, ශීතල වායු සේවන, ප්‍රිය වාක්‍ය, මනෝඥ විහාර, හිතට රුචි අන්නපාන යනාදිය පථ්‍ය යි.

## ගර්භිණීන්ට අපථ්‍ය දේ

**Unsuitable**

සොවදන, වමන, දිව හාරවන ද්‍රව්‍ය, විවාද, විෂම භෝජන, රෑ නිදිමැරීම, අප්‍රියයන් හෝ අප්‍රිය දේ දැකීම, අතිශය මෛථුන, ව්‍යායාම, බර දේ ඔසවීම, දිසී මාර්ගයෙහි යෑම, අසුන් පිට යෑම, නැටීම, දල රෙදි, දවල් නිදීම, ශෝක, ක්‍රෝධ, භය, විපනාවේග, උද්වේග, ගම්, මල මූත්‍රාදි වේග දැරීම, අභිලාෂ දේ නො ලැබීම, නො කා ඉඳීම, රළු තියුණු දේ, සිදුරු, ලිං දැකීම, මද්‍යපානය, මත්ස්‍ය, මාංස, කරවල, සිපාතර ආදී මාංස ද්‍රව්‍ය අනුභවය, ගර්භිණීන්ට අපථ්‍ය යි. ක්ෂාර, ඇඹුල්, ලුණු රස, කටුක ද්‍රව්‍ය නිතර භජනය නො කරනු.

**අට වැනි මාසයෙහි මෛථුනය සම්පූර්ණයෙන් ම තහනම් ය.**

නව වැනි මාසයේ සිට ඇති වන උපද්‍රවයන් සහ ප්‍රසූත කිරීම් දක්වා ක්‍රියා කටයුතු මෙහි පහත දක්වේ.

## ප්‍රසව ළං වීම

### Preparation For Maternity

වැදීමට ළං වූ කල, ක්‍රමයෙන් දරු ගැබ පහත් වෙයි. ඇතැම් අඟනුන්ට විළි රුදාව හට ගන්නා තුරු එසේ නො වෙයි. මේ කාලයේ ඇතැම් ස්ත්‍රීන්ට වාතය අධික වීමෙන් මල මුත්‍ර පහ නො වීම ඇති වේ. එසේ කල මෙහි සඳහන් දැක්වෙන ද දෙනු.

i. අරළු, නෙරෙංචි, පොල්පලා, ඇහැළ පොතු, තනබිලියා මුල් කසාය, ගිතෙල් දමා දෙන්නේ ය. ii. අරළු, සියඹලා කොළ කසාය දෙන්නේ ය.

මුත්‍ර බද්ධය සමඟණක් හැඩැතුණොක්, තිත් නෙරෙංචි, බැබිල කසාය, සීනි මීපැණි දමා දෙන්නේ ය.

## ප්‍රසවය ඉතා ළං වීම

### Approaching Delivery

**ප්‍රසවය ඉතා ළං වූ කල කුටිය පිට යන තාන්ති හාත්පසින් වේදනා ඇති වේ. ලේ මිශ්‍ර සුදු පැහැති ද්‍රව්‍යයෙක් නික්මෙයි. මෙසේ වැදීමට ආසන්න වූ කල වරින් වර මද වේදනා හට ගනී. මෙය ක්‍රමයෙන් දියුණු ව තියුණු ව පවතී මෙසේ ස්වභාවයෙන් හට ගන්නා නියම විළිරුදාව හැර අනියම් රුදාවක් ද ගැබිණි යන්ට හටගනී. ඒ කොයි එක වුවත් පිළිවෙලින් මේ කසායන් දෙන්නේ ය.**

**i. අමු ඉඟුරු, බැබිල් මුල, සුදුලූනු කසාය, ගිතෙල් දමා දෙනු. ii. බෙලි මුල්, බැබිල මුල් කසාය, iii. උක් ගහක් තලා මිරිකා ගිතෙල් විකක් දමා රත් කර දෙන්නේ ය. මෙවිට අනියම් රුදාවක් නම් හැර යෙයි, නියම රුදාවක් නම් වැඩි වෙයි.**

**ඇතැම් විට බොහෝ වේලාවක් හිඳීමෙන් තනර ගැට ගැසේ. එවිට ජලතෙල් කැල්ලක් රත් කර තවනු.**

**වැදීමට ආසන්න වූ අයට ශරීරයේ හැම තැන ම වේදනා ඇති වුවත් පිටේ රුදාවක් ඇති වේ. එය සෙමින් සෙමින් අඩු කළ යුතු යි. මෘදු වූ කොට්ටයක් පිටට තබන්නේ ය.**

**මුත්‍ර වහනය වන්නේ නම් ශුභ යි. එසේ නො වේ නම් නෙරෙංචි, කොත්තමල්ලි තම්බා දෙනු.**

**ඇතැම් අයට වමනය ද ඇති වේ. සෝඩා එකක් එවිට දෙනු.**

ඇතැම් ස්ත්‍රීන්ට ප්‍රසූත අවස්ථාවේ දී ශීතලක් ඇති වේ. සමහරෙකුට වැඩිව ද, අඩු ව ද එය ඇති වේ. ඊට තරමක් උණුසුම් හොඳ තේ එකක් ගිතෙල් ටිකක් දමා දෙනු.

මේ ශීතල දරුවාට අපතානයක් වී සිදු වූ එකක් දැයි මනා ව පරීක්ෂා කළ යුතු යි.

නාභියට ගිතෙල් ටිකක් දැමූ විට, එය උණු නො වන්නේ නම් ළදරුවා අපතානය අවස්ථාවෙහි බව සලකා දක්ෂ වෛද්‍යාධාර ලබා ගත යුතු යි.

පරම්පරාගත සිරිත් වශයෙන් පැවතෙන්නා වූ රෝගියාට කිසි හිරිහැරයක් නැත්තා වූ භාරහාර ආදිය නො වැළැක්විය යුතු යි. කිරි මවුන්ගේ දානය දීමට භාර වීම ඉතා ම හොඳ ය. එය ඉෂ්ට කළ යුතු ය.

## ප්‍රසූතය

## LABOUR

**වේදනා අධික ව වැදීමට ළං වූ කල්හි මෙහි පහත දක්වන ඒවායින් සුදුස්සක් යොදන්නේ ය.**

**i බැබිල මුල් කලං 12 ක් කසාය කර ගිතෙල් හෝ තලතෙල් දමා දෙනු. (දිය කින්දීමත් සැදී තිබේ නම් කුරුම්බා වතුරෙන් ම කසාරා තලතෙල් දමා දෙන්නේ ය. ii තම්බපු හාල් කැඳ පොල් කිරි දමා උයා, ගිතෙල් දමා දෙන්නේ ය.) ගිනපි හාල් නම් වඩා හොඳ යි. මීට බැබිලත්, පොල් සමග කොටා මිරිකා වත් කළොත් වඩාත් හොඳ යි. තරුණියගේ පයෝධරයෙහි තිබූ තරුණයාගේ අත යම් සේ පහ වන්නේ ද එමෙන් ම ඉක්මනින් වදයි. iii. කළු උක් පැණි පතක්, තැඹිලි වතුර පතක් මිශ්‍ර කර උණු ගන්වා, තල තෙල් දමා දෙන්නේ ය. සැපසේ වදයි. iv වැල්මී, සුදු හඳුන්, රතුලූනු සැවැන්දරා මුල්, ඉරිවේරිය, එක තරම් ගෙන අඹරා තැඹිලි ගෙඩියට දිය කර එය ලිපේ තබා උණු ගන්වා තලතෙල් දමා දෙන්නේ ය. v නිවිතිය දඹු කොළ (වැල් ඒවායේ නම් වඩා හොඳ යි) කොටා තැඹිලි වතුරෙන් මිරිකා, රත් කර තලතෙල් දමා දෙන්නේ ය.**

**මේ දෙන බෙහෙත් මෙහි පහත දැක්වෙන මන්ත්‍රාංගයින් ජප කර දෙනු.**

i "ඕං මිනාමර වාගිසී ලම්බෝදරා මූසල මූසල සවා හා"
ii "අං ඕං ශාං තාමසශ්‍රී මූජීයේ"

## මළ දරුවන් ප්‍රසූත කරවීම

### Delivery of Dead Children

i නිවිති කොළ, කෝමාරිකා යුෂ රත් කර තල තෙල් දමා දෙන්නේ ය. ii නියඟලා අල, මිහි ඉත්තෑවල්, ඉඟී හවු විනාකිරෙන් ගල ගා පතුලේ ගානු. දළුක්ගිරි ටිකක් හිසට දමනු. තිප්පිලි, වදකහ ඇල් වතුරෙන් අඹරා නාභියෙහි ගානු. එළු හාඩුරෙබු මුල ඉඹින්ට දෙනු

**ගර්භය හාරනැටි ඔපිෂෙගාක් :—** i වදකහ තලතෙලෙන් අඹරා පොටවනි බැඳ තවනු. ii තලතෙල් ගා අතින් මාගීඩව බස්සනු.

**දුක් ප්‍රසවය :—** "ඕං හමෝ අංගුලිමාලෝ මහා ථෙරෝ මහා වීරෝ මහා බල ගර්භිණී ච විසේසේන ගබ්භෝ නික්ඛමිතු ස්වාහා" මේ මන්ත්‍රයෙන් තල තෙල් 9 විටක් මතුර බඩේ ඉහළ සිට පහළට අත ගානු. වහා වදයි.

## වැදෑමස

### Mode in Which Placenta is Expelled

වැදෑමස නො වැටුණොත්, i ඉසකාෂා උගුරේ දමා වමන වේග ඇති කරවනු. ii කිති පෙනෙල්ලකාව පිඹින්ට දෙනු. iii මලිඳ කොළ, නානාවාරිය කොළ කොට්ට කුරුඹා වතුරෙන් මිරිකා රත් කර තලතෙල් දමා දෙන්නේ ය. iv නිවිති දළු කොළ මිරිකා රත් කර තලතෙල් දමා පොවන්නේ ය.

## උපස්ථාන විධි (සූතිකා)

### Treatments for Ailments after Labour

ගැබිණියක් ප්‍රසූත කල පසු දරුවාට කරන ජාත කර්ම විධි ශාස්ත්‍රයෙහි කියූ පරිද්දෙන් කරන්නේ ය. ළමයකු ලැබූ පසු ඈ 'සූතිකා' නාමය ලබන්නී ය. දරුවා ලැබුණු විගස මෙහි දක්වෙන නවයුතු සූතිකාවට කාට ජුහු ඔ.

i අමුකුරා, සුදුලූණු, කොහොඹ පොතු එක කරම් ගෙන කොටා කඩිප්පිඹලෙන් (=වණිප්පුවෙන්) හඹා මිරිකා, තලතෙල් තේ හැන්දෙන් එකක්, ඕත් - ලුණු වතුර බින්දු 10 ක් දමා දෙනු.

සංලක්ෂණය :— සූතිකා අසනීපවල දී මාත්‍රා පත, සිතාරාමය, රත්නාදිය, යශෝධරා කල්කය, දිව්‍යරාජ ගුලිය ආදිය හෝ ජව සුදුසු ගුලියක් භාවිත කරනු

ii ඉඟුරු, ගම්මිරිස්, තිප්පලි, සාබලෙන් බැඳ කුඩු කර උණු වතුරෙන් වක්කර පෙරා, තලතෙල් සමග හැන්දෙන් දෙකක් දමා දෙන්නේ ය. iii දරුවා ප්‍රසූත කළ දිනයෙහි බත් කෑම දෙනු සුදුළූණු බැද පොල් හකුරු හෝ උක් හකුරු සමග කන්ට දී කෝපි සෝප්පයක් දෙන්නේ ය.

සූතිකා රෝග හෝ ඈමදහ පිණිස මෙහි පහත දැක්වෙන චූර්ණය දෙන්නේ ය.

**පිප්පල්‍යාදි ගණ චූර්ණය :—** තිප්පලි, තිප්පිලි මුල්, සිවිය මුල්, පිනාන, (කොත්තමල්ලි ගැනීම යෝග්‍ය යි.) ඉඟුරු, ගම්මිරිස්, එන්සාල්, අසමෝදගම්, සොලුදගාල්, දිගමිත්ත මුල්, වාල්මොලඟු, කළුදුරු, සිරිනෙත්ත්කු, කොකොඹ පොතු, වද කහ, පෙරුංකායම්, කටුකරෝසනා, අබ, වලගසාල්, අතිවිඩයන්, මුරුවාදුල් මුල්, සමභාග ලෙස චූර්ණ කරන්නේ ය

**මාත්‍රා :—** මරකට කලං 1 සිට 1½ දක්වා, පැසුණු උණු වතුර වක්කර වසා තබා, තරමක් රස්නය තිබෙද්දී පෙරා දෙනු. සූතිකාවුන්ට දෙන කල මීට යවක්ෂාර ලුණු, රෙද්දෙන් හැලූ කහ කුඩු, තලතෙල් දමා දීම යෝග්‍ය යි.

**ගුණ හා යෙදීම :—** වා, සෙම් නසා, දෙස් පැසවා, ගින්න දල්වා, ප්‍රතිශ්‍යා, වා සෙම් සන්නිපාත, යමකතක ජ්වර, සූතිකා රෝග, ගුල්ම, ශූල නසා,

සූතිකාවන්ට, සෙම් උණ රෝගීන්ට, වා සෙම් උණ කාරයන්ට ශූල ගුල්ම ආදියෙහි සියලු අවස්ථාවට ම යොදන්නේ ය.

## අසනීප

### Diseases

දරුවන් ලැබීමෙන් පසු යම් කිසි වාතාබාධ, දත් කැක්කුම, කන් කැක්කුම ආදී අසනීප ඇති වුවොත්, 1, කුඹුරු, ආබාපොඹා, නිකා, කොකොඹ, මෙටෑලේ පොතු කොටා වණ්ඩුවෙන් තම්බා මිරිකා පත් තෙල් දමා, දිව්‍ය රාජ ගුලිය හෝ ඊට සමාන ගුලියක් දෙන්නේ ය. දවසට මෙය තෙවරක් යොදනු ii නිකමුල් කලං 6 සි, ඉඟුරු, ගම්මිරිස්, තිප්පලි, කලං 2 බැගින්, කසාය සිඳ, කහ කුඩු, සීනි දමා දෙන්නේ ය.

වාත අමාරු නැද නම්, වා නසන තෙල් ගල්වා තවන්නේ ය. iii වෙලා කොළ, සුදුළූණු, දෙඩම් පැගිරි, තලතෙල් දමා කොළු ආදිය සුවඳ වනතය වන ගණනට බැඳෙන්ට හැර පෙරා, කන්වල

දමනු. තාපය කරනු. බෙල්ලේ නහරවල ගානු. වාත වේදනා ඇති තැන්වල ගානු. iv කටුකරඬු මුල් කසාය, තලතෙල්, තිප්පිලි කුඩු දමා දෙන්නේ ය. සූතිකාවන්ගේ වාත රෝග හා උණ නසා ලයි.

**ලේ කුණු ශුද්ධ වීම**:— දරුවා ලැබුණු දින රෙඩික් අධික ව ද ඉක්බිති ටික ටික ද සුමාන 3 ක් පමණ ගර්භාශය ශුද්ධ වීම පවතී. එසේ නො වුණි නම්, මකුල ශූල ආදී යටි බඩේ කැක්කුම ද ගර්භාෂයේ ලේ කැටි ඉදී තිබුණොත් ලේ විෂ වී වැදූමගෙහි සන්නිය හැදීම ද පුළුවන් වෙයි. ඒ නිසා ශරීරයට සහ යෝනියට කොහොඹ තෙල් දුම් ගැස්සීම ඉතා ම යෝග්‍ය යි.

'ශුද්ධ වීම' වීමට මෙහි පහත දැක්වෙන ඖෂධ ද අන්‍ය බෙහෙත් යොදන විට හෝ නැති විට හෝ යොදන්නේ ය.

i. පොතු සිය ගම්මිරිස් කබලින් බැද කුඩු කර රෙද්දෙන් හලා වරකට මඤ්ඤාඩි 5 සිට 10 දක්වා තලතෙලෙන් අනා දෙනු. ii. ශත පුෂ්ප තම්බා, සහ කුඩු තලතෙලෙන් දමා දෙන්නේ ය. iii. වදකහ, වියලි කහ, ගම්මිරිස්, ශතකුප්ප, සුදුලූනු කලං 2 සි මඤ්ඤාඩි 8 බැගින්, පත අට 1ට සිඳ පොල් හකුරු දමා දෙන්නේ ය. iv හොඳ කුම්කුම්ප්පු කලං ½ ක් උණු වතුරෙන් - (තේ වක් කරන්නාක් මෙන් වක්කර) දෙන්නේ ය. v ගොරක, පොල් හකුරු කසාය දෙන්නේ ය.

**මකුල ශූල**:— සූතිකාවුන්ට, යටි බඩේ ද, හිසේ ද තදබල වේදනා ඇති වේ. ඊට i යවකාර ලුණු ගිතෙලින් දෙනු. ii කහ කුඩු, යවකාර ලුණු, ගම්මිරිස් කුඩු, තල තෙලෙන් දෙනු. iii පිප්පලාදි ගණ චූර්ණය දෙනු.

## සූතිකා රෝග

### Puerperal Diseases

වැදූ තැනැත්තියට 45 දින වන තුරු සූතිකාව යන ව්‍යවහාර වෙයි. සමහර ආචාර්යවරු මාස තුනක් සොළවර වන තෙක් සූතිකාව ය යි ද, අනෙකක් ආචාර්ය වරයෙක් ආර්තවය දක්නා තෙක් සූතිකාව ය යි ද කියත්. එහෙයින් වැදූ තැනැත්තියට ඒ කාලයෙහි හටගන්නා රෝග සූතිකා රෝග (=වැදූ මගෙයි ලෙඩ) නම් වේ.

ඇඟ මැඩීම, උණ, කම්පා වීම, (=වෙඬැවල වීම - වෙවුලීම), දිය පිපාසය, ශරීරය බර බව, ඉදිමුම, රුජාව, අතිසාරය යන මොවුහු එහි ලක්ෂණයෝ යි.

**ප්‍රතිකාර**
**Treatment**

සූතිකා රෝග හටගත් කල මෙහි පහත දැක්වෙන ඖෂධයන් සුදුසු පරිද්දෙන් යොදන්නේ ය.

'ගුලි - රස' ආදිය දවසට තෙවරක් ද, කසාය උදේ සවස ද කුඩක් වුවමනා නම් වරක් ද දෙනු. ලේහ, වතුර පිපාසයට දෙන 'තෝය' එවිත් වට දිය හැකි යි.

ලේ කුණු ශුද්ධ නො වන්නේ නම් ඒ ගැන ද පරීක්ෂාකාරී ව ඊට ද ප්‍රතිකාර යෙදිය යුතු යි.

කද වාත ආබාධ තිබේ නම්, තෙල් ගැල්ලීම - තැවීම (උණු බත්වලින් හෝ වා නසන හැඳිලිවලින්) කළ යුතු යි.

විරේක ගුලි ද වුවමනා වුවහොත් යෙදිය යුතු. ඊට ඉතා හොඳ කළුකුමාර ගුලිය යි.

1

i. තිස මුල්, කුඩුමිරිස මුල්, මදුරුතලා මුල්, කොහොඹ මුල්, කොල්ලු, අරළු, බුළු, තෙල්ලි, වදකහ, ඉඟුරු කසාය සිතාරාම ගුලි; කොහොඹ තෙල්, තලතෙල්, දමා දෙන්නේ ය. වැදූ සන්නි කුණ ලේ. මෙය සූතිකාවුන්ගේ උණ, මලබද්ධ ගති, වාත අමාරු ඇති විට සූතිකාවන්ට 3 වෙනි දිනයේ සිට ම යෙදිය හැකි යි. ii. අමු ඉඟුරු, සුදුලූනු, මුරුංගා පොතු, නිකකොළ, රඹුක්බඩ, අමු වදකහ, එක පමණ ගෙන කොටා, වණ්ඩුවෙන් (=තඹපිච්චෙන්) තම්බා මිරිකා-බේත් (=සන්නි මූර්ඡා-මාන්‍ද්‍ය පත - දිව්‍ය රාජ ආදියක්) කොසඹ තෙල් දමා දෙන්නේ ය.

2

i. දේවදාර, වදකහ, සුවඳ කොට්ටන්, තිප්පිලි, ඉඟුරු, තිත් කොහොඹ, කාර්ඵල (=ඇද්දෙමට) කලාදුරු අල, කටුකරෝසන, කොත්තමල්ලි, අරළු, ගජතිප්පිලි, කටුවැල්බටු, හෙරෙසැව, වැල් තිබ්බටු, එළබටු, අතිවිඩයන්, කකීවකශ්‍රිංගි, රසකිඳ, කළුදුරු කසාය, යවක්ෂාර ලුණු ඕසා දෙනු.

ලේ විෂ ව (සැප්ටිසීමියා) දරුණු අසනීප නම් ගෝමූත්‍ර පත 4 ක් ද දිය පත 4 ක් ද දමා කකාරා දෙන්නේ ය.

**ශූල, කාස, උණ, ඇදුම, වෙවුලීම, මූර්ඡා, ගිනි නැතිවීම, හිසේ වේදනා, වාත, පිත්ත, ශ්ලේෂ්ම දෝෂ, අතිසාර ආදි සකල උපද්‍රව සහිත වූ සූතිකා රෝග නසා**

සූතිකාවන්ට - සියලු අවස්ථාවල දී ම මෙය යෙදිය හැකි යි.

ii තිස, කුඹුරා, ආඩාතෝඩා, කොහොඹ, සුදුලූනු, අබ, ගම්මිරිස්, වදකහ, ඉඟුරු, ගුසුව මදැණි, පාලතෙල්, සීනි, පතාකිරි, ගෙවිත් දමා දෙන්නේ ය. (මහ මාත්‍ර පතක් අනුපානයකි

iii තිප්පිලි, දේවදාර, කලාදුරු අල, අඟිල්, තිප්පිලි මුල්, චූර්ණය උණු දියෙන් දෙනු. ගත අමාරු, ප්‍රසූතිකා ගති නසා.

iv. තිප්පලි, දේවදාර, කහ, සුදුදුරු, කළුදුරු, සුදුලූනු, ගම්මිරිස්, කුඹු හර කරදි කැල්කල් වෙලා, කලුකොප් පොවා සීනි දල්වා නිවා නාසයට උරනු හිසේ හද අමාරු නසා.

3

i. කොහොඹ මුල්, සුදුලූනු, ගම්මිරිස් මුල්, නෑඬි ගැන්දන, තිපල්, ඉරිවෙරිය, හාරපිස්සුවා කොළ, කුරුඹුස, තිත්තමුල්, ඉඟුරු, ගම්මිරිස්, වැල්කහඹිලියා, ගාහාය කර සුදු හඳුන් ගල ගා දමා දෙන්නේ ය. සූතිකාවන්ගේ වාත, පිපාස, උණ නසා.

ii. වදහි දලු, එම පොතු, තාරන්දලු, බෙලි කොළ, කුඹුරුදලු, කුඩුමිරිස මුලේ පොතු, දලු, අමුඉඟුරු, සුදුලූනු, කොහොඹ පොතු, යකවනස්ස කොළ, කුරුදු දලු, තිත්තතාල කොටා පස් තෙලෙන් අහා මිරිකා මීපැණි, සීනි, තනකිරි, බෙහෙත් (මේ ආත්තු ජග කෝ) දමා දෙන්නේ ය. හදබල වාත, අත් කොරවීම, වෙවුලුම, සීතල, ගිනියම, හිසේ වේදනා, දුවන්ට යාම නසයි. පිස්සු විකාර ආදී නන්හි ද යොදන්නේ ය.

4

i. **අකාදි කසාය** :— වරාමුල්, කුරඹුසු, දේවදාර, අරත්ත, තිත, ඔදි, මූරුංගා, තිප්පිලි, තිප්පලි මුල්, සිවිය, තිවුල් මුල්, ඉඟුරු, කකීවක ශ්‍රිංගි, කිකිරිඳිය කසාය- ගෝමූත්‍ර පත 1 යි, වතුර 7 යි දමා සිඳ දෙනු තුන් දොස් රෝග, මැදු සන්නි, ධනුර්වාත, හනුස්තම්භ (=පිට ගැස්ම), බුද්ධි භ්‍රංශ (=එක පැත්තක් ම බලා සිටීම), දන්ත බන්ධන (=අනුදුර්වූ), ශීත, ඇදුම ආදි උපද්‍රව යුක්ත වූ සූතිකා රෝග නසා.

ii. මූරුංගා, යකවනස්ස, යක්බේරිය, කොහොඹ, තිත, කුඩු මිරිස, අමු ඉඟුරු, සුදු ලූනු සුසම් බෙහෙත්, කොසඹ පොල්, තලතෙල් දමා දෙන්නේ ය. හරියට දරු ගර්භය ශුද්ධ නො වී, ලේ කැටි ගැසී ඉඳී සීතල වී, හිසේ ඇඹුම, ඇඹිලිල්ල, බෙල්ලේ වාත, ගිනියම් ආදිය ඇති විට යොදන්නේ ය

'දසමූල' එන්නා මූ කසායන් ලංකාවේ දක්ෂ වෛද්‍යයන් යොදන්නේ සූතිකා රෝගවල දී දින 7 ත් පසු ව ය. එය ද සලකන්නේ ය

## සූතිකා උපද්‍රා

## Treatment of Supervening Symptoms After Delivery

මකාල ශූලය :— කෙළිඳකාල්, අසිවිඹියන්, පෙරුම්කායම්, සුවඳ ලුණු, අරළු, වදකහ, සුදුලූනු, කුඹුරු ඇට මද, යවක්ෂාර ලුණු, සම්භාර, කුඩු උණු දියෙන් දෙන්නේ ය.

පිපාසයට :— බෙලි, බැබිල, ඉඟුරු, මිලද, කොත්තමල්ලි, නැවැන්දන මුල් කසාය, කළුදුරු කුඩු දමා දෙන්නේ ය.

**සූතිකාවන්ගේ අතීසාරය** :— (1) ඉරිවේරිය, අඹ ඉඟුරු, බෙලිමුල්, කලාඳුරු අල, කොත්තමල්ලි, අසමෝදගම්, අතිවිඩයම් කසාය මුලට ම දෙන්නේ ය. (2) අතීසාර කාණ්ඩයේ සඳහන් ලවංගාදි චූර්ණය හෝ මෙහි පහත සඳහන් වන ගංගාධර චූර්ණය දෙන්නේ ය.

(3) **ගංගාධර චූර්ණය**:— කලාඳුරු අල, සහිඳලුණු, ඉඟුරු, ධාතකී (=මලිත්ත මල්=මසිලා?), ලොධු (=ලොත්), කෙළිඳහාල්, බෙලිගැට මද, ඇඹුල් මැලියම්, දියමිත්ත, කෙළිඳ පොතු (=කිරිවල්ලා පොතු)- ඉරිවේරිය, අඹ ඇට මද, අතිවිඩයන්, නිදිකුම්බ මුල්, කුඩු කරනු. උණු වතුරෙන් දෙන්නේ ය. සූතිකා අතීසාර නාශ. (4) ආනන්ද භෛරවය, කනකසුන්දර රස ආදිය හෝ ඊට සමාන ගුලියක් ඉඟුරු යුෂ, උළුපියලි යුසින් මීපැණි දමා දෙන්නේ ය.

අතීසාර නොවෙසේ බෙහෙත් ද සූතකායුධාරි සලකා යොදනු.

**සූතිකාවන්ගේ නාද වාත වලිප්පු සිහි නැති විම**:— (1) තිත්ත කොළ යුෂ හෝ කටු දෙමට ගෙඩි යුෂ තල තෙල් දමා රත් කර නස්‍ය කරන්නේ ය. (2) හිසට, කොඳු ඇට දිගට, නාභියට වාතඝ්න තෙල් ගල්වනු. දත කූඹුසෙන් පහළ කකුල් දෙක හා වැලමිටෙන් පහළ අත් දෙක රත් කරන්නේ ය. කණට ද වාතඝ්න තෙල් රත් කර වත් කරන්නේ ය. අනු තද වී නම් අනු දෙ පැත්තෙහි බෙහෙත් තෙල් හෝ පස්තෙල් හෝ මීතෙල් ගා වැලි පොට්ටනියකින් හෝ ආඩාතෝඩා කොළ, එඬරු කොළ ආදියකින් තවන්නේ ය. සිහි නොවන්නේ නම්, වස්තියක් දෙනු. බෙහෙත් පොවන්ට පුළුවන් වූ විට බටු දලු, ඔලිඳ කොළ, ආඩාතෝඩා කොළ, කොතොඹ පොතු වරා දලු, කුප්පමේනිය, කුඹුරු ඇට මද, වදකහ යුෂට දිව්‍ය රාජ ගුලිය - දෙඩම් ඇඹුල් - තල තෙල් දමා දෙන්නේ ය. අතීංදි කසාය හෝ මුත්‍ර දමා කසාය දෙන්නේ ය. විරේක වීමට මෙරේක ගුලියක් දීම ද යෝග්‍ය ය. කළුකුමාර ගුලිය ඉතා හොඳ ය.

**පිස්සු - දෙඩවීම - උමතුව යාම** :— (1) හිසට නාරායන තෙලය, සිද්ධාර්ථ තෙලය, ශ්‍රී ගෝපාල තෙලය ආදිය දමන්නේ ය. (2) පුහුල් මල් ඉඟුරු විකක් සමග කොටා පනාකිරෙන් මිරිකා නස්‍ය කරනු. (3) ඇඹිලිය - ඇද්දෙමට මුල් - සුවඳ කොට්ටම්, හැමැත්දත, රත්හඳුන්, ඉරිවේරිය, ඉඟුරු, කලාඳුරු, කතීවක බ්‍රාහ්මී, තිප්පිලි කසාය දෙන්නේ ය. (4) ඉඳිබොඹ පලම ½ කි. දිය දෙනැලියක් වත් කර කසාරා හැලියට සිඳ, හරාඹු - වසවාසි - සාදික්කා - සුදුලූනු - පත්කළු බඩු - අඹරා දමා පසට සිඳ දෙනු. කිඹුළු මාලේ අබ්බස්සයෙන් යැදුණු පිස්සු නසා.

ගර්භාශයෙහි නල් දැඩි ව හිරිවීම, දුන් අමාරුවෙන් වට හැප්ම, ලේ බින බිඳ, කාන්ගිය ආදිය :— (1) කොහොඹ පොතු-වදකහ - ඉඳලි පොතු - අඹු කහ - සුදුලූනු - මුරුංගා මුල් - බිලිඳ කොළ - අරත්ත - ආඩතෝඩා දළු - අඹ හැව මද - තිපල් සම්භාග ගෙන, කොටා කළමිම්ලෙන් තම්බා මිරිකා, ගොරකා කල්කය හෝ ඊට සමාන ගුලියක් දමා, මී පැණි දමා දෙන්නේ ය. (2) ඇල් දියට වෙනි ලුණු දිය තර කරද්ද පෙණ ගව බිඳෙනි තබනු. (3) සුග - ඇහැටු - අම්බිත්තා - අළු කෙහෙල් අල කොටා ඇල් වතුරට දමා තබා උපහාර වශයි දෙනු (4) පරවි බෙට් - බිලිඳ ඇට වදකහ බර නාල්පාන දියෙන් දෙන්නේ ය. (5) පිපාසය තිබෙන කම් වෙනිවැල් ගැට - කොත්තමල්ලි - සුදුලූනු - තුරඹුල් - තම්බා ගිතෙල් දමා දෙන්නේ ය. (6) වැල්මී - කොට්ටං - සිරිගෝක්කු - බින්කොහොඹ - සුදුහඳුන් - තිප්ල - තිකුළු - රට්ඉඳි - දේවදාර-ආඩතෝඩා මුල් - නෙළුම් අල (හෝ දඬු) අංකෝද මුල් - ඉරමුසු - ඇහැළපොතු-මීමල්- සපුපොතු- කත්‍රිත බටු- රසකිඳ- නාගබිලියා-බැබිල - සැවැන්දරා - කලාදුරු - දුම්මැල්ල - ඉරිවේරිය - කුරුඳු පොතු - සස්සඳ - වීගලි කහ - වෙනිවැල් ගැට- කොහොඹපොතු-කොත්තමල්ලි - පැපිලිය - පුසුල් මද - බුලත් මුල් - සිවිය මුල් - කටුකරෝසන- කොටිල මුල් කසාය - කොසඹතෙල්- ආඩතෝඩා පුස දමා දෙන්නේ ය.

දණන බඩින (=අනු පුරුවු) බෙල්ලේ වාත හිසේ වාත :— (1) වාත ආබාධ ඇති තැන්වල වාත නාසන තෙල් ගල්වා බැඳපු වැලි පොට්ටනිවලින් තවන්නේ ය උණු බත්වලින් තවනු. (2) වදකහ - කැටිලුණු - අදුඹ ඇට - මීඇට - ලුණුවරණ - මුරුංගා-අරත්ත - කුඹුරු ඇට මද - එඬරු කොළ - අත්තන කොළ කොටා පස්තෙලෙන් අනා පොට්ටනි බැඳ - එලු මූත්‍ර ගැලී තැට දමා, ලිපේ තබා පොට්ටනි ඒ උඩ තබා රත් කර තවනු. (3) සුදුලූනු - තිප්පිලි - කළුදුරු - දේවදාර- වෙලාකොළ -මුරුංගා පොතු - වරාකොළ - නිකකොළ - හලීන් - පෙරුංකායම්, එක ප්‍රමාණ ගෙන කලා පස් තෙල් දමා හැටියක දමා, කකාරා පෙරා රත්නාය පාරමක් තිබෙන විට කාන්වලට මස් කරන්නේ ය. නාස්න කරන්නේ ය. අතීදිය යොදනු. උණ සන්නිපාතයේ වාත කෙම ප්‍රබල සන්නිපාතවලට සුදුසු කසාය දෙනු. (4) නික, කොහොඹ, ආඩතෝඩා, කුඹුරුවැල් යන මේවායේ පොතු යුෂින්, කළුකුමාර ගුලිය හෝ දිව්‍ය රාජ ගුලිය දෙනු (5) නික කොළ, කොහොඹ පොතු, වදකහ, අඹුකහ, ඉඳලි පොතු, සුදුලූනු, මුරුංගා මුල්, බිලිඳ කොළ, අරංකහ, අඹ ඇඹිවා කොටා කළමිම්ලෙන් තම්බා මිරිකා

යෂ්ඨාබර කල්කය, සීනි, දෙළුම් ඇඹුල්, තිතෙල් දමා දෙනු. වැදගෙයි සන්නි, අනුපූර්වූ, කෝලසන්නි, වලිප්පුව, මඩිගැස්ම, ඇඹිලිල්ල, මෙවුලුම්, නිදිමත යන ලෙඩවලට යෝග්‍ය යි.

**සූතිකාවන්ගේ ඉකිලි දෙකෙනෙන් හඩි ලඩින් එන කැක්කුම වලට** :— (1) නික මුල්, කහකිලියා මුල්, ඉද්මුල්, පිටවක්කා, කොකොම් හැව, තිපල්, ඉඟුරු, ගම්මිරිස්, කරාඹු හැව, තිප්පිලි කසාය දෙන්නේ ය. (2) සුදුසු ගුලියක් සුදුසු අනුපානයකින් දෙන්නේ ය.

**සූතිකාවන්ගේ ප්‍රතිශ්‍යා උණට** :— ප්‍රතිශ්‍යා උණෙහි ප්‍රතිකාර කරන්නේ ය. ගුලියක් ද දිය යුතු යි. මෙය නොදව ප්‍රමේහම් සහිත ව බලා ගත යුතු එකකි.

**සූතිකාවන්ගේ ඉදිමුම** :— (1) සුකුමාර විරේකයක් දෙනු. (2) සාරණ, කොකොම්පොතු, දුම්මැල්ල, ඉඟුරු, දේවදාර, රසකිඳ, අරළු, කටුකරෝසන, නීරමුල්ලි කසාය දෙන්නේ ය. (3) දේවදාර, පත්පාඩගම්, කොත්තමල්ලි, ඉඟුරු, අරළු, තිරස්සවාළු, සාරණ, දන්ත, ඉරමුසු, මුද්දරප්පලම්, රසකිඳ කෙරෙඬුව කසාය එළු මුත්‍ර බහා පානය කරන්නේ ය. (4) කුඹුරු ඇට මද, මුඩමහන මුල්, තිරස්සවලුලු, වදකහ, සුවඳ ලූණු, තිප්පිලි, සුවඳ කොට්ටම්, සමභාග - සියල්ල බරට අරළු චූර්ණ කර උණු වතුරෙන් බොනු.

**මවුන්ට කිරි පිරිසිදු වීමට** :— (1) සිරිපෝක්කු, දේවදාර, වදකහ, දියමිත්ත, අතිවිඩයන් කසාය දෙනු (2) කොහොඹ පොතු කසාය දෙනු.

**කිරි වියලී ගත ඇති ස්ත්‍රීන්ට කිරි එරීමට** :— (1) එඬරු තෙල් කොටා වණ්ඩුවෙන් තම්බා තවන්නේ ය. (2)කහ, වෙනිවැල් ගැට, පරිප්පු, කෙළිඳහාල්, වැල්මී කසාය දෙන්නේ ය. (3) වදකහ, කාලාඳුරු අල, අතිවිඩයම්, දේවදාර, ඉඟුරු, හාතාවාරිය අල, ඉරමුසු කසාය බොන්නේ ය.

## දිව්‍යරාජ ගුලිය

සුවඳ කොට්ටම්, තිප්පිලි, දෙඩුරු, උළුහාල්, කරාබුනැටි, වසවාසි, වැල්මී, නවසාරම්, පෙරුංකායම්, පුෂ්කර, සාදිලිංගම්, රත්හිරියල්, මනෝසිල, සාදික්කා, වච්චනාබි, රසදිය හඟම, සහිඳ ලුණු, කල් කහර, වලහාල්, පිදි කුත්තම්, ඉඟුරු, ගොඩකඳුරු ඇට, තිකදලු, කොකොම් දලු, කුඹුරු දලු, සස්සඳ දලු, සිවිය දලු, ගම්මිරිස්, වදකහ සමද බැගින් - කාංසා යුසින් දවසක්; කුප්පමෙනිය යුසින් දවසක්; දෙළුම් ඇඹුලෙන් දවසක්; දෙමටගෙඩි යුසින් දවසක් අඹරා මලිඳ ඇට පමණ ගුලි කරන්නේ ය.

මාත්‍රා :- ගුලි 1-2 දක්වා සුදුසු අනුපානයකින් දු. දෙ. ව. හෝ දු. තු. ව. දෙන්නේ ය. මෙය දන්න වෛද්‍යයකු ලවා සාදවා ගත යුතුයි, ඒ ඒ රෝගයට හිත සාමර අනුපානයකින් පාවුත් මෙය සියලු රෝග වලට ම දිය හැක. විශේෂයෙන් සූතිකා රෝගයෙහි ශ්‍රේෂ්ඨ යි. සූතිකා අතිසාරයට හිපල් කසායෙන් මේ ගුලි දෙන්නේ ය. එය ශ්‍රේෂ්ඨ අනුපානයි.

## බෘහද් සෞභාග්‍ය ශුණ්ඨි

ඉතා හොඳ සාරල්වලින් තිප්පිලි රාත්තල් 4 යි. චූර්ණ කරනු. ඒවා කිරි බෝතලා අටකින් හා ගිතෙල් සේරු හතරකින් තම්බා මෙහි පහත දැක්වෙන දේ චූර්ණ කර ඒට දමා වතුර සිඳෙන්ට පිසන්නේ ය.

කාතාවාරිය අල, කිරිබද්ද අල, බිත්තල්අල, නෙරෙඬු, බැබිල, රසකිඳ පිටි, ශතපුෂ්ප, දේදුරු, තිකුළු, රත්නිට්ටුල්, කොල්ලන් කොල, අසමෝදගම්, තලිස්පතුරු, මහදුරු, දේවදුරු, අරත්ත, නෙළුම්දඬු, උණකපුරු, දේවදාර, අතීස්සඇට, ජටාමාංස, අරංකහ, කටුඅඹුල් මැලියම්, කුරුඳු පොතු, නාමල්රේණු, වැල්මී, රත්හඳුන්, අඟුනමුල්, උළුහාල්, ඉරිවේරිය, ආඩාතෝඩා, කොත්තමල්ලි, කාලාදුරු, වලගසාල්, කට්ඵල (=ඇද්දෙමට) මේවා චූර්ණ කර එක එක වර්ණයෙන් කලං 8 බැගිනි. කුඩු සියල්ල මෙන් දෙගුණයක් සීනි.

සිද්ධ - සියල්ල අතා බුළු පමණ ගුලි කරන්නේ ය. මුලින් දැක්වූ තිප්පිලි රාත්තල් 4 ට ඉඟුරු ද ගත හැකි යි.

සියලු වාත රෝග, ස්ත්‍රී රෝග, සූතිකාවන්ගේ රෝග නසා. ශරීරය පුෂ්ටිමත් වේ. කිරි එරේ. පයෝධර උන්නත වේ. බලත් වේ. සැ.හ කෘත්.

සූතිකාවන්ට, වා සෙම් රෝගයන්ට මෙන් පථ්‍යාපථ්‍ය සොයනු. තුන් මාසය ඉක්මෙන තුරු මෛථුනය තදින් ම තහනම්. මේ කරුණ නො සැලකිමෙන්, දරුවන්ට මවු කිරි නො දීමෙන්, සිංහල ජාතියේ පරිහානියට කරුණු යි.

# කුමාර රෝග

## DISEASES OF CHILDREN

උපන් දින සිට 12 අවුරුද්ද දක්වා කාලය කුමාර නම් වේ. මෙහි මුලින් ම, කුඩා ළදරුවන් පිළිබඳ ව ද, ඒ ළඟට කිරි හා බත් ආහාර ගන්නා ළදරුවන් පිළිබඳ ව ද, ඉක්බිති බත් ආහාර කොට ගන්නා බාලයන් පිළිබඳ ව ද චිකිත්සා ක්‍රමය දක්වන්නාමු.

### උණ

### FEVER

තනකිරි බොන ළදරුවා වාතයෙන් හටගත් උණෙන් පෙළේ නම්, දිනක් ද පිතින් හටගත් උණෙන් පෙළේ නම්, දෙ දවසක් ද සෙමෙන් හටගත් උණෙන් පෙළේ නම්, තුන් දවසක් ද පසුවෙන තුරු ගිතෙල් බෙහෙතට නො ගත යුතු යි.

ළදරුවන්ට බෙහෙත් සොදන විට අපථ්‍ය නො වන සැම විට මෑ තන කිරි, මීපැණි, ගිතෙල්, සීනි බහා දෙන්නේ ය.

කුඩා ළදරුවන්ට උණ ගැනුණු වහා ම, දෙ සඳුන් කල්කය, කොත්තමල්ලි තැම්බූ වතුරෙන් සීනි, තනකිරි දමා දෙන්නේ ය. කිරි හා බතින් පෝෂ්‍ය වන ළමයන්ට ද මෙය සෙදිය හැක. එසේ සොදන විට අතරට වලගසාල්, තිප්පිලි, අසමෝදගම්, නම්බාපු හාල් කබලෙන් බැද කුඩු කර උණු වතුරෙන් දෙනු. ලොකු ළමයන්ට සූරන් විදුරේ ගුලි අනුපානකින් සොදන අතර පෙර කී කුඩ අතරට දෙන්නේ ය.

දෙ සඳුන් කල්කය :— රත් හඳුන්, සුදු හඳුන්, කොල්ලු, වදකහ, වැල්මී, සම භාග- සහිද ලුණු සිහල්ල බරව, ඇඹුල් දෙහිම යුසින් අඹරා කල්ක කරන්නේ ය.

සංලක්ෂණය :— කැස්ස, වමන ඇති වූ විට මේ දෙදෙන අතර
i. අතිවිඩයන්, කක්ටක ශ්‍රංගි කුඩුවලට ඉතා ටිකක් තිප්පිලි කුඩු දමා, මීපැණියෙන් අනා තනේ ගා කිරි දෙන්නේ ය.

ii. දෙ සඳුන් කල්කය දී ගුණ මද බව පෙනේ නම් ජීවන කල්කය, දෙ සඳුන්, කොත්තමල්ලි, වැල්මී, තිප්පිලි කලං 1 මඤ්ඤාඩි ¼ බැගින්, පත ¼ පත හාගයට සිඳ තනකිරි, මීපැණි දමා දෙන්නේ ය. ළමයන්ගේ උණ, කැසි සෙම් නසා ලයි.

iii වැල්මී, වැල් තිබ්බටු, කලාදුරු අල, කොත්තමල්ලි, ආඩාතෝඩා පසඟ, කෂායට ජීවක කල්කය බෙහෙත් දමා දෙනු. ඇදුම, උණ, කැස්ස නසා කුඩා ළමයින්ට කෂාය ටික ටික දවසකට කීප වරක් දිය යුතු.

**මලබද්ධ ගතියක් ඇති වුවහොත්** — අරළු, සහිඳලුණු තන කිරෙන් ගල හා තනකිරට ජීවක කල්කය දමා දෙනු.

**බඩේ වේදනා පිපුන් ඇති වූ විට** :— වදකහ, අරළු, සත්සඳ මුල් ගල හා තනකිරෙන් ජීවක කල්කය දමා දෙන්නේ ය.

**බඩ උස්මුරුන, ගිනි නැති වූ විට, වලිප්පු ආදිය** :— තිපල් කෂායට ගිතෙල් ජීවක කල්කය දමා දෙන්නේ ය.

**සංලක්ෂණ** :— උණට නියම බෙහෙත් දෙන කල, උපද්‍රවන්ට ඉහත දැක්වූ බෙහෙත් යොදන්නේ ය. **උණ තද අවස්ථාවල දී ළමයින්ට සුදුසු නන්දන කුමාර, සන්නි කුමාර ආදි ගුලි සුදුසු අනුපානයන්ගෙන් යොදන්නේ ය.**

i. දෙහිදලු, කුඹුරු දලු කොටා තනකිරෙන් මිරිකා බෙහෙත් දමා දෙන්නේ ය. ii. කොහොඹ පොතු හුසිං දෙනු.

**උණ බැස ඇදුම කැස්ස ශේෂ වුවහොත්** :— කොත්තමල්ලි, ආඩාතෝඩා මුලේ පොතු, සුදුලූනු, සිරිතේක්කු, වැල්තිබ්බටු, වැල්මී කෂාය දෙන්නේ ය.

කුඩා ලොකු සියලු ම ළමයින්ට මෙහි පහත දක්වන කෂාය ද දිය යුතු. අතරට, කල්ක, ගුලි, සුදුසු අනුපානයකින් දිය හැකි යි.

i කලාදුරු අල, අරළු, කොහොඹ පොතු, දුම්මැල්ල, වැල්මී, කෂාය බාලයන්ගේ උණ නසා. ii. වෙනිවැල්ගැට, සිරිතේක්කු, වැල්මී, විලඳ කුඩු කර උණු දියෙන් දෙනු. බාලයන්ගේ සෙම, ඇදුම, කක්කල් කැසි, උණ නසා iii. රසකිඳ, කලාදුරු අල, පැපිලිය, වදකහ, ඉඟුරු කෂාය, උණ, තනකිරි දෙන, ආම දෙන නසා. iv, කලාදුරු අල, සැවැන්දරා, පැපිලිය, අරළු, බුළු, නෙල්ලි, සඳුන්, රසකිඳ, ඉරිවේරිය කෂාය, නිතියම් උණ නසා, උණෙන් මලදීම අබස්සි වූ විට මේය කෂාය වසයෙන් හෝ ඵාණ්ඨය වසයෙන් හෝ දෙන්නේ ය.

**ළමයින්ගේ දරුණු උණ, සෙම, නාඩිමෝහියා ආදි වා සෙම ගුණ, සන්නිපාත ආදියෙහි** :— i. දෙසඳුන් කල්කය දෙන්නේ ය. ii සුරත් විදුර හෝ ලදරු ගුලියක්, මලිද, කුප්පමේනිය, ආඩාතෝඩා, අඹිඉඟුරු, සුදුලූනු යුසින්, තනකිරි, දෙහි ඇඹුල් දමා දෙන්නේ ය.

**සංලක්ෂණය** :— ළමයන්ට දෙන පුස වනා තව කාරවන්ට ද දුර්මව ද නො සෑදී, කහඟිරි දමා, රත බාල තර කලින් දිවේ ග බලා දෙනු.

i. බාලවසු කල්කය කොත්තමල්ලි පැණිබු දියෙන් දෙනු.
ii. ඉඟුරු, තිප්පිලි මුල්, කටුවැල්බටු, කටුකරෝසන, සිරිපෝත්තු, කලාදුරුඅල කසාය දෙන්නේ ය. කැසි, ඇදුම, උණ, වලිප්පු නසා.

**ළමයින්ගේ කැස්ස, ඇදුම, සෙම වෙලීම ආදිය ඇති වූ කල** :— i. කොත්තමල්ලි, බුළු, කටුවැල්බටු, වැල්මී, කලාදුරුඅල කසාය, සුකිරි කුඩු දමා දෙනු. ii. අමුඉඟුරු, සුදුළූනු, වදකහ, දෙහි පොතු, දෙබම් පොලි, දෙබම්දලු, බටුමුල් කසායට, දෙබම් ඇඹුල් සුකිරි දමා දෙන්නේ ය. iii. කලාදුරු අල කලං 3 යි, සිරිපෝත්තු කලඳ යි, අරළු කලං 2 යි, කසාය, සුකිරි කුඩු දමා දෙන්නේ ය.

**කක්කල් කැස්ස** :— (Whooping Cough) කුඩා ළමයන්ට මෙය සෑදුණු කල හුස්ම ගැනීම අමාරුකම, ඇස් උඩ ඉන්දීම ආදිය ඇති වේ.

i. අරළු, වැල්මී, සුකිරි චූර්ණය උණු වතුරෙන් දෙන්නේ ය.
ii. කොත්තමල්ලි, කටුවැල්බටු, වැල්මී, අතිස්ස ඇට කසාය සුකිරි කුඩු දමා දෙනු. iii. කුප්පමේනිය කොළ, බිලිඳ දලු, දෙඹම් දලු, කසාය කර දෙන්නේ ය. iv. කටුවැල්බටු, අමුඉඟුරු, සිරිපෝත්තු, උක්ලි කසාය, තල් සුකිරි දමා දෙන්නේ ය. v. කටුවැල්බටු, සිරිපෝත්තු, අරළු, කොත්තමල්ලි, වැල්මී, කුප්පමේනිය, බිලිඳදලු, බණ්ඩක්කා තරල්, ආඩාතෝඩා පඤ්චාංගය, තිත්තිදිකුම්බ කසාය, තල් සුකිරි දමා දෙන්නේ ය. vi අරළු කසාය, රතුළූනු යුෂ, කප්පරවල්ලිය යුෂ, පැණිදෙඹම් යුස, මුද්දිරප්පලම් කසාය - පත පත ගෙන තල් සුකිරි රාත්තල් ½ ක් දමා පැණි පදමට කකාරා තිප්පිලි කලං ½ ක් දමා අනා විත විත දෙන්නේ ය.

**ළමයින්ගේ පරණ උණට**:—(Chronic Fever) i සිරිපෝත්තු, කොළඹ අල, පැපිලිය, සුවඳ කොට්ටං, තිප්පිලි, සැවැන්දරා, කලාදුරු අල, පාවට්ටා මුල්, වැල්ගහඹිලියා මුල්, ඉඟුරු, රසකිඳ, දුම්මැල්ල, සීන්කොහොඹ කසාය දෙන්නේ ය. ii. ඉඟුරු, තිප්පිලි මුලං, කටුවැල්බටු, කටුකරෝසන, කලාදුරු අල කසාය දෙනු. iii. ඉඟුරු, කටුවැල්බටු, රසකිඳ, සුවඳ කොට්ටං, කොළඹදඹු කසාය දෙන්නේ ය.

**ළමයින්ගේ උණෙන් හටගත් ඉදිමුමට**:— i. කටුකරෝසන, මලකනාල්, තිප්පිලි කසාය දෙනු. ii. අරළු, බුළු, නෙල්ලි, ගොරකා, සුවඳ, තිරස්සවලුලු කසාය, iii. සියඹලා පොතු, කොළ, අරළු, කසාය දෙන්නේ ය.

මුහුන දන්වල ලද්ද ඔයළු ප්‍රකාරයෙන්ම ම පෙනේදිය හැකි යි. විශේෂයෙන් මෙකී ගනයා දන්මෙවන්නා කිරි හා බත් ආහාර නොකා ගන්නා වූ ද බත් ආහාර නොකා ගන්නා වූ ද ළමයින්ට දෙන්නේ ය.

i. සුදුලූනු, කොත්තමල්ලි, හබලෙන් බැද කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය. ii. කොත්තමල්ලි කලං 3 යි, ඉඟුරු කලං ½ යි, සුදුලූනු කලං 3 යි, අසමෝදගම් කලං 1½ යි, වතුර පත දෙක එකට සිඳ දෙන්නේ ය. iii. ඉඟුරු, කොත්තමල්ලි, එළබටු, කටුවැල්බටු, ආඬාතෝඩා මුල් පොතු කසාය දෙන්නේ ය.

**සංලක්ෂණ :—** මේවා දෙන අතර සූරන්විදුර, සන්නිකුමාර, හාන්දකුමාර, ශකීරාදි කල්කය ආදිය සුදුසු අනුපානයකින් දෙනු.

**සූරන් විදුරේ අනුපානයෝ :—** i. දෙහි දලු, කුඹුරු දලු, අමු ඉඟුරු, සුදුලූනු, කුඹුරු ඇට මිද යුසින් දෙනු. සියලු උණ, දූගලුන්, පෙරළුම්, කිරිමැලියම්, දහ අට සන්නි නසා. ii. කුප්පමේනිය, ආඬාතෝඩා, බිලිදදලු, සුදුලූනු, ඉඟුරු යුසින් දෙනු. ප්‍රතිශ්‍යා උණ, දස අට සන්නි, වලිප්පු, ඇදුම නසා. iii. කුප්පමේනිය, ආඬාතෝඩා, කුඹුරු, අමු ඉඟුරු, සුදුලූනු යුසින් දෙනු. අපතය නැවීම්, බෙල්ල වැනීම, වලිප්පු උණ නසා.

**සංලක්ෂණ :—** යුස, උණු අළුවෙන් තම්බා මිරිකා ගත යුතු. තලතෙල්, තනකිරි, මීපැණි, දෙඹම ඇඹුල්, සීනි ආදිය එකතු කරනු.

## ළමයින්ගේ අතිසාර - උණ අතිසාර

### Diarrhoea & Dysentery of Children

**1**

i. වළගසාල්, අසමෝදගම්, තිප්පිලි හබලින් බැද කුඩු කර උණු වතුරෙන් දෙන්නේ ය. ii. අසමෝදගම් තම්බා දෙනු.

**2**

i. බෙලි ගැට මද, ඉරිවේරිය, කලාදුරු අල, කොත්තමල්ලි, අතිවිඩයන් කසාය දෙන්නේ ය. ii. කහ, වෙනිවැල්ගැට, එළබටු, කොලිඳසාල්, වැල්මී කසාය දෙනු. iii. කලාදුරු අල, අතිවිඩයන්, කාසීක ග්‍රාංගි කුඩු දෙනු. ඇදුම, කැස්ස, උණ, අතිසාර නසා.

**3**

i. කලාදුරු අල, අමුඉඟුරු, ඉරිවේරිය, කොළිඳසාල් කසාය දෙනු. ii. සාරාබු තැටි, සාදික්කා, සුදුරු, බදින ලද පුස්කර, කුඩු කර මීපැණියෙන් දෙනු. ආමාතිසාර පැහවා.

අතිසාරය සමග හැවහුණොත් සමගි සහස දක්වෙන කෂායක් හා සූරන් විදුරේ ගුලියක් දෙනු.

i. ඉඟුරු, ඉරිවෙරිය, අතිවිඩයන්, කලාදුරු, කොලිඳ කෂාය දෙනු. ii. හිඳිකුඹල මුල්, මිලිත්ත, ලොත්, ඉරමුසු කෂාය දෙනු. iii. ඉඟුරු, ඉරිවෙරිය දඹු, කරල්හැබ, කොටුකොළ, රතුඹු, උඳුපියලි යුසින්, මීපැණි සුරන් විදුර දමා දෙන්නේ ය.

**අතිසාරයේ තුන්නා, වමනා ආදියට :—** i. දිහුල් යුස, දෙළුම් යුස මීපැණි දමා දෙන්නේ ය. ii අඹ ඇට මද විලඳ කෂාය දෙනු.

**අතිසාරයේ පණු උවදුරු ඇති වූ කල :—** වලංගසාල්, අසමෝදගම්, තිප්පිලි, අතිවිඩයන්, කර්කට ශ්‍රිංගී, කරාබු නැටි, දෙළුම් මුලේ පොතු, කුඹු කර උණු වතුරෙන් දෙන්නේ ය.

## කුඩා ම ළමයින්ගේ කිරි වමන හා බඩේ වේදනාව

### Vomiting of Milk & Colic

කුඩා ම ළමයින්ගේ කිරි වමන, බඩේ වේදනා, කැගැසීම, ඇඹරීම ආදිය ඇති වූ විට කාන්ති රසය, පලු ගුලිය, කාලිංගාදි වටිය, තන කිරෙන් දෙන්නේ ය.

## පණු රෝගය

### Worm Complaints

ඉහතින් කෑම් රෝගය ගැන දක්වූ ප්‍රතිකාර යොදන්නේ ය.

**තද පණු ගාය, උණ, කම්බුල්, ගැස්ම දැගලීම, ඇති කල:-** තිකුළු, අබ, වද, සුදුළූනු, කුරුඳු මුල්, කරඳ මුල්, ලුණුවරණ මුල්, ගම්මිරිස් මුල්, අරත්තක, කුඹු මිරිස් මුලේ පොතු, මේවා අහුර අහුර ගෙන කොච්ච පොල් ගෙඩි දෙකක් දමා කොදට සිහින් වෙන්ට කොටා පොච්චියක් බැඳ ලිප ළඟ ඉඳගත ම හරියම පැයක් කබපිම්මෙන් තම්බා, මිරිකා මාත්‍රාව දක්ව බොන්ට දෙන්නේ ය. දවසට තුන් වරක්, රොඩු පොඹවණියෙන් ඒ තෙල් ගා තවනු.

**පණු වමනය :—** i. කමරත්ත කල්කය, දෙහි ඇඹුල් කාදික්කා ගල ගා දෙනු. ii. විලඳ කුඹු, මීපැණියෙන් ජීමාකඳ ගුලි දෙන්නේ ය. iii එරබදු නැටි, අඹ ඉඟුරු, සුදුළූනු, කබපිම්මෙන් තම්බා කැඳ වතුරෙන් මිරිකා සූරන් විදුර දමා දෙන්නේ ය. iv. වලංගසාල් තම්බා එම වතුරෙන් වලංගසාල් ඇට අඹරා පපුවට පැලැස්තරයක් දමන්නේ ය. v. අඹ පොල් කොළ යුස - බෙලි ගෙඩියේ කුරුට්ටු, තල තෙලින් පැසවා නිසව දමන්නේ ය. vi දෙඬුරු,

කුඳුරු, සාදික්කා, තාන්සා, නිලුද, ගුඩු සාර, දෙහි ඇඹුල් අඹරා ජීව දිය සාර (තිබේ නම් සුරන් මිදුරන් දමා) දෙන්නේ ය. වයසේ අසාද්‍යව මාත්‍රාව බලා නාන්න කල්පනාවෙන් යොදනු. පසුව සුදලූව සම්බා දෙන්නේ ය. vii. මලුනාල්, වදකහ, අසමෝදගම්, පැපිලිය කසාය සාර දෙනු.

## මුඛපාකය - උල්ලෝගත්

### Sore Mouth & Thrush

ළමයින්ගේ කටේ උල්ලෝගත් ඇති වූ විට පිළිවෙලින් මෙහි පහත දැක්වෙන ප්‍රතිකාර යොදන්නේ ය. i කහට පුවක්, මාසක්කා, රතුලූනු, අරළු, කළුදුරු, වැල්මී කසාය - තනකිරි මගා දෙන්නේ ය. ii. අරළු, සුකිරි, වැල්මී චූර්ණය උණු දියෙන් දෙනු.

**සංලක්ෂණ** :— කසාය අතරට මාරුවෙන් මාරුවට කුඩවල් යොදනු. පිප්පලාදිය තන කිරෙන් විරේක වෙන්ට යොදනු. උණක් තිබේ නම් ජීවක කල්කය මද සඳුන් එන කසායෙන් දෙනු. රතක් තිබේ නම් රත කල්කය අරළු, සුකිරි, රත්හඳුන් කසායෙන් දෙනු.

iii. කහට පුවක්, අරළු, සුකිරි, මාසක්කා, වදකහ, රතුලූනු කසාය දෙනු.

**සංලක්ෂණ**:— මාසක්කා ගෙඩියක් කෝමාරිකා සූසින් ගල ගා එයින් දිව පිස දමන්නේ ය.

iv. පූණුවිල, පොල්පලා, රතුලූනු, අරළු, මාසක්කා, සිම කසාය, සුකිරි කුඩු දමා දෙන්නේ ය.

**රත, ලේ,විසපී සමග උල්ලෝගත් ඇති වූ කල** :— රත්මල් කැකුළු, රත් වදමල් මොට්ටු, පූණුවීල, රත්හඳුන්, දෙදුරු,රතුලූනු, කරාබු, වසවාසී, සාදික්කා, සහිද ලුණු කලද බැගින් කසාය සිද වරකට මේස හැන්දෙන් ½—1 දක්වා යෝජරාවන රනී ½ හා බර දමා දෙන්නේ ය.

## ලේ රත, විසපී, බිබිලි

### Prickly Heat

i. මද සඳුන් කල්කය කොත්තමල්ලියෙන් දෙනු. ii සුදු හඳුන්, රත්හඳුන්, කොත්තමල්ලි,වැල්මී, අරළු, බුළු, නෙල්ලි, ගම්මිරිස දවූ කසායට ජීවක කල්ක මෙන් දමා දෙන්නේ ය.

**මාලිගී රත කල්කය** :— දේවදාර, අයිවිඩයන්, හෙල්ලී, සුවඳ කොට්ටම්, කොළොම් අල, මාහෙල් අල, වලගසාල්, කොත්තමල්ලි, උළුහාල්, අඹ, අරළු, පෙරුම්කායම්, වැල්මී, දේවදාර, කෙළිඳහාල්, රුක්අත්තන පොතු, සාරණ, කුහිනි ඇට, තිප්පිලි, කරාබු, වසවාසි, කාදිත්තා, නාමල් රේණු, එන්සාල්, කුරුඹු මල්, එම සියල්ල සම බර, සියල්ල බරට රත්මල් පොතු, එපමණ රත්හඳුන්, එපමණ උක් හකුරු, හැල කොළොන් අඹරා කල්ක කරන්නේ ය.

**සියලු රතයට, අබ්ස්සියට** :— i. අරළු, රත් හඳුන්, සුනිරි කසායෙන් ද, ii. සුදු හඳුන්, රත්හඳුන්, කුහිනි ඇට, වැල්මී, රතුලූනු කසායට යවක්ෂාර ලුණු, සහිඳ ලුණු සමග ද, iii. අරළු, කටුකරෝසන, රත් හඳුන් කසායෙන් ද,

**ගල් රත-උණට** :— i. රත්මල් කැකුළු, කෝමාරිකා මල්, කුහුරු, දේවදාර, සුදු හඳුන්, රත්හඳුන්, හෙල්ලි, සහිඳලුණු, නීරමුල්ලි, නාමල් කසායෙන් ද දෙන්නේ ය.

**සංලක්ෂණය** :— ගල් රතයට මල මුත්‍ර බද්ධය (=අබ්ස්සිය) වුවොත් විරේක තෙල් නාභියේ ගානු. මෘදු විරේක, රත විරේක ගුලි ආදිය ද යොදන්නේ ය.

**රතට** :— පිච්ච මල් කසායෙන් ද, (ඇගේ රත බිබිලි ඇති විට මේය යොදනු.)

**දුවන රතයට** :— නා, කපුමල්, කසායෙන් ද,

**තුන් දොස් රතේට** :— දුනුකේ මල් කසායෙන් ද,

**සියලු රතයට** :— i. ගෝන අං කුඩු කසායෙන්, ii. කුරුඹු, රණවරා, සුනිරි කසායෙන්, iii. බෙලි මල් කසායෙන් ද,

**සෙම් රතේට** :— මාසක්කා, පිච්ච මල්, පෙතන් මල් කසායෙන් ද,

**වාත රතේට**:— i. මාවේවැල් සුසින්, ii. අරළු, සුදුලූනු, කොල්ලු කසායෙන් ද,

**පිත් රතේට** :— පුපුල සුසින් ද,

**රත, බිබිලි, වසූරි ආදිය ඇති ළමයින්ගේ අන්‍ය අසනීප වලට මේ සහත දැක්වෙන අනුපානවලින් ද රත කල්කය යොදනු.**

**විඩා, ගනිකෑන්කුම, වෙවුලුම්, දත්, දෙ පය දැගලිලි ඇති වූ විට** :— ආඩාතෝඩා, අරළු, කුම්කුම්පටු, සුවඳකොට්ටං, කලාදුරු, සුනිරි කසායෙන් ද,

**දහඩිය, ගිනියම, පෙරළිලි ආදියට**:— බින්තල්, කපු, නාමල්, ඉදිමබ, කලාදුරු, කුහුරු කසායෙන් ද,

**අභාපය වලංගු නැඟීමාම :—** අරළු, තෙල්ලි, ඉඟුරු, අතිවිඩයන්, සාරණ, ගුම්කුම්පුපු, ඉඟුරු, වදමල්, ඉඟිනි ඇට කසායට- දෙඩම් ඇඹුල්, සූනිරි සමග ද යොදන්නේ ය. මෙය සරම්සරා ගත ව පැවති පුනාශන රත හල්ගනෙකි.

**කුඩා ළමයින්ගේ ඇසේ රෝගය :—** i. හීන වතුරට, සමග පිටිච මල් දමා, එයින් ඇසට පොපුල් දෙනු. හින්දුව, දෙත බැහින් වක් හරනු ii. අරළු කුඩු, සූනිරි කුඩු, කෝමාරිකා පිත්තේ දමා පෙරා ඇසට වත්කරනු. පරිස්සමින්. iii රත කසාය දෙනු.

**රත ගෙඩි :—** පළමු ව ඉදිරවන්ට බෙහෙත් දමනු. එසේ නැත හොත් පැසවන්ට බෙහෙත් දමා ගති ඇද්දවන්ට ත් දමනු.

i. වෙනිවැල් පොතු, රත් හඳුන්, ගුරුගල් කුඩු, වියන් දුඹුළු, කෙරි දස්, ගම්සූරිය පොතු, දෙඩම් ඇඹුල්ලෙන් අඹරා ඉන් කසාරා ගාන්නේ ය. ලේ ඉදිරේ. ii. එරබදු කොළ, පොතු, ලුණුවිල කොට, මිරිකා, රත්හඳුන් ගල හා, රත්මල් අඹරා ඊට දමා පැසවා ගානු. iii. රත්හඳුන් - අරළු - සිවන්ගුරු, ඇඹුල් දෙඩම් ඇඹුලෙන් අඹර ගාන්නේ ය. මේවා යෙදූ විට නො ඉදිරෙන් නම් පැසවීමට:— කෝමාරිකා, තොල්ලි, බත්දඹු කුඩ හාල් පානුවෙන් අඹරා දමනු. **පැසවීමට, ගති ඇදීමට :—** තාඹිරිත්ත දලු මල්, හින්බෝවියා දලු මල්, වරා දලු මල්, අනුගැට, දෙහි ගැට, වල්ලුනු, හාල්පානු දිය, පොල්කිරි මෙයින් තම්බා දෙන්නේ ය.

**සංලක්ෂණය :—** රත කසාය, මේ කාලයේ දී දීමට සිත තබා ගත යුතු.

**ළමයින්ගේ මල මූත්‍ර බද්ධ :—** මල මූත්‍ර බද්ධ වූ කල රත ගායට දෙන විරේක කසාය- බෙහෙත් ආදිය යොදන්නේ ය i. ඉඟුරු කලං ½ යි, කොත්තමල්ලි කලං ½ යි, කටුකරෝසන කලං 1 යි, සහිදලුණු කලං 2 යි, කබලෙහි බැද කුඩු කර, දුම්මැල්ල කොළ යුශින් හෝ කසායෙන් දෙනු. ii. එඬරු තෙල් කාගියේ ගානු iii. වස්තිගක් දෙන්නේ ය.

## වලිප්පුව

### Convulsion or Fit

කකුලක හෝ අතක මස්පිඩු පෙරළීම ද, වරින් වර සිහි නැති ව යාම ද, මුහුණ ඇදීම, ඇස් විහාගී වීම වලිප්පුවේ ප්‍රධාන ලක්ෂණ යි. මෙය හැදුණු විගස ළමයා සබන්ට පුළුවන් රත්නය ඇති උණු වතුරේ ළමයාගේ කකුල් දෙක දමන්නේ ය. ඇල්වතුර හිසට දමන්ට අනාමැති නම්, ඔඩිකොලොන් වතුර සමග මිශ්‍ර කර

හිසට දමනු. විනාකිරින් එසේ කෙදිය හැකි යි. ඒ දෙකට ම විරුද්ධ නම් තල තෙල් හිසට දමන්නේ ය. වලිප්පු තෙල් ආදිය තිබේ නම්, හිසට , නාභියට දමා කොඳු ඇට දිගේ හා සීනි සමග ටිකක් කවනු.

i. කුප්පමේනිය යුශට තලතෙල්, පත් ගෑන්දත් ද, ලුණු වතුර බින්දු 10 ක් පමණ ද, දමා පොවා කෙම වමනය කරවන්නේ ය.
ii. සුරන් විදුර, අඹුඹුගුරු. සුදුලූනු, ආඹාතෝඹා කොළ, බෙලිද කොළ, කුප්පමේනිය, වදකහ, දෙබම් දලු, දෙබම්පැගිරි යුශට, තල තෙල්, දෙබම් ඇඹුල්, මීපැණි දමා දෙන්නේ ය. නැතහොත්
iii. ගොරකාබ තෙල්, ගිතෙල්, තනකිරි, ඉඟුරු යුශ දෙබම් ඇඹුල් දමා වලිප්පුරාජ ගුලිය හෝ ඊට සමාන ගුලියක් යොදන්නේ ය.

තිපල් කසායට, ගිතෙල්, තනකිරි, සකිදලු ලුණු දමා දෙන්නේ ය. පූර්වෝක්ත අනුපානවලට විරේක ගුලියක් දමා සෑදීම මැනවි. විරේක නො වන්නේ නම් වස්තියක් යොදනු. පණුවන් නිසා වලිප්පුව සෑදී නම් ලාදුළු කොළ කසායට සුරන් විදුර දමා දෙනු.

ශ්ලේෂ්ම කදබල වූ විට, සිහි නැති වූ විට, වලිප්පු තෙල්, කෝල ශෙලෂ්මා තෛලය, වජ්‍රකා තෛලය, ශ්ලාහ නාථ තෛලය, විකාර තෛලය, අඹුක්කු තෛලය, කඳුරු තෙල, සීනි සමග හෝ ඇඹුල්දෙබම් යුශත් සමග හෝ දෙන්නේ ය.

හිසට, නාරායන-සිද්ධාර්ථ ආදි වාත නාශක තෙල් යෝග්‍ය යි. කොඳුඇට දිගේ ද එය ගාන්නේ ය. නාභියේ ද ගාන්නේ ය. කකුල් දෙක, අත් දෙක හිති කබල්වලින් හෝ කොළවලින් හෝ රත් කරන්නේ ය.

i. වැල්මී, වැල්තිඹිබටු, කලාදුරු අල, කටුවැල්බටු, කොත්තමල්ලි, සිරිපෝක්කු සමගාශ, සියල්ල බරට ආඹාතෝඹා පසළුවාංගය, කසාය සිද පීවන කල්කය-ගිතෙල් තනකිරි දමා දෙනු.
ii. කුප්පමේනිය, කුරඹුසු, අඹු ඉඟුරු, සස්සඳ, ගඳ සදුන්, වැල්මී, එළබටු, කලාදුරු අල, කටුවැල්බටු, ඉඟිනි ඇට, කටුකරෝසන, අනුපච්චා, සුදුලූනු, දෙබම් පැගිරි, කොත්තමල්ලි, මල්කසාල්, වැල්තිබ්බටු, එළබෙලිද මුල්, ආඹාතෝඹා පසළුවාංගය, කසාය කර, දෙහි ඇඹුල්, ආඹාතෝඹා යුශ, අඹු වදකහ යුශ, ඊට දමා දෙනු.

සංලක්ෂණය:— තුඹා ලමයාගේ සිටින තැන්වල පෝච්චියක අරුද ගසක් සිටුවා ගත යුතු. කොට්ටයට ද අරුද කොළ ටිකක් දමන්නේ ය. බිල්ලට අසු වීමෙන් අරුද මැරෙන බව කියා තිබෙන නිසා ඒ ගැන ප්‍රවේසම් විය යුතු. අරුද ගසේ සුළඟ ලමයාත්ට යෝග්‍ය ය.

**ප්‍රතිශ්‍යා, කෙම අමාරු, කෙම එණ ඇති වූ විට :—** දෙහිදලු, බුවදලු, ආඹාතෝඹා දලු, කුඹුරු දලු, සුදුලූනු, රතුලූනු,

කළුදුරු, සුදුදුරු, අරූද කොළ, පම්සොන ගෙන, ලියා, තලා, පාත් කැවිල්ලකට දමා ඒව කැල තෙල් වත් කර, පුවද වන පමණට, ගණකට බැඳුණු පිට, තෙල් පෙරා කම්බා ගෙන විස විත ලදරුවන් ගේ හිසට දමියන්නේ ය.

බඩේ වේදනා, පිදුම :— ක්‍රිමි කෝෂ්ඨ අජීර්ණ, පාණ්ඩුරෝග, ගුල්ම ආදි නානා ප්‍රකාර හේතූන් නිසා, බඩේ වේදනා ඇති වේ. එවිට පාණ්ඩුවන්ට නියම චූර්ණ සෝ සහිඳ ලුණු සමඟ මුලින් ම දෙන්නේ ය.

i. ඉඟුරු, සුදුලූණු, වදකහ, කුඹුරු ඇට මද කොට උණු අළු වෙන් තම්බා මිරිකා සුරන්ඩිදුර දමා, පිපැළිසින් දමා දෙන්නේ ය. ii. කුඹුරු ඇට මද, දෙහි ඇට, කොත්තමල්ලි ඇට, පෙරුම්කායම්, වැල්හිබ්බටු මුල්, රතුලූණු, වදකහ, සුදුලූණු කසාය කර (තිබේ නම් පැණි කුමාර ගුලි දමා) දෙන්නේ ය. iii. බෙලි, බැබිල, ඉඟුරු කසාය දෙන්නේ ය. iv සස්සඳ මුල්, වදකහ, අරළු, සහිඳ ලුණු, ය ඇඹුලෙන් ගල ගා දෙනු. v. කාලිංගාදී ගුලිය උණු වතුරෙන් දෙන්නේ ය.

## මාන්දම, අක්මා රෝග, පාරිගර්භික රෝගය

### Rickets Etc.

උණ සහිතව, බඩත් මහත් ව, මාන්දම් ලකුණු තිබේ නම්, මුලින් පරණ කුණට නියම කසායක් දෙනු. වාසාදි භාර්ගසාදි කසාය හෝ මූත්‍ර බහා කසාරා දෙන්නේ ය.

i. රසකිඳ, තෙල්ලි, කලාදුරු අල, ගල්කුර කසාය දෙනු. ii. අරළු, බුළු, නෙල්ලි, වෙනිවැල් ගැට, කුකුරුමාන් ලෙලි, දේවදාර, මූරුංගා මුල්, කලාදුරු අල, ගොටු දඹු, පිලඹුල් කසාය- ගෝමූත්‍ර බහා සිඳ වළගසාල්, තිප්පිලි කුඩු දමා දෙන්නේ ය. සියලු ම මාන්දම්වලට කැලි 6 ක් දෙන්නේ ය.

ඉදිමුම මාන්දමට :— i. තිරුජ්ජවල්ලු, අරළු, කොහොඹ පොතු, සාරණ, රසකිඳ, දේවදාර, ආඩතෝඩා, නීරමුල්ලි, බුළු, නෙල්ලි, කටුකරෝසන කසාය- එළු මූත්‍ර පත හි, වතුර පත 7 හි එකට සිඳ දෙනු. ii. අට්ටික්කා කොළ, නුග කොළ, කාසි කොළ, දිවුල් කොළ, කුරපාලපල කොටා කඩපිම්බෙන් තම්බා උණු එළකිරෙන් මිරිකා දෙන්නේ ය.

ඇස් බොරලම:— i සියඹලාබෝර, දුන් තෙලෙන් අඹරා ඇස වටේ ගානු. ii. නාලිකේරාඤ්ජන ඇසට එක්කරනු. iii කහුන්නේ පියුදු කරස්බු දමා උයා කන්ට දෙනු. බත් සමඟ, පමණ දුන. මාන්දමට නියම කුකුරුමාන් එක කසාය දෙන්නේ ය.

**බඩවැල මාන්ධගුණු හල** :— i. සැවැන්දරා මුල්, නෙළුම් රේණු, නෙළුම් අල, හාතාවාරිය අල, කලාදුරු අල, සමභාග – ගිතෙලින් දෙනු. බඩවැල ඇතුළට ඇදේ. ii. තීන් උඳුපියලි සැද ගිතෙල් දමා දෙන්නේ ය. iii. එසේ ම මොනර කුඩුම්බිය සැද දෙන්නේ ය. සියලු මාන්දමට ම හොඳ යි.

**මාන්දම ග්‍රහණිය** :— නියර ඔබෙරිසුගේ ගෑම, නෑම සාදු හැටිගේ ගෑම ඊට i. සියඹලා පොතු, කොළ සමභාග දෙන්නේ ය. ii. තීන් තිද්කුඹඹ, උඳුපියලි යුෂ මීපැණි දමා දෙනු. iii. ධාන්‍යාදී පඤ්චකය දෙනු.

ග්‍රහණිය හැර අන් මාන්දම්වලට විරේකයක් දී ශිවමෝදකය සාදා දෙන්නේ ය. අරවින්දාසවය දෙනු.

**ශිව මෝදකය** :— අරළු, පිටවක්කා, මූරුවාදුල්මුල්, සතපුෂ්ප, සහ, වෙනිවැල් ගැට, වදුරු මෑ ඇට, බැබිල මුල්, බෙලි ගැට මද, කරාඹු නැටි, හාතාවාරිය අල, ජටාමකුට, දේවදුරු, ජටාමාංස, කිරිබදු අල, ඉඟුරු, ඉරමුසු, තෙල්ලි, තිරස්සවල්ලු, සිරිතේක්කු, ගජතිප්පිලි, තිප්පිලි, කුරුඳු පොතු, කොල්ලන් කොළ, එත්සාල්, නාමල් රේණු, උළුහාල්, මහදුරු, සුදුරු, අසමෝදගම්, සුදු හඳුන්, රත්හඳුන්, අමුක්කරා, ගොනටු ඇට (=ගනරෙසදුවි), සමභාග-අවුලවාන් වෙලා ගෙන, කබලෙන් ශණනව රත්වන් පාට වෙන්ට වෙන වෙන ම බැද හොඳට කුඩු කර ගන්නේ ය. මේ බෙහෙත් බරට මුද්දිරප්පලම් (=කිස්මිස්) ද එපමණ ම උක්සීනි ද ගෙන මීපැණියෙන් මෝදක පදමට හොඳට අඹරන්නේ ය. කලං ½ සිට කලඳ දක්වා කිරි සමග හෝ නිවුණු කොත්තමල්ලි වතුර සමග හෝ දෙන්නේ ය. බාලයන්ගේ සියලු රෝග නසා. ශරීරය පුෂ්ටිමත් කරයි. ගින්න වඩා. ග්‍රහ දෝෂ නසා. මේධා, ආයුෂ කරයි. සියලු මාන්දමට සමභාග දී දෙන්නේ ය.

**ශඩෞෂධ ස්නානය** :— මුරාමාංසි (=ජටාමකුට) ජටාමාංසි, වදකහ, සුවඳ කොට්ටන්, හණ හාල්, සහ, වෙනිවැල් ගැට, අරත්ත (=කස්තුරි මඤ්ඤල් හෝ හිඟුරු පියලි), සපුමල්, කලාදුරු අල ගෙන මෙයින් තොරන ලද ජලයෙන් ළදරුවන් නාවන්නේ ය. සියලු (නාවන්ට සුදුසු වූ) බාල රෝග නසා, බාලග්‍රහ දෝෂ නසා.

**බාලග්‍රහ දුම** :— කපුඇට මද, මොනර පිල්, එළුබටුඇට, අරලිය මල්, ඉස්තෙස්, ඉඟුරු, සූකුරුමාන් ගෙඩි, හස් ගැට, සුදුලූනු, බලල් වසුරු, වදකහ, ජටාමාංස, ගම්මිරිස්, පෙරුංකායම්, සරක් අං කුඩු, උණලි කුඩු, ඇද්දස් කුඩු, මේවා සමභාග ගෙන කුඩු කර ළදරුවන්ගේ ඇඬීම, හිසඑම ආදි බාලග්‍රහ දෝෂයන්ට ගිනි අඟුරු වලට දමා දුම් දෙනු.

සූරන් චූර්ණ :— පුෂ්කර, සීතාස්සාරන්, පල්මාණික්කම්, තෙල්ලිස්සා සහන්දගම්, තිප්පිලි, රත්කිරිගල්, සුවඳ කොට්ටන්, වැල්මී, දේවදාර, අසමෝදගම්, කරාබුනැටි, වසවාසී, සාදික්කා, ඉඟුරු, අබින්, සහිදලුණු, වලගසාල්, අබ, සුදුලූනු, තිප්පල්, ගම්මිරිස්, එඬරු ඇට මිද, සිවන්ගුරු, කාබුකෙරෝසන, පරණ හිංගිලා බොර, කැන්සා කොළ, එපරුම් සාගම් සමභාග - සඳමට ගෙඩි යුසින් අඹරා දෙකට බෙදා කොටසකට එපමණ ශුද්ධ ජයපාල දමා, වෙන වෙනම කිදසහ යුසින්, ද්‍රාක්ෂා කොළෙන් අඹරා ඉඟුරැට පමණ ගුලිකර පවනේ වියළනු.

# විෂ

# POISONS

ස්ථාවර ජංගම වශයෙන් විෂ දෙ ආකාර යි. රසදිය, තඹ ආදි ධාතූන්ගේ ද පාෂාණම්, මැනෝසිල ආදි උපධාතූන්ගේ ද අබින්, ජයපාල, කංසා, අත්තන, වච්ඡනාභි, ගොඩකදුරු, නියගලා, ඔලිඳ ඇට ආදී මූල ද්‍රව්‍යයන්ගේ ද ඇත්තා වූ විෂ ස්ථාවර විෂ යි. සර්ප, බලු, මී, ගෝනුසු, පත්තෑ, දිවිමකුළු, බඹර, දෙබර ආදී ප්‍රාණීන්ගේ විෂවලට ජංගම විෂ ය යි කියත්.

**ස්ථාවර විෂ :—** විෂ ශරීර ගත වූ විට ඒ සාමාන්‍යයෙන් කවර විෂක් දැයි කල්පනා කටයුතු. සියලු ස්ථාවර විෂ කට දවන විෂ, කට නො දවන විෂ යි දෙකොටසකි. ඇසිඩ් වර්ග (=ද්‍රාවක), ඇල්කලයිඩ් (=කෝස්ටික් සෝඩා ආදි ක්ෂාර වර්ග) වල දී කටේ දිවේ දැවීම ලකුණු ඇති වේ. අබින් ආදි විෂවල දී මුඛයෙහි ලකුණු නො සිටී.

ඒ නිසා පෝෂණ මාර්ගයේ (=පාකස්ථලීන්ගි) සෙම් සිවිය දවන, ඇසිඩ් වර්ග ශරීර ගත වූ විට වමනය නො කළ යුතු යි. අනෙක් විෂ ශරීර ගත වූ විට වමන පළමු කොට යෙදිය යුතු යි. ඊලඟට අපක්ක ඖෂධ ද හෘදය උත්තේජක කරන ඔසු ද දිය යුතු.

ඇසිඩ් වර්ග ශරීර ගත වූ විට පුළුවන් තරම් සෝඩා වතුර දෙනු. "සෝඩා බයිකාබ්" නම් වර්ගය වතුර වීදුරුවකට තේ හැන්දෙන් එක බැගින් දමා පුළුවන් තරම් පොවන්නේ ය. සෝඩා නො ලැබුණු විට හුණු කිත්තියක් හුරා වතුරට දමා පොවන්නේ ය.

ඇල්කොලයිඩ් වර්ග ශරීර ගත වූ කල දෙහි ඇඹුල් වතුරට දමා පුළුවන් තරම් පොවනු. මේ දෙකේ දී ම පුළුවන් තරම් ඉක්මනින් රෝගියා ආසන්නමේ ආරෝග්‍ය ශාලාවකට යවන්නේ ය.

වමන කරවන ද්‍රව්‍ය කිහිපයක් මෙහි පහත දක්වනු ලැබේ.

i. **අඹ කුඩු සහ වතුර** :— අඹ කුඩු මේස හැන්දකට උණුසුම් වතුර අවුන්ස අටක් එකතු කර දෙන්නේ ය.

ii. **ලුණු වතුර**:— තේ ලුණු මේස හැන්දේන් දෙකක් උණුසුම් වතුර අවුන්ස 8 කට දමා පොවන්නේ ය. iii. කුකුරුමාන් ගෙඩි කලං 1 ක් අඹරා වතුරට දමා පොවන්නේ ය. iv. පිලම්බිල් අතුරක් කොටා උණු වතුරෙන් මිරිකා, තලතෙල් දමා දෙන්නේ ය.

**විෂ නිර්විෂභාවයට පමුණුවන ඔසු වගී** :— i. තනකිරි, ii. එළුකිරි, iii. කුර, කුරකම්පලා, සුදුකුර ආදී ද්‍රව්‍යයන්ගේ යුෂ, iv. කොස්පතා පට්ටා යුෂ, v. පුහුල් දඬු, පල යුෂ, vi. ගිතෙල්, vii. සුදු හඳුන්, වැල්මී, ඉඟිනි ඇට කල්ක සමග තැඹිලි වතුර. viii. කොහොල් අල යුෂ.

**හෘදය උත්තේජක ද්‍රව්‍ය** :— i. තේ, කෝපි, පොල්කිරි කැඳ, තිරිඟුපිටි කැඳ, මුංවතුර.

i. **අසඩින් විෂ ශරීර ගත වූ කල** :— i. වමනය කරවනු ii. පොල්කිරි කැඳ හෝ තිරිඟු පිටි කැඳ දෙන්නේ ය.

**පාෂාණම් සහ එහි යෝග ශරීර ගත වූ කල** :— i. වමනය කරවනු. ii. පුහුල් යුෂ ආදී ඉහත දක්වූ විෂ නිර්විෂ භාවයට පමුණුවන ඔසු දෙනු. iii. ඉඳිබඩ යුෂ දෙන්නේ ය.

**තඹ, පල්මාණික්කන් සහ එහි යෝග ශරීර ගත වූ විට**:— සාමාන්‍යයෙන් මෙහි දී වමනය ඇති වේ.

i. කිරි, ගිතෙල් පුළුවන් තරම් දෙනු. ii. තිපල් කසාය, ගිතෙල් දමා දෙනු. iii නිර්විෂ භාවයට පමුණුවන ද්‍රව්‍ය දෙනු.

**රසම් සහ ලවණ වර්ග ශරීර ගත වූ කල්හි** :— i. වමනය කරවනු. ii තිපල් කසාය ගිතෙල් දමා දෙන්නේ ය. iii. කිරි, ගිතෙල්, දෙළුම් යුෂ, පොල්කිරි කැඳ, තැඹිලි වතුර ආදිය දෙනු.

**රසදිය ආදිය ශරීර ගත වූ විට** :— i. කිරි, තිරිඟුපිටි කැඳ පුළුවන් තරම් දී වමනය කරවනු. ii. ශුද්ධ කළු ගන්දක ටික ටික කිරට දිය කර දෙනු. iii. ගිතෙල්, දෙළුම් දෙනු.

**තුත්තනාගම් ශරීර ගත වූ කල** :— i. කිරි, ගිතෙල් දී වමනය කරවන්නේ ය. ii. තිපල් කසාය ගිතෙල් සමග දෙනු. iii. සිසිල් දෘ දෙනු.

**වච්චනාවි ශරීර ගත වූ විට** :— i. කිරි පුළුවන් තරම් දී නැවත වමනය කරවනු. ii. ගෝමූත්‍ර දෙනු. iii. සිසිල් දෘ දෙනු.

**ජයපාල සහ සැර විරේචක වර්ගවලින් අමාරු වූ කල** :— i. වමනය කරවනු. ii. කිරි, ගිතෙල් ආදී සිසිල් දෘ දෙනු. iii තේ, පොල්කිරි කැඳ ආදිය දෙන්නේ ය.

අබිං විෂ වූ විට :— i. ගිතෙල්, කිරි ගැනි පමණ දී පසු ව වමනය කරවනු. ii. පැණි, සිසිල් දේ දෙනු.

ගොඩගඳුරු විෂට :— i. වමනය කරවන්නේ ය ii. තනකිරි දෙන්නේ ය. iii. තිපල් කසාය ගිතෙල් දමා දෙන්නේ ය. iv. කුර, ඉඳිබඩ ආදි යුෂ දෙනු.

අත්තන විෂට :— i. වමනය කරවන්නේ ය. ii. තනකිරි, එළකිරි ආදි සිසිල් ද්‍රව්‍ය දෙන්නේ ය. iii. තිපල් කසාය දෙන්නේ ය. iv. උණුසුම්, තේ කෝපි දෙනු.

කංසා විෂට :— i. ගිතෙල්, එළකිරි දෙනු ii. පොල් හා මිරිකා දෙනු. iii. හලපි (පොල්) වතුර දෙන්නේ ය. iv. පුහුල් යුෂ, අළු කෙහෙල් යුෂ දෙන්නේ ය.

බලිඳ ඇට විෂට :— i. වමනය කරවන්නේ ය. ii. ගිතෙල්, කිරි දෙන්නේ ය. iii කිරි සහිත උණු කෝපි දෙන්නේ ය. iv තිපල් කසාය ගිතෙල් දමා දෙන්නේ ය.

වැට එඬරු ඇට විෂට:— i. වමනය කරවන්නේ ය. ii තිපල් කුඩු උණු වතුරෙන් දෙන්නේ ය. iii. විරේක වූ පසු ඉඟුරු, උඳුපියලි කොටා යුෂ දෙන්නේ ය.

හොඬල විෂට :— i වමනය කරවන්නේ ය. ii තිපල, ගිතෙල් දමා දී පාචනය කරවන්නේ ය. iii. සුදුහඳුන් ඉඟිනි ඇට කල හා තැඹිලි දිය දෙන්නේ ය, iv. කිරි සහිත උණු කෝපි දෙනු.

නියඟලා කෑ විෂට :— i. වමනය කරවන්නේ ය. ii එළකිරි, තනකිරි ආදි සිසිල් ද්‍ර දෙන්නේ ය. iii ගෝමූත්‍ර බොන්ට දෙනු. iv. තිපල් කසාය, ගිතෙල් දමා දෙන්නේ ය.

හතු කෑමෙන් විෂ වූ විට:— i වමනය කරවනු. ii පොල්කිරි, කැඳ දෙනු iii. ඉඟුරු යුෂ, උඳුපියලි යුෂ දෙන්නේ ය.

සියලු විෂවල දී ඉක්කාව ආවොත් පැණිදොඩම් යුෂ, දෙළුම් යුෂ, තන කිරි දෙන්නේ ය. නවත්වන්ට බැරි වමනේ ඇති වූවොත් සඳුන්, සැවැන්දරා, ගලගෙඩියේ ඇතුලේ මන්ඩි අඹරා වතුරට දමා දෙන්නේ ය. පාචනය අධික වූයේ ද කොහිල, කොඹු දඬු, කුර, රතුහඳුන, උඳුපියලි යුෂ මීපැණි දමා දෙනු.

## ප්‍රතිවිරුද්ධ විෂ

කිරට විරුද්ධ දේ :— ඌරු මස්, දඹමස්, මත්ස්‍ය මාංශ, ඇඹුල්, ලූණු, කැකිරි, තියඹරා, කොළ වර්ග, තලමුරුවට, කොල්ලූ, අලජාති, දී කිරි, කිලිල්.

කිරට අවිරුද්ධ දේ :— මුව මස්, තොල්ලි, සහිඳලුණු, සකීරු, ඉඟුරු, උඳු, බාර්ලි, සාරණ.

දී කිරට විරුද්ධ දේ :— කුකුළු මස්, ඌරුමස්, මෙබඩ ආදී බඩ ජාති

අල සහල් හා විරුද්ධ දේ :— කොකෝ මස්.

ඇඹුල් හා විරුද්ධ දේ :— කාඩා වගී.

උක් සකුරු හා විරුද්ධ දේ :— කැඹෙලිරිය, කන්කාලි, මත්ස්‍ය මාංශ.

එඬරු තෙල් හා විරුද්ධ දේ :— ගොයි, මොනර, වටු, කිරි පෙඳි මස්.

කාඩි හා විරුද්ධ දේ :— ලාදු.

| | | |
|---|---|---|
| ගිතෙල් හා සම වූ | මී පැණි | විෂයි. |
| " " | මෝරු | " |
| පලතුරු සෝ හා | සතාව තෙල් | " |
| පුවඟුම්ල් හා | කිරිබත් | " |
| මජ්ජා හා | කොස් මස් | " |
| මසුන්ගේ බිජකෝෂ හා | මසුන් | " |
| " පිත් හා | ඒ ඒ මසුන් | " |
| මී හා සම වූ | වැසි දිය | " |
| මී හා | වැසි දිය, ඌරු මස්, රාබු අල | " |
| රා හා | වැල් නිවිති | " |
| ලෝ වලඳේ තිබූ | ගිතෙල් | " |
| සූරා හා | පාල කිරි බත් | " |
| වෙඬරු හා | කොසෙල් ගෙඩි ද | " |
| ලුණු රස හා | පැණි රස ද | " |
| ලුණු හා | තිත්ත රස ද | " |

## විෂට පුරාණ ප්‍රතිකාර ක්‍රමයක්

1 අත්තන භෑ විසට :— i එළකිරි හා සීනි, ii තෙළඹ අල යුෂ, iii ගිතෙල් මෙද භාගයක් හා උක් සකුරු එක් භාගයක්. iv. අරළු සහාග ගිතෙලින් හෝ එඬරු තෙලින් හෝ දෙනු.

2 කනේරු විසට :— i පොල් කිරි, ii කුර යුෂ දෙනු

3 අඹ ගෑමෙන් විෂ වූ විට :— i පොල්කිරි, ii අරළු දෙනු.

4 අඹ මුල් විසට :— i කාඩි.

5 අඹ භෑ මතට :— i පුසුල් දිය, ii පුසුල් දඹු යුෂ, මීපැණි

6 අල ජාති භෑමෙන් වූ විසට :— i ඉඟුරු යුෂ හා ගිතෙල් දෙනු.

7 අග්ගලා කෑමෙන් වූ විසට :— i. අරළු කුඩු දෙනු.

8 අහිත වූ ආහාර කෑමෙන් වූ විසට :— i කිරිඅඟුණ යුෂ.

9 ඉඟිනියෙන් වූ විසාරණට :— i සහල් සේදුම් දිය දෙනු.

10 උඳු කෑමෙන් වූ විසට :— i කාඩි දෙනු.

11 උක් පැණියෙන් වූ විසට :— i සීනි දෙන්නේ ය.

12 ඌරු මස් කෑමෙන් වූ විසට :— i උණු පැන්, ii ඉඳිබඩ, iii කපු කිනිස්ස ඇට, iv දිවුල් මද, දිවුල් පොතු යුෂ, තරවු පොතු යුෂ.

13 එළු මසෙහි වූ විසට :— i තරල් සැබෝ යුෂ දෙන්නේ ය.

14 එඬරු තෙල්, ඇට, මල් යනා මෙයින් වූ විසට :— i වරු මුල් යුෂ, ගුරුන්ද යුෂ.

15 කඳුරු කෑ විසට :— i පෙතෙල යුෂ සහ කුඩු දමා, ii කෙසෙල් මල් යුෂ, iii දිවුල් පල යුෂ.

16 කණේරු කෑ විසට :— i අරළු කසාය ගිතෙල් දමා දෙනු. ii කිරිගු පිටි කැඳ පැණි දමා දෙනු.

17 කපුරු කෑ විසට :— මුරුංගා මුල් යුෂ, ii සඳුන් ගල කා, ii කිකිරිඳිය යුෂ, iv අවිට්ක්කා යුෂ, v පසකුරු කසාය.

18 කපුරු හා කැඹිලි විසට :— i අඹ යුෂ දෙන්නේ ය.

19 කපුරු හා දෙහි කෑ විසම :— i කිකිරිඳිය යුෂ දෙනු.

20 කපුරු හා ඇඹුල් කාඩි කෑවුණු විසට :— i සඳුන් හෝ පසකුරු කසාය.

21 කරද පලා කෑ විසට :— i කිරිබත්, ii දම දෙනු.

22 කැමුසු මස් කෑ විසට :— i මුරුංගා යුෂ.

23 කටරොළු විසට :— i කලාඳුරු යුෂ.

24 කලාඳුරුවන්ගේ විසට :— i වද හෝ අනු මුල් යුෂ.

25 කාඩිසට :— i සඳුන්, ii නෙළුම්, iii පසකුරු, iv කෙසෙල් මල්, v දිවුල්, vi ලුණුවරණ.

26 කාඩි හා ගොයම් මුල් විසට :— සැමැන්දහ, ii වැල්මී.

27 කිරෙන් වූ විසට :— i කිරිඅඟුණ, ii සිද්දිලුරු.

28 කිරි බලෙනන් වූ විසට :— i කිරිඅඟුණ රස, ii ඉඟුරු.

29 කිරි සහිත ව දඹ කෑවට :— i මුං රස, ii වැල්මී.

30 කිරළුන් මසට :— i දිඹුල් (=අවිට්ක්කා)

31 කිඹුල්වැන්න විසට :— i පිල කසාය.

32 කිඩාරන් කෑ විසට :— i ඇසළ මල් යුෂ.

33 **කුකුළු මස් කෑ** විසට :— i මුරුංගා යුෂ.

34 **කුකුරුමාන්** විසට :— i මෝරු.

35 **කැබුම් ජාති කෑ** විසට :— i ඇල්පැන්, ii මෝරු, iii දී පෙරළි දිය.

36 **කොහොල් ගෙඩි කෑ** විසට :— i ගම්මිරිස්, ii අරළු.

37 **කොස් කෑ** විසට :— i ඉඟුරු.

38 **ගිතෙල් කෑ විසට** :— i ඉඟුරු කුඩු හා පැන්, ii ඉඟුරු කුඩු උණු පැහොසි බීම, iii ඉඟුරු කුඩු මෝරු සමග.

39 **ගින්ගොන් දූ** විසට :— i කිඳි යුෂ, ii තක්කාලි යුෂ, iii අළු කෙහෙල් අල යුෂ, ගාන්නේ ය.

40 **ගොඩුම විසට** :— i සියඹලා ඇඹුල්, ii කාම.

41 **ගෝමස කෑමෙන් වූ විසට** :— i මුරුංගා මුල්, ii ඉඟුරු, iii මකුල් මාරා පොතු.

42 **ගොන් මැසි විසට** :— i රට මිරිස්, ii පෙරුංකායම්.

43 **ජයපාල විසට** :— i කුර මුල්, i පුසුල්, iii කොහිල අල, iv තනකිරි.

44 **ගොන් කැකිරට** :— i පිටසුදු පලා.

45 **තලතෙල් නො දිරූ විට** :— i තලමුරුවටින් පිසූ කැඳ, ii අවුලෙන් සුණු වූ පැන් දෙනු.

46 **තල්කුනාවූ නිසා වූ විසට** :— i තෙල් නො හල මෝරු ලුණු සමග දෙන්නේ ය.

47 **තිරළු මසට** :— i කුරුඳු පොතු, ii කරල් හැබ මුල්.

48 **තිරශ්චවල ඵවලින් වූ විසට** :— i කලාදුරු, ii ඉඟුරු.

49 **තෙල් බොහෝ වූ විසට** :— i කුකුරුමුවන් මල් යුෂ.

50 **තෙල් හා කිරෙන් වූ විසට** :— i උක් සකුරු සම වූ කල.

51 **තෙල් අජීර්ණයට** :— i මෝරු හා තලමුරුවටින් පිදූ තල යාගු - කැඳ.

52 **දළුක්කිරි විසට** :— i උඹත්තා හෝ පිල කසාය, ii තොල්ලී හෝ රණවරා.

53 **දත්ත විසට** :— i කුකුරුමාන්.

54 **දේවදාලිසට** :— i කලාදුරු, ii තෙල් සහිත වූ පොල්කිරි,

55 **දෙබරුන්ගේ විසට** :— i වද, ii අඹමුල්.

56 **හාල් පානු දිය විසට** :— i ඉඟිනි ඇට, ii ඇල්හාල්, iii කස පැන් දිය.

57 පොල් හොලු විසට :— i අඹ පැණි (=ඉදුණු අඹ යුෂ) ii අඹ මුල් යුෂ.

58 නියගලා කෑමට :— i ඉඟුරු, ii ගිතෙල්, iii වැල්මී.

59 නිල් තඹරා ආ ගෑ විසට :— i කලාදුරු අල.

60 සණු ජාතියෙන් වූ විසට :— i තලා මුල්.

61 සර්ව ධාතු ද්‍රව්‍යවලින් උපන් විසයට :— i එළමවඩරු, ii කලාංදුරු.

62 සිලිමස් ජාතියෙන් වූ විසට :— i තලතෙල්, ii කසාලුණු.

63 හැවුම් හැමෙන් වූ විසට :— i ඇල්පැන්, ii මෝරු.

64 බදුල්ල කිරට :— i සුළුකූර, ii පිවසුදු, iii මාරා, iv එඩරු.

65 බදුලු කිරි ගැමුණාට :— i බුලත් ගානු. ii බටර් ගානු.

66 බුලත් මතට :— i ඇල්පැන්, ii ලුණු, iii සීනි හා සියඹලා, iv පමන් සැලීම.

67 දලඹු ගැවුණු විසට :— මාරාපත් හෝ පොතු හෝ කොළ යුෂ ගානු.

68 බැටළු මිසෙන් වූ විසට :— i කරල් හැබ.

69 මකුළුවන් විසට :— එළබලිඳ කොළ යුෂ.

70 අමු මතට :— i පුසුල් පත් දිය, ii උක් සකුරු, iii කිරි.

71 මණ්ඩුක (=මැඩි) විසට :— සාල් දෙවුන් දිය

72 මදුරුවන් විසට :— i දුම් දෙනු.

73 මසුන්ගේ විසට :— ඉඳිබඹ, එළකිරි ලා කකාරු දෙනු.

74 මසුන් නිසා වූ විසට :— උක්කිරි හා මාරා ඇට, සිනුක්.

75 මාරා ගසින් වූ විසට :— i සැවැන්දර, ii අරළු.

76 මනෝසිල හා සල :— මීකුළු මැටි.

77 මිරිස්සැවට :— සීනි, අඹ, වැල්මී.

78 මැටි හා විසට:— ශුද්ධ කළ මනෝසිල මාත්‍රාව දුහ දෙනු

79 මැණික් වැන්න විසට :— i ඇමරිය,

80 මී ගව මස් හා විසට :— මුරුංගා හෝ තිකදළු හෝ උණු පැනින් මිරිකා දෙන්නේ ය.

81 මීපැණියෙන් වූ විසට :— i ඇල්පැන් හෝ ii කිරි අඟුනා.

82 මීපුප් මතට :— මෝරු දෙනු.

83 මියන්ගේ විසට :— i සෑබෝ, ii බදුවද, මිදු සහිත කිරි මීපැණි.

84 මී ගා ගම වූ ගිතෙලින් වූ විසට :— i සියඹලා ඇඹුල්, ii නාරන් ඇඹුල්, iii පුවක් අඟුරු කුඩු.

85 ඩිමැස්සන් හා මැස්සන් විසට :— තිතෙල් සහිද ලුණු.

86 බුගසින් නිසා වූ විසට :— මාරා ඇට උක් පැණි.

87 බුබ විසට :— කුරුඳු පොතු, මෝ මුල්, මිරිස්.

88 මොනර විසට :— කිරිටංගා කොළ, දිවුල්.

89 සහපුෂ්ප විසට :— සීනි.

90 රත්නිමුල් විසට :— ඇල් පැහැති උක් හකුරු, ශර්කරා, සියඹලා, ලුණු.

91 මනෝශිල විසට :— මකුළු.

92 රතුලූනු විසට :— අරළු, තලතෙල්.

93 ලුණු සෑ විසට :— වැටකේ බඩ යුෂ.

94 වච්චනාවි සෑවාට :— මිරිස් චූර්ණය දුන්නොලෙන් දෙනු.

95 වරකා සෑ විසට :— ඉඟුරු

96 වකමුල් සෑ විසට :— කාසපැත් දිය, ඉරිවේරිය, දෙහි ඇඹුල්, කිත්ගෙද හා කිරි.

97 වැල්මී විසට :— දඹ.

98 වැටකොළු විසට :— කලාදුරු, දම් පොතු, පොල්කිරි

99 වැල සෑවාට :— වියලි ඉඟුරු,

100 හුණු සෑ විසට :— කහ, තලතෙල්, ගෙද, දෙහි ඇඹුල්.

101 හතු සෑ විසට :— තිප්පලි මුල්, එළමිත්‍ර කෂාය.

102 සාදිලිංගම් විසට :— ඇල් සැත් පුළුවන් තරම් දී වමනය කරවනු.

103 සා විසට :— කරල් හැඹ.

104 පුස්කර විසට :— පොල්කිරි, එළකිරි.

105 සුදුලූනු සෑ විසට :— කොච්චන්.

106 මූනන්ගෙන් වූ විසට :— දිවුල්, කිකිරිඳිය, කහ, කිතුළු.

107 ගිරිසල් විසට :— තලතෙල්, ඇටමෝරිය, මකුළු මැටි.

108 කුණු ගිරිසල් විසට :— එරබදු පත් යුෂ.

(දෙදුන් හෙට්ටිගේ සමරතුංග රන්දුනු වෙද අප්පුහාමිගේ පොතකිනි.)

සංලක්ෂණ :— නීතාර ගාමිත කරන විස නැති වගේ විස වන්නේ කොහේද්දැයි ඇතැම් තොහොස් සිතත්. එහෙත් ඇතැම් විටක, ඉතා සරල වූ දේ පවා විස වන බව අපට දක්නට ලැබී තිබේ. පසුගිය කාලයේ පොල්තෙලින් බැදී ඉස්සන් විසවී බොහෝ දෙනෙකු මිය ගිය බව අපට අසන්ට ලැබුණේ ය. කැවුම, කැවුම් මාළු, මස් බැදීමෙන් විස වන්නේ ය. ඇතැම් කෝවල් කරුමෝ කැවුම,

හැඩිය කොළයන් මත්ස්‍ය මාංශ බදිති. සුවිදුව භෝජනාගාරයන් හෝ හෝටලන් බෑඳි සිසි ම ආහාරයක් යම්යම් රසායනයට හැඹිලන්කත් බිබින් හා ගත යුතු ය යි කියා තිබේ.

ඒ ඒ ආහාර කෑමෙන් අජීර්ණ වූ විට, එහි විෂ නිරාකරණයට වුවමනා ඖෂධ දී ඊ ලඟට රෝගයට උචිත ඖෂධයක් දෙන්නේ ය.

යම් ද්‍රව්‍යයක් විෂද්‍රව්‍ය වශයෙන් පිය හා, එයින් ම සැදූ සුප් (හොදි) කීම ද විෂ වීමට හේතු ය යි දක්වා තිබේ. කොස් මදුළු කෑමෙන් වූ විෂට, වරකා විෂට, කොස් ඇට දෙන්නේ ය.

## ජංගම විෂ

### Snake-Poison

සර්ප, කීට, මක්ෂිකා ආදීන්ගේ විෂ ජංගම විෂ නම් වේ. නිද්‍රා, තන්ද්‍රා, ක්ලාන්ති, දාහ, අපාක, රෝම හර්ෂ, ශෝථ, අතිසාර ආදී සකල උපද්‍රවයෝ ජංගම විෂයයන් ගෙන දෙත්. ජංගම විෂයාගේ ක්‍රියා ශරීරයාගේ ඉහල කොටසෙහි ද, ස්ථාවර විෂයාගේ ක්‍රියා ශරීරයාගේ පහල කොටසෙහි ද වෙයි.

**විෂයාගේ ගති** :— ලඝු, රූක්ෂ, ආශුකාරි (=ඉක්මනින් ක්‍රියා කරන), විශද, ව්‍යවායී (=ඉක්මනින් ශරීරයෙහි පැතිරෙන), තීක්ෂණ, විකාශි (=පැතිරෙන), සූක්ෂම (=සියුම් නලවල ගමන් කරන), උෂ්ණ, අනිර්දෙශ්‍ය රස යන දශය යි. රූක්ෂ ගුණයෙන් වායුව ද, උෂ්ණ ගුණයෙන් පිත ද, සූක්ෂම ගුණයෙන් ලේ ද, අව්‍යක්ත රසත්ව ගුණයෙන් සෙම ද කෝප වෙයි. ශීඝ්‍රතාව, ව්‍යවායිත්ව ගුණයන් ගෙන් සම්පූර්ණ ශරීරයෙහි ශීඝ්‍ර ව ව්‍යාප්ත වේ. තීක්ෂණ ගුණත්වයෙන් මර්ම නාශය ද විකාශිත්ව ගුණයෙන් ප්‍රාණ නාශය ද කෙරේ. ලඝුත්ව, වෛශද්‍ය ගුණයන් නිසා දුෂ්කර සේ පිළියම් කටයුතු බවට පැමිණේ.

සර්පයෝ තුන් කොටසකට බෙදෙත්. ඔවුන් දෂ්ට කිරීමේ දී මනුෂ්‍යයාට පැමිණෙන ලකුණු අනු ව මේ බෙදීම කර තිබේ. i. නාග, ii. පොළොංගු, iii. රාජිලා (=කරවැල්, මාපිල්) ආදී ආකාර සියලු සර්පයෝ ඇතුළත් වෙත්.

නාගයන්ගේ විෂ ශරීර ගත වූ කල වාත කිපුණු ලකුණු ද, පොළොං වර්ගයේ සර්පයන්ගේ විෂ ශරීර ගත වූ කල පිත් කිපුණු ලකුණු ද මාපිල් කරවල් ආදී රාජිලා (=රේඛා ඇති) සර්පයන්ගේ විෂ ශරීර ගත වීමෙන් සෙම කිපුණු ලකුණු පහළ වීම ද වෙයි.

මේ දෙවර්ගයක සර්පයන් දෙ දෙනාකුගෙන් උපන් සර්පයන් දෂ්ට කිරීමෙන් ඒ ඒ සර්පයන්ට හිමි දොස් දෙක කිපෙන බව ද

සර්පයන් තුන් වර්ග ම මිශ්‍ර ව උපන් සර්පයන් දෂ්ට කිරීමෙන් දොස් තුන ම කිපීම ද වන්නේ ය.

ඒ නිසා දෂ්ට ලකුණු බැලීමට වඩා දොස් ලකුණු බලා ප්‍රතිකාර කරන්නේ ය.

i. වාත ප්‍රකෘතික සර්පයන්ගේ (=විංශති ජාති නාග වර්ගයා) විෂ වාතස්ථානයෙහි සිටීමෙන් සංඥා (=පිපාස) මෝහ, අරති, මූර්ච්ඡා, ගලග්‍රහ, වමන, ෆෙණ ආදි කළු (=සෙම්) පිත්ත) අල්ප ලක්ෂණ වූ, සම්පූර්ණ වාත ලක්ෂණ ප්‍රකාශ කෙරේ. ii පිත්ත ප්‍රකෘති සර්පයන්ගේ (=ද්වා විංශති ජාති පොළොංගු) විෂ පිත්තාශයට පැමිණ තෘෂ්ණා, කාශ, ජ්වර, වමන, ක්ලම, දාහ, තමෝ දර්ශන – අතිසාරාදි කළු පිත්ත අල්ප ලක්ෂණ සහ සම්පූර්ණ පිත්ත ලක්ෂණ ප්‍රකාශ කෙරේ. iii කළු ප්‍රකෘතික සර්පයන්ගේ (=මාපිල් කරවැල් ආදි දික් රේඛා ඇති දස විධ සර්පයන්) විෂ කඵස්ථාන ගත වීමෙන් ශ්වාස, ගලග්‍රහ, කණ්ඩු, ලාල ස්‍රාව, මඩනාදි අල්ප වාත පිත්තාදි ලකුණු හා සම්පූර්ණ සෙම් ලකුණු ප්‍රකාශ වේ.

i. නාගයන් කෑ තැන කළු ය, පොළඟු කෑ තැන රත් පැහැ ය, ඉදිමේ, ඇතැම් විට ලේ ද එන්නේ ය. පත්තෑයා කෑ තැන වෑවී දහඩිය දමා, ඇතැම් විට ලේ ද තිබේ. ඉදිමේ. මාපිල් ආදි සර්පයන් කෑ තැන ඇතැම් විට දක්නට නැත. ඇතැම් විට ඉදිම තිබේ. නාස්වල සෙම් බහුල ව පිරේ. වේදනා ගතියක් ඇතැම් විට කිසිත් දැනගන්ට නැත. තද විෂක් නැති වුවත් කෑ තැන අධික ව ඉදිමෙන තුණ්ඩු කාවුවා ද පොළොං පවුලට අයත් ය.

**ප්‍රතිකාර**
**Treatment**

සියලුම විෂ සහිත සර්පයන් දෂ්ට කල කල ප්‍රාථමික ප්‍රතිකාරය මෙහි පහත දැක්වේ.

i. දංශ ස්ථානයෙහි (=දල වැදුණු තැන) ලේ හරින්නේ ය. ii ඊට අඟල් 4 කට (=සිංහල අඟල්) ඉහළින් රෙදි පටියකින් බඳින්නේ ය. iii තර මූත්‍ර (රෝග නැති තරුණ බාල ළමයි ආදි පිරිමින්ගේ) පුළුවන් තරම් දෙන්නේ ය.

'මහා විෂ නීල තෛලය' තිබේ නම් i. නස්‍ය කරන්නේ ය. ii තේ හැන්දෙන් 2 සිට 4 දක්වා පානය කරවන්නේ ය. iii තුවාලයෙහි ලේ හැර ගල්වනු. iv තුවාලයට කිට්ටු ලසිකා ග්‍රන්ථිවල තෙල් ගල්වනු.

**ලේ හැරීම** :— තුවාලය හොඳට පාදන්නේ ය. හොඳ පිහියකින් හෝ ශක්තිමත් බෝතලා කටුවකින් එසේ කරන්නේ ය. පිහියේ හෝ බෝතලා කටුවේ තබා ගා උණු වතුරෙන් සෝදා ගත යුතු. තුවාලයෙහි දෙහි ඇඹිල්ලෙන් නියම තැන බලා ගත යැහ,

උණු වතුර බෝතලයකට පුරවනු. ඒ එක්කම, අගකට වතුර ඉවත් කර බෝතලා කට තුවාලයට තබනු. එවිට ලේ ඇදේ.

තුවාලයේ සිතුළ, මියන් දුඹුල, කහ, ලූණු සමගින් ලැබුණු තරමක්, බටු, ලූණු කර දෂ්ට ස්ථානයෙහි ගැටීමෙන් ලේ නික්මෙයි. ලේ වැඩියෙන් නික්මෙන්නේ නම් නුග, බෝ, කැකිරිපිස්තන්, දියමිත්ත, හීන් නිදිකුම්බ ආදී සිසිල් ද එතන දමනු.

සම්‍යක් හා අධික ව ලේ ගලා නම් හරක් පිඟුදු කැල්ලක් අලවන්නේ ය.

කහ, සුදුලූනු, වැල්මදට, සුදුරු, ඉඟුරු, මදුරුතලා, පෙරුංකායම්, කළුදුරු, මහදුරු, දියමිත්ත මූල්, වදකහ, අමුක්කරා, රසකිඳ, සස්සඳ, මාරා ඇට, මේවායින් ලැබුණු තරමක් නරමූත්‍රයෙන් අඹරා ඒව දියකර දෙන්නේ ය. සියලු සර්ප විෂ නාශ ලසි. සර්පයකු දෂ්ට කළ කැපියේ ගිතෙල් දීම නො මැනවි. 'නයකු ම' දෂ්ට කළ බව නිශ්චය වශයෙන් දනී නම් දෙනු. නැත, දුනහොත් විෂ බැස්වීම උගහට ය. නර මූත්‍ර, ගෝමූත්‍ර, ඉඳිබිඩ යුෂ, කරපිංචා යුෂ, බෙලිකොළ යුෂ ආදිය නම් සියලු සපුන්ට ම යෝග්‍ය ය. "නර මූත්‍ර ශ්‍රේෂ්ඨ යි."

ආයුර්වේදයෙහි ප්‍රතිකාර විධි 24 ක් දක්වා තිබේ. i මන්ත්‍ර, ii අරිෂ්ට (=වැසිරීමෙන් රෙදි බැඳීම), iii උත්කර්තන, iv නිෂ්පීඩන, v. චූෂණ, vi දහ, vii පරිෂේක, viii අවගාහන ix රක්ත මෝක්ෂණ, x වමන, xi විරේචන, xii උපධාන, xiii හෘදයාවරණ, xiv අංජන, xv නස්‍ය, xvi ධූම, xvii ලේහ, xviii ඖෂධ, xix ප්‍රධමන, xx ප්‍රතිසාරණ, xxi ප්‍රතිවිෂ, xxii සංඥාස්ථාපන, xxiii ප්‍රලේප, xxiv මෘත සංජීවන යන 24 ප්‍රකාරය විෂවුන් සඳහා ය. ඒ ගැන වැඩිදුර කරුණු විෂ චිකිත්සා ප්‍රකරණයෙහි එන්නේ ය. මෙහි කොටින් දක්වමු.

## "අගද"

සියලු ම සර්ප විසට මේ අගද නස්‍ය ලේප පාන කරවනු.

i. ගෝරෝචන (=හරක් පිත), කහ, වැල්මදට, ගම්මිරිස්, තිප්පිලි, අඹරන්නේ ය. සියලු විෂට යොදනු.

ii එළබටු, කිතුල් පැණි, මියන් දුඹුල, හරක් පිත, කොකොම කොළ, අඹරා කල්ක කර පොවා දෙනු.

iii ගන්ධහස්ති අගද :— එළබටුමරොළ මූල්, වදකහ, අමුක්කරා, රසකිඳ, සුවඳ කොට්ටං, සහිදලුණු, සුදුලූනු, එළ අඹ, දිවුල් දලු, කොවිල මූල්, කුඹුරු ඇට, සිතුළ, මාරා මුල්, කහ, ඉවනිවැල් ගැට, උණු කපුරු සම භාග ගෙන, එක් වරක් එළ මූත්‍රයෙන් ද, එක් වරක්

හරස් පිළිකාත් ද, මෙසේ සැකියෙන් අඹරන්නේ ය. ඉක්බිති හරස් අඟන ඔහා හරකුන් හිඳන කැහැන තැනකොත් හරස් ගාලන ශුෂ්කාගයෙන් වලු ලා තබා හැවන ගෙන, කරාබු නැට් අමණ පළු කර තබන්නේ ය.

මිදුණේ දුම්මෙන් විනාශ විෂ නසා. හර මූත්‍රයෙන් පානයට ද දෙන්නේ ය, සියලු විෂ නසා. සියලු අංභාර විෂ, උණ, ග්‍රහගාන, විසූචිකා, අජීර්ණ, මූර්ඡා, උන්මාද, අපස්මාර, කාවපවල, ශ්ලීපද, ශිරෝ රෝග, අර්බුද, අර්ශ, කණ්ඩු, කාමෝද්දේශ, ක්ෂය, දෞර්වල්‍ය, මදාත්‍ය, පාණ්ඩු ආදිය, සුදුසු පරිදි යෙදීමෙන් සුවවෙන බව කියා තිබේ. ගුහ්‍යයෙහි ප්‍රලේප දීමෙන් අශීඝ් නසා. මූඪ ගර්භයට යෝනි යෙහි ප්‍රලේප දෙනු. හලලෙහි ගල්වනු. ප්‍රතිශ්‍යා නසා.

iv. **පාෂාණ ගුලිය** :— ගරුඬ - වෙල්ල- කිරිගරුඬ-සිවන්ද යන පාෂාණ වර්ග, අබින් - හිරියල් -රසදිය - සාදිලිංගම් - නාග පාෂාණ - **සුදුහුරු** - අත්තන ඇට - ජයපාල ඇට - **මදුරු මල්** - **නාමල්**- **කොටදිඹුලා කෙඩි**, - කළු අකුරෙන් දක්වූ ඉද්‍ර කලං 3 බැගින්, අනිත්වා කලඳ බැගින්, ශුද්ධ කටයුතු වගී ශුද්ධ කර ගත යුතු. බුලත් - ගම්මිරිස් - කොටදිඹුලා - අත්තන - මේවායේ සියල්ලේ යුසින් අඹරා ඉඹුලැට පමණ ගුලි කරන්නේ ය.

**අනුපාන**:— ඉහතින් දක්වූ අගද-ගුලි සියල්ල මෙහි දක්වෙන අනුපානවලින් යොදන්නේ ය.

i. **සියලු සර්ප විසට** :— ගෝමූත්‍රයෙන් ද ඉඳි බඩ යුසින් ද නස්‍ය, පාන, අභ්‍යංග යොදනු.

ii **පොළඟාට** :— කිඹුරම් අල යුසින්, කිඹුරම් අල හා රුක්අත්තන පොතු යුසින්.

**කරවල් මාබිල් විසට** :— i දෙඹම් ඇඹුලෙන්, ii හබරල කොල යුසින්, iii මදුරු යුසින්, iv ඇඹිල්ල පොතු යුසින්, v අරත්තන යුසින්.

**නාග විසට** :— බැබිල නස්‍යයෙන්, හා පොතු යුසින් දෙනු.

1. **නාග විසට** :— i කිත මූලේ පොතු - එලකාඩුරොඩු මූල් - රුක්අත්තන පොතු කොටා මිරිකා රස කර ගිතෙල් දමා දෙනු. ii කොව්වන්, මිදැණියෙන් නස්‍ය කරන්නේ ය. iii වකතැල් මූත්‍ර දියයෙන් දෙන්නේ ය. iv මූඹම්ගත - වැල්පෙනෙල-නීනාපි සාලෙන් කැඳ පිස දෙන්නේ ය. v එරබදුවල දියපට්ටේ තබා අල්වනු.

2. **පොළඟාට** :— i රත්මල් පඤ්චාංගය කොටා, හර මූත්‍ර යෙන් මිරිකා රස කර පොවන්නේ ය. ii පුස්වැල් යුෂ නස්‍ය කරනු. iii හිරස්ස යුෂ කරදියෙන් දෙනු. iv පිටසුදු සාරණ යුෂ

රස් කර ගානු. v කොවදිමුලා - කොළ - ගෙඩි - පොතු යුෂ හීනටි හාලෙන් කැඳ පිස දෙනු. ඉදිමුණු තැල කොන්කොම් කොළ - යක්වෙරිය කොළ - මූඩම්හන කොළ - කහ පුළුණු හර මූත්‍ර දමා කොටා මිරිකා කකාරා ගාන්නේ ය.

3. **මාපිල් විසට** :— i. කරල් සැබෝ ඇට - නීත - සුදුලූනු - නීත යුසින් අඹරා කරද්දත දමා ඇසට මිරිනානු. ii රතුපිච්චක්කා-විල්ලකොළ මෙවාගේ යුෂ දෙබිම ඇඹුලෙන් දෙන්නේ ය. iii ඉඟුරු, පව්, දෙහි, සුදුලූනු, දෙහි ඇඹුලෙන් හා තර මූත්‍රයෙන් දෙනු iv තිප්පිලි - ගම්මිරිස් - ඉඟුරු - අතිවිඩයම් - සුවඳ කොට්ටං - වියන් දුඹුලු- වාල් මොලගු- වගාපුද්ද මූලේ පොතු- තවුකසෙරේසත- ගෝමූත්‍රයෙන් අඹරා, ගෝමූත්‍රවලට දිය හර දෙන්නේ ය. මාපිල් වර්ගයේ සියලු සර්ප විසට යෝග්‍ය යි.

4. **කරවල් විසට** :— i. වගතැල් - කිකිරිදිය - මිදුරුතලා කොළ - මුගුණුවැන්න - කොටා දෙහි ඇඹුලෙන් මිරිකා දෙනු. ii රසකැල් - කිකිරිදිය - මිදුරුතලා යුසින් තලතෙල් දමා දෙනු. නාස්‍ය කරනු. iii කරල් සැබෝ - කොළ යුස තලතෙලෙන් දෙනු.

5. **සියලු සර්ප විසට** :— වියන් දුඹුලු - කහ - වෙනිවැල් ගැට-තුරනම්පලා - ගෝමූත්‍රයෙන් අඹරා දෙනු. තරමූත්‍රයෙන් දෙනු.

6. **කටකාළ විසට** :— i කිරි පොල්, කළු උක් පැණි සමග දෙනු. ii රත්මල් පොතු දෙහි ඇඹුලෙන් දෙනු.

7. **හාල්දණ්ඩාගේ විසට** :— i කුඩා කළුවා - මිය කළුවා යුෂ පොල් කිරෙන් දෙන්නේ ය.

8. **සිකනලා සෑවීම** :— දහඩිය - හිසේ කැක්කුම - කටෙන් පෙණ ඒම ආදි ලකුණු පහළ වේ. i රත්තම්පලා මුල් - රත් හැඹිලි මල් - තල්පොතු කැඳ පිස, ගිතෙල් දමා දෙනු. ii කහකිරි, දෙහි යුෂ පැසවා හිසට දමනු.

9. **දිවි ඇතුළුවීම** :— i පිත්ත කොළ කොටා යුෂ නහස් පොවනු. වමනය වේ. ii දිවිපඟුරු කොළ කැඳ පිස ගිතෙල් දමා දෙනු. iii දිවි යම දෙහි ඇඹුලෙන් ගල ගා ගාන්නේ ය. iv රත්මල් උදුවාගෙය දෙහි ඇඹුලෙන් දෙනු.

10. **ඇට ගෙඩිබාම** :— හීනටි හාල්, පුළුණු දිය අඹරා ගානු. සස්සඳ මුල, දෙහි ඇඹුලෙන් ගල ගා ගානු.

11. **කුණුහාමුවීම** :— i තරපිස්ම්වා කැඳ, ii මිදුරුතලා කැඳ දෙනු. iii තිබ්බටු ගසේ සියල්ල, යකිනාරන් ගසේ සියල්ල, කහ පුණු ලා මලවා බඳිනු. iv ඉත්තෑ කොළ, පොතු කොටා තරමූත්‍ර දමා මිරිකා කකාරා ගානු.

12 පන්නා විෂට :— i කොහොඹ පුලුස්සා පොල්තෙලෙන් ගානු. ii ඉත්තෑකුරු පුලුස්සා පොල්තෙලෙන් ගානු. iii සස්සඳ මුල් හෝ කොඩිදිඹුලා මුල් දෙහි ඇඹුලෙන් ගල ගා ගානු. iv කෝ පොතු දෙහි ඇඹුලෙන් ගල ගා ගානු.

13 ගෝනුසු විෂට :— i කෝන් ලනු පුලුස්සා පොල්තෙලෙන් ගානු. ii පෝර කොළ හර මූත්‍රයෙන් අඹරා ගානු. iii වරා මුල් දෙහි ඇඹුලෙන් ගානු. iv කළුදුරු - සුදුරු - සහිඳලුණු - තිතෙලින් අඹරා රත් කර එලනු.

14 දෙබර, බඹර, ගෝනුසු, දිමි මකුළු ආදීන්ගේ දරුණු විෂට :— i හැඹි ගැහුණු පොල්පිති යුසට ලුණු වතුර - ලීපේ රතු මැටි - පුස්ඇට මද - දමා කකාරා ගානු. ii මුරුංගා පොතු, දෙහි, ඇඹුලෙන් අඹරා ගානු. iii යකාවනාස්ස පොල්කිරෙන් තම්බා අඹරා ගානු.

15 දෙබර - බඹර - ඕඹැසි විෂට :— i රතුලූනු සුස - උම්බලකඩ - රඹබඩ පුවක් ඉස්ම අඹරා ගානු.

16. දෙබර - බඹර - ඕඹැසි ආදි කීප වර්ගයන්ගේ දරුණු විසට මෙහි පහත දැක්වෙන චූර්ණය උණු දියෙන් හෝ හර මූත්‍රයෙන් හෝ ගෝමූත්‍රයෙන් දෙන්නේ ය.

දශාංග චූර්ණය :— වදකහ - පෙරුංකායම් - වලංගසාල් - සහිඳ ලුණු - ගජපිප්පිලි - දියමිත්ත මුල් - අතිවිඩයන් - නිකුළු - සමභාග, සබලෙන් මැද කුඩු කරනු. වරකට කලං 1½ ක් උණු වතුරෙන් දෙනු.

17. මී විසට :— i දිවුල් කොළ - පොතු තැද දෙනු. ii දිවුල් ගසේ සියල්ල ම දෙනු. iii ඇහැල මුල් - අගුණ මුල් - කටුකරඬු මුල් කසායට, තල් මුල් යුෂ - මීපැණි - ගිතෙල් දමා දෙනු. iv ඇහැල මල් කැකුළු, කිරෙන් අඹරා දෙන්නේ ය. v දිවුල් මාස ගණනක් ම භාවිත කරන්නේ ය.

18 බල්ලන් හා සල :— i බලුදත් පොතු හා ලුණු දමා මලවා අඹරා බඳිනු. තුවාලය වටේ තල තෙල් ගානු. ii කුකුළු පහර කොදට වදින්ට ගානු. iii මුරුංගා කොළ හුණු සමග අඹරා ගානු.

19 ගුංකාව, ගණ්ඩගුරාව:— උෟරු බෙටි දුම ගස්සනු.

20 බළලුන් හා විසට :— i. ඉඟුරුතලා - පෝර - තිබ්බටුදිය - මුරුංගා කොළ - කහ දමා කොටා කකාරා ගාන්නේ ය. ii තෙල් හා බලුලා ලවා ලෙව කවනු. iii මාළුරමිනියා පොතු යුෂ - මීපැණියෙන් කකාරා ගාන්නේ ය. පහත දැක්වූ අගදයක් ගානු.

## විෂ නිසා වන උපද්‍රාවන්ට

1 **ගිනි තැහිමූ කල** :— i අගදයක් හෝ ගුලියක් හෝ නස්න කරන්නේ ය. ii ඉඟුරු - කහ - තිප්පිලි - වදකහ - සුදුළූනු - නර මූත්‍රයෙන් - කහාකිතරන් අඹරා නස්න කරනු. ගිනි වෙයි. iii සස්සඳ මුල් නර මූත්‍රයෙන් නස්න කරනු.

2 **උස්මුරු කයට හා අඩස්සියට** :— i මූසම්ගත - වැල්එපතෙල - බැබිල - ඇහැළ කොළ - අරත්ත අල - කොටා, කඩිපිම්බෙන් තම්බා, නර මූත්‍රයෙන් මිරිකා එඬරු තෙල් දමා දෙනු. ii හැප්පිටියාවුලේ පඹුලු පොල් දමා කොටා දෙහි ඇඹුලෙන් මිරිකා දෙනු.

3 **පපුවේ, උගුරේ අඩස්සියට** :— i කොරහවැලේ වතුර දෙනු.

4 **බැස්ස විස නැවත ජ නම්** :— බටු දලු - කරල්සැබෝ - ගම්මිරිස්, අඹරා තුවාලයේ අලවනු.

**විෂනාශක වස්තු** :— **දියමනති - මරකත - සාරමණි - තුඹකරවිල - සර්පමණි - වෛඩූර්යය - ගජමුතු, තිරා - සැලලිහිණි - බකමූහුණු - හංස - මයුර යන මොවුහු යි. මොවුන් ආශ්‍රයෙන් විෂ** දුරු වෙයි.

**ඇතැම් විට සතුරෝ රාජ්‍යයට පැමිණ** වාසුව විෂ වගීවලින් **විෂ කරත්. එවිට ලාක්ෂා (=පබිත් ලාකඩ) - කහ - අතිවිඩයම් - අරළු - කලාදුරු අල - වාල්මොලගු - එත්සාල් - තෙජ්පත්‍ර** (=කොල්ලන් කොළ) - **කළුහබර** (හොබර=කැලෑවල තිබෙන තිත් කඩිල කොලවලට සමාන* ගසෙකි. ඒව ලොකු ය= පටියා ලොඩු) - **සුවඳ කොටිටන් - ප්‍රියංගු (=රුක් මල් හෝ) සමභාග චූර්ණ කර ගින්නෙන් දුම්** දෙනු. වාසුව, **ධූම විෂ වූ විට එය නිර්විෂ භාවයට පමිණුවා.**

## පාෂාණ ගර්දභ හෙවත් කම්බුල් ගාය

### MUMPS

මෙය හැදුණු විට රත් මාලයක් බැඳීම ද, අලි කන්කත් **දෙහිඇඹුලෙන් ගෑ හා ගැම ද පථ්‍ය යි. i උණ තිබුණොත් කොලමොත කුඩු කර කලං 1½ක් උණු වතුරෙන් දෙනු.** ii පැපිලිය, **කොත්තමල්ලි තම්බා දෙන්නේ ය.**

**මෙය සෑදී සුවවීගෙන එන විට ද, සුව වූ පසු ද දිකී මාශයෙහි ගැම - බර වැඩ කිරීම - දියෙහි ඇවිදීම ආදිය කලොත් පුරුෂයකාට අණ්ඩ ආවයෙහි වෑද්ධිය ද - ස්ත්‍රීහට යෝනි දෙකයෙහි හෝ පයෝධර දෙකයෙහි ඉදිමීම ද වන්නේ ය. ඒව i දරුපනිවාදී**

කෂාය එඬරු තෙල් දමා දෙන්නේ ය. ii මුඛමහන මුල් - වැල් පෙතෙල මුල් - සුදුහඳුන් - උළුහාල් - කොත්තමල්ලි කෂාය, උදේට එඬරු තෙල් දමා - සවසට මීපැණි - පෙරුංකායම් කුඩු දමා දෙනු.

දෙහි ඇඹුල් හෝ මීනාකිරි හෝ කවට ගත් කල තම්බුල් ගාමයේ දී දෙ පස මස් පිඩුවල වේදනාව ඇති වේ. අන් කරුණක් නිසා වී නම් එසේ කිසි වේදනාවක් නො වේ. එසේ කිසි වේදනාවක් නැති ඉදිමුමක් වී නම්, අත්තන ගස සහමුලින් ගෙන කත ලුණු දමා කොටා ඇඹුල් දෙබම් යුෂින් ඉරිනා තකාරු ගානු. දරු පශ්චාදි කෂාය, ගෝමූත්‍ර දමා සිද්ධ කර දෙනු.

**යෞවන පිඩකා** (=කුරුලෑ) :— i ගෝරෝචන- කලාඳුරු අල තනකිරෙන් අඹරා ගානු. ii තිපල්, එළමුනු පතක් ද වතුර පත 7 ක් ද දමා පතට සිඳි කෂාය පානය කරන්නේ ය.

# වාජීකරණ

## Aphrodisiacs

ශුක්‍රය - කාමය වඩන චිකිත්සා ක්‍රමය වාජීකරණ යි. එහි අර්ථය 'අශ්වකරණය' යනු යි.

i ළතා ශිෂ්ට ගති ඇති - එසේ ම සම වූ දැහැමි ඇති - සර්වාංගෝචිත ප්‍රදේශ ඇති - විශිෂ්ට රූපශ්‍රීයෙන් යුක්ත වූ-තිරත ව මුහුණේ පෙම ගතිය ඇත්තා වූ - දකුම් කටයුතු වූ යම් ප්‍රියාවක් වේ ද - ඕ, ශ්‍රේෂ්ඨ වාජීකරණ ඖෂධයකි.

ii. **මේෂාංශුකය** :— ශතාවරිකා - කිරිබදු අල - පුසුල් - තෙල්ලි - තැඹිලි වතුර - භාතාවාරිය අල - කිකිරිඳිය - උක්පැණි, මේවා මිනා අව බැගින්, එළකිරි නැලිය යි, ගිතෙල් නැලිය යි, රසකිඳ පිටි - තිත් හෙරෙණ්ඩු චූර්ණය - සීනමුල් චූර්ණය පත 1 බැගිනි. රටඉඳි පත 1 යි, මුද්දරප්පලම් (=කිස්මිස්) පලම් 2 යි, ඉඹුල් මැලියම් - දෙඳුරු - සෙත්තොල්ලින් - බදුල්ල ඇට මිද - අසමෝදගම් - කරාබු නැටි - වසාවාසි - සාදික්කා - වල්ගම්මිරිස් - අරළු - තෙල්ලි - කොල්ලන් කොළ - කොත්තමල්ලි - සුදුහඳුන් - රතුහඳුන් - වැල්මී - වලගසාල් - කාන්සා - සුවඳ කොට්ටන් - බුළු - එග්සාල් - තලිස් පතුරු - මේවා කලං 3½ බැගින් චූර්ණ කර (කෙලින් කී යුෂකින් අඹරා ගත යුතු යි) සීනි පලම් 1 යි, අඹින් පලම යි බසා ක්‍රමානුකූල ව පිසන්නේ ය.

ගුණ :— මේහ පිත්ත, වාත, ශෝකාර, දෙදත රිදුම්, හන්දි කැක්කුම්, ස්ත්‍රීන්ගේ ප්‍රදර, පීනස, පක්ෂාඝාත, හිරිවාත ආදි රෝග නසා ශරීරය ශක්තිමත් කර යි. යථොක්ත රෝගවල දී නසායන් දී ශරීරය ශුද්ධ කර පසු ව සාද දෙනු. වාජීකරණ යි. දුර්වල අයට ශක්තිය ලැබේ.

## රසායන

## TONICS

**රෝග නසා ආයු වඩන බෙහෙත් රසායන යි.**

තිස මුල් චූර්ණය පලම් අටක් ගෙන - මීපැණි පලම් 16 කින් අඹරා - කුඩා හැළියක් ගෙන - එහි ඇතුළේ හිංතල් ගා අව්වේ සිප දවසක් තබා, පෙර කී බෙත දමා - උඩින් පියනකින් වසා - පුළුං නො යන්ට මැටි බැඳ - උඩින් වැසෙන සේ වී දමා - මාසයක් තබා නැවත ගෙන - 'කුඹුරු ඇට' පමණ කා කිරි බොන්නේ ය. ආයු වඩා - තරුණ වේ,

# පරිශිෂ්ටය

# අලුත් සොයා ගැනීම්

## RESEARCH TREATMENTS

## විෂම ජ්වරය - මැලේරියා උණ - කැලෑ උණ

## Malaria

### තරුණ අවස්ථාව

### First Stage

විෂම උණ හටගත් අවස්ථාවෙහි සිට සත් වැනි දින දක්වා මෙහි පහත දැක්වෙන කෂාය දීමෙන් අධික ගුණ ලැබී තිබේ.

1 ඉඟුරු, ගම්මිරිස්, තිප්පිලි, කොත්තමල්ලි, සුදුලූනු කොකුම් පොතු, අරත්ත අල කලං 1 මංචාඩි 14 බැගින්, පත අට-එකට සිඳ - සීනි - මීපැණි බහා දෙන්නේ ය. මෙය හැලි 3 ක් යෙදිය යුතු.

**මලබද්ධ ගතිය තිබේ නම් :—** මේ අතරට විරේක ගුලියක් (=රසානන්ද, කළුකුමාර ගුලි, ශ්‍රී රාම රස) ආදි ගුලියක් කොහොඹ පොතු - සුදු ලූනු යුසයෙන් කසාය අතරට දිය යුතු.

ගුලි සපයා ගැනීම නො හැකි නම් සුදුලූනු තැම්බූ යුසට ඇහැල පැණි තේ හැන්දෙන් 1 - 2 දක්වා මිශ්‍ර කර දිය යුතු.

ඇහැල පැණි සපයා ගැනීම නො හැකි නම් සුදුලූනු - ඇහැල පොතු කලං 12 බැගින් ගෙන - පත අට එකට සිඳ වරකට පත ⅓ ක් සීනි සමග දිය යුතු.

මෙ බෙහෙත් දෙක යෙදීමෙන් "සැරිබරල් මැලේරියා - මැනිංජයිටිස්" යන නම්වලින් දැක්වෙන සන්‍යාස ජ්වරය ද සමනය වන්නේ ය.

පිපාසය තිබේ නම් නුග මුල්, විෂ්ණුක්‍රාන්ති තම්බා දිය යුතු

වමනය - වමන වේග ඇත්නම් කළුදුරු තම්බා දිය යුතු.

කළුදුරු - සුදුරු කුඩු පට රෙදි කැබෙක බහා පුලුස්සා දුම ඉරවිය යුතු.

### මධ්‍ය අවස්ථාව
### Middle Stage

මධ්‍යම අවස්ථාවෙහි මෙහි දක්වෙන කසාය හැලි 3 ක් හෙවත් දින 3 ක් උදය සවස මේ ක්‍රමයට දිය යුතු.

රුක් අත්තන පොතු කලං 12 යි. පත අට එකට සිඳ පෙරා ගන්නේ ය.

වරකාව පත ¼ ක් පිරිසිදු අරක්කු මේස හැන්දෙන් 1–2 බැගින් බහා දවසකට දෙවර යි. මෙසේ දවස් 3 ක් දී විරේක කටයුතු.

**විශේෂ ඖෂධයන් :—** ඇට්ටමුරා මුල්, විෂ්ණුක්‍රාන්තිය, කටුකරෝසන, අරළු, කොහොඹ පොතු.

### පුරාණ අවස්ථාව
### Third Stage

පුරාණ විෂම හුණට විශේෂයෙන් මේ කසායවල් දීමෙන් ඉතා සතුටුදායක ගුණ ලැබී තිබේ.

1 නුගමුල් - උක් දඬු කලං 6 බැගින්, පත 8—1 ට සිඳ, සීනි කලං 1¼ මීපැණි මේස හැඳි 1 ක් ද බහා දින 6 ක් හෝ 12 ක් දිය යුතු.

2 තවු ගැසුණු පොල්පිති යුස පත ¼ යි සහිඳ ලුණු කලං 1¼ යි මිශ්‍ර කර, උදේ උදේ දින 3 ක් දිය යුතු.

3 පේර මුල් - විෂ්ණුක්‍රාන්ති කලං 6 බැගින්, කසාය සිඳ සීනි බහා දෙන්නේ ය

**පිලා ඉදිමුම, උණ ඉදිමුම, අක්මා ඉදිමුම, ලේ අඩුකම, පාණ්ඩු ඇති වී නම්:—** බෝ - නුග - ඇසටු - අට්ටික්කා - දිවුල් - මසන් මේවායේ, පත් අඹුර අඹුර ගෙන කොටා කබපිම්මෙන් තම්බා එළකිරෙන් මිරිකා උදේ උදේ සුමාන 2 ක් භාවිත කරනු.

## දත් රෝග
### Dental Diseases

**දත්වලින් ලේ එන කල:—** පේර පොතු තම්බා දත් සෝදනු. එළවලු - පලතුරු බහුල ව භාවිත කරන්නේ ය.

කුඹුක් පොතු - අරළු තලා සවස දියේ බහා උදේ කට සෝදා සාමාන්‍ය දත් කුඩෙකින් දත් මදනේ.

## දියවැඩියාව

### Diabetes

1 ගුඩමාරා පොතු (= කොළඹ වීදිවල ද, නුවර පාරේ ද, අයිනේවල වවා තිබෙන කහ මල් ඇති ගස්)- කොළ - මල් කසාය මීපැණි බහා බොන්නේ ය.

2 රට හෙල්ලී (=තුන් හුලස් වගේ තිබෙන තීස් හැලුවෙන වර්ගය) - උනහාඩ පත් - අමුකහ ස්වරස පත ¼ ට මීපැණි බහා මාසයක් භාවිත කළයුතු.

3 ගම්මාලු කිරි බින්දු 5 — 10 දක්වා ඇල් දිය සමග දවසට තෙවර බැගින් කෑමෙන් පසු ගත යුතු. පථ්‍යාපථ්‍ය සලකාගන්නේ ය.

## බඩේ කැක්කුම

### Colic-Stomach-ache

අජීර්ණ - අතිසාර - බඩේ වාත - ජලසන්නි ආදී නානා හේතූන් නිසා බඩේ කැක්කුම හටගනී. එවිට එය නැවැත්වීමට මෙහි පහත දක්වන බෙහෙත යොදන්නේ ය.

වදකහ කලං 2 ක් පෙති ගසා කැටිලුණු මංචාඩි 10 ක් සමග කබලක ලා සම්සින් වසා ලිපේ තබා අළු වෙන තුරු බදින්නේ ය මෙයින් හතරෙන් පංගුවක් උණු වතුරෙන් දෙන්නේ ය.

බඩේ රුදාවත් නවතී. නො නැවතුණොත් තවත් පැයකින් පමණ තව වරක් දෙන්නේ ය. නැවතුණු පසු බඩඑලිය යැම වුවමනා බව කල්පනා වේ නම්, අරළු - කරපිංචා නැටි - ඉඟුරු කබලින් බැද කුඩු කර උණු වතුරෙන් සියල්ල කලං 1½ ක් දෙනු. අජීර්ණ හා ජලසන්නියේ දී ඇති වූ බඩේ වේදනා නසා.

## ශුක්‍රමේහය, ස්වප්න මෝචන, ශරීරය කෘශ වීම

### Spermatorrhea Etc

1 හෙල්ලී - රසකිඳ - රණවරා පසග - කලං ¼ බැගින්, පත අට එකට සිඳ සීනි මීපැණි බහා දෙන්නේ ය. දින 6 ක් හෝ 12 ක් දිය යුතු.

2 බඩේ වම පැත්තේ පිපුම, රිදීම, ආහාර අප්‍රිය ගතිය තිබේ නම් අමු අස්වැන්න පුසින් කැද උදේ උදේ දින 3 ක් දිය යුතු.

3 සුදු හඳුන් - කුඹුක් මුල් කලං 6 බැගින්, පත 8 එකට සිඳ මීපැණි - සීනි බහා දෙන්නේ ය.

4 කුග මුල් - විෂ්ණුක්‍රාන්තිය - ගොත්තමල්ලි කලං ¼ බැගින් පත අට එකට සිඳ සීනි මීපැණි බහා දෙන්නේ ය.

5 කුග මුල් සම්බා බීම යෝග්‍ය ය.

**කැස්සත් හිරිකත් නම් :—** ආඩාතෝඩා පඤ්චාංගය විශලා - සම්බා මාසයක් පමණ පානය කරන්නේ ය.

කැස්ස ඇතිවා හෝ නැතිවා හෝ මෙහි පහත දක්වෙන චූර්ණය සංදු වරකට කලං 1½ බැගින් දින 7 ක් උදේ උදේ නිවුණු උණුවතුරෙන් බොන්නේ ය.

**ශුක්‍ර සංජීවනී චූර්ණය :—** වැල්මී - සුදු හඳුන් - සහිදලුණු - ඉඟිනිඇට - සීනි - තිප්පිලි - අක්කරපව්වා - උණ කපුරු - එන්සාල් - වාල්මොලඟු සමභාග, චූර්ණ කරන්නේ ය.

**මාත්‍රා :—** කලං 1½ ක් පොල්පලා කසායෙන් දෙන්නේ ය. ශුක්‍රමේහය නාසා.

## ඖපසර්ගික මේහය

### Gonorrhoea

**අලුත් හෝ පරණ හෝ ඕනෑ ම සුදුබින්දුමකට මේ කසාය පිළිවෙළින් දින 21 ක් දිය යුතු**

නෙල්ලි-රසකිඳ-ඉකිරිය(=නීරමුල්ලි)-ගොකටු (=නෙරෙංචි)-ශතාවාරිය අල කලං 2 මඤ්ඤාඩි 8 බැගින්, පත 8—1 ට සිඳ සීනි, මීපැණි බහා උදය සවස දෙන්නේ ය.

මලබද්ධ ගතිය තිබේ නම් රෑ නින්දට යන කල මෙහි පහත දක්වෙන යෝග 2 න් 1 ක් පානය කරන්නේ ය.

i වියලි නෙල්ලි කලං 6 ක් දිය පත අට පත ¼ ට සිඳ පෙරා මීපැණි මේස හැඳි 2 ක් බහා.

ii අඹු නෙල්ලි යුෂ පත ¼ ක් මීපැණි මේස හැඳි 2 ක් සමග.

කසාය 21 ක් බීමෙන් පසු, හඳුන් තෙල් දවසට 2 වරක් බින්දු 5 බැගින් වතුරට බහා සුමාන 2 ක් භාවිත කරන්නේ ය.

**සංලක්ෂණය :—** ඉහතින් දක්වූ කසාය ශ්වේත ප්‍රදර ආදි ස්ත්‍රී පිළිබඳ සියලු දෝෂයනට යෝග්‍ය ය. මුත්‍ර දෝෂ නිසා ඇගේ කැක්කුම ඇති වූ කල ද පානය කරන්නේ ය ශ්වේත ප්‍රදර - ඇතැමෙක් සෝම රෝගය කියන රෝගයට, මේ කසාය 13 දිනක් දී පසු ව, අඹු නෙල්ලි යුෂ මීපැණි සමග දෙන්නේ ය. ඉක්බිති නාමල් රේණු කලං ⅓ බැගින් කිරි මෝරුවෙන් අඹරා ඉන් 3 උදේ උදේ සුමාන 2 ක් දෙන්නේ ය.

# ශ්වාසය, ඊලය, ඇදුම

## Asthma

1 අප්ර පත් - කොත්තමල්ලි - කලං 6 බැගින් - පත අට එකට සිඳ හල්සකුරු කලං 1½ ක් බහා උදේ සවස දෙන්නේ ය - මාසයක් පමණ දිය යුතු.

2 අරළු - කොත්තමල්ලි - සිරිතේක්කු - විෂ්ණුක්‍රාන්තිය, ලුණුවිල - කුකිරිය ඇට (=නීරමුල්ලි), කලං 1 [illegible] 1¼ බැගින් පත 8—1 ට සිඳ සීනි - මීපැණි දමා දෙනු.

3 කණු සොලු - ගෝක හරි එහ වගීයක් කොටා කඩපිම්මෙන් තම්බා - මිරිකා - මීපැණි බහා දෙන්නේ ය. මාසයක් දීමෙන් නිසැක ව ගුණ ලැබේ බැලතණ ගුණ අධික යි.

4 මහ නිදිකුම්බ මුල් කලං 12 ක් පත අට එකට සිඳ පෙරා සීනි - මීපැණි - තිප්පිලි කුඩු - උණ කපුරු කුඩු බහා උදේ සවස දින 12 ක් දෙන්නේ ය.

5 ඉද්ද මුල් කහකිරෙන් කල ගා ඒව දිය කර දෙන්නේ ය. එසැණෙහි ඇරෙයි.

6 කුප්පමේනිය දලු මාළුව පිස ඒ සමග බත් කන්නේ ය. සුභාතය යි.

# මූත්‍ර දෝෂ

## Urinery Complaints

මූත්‍රවල නානා පදුරු ඇති වූ කල ශරීරයට නොයෙක් නොයෙක් ආබාධ ඇති වේ. මූත්‍ර ද අපිරිසිදු වෙයි. එවිට මේ බෙහෙත් දෙක ඉතා වැඩි දවසක් භාවිත කළ යුතු යි.

1 විෂ්ණුක්‍රාන්තිය තම්බා මීපැණි බහා උදේ සවස පානය කරන්නේ ය.

2 කොත්තමල්ලි පලම් 3 ක් තලා දිය පත 2 ක බහා, සවස පින්නේ තබා උදේ පෙරා ගෙන සීනි බහා පතක් ද, සවස පතක් ද බොන්නේ ය. මෙසේ සුමාන දෙකක් භාවිත කළ යුතු ය.

ශරීරයේ හැම තැන ම ඇති වන දැවිලි ද නැති වෙයි.

බාර්ලි වතුර - තැඹිලි වතුර සහ පොල්පලා - ගොනබු - කුර තම්පලා - තුඹ මුල් - කුඹුක් කොළ යන මේවා තැම්බූ වතුර - ඉඟිනි ඇට බැද කෝපි මෙන් සාද පානය කිරීම - දෙමු හැවියේ කිරි - රණවරා - මිව පරම ය.

# නිමිර වාදම්, හොර, දනහිස් වලලුකර ඉදිමුම්, ප්‍රමේහ වාත

## Lameness Etc

මුලින් ම විරේක සඳහා මේ කසාය දින 3 ක් දිය යුතු. උදේට එරඬු තෙල් හෝ රනි හාමි තෛලය හෝ ලසුණේරණ්ඩ තෛලය හෝ විෂ්ණුනාරංජ තෛලය හෝ බහා දිය යුතු. සවසට සීනි - මීපැණි සමග දෙන්නේ ය.

1 අරළු - බුළු - නෙල්ලි - ඇසළ පොතු - රසකිඳ - ආඹෙතෝඹ මුල් කලං 2 බැගින්, පත අට එකට සිඳ දෙන්නේ ය.

ඉක්බිති මෙහි පහත දක්වෙන කසාය, වාත වේදනා, ඉදිමුම අඩුවෙන තුරු දින 6 ක් හෝ 12 ක් හෝ දෙන්නේ ය.

2 නෙල්ලි - රසකිඳ - ඉසිරිය (=හිරමුල්ලි) - කොකටු (=කොරෙසඩු) හාතාවාරිය අල කලං 2 මංචාඩි 8 බැගින්, පත අට, එකට සිඳ සීනි මීපැණි බහා දෙන්නේ ය.

මලබද්ධ ගතියක් තිබේ නම් රෑ නින්දට යන විට නෙල්ලි කලං 6 ක් පත 4 ක් දිය බහා පත ¼ ට සිඳ පෙරා මීපැණි මේස හැඳි 2 ක් බහා පානය කරන්නේ ය.

ඉක්බිති මේ කසාය දින 3 ක් දිය යුතු.

3 අරළු - බුළු - නෙල්ලි - දියමිත්ත - ගොත්කැකිරි අල - සලාදුරු අල - කහ - වෙනිවැල් ගැට - කලං 1½ බැගින්, පත 8 එකට සිඳ තලතෙල් - කහ කුඩු බහා දෙන්නේ ය.

ඉක්බිති ලේ ශුද්ධ වන කසායක් ශරීරයෙන් විෂ පිටවන තුරු දිය යුතු යි. ඊට මේ කසාය ඉතා යෝග්‍ය ය. මේ කසාය සියලු ම ලේ දූෂිතකම්වලට ද උපදංශවලට ද කෙඩි, වණ, දද, කුෂ්ඨ, කසුවෙවගත්, වාතරක්ත ආදියට ද දිය හැක. අතුල් පතුල් දැවිල්ලට ද යෝග්‍ය ය.

4 රසකිඳ - තිරස්සවැල - ඉඟුරු - කැමැත්දරු - හිරමුල්ලි - පුළුවරැණි - අසිම්බඩගෝ - සුදු හඳුන් - රත් හඳුන් - බැබිල මුල් - පිරමැඩි බැබිල මුල් - වැල්මී - කොකොම - අරළු - දුම්මැල්ල - හාතාවාරිය අල - කස - නෙල්ලි - ආඹෙතෝඹ මුල් - පැණි පෝර මුල් - මිසඬාඩි 12 බැගින් පත 8—1 ට සිඳ සීනි, මීපැණි බහා දෙන්නේ ය

පරිශිෂ්ටය නිමි.

# සෞඛ්‍ය

## සදාචාර විධි

## Health And Morality

1. නීරෝගීබව කැමති පුරුෂයා බ්‍රාහ්ම මුහුර්තයෙහි (අළුයම 4—5 අතර) නැගී සිට, ශරීර කෘත්‍යය කොට, ජලයෙන් ශරීරය පිරිසිදු කොට, කරඳ - කුඹුක් - තුග ආදී කටුක - තික්ත රස ඇති, දැහැටි සපා මුව දෝවනය කරන්නේ ය.

2. අජීර්ණ - වමන - ශ්වාස - කාස - උණ - අර්දිත - තෘෂ්ණා - මුඛපාක - හෘද්රෝග - නේත්‍ර රෝග - ශිරෝ රෝග - කර්ණ රෝග ඇති අය දැහැටි භාවිත නො කළ යුතු යි.

3. ධූජෝසක රෝග ඇති අය ද දත් මුල්හි විදුරුමසේ රෝග ඇති අය ද - අරළු - දෙළුම් ලෙලි - කපුරු - කලාදුරු අල සමභාග ගෙන, සියල්ල බරව මූතමල් පොතු ද - ගෙන චූර්ණ කර ගත් කුඩෙන් දත් මදින්නේ ය.

4. මුඛයෙහි සෙම හා පණුවන් නසන්නා වූ ද - ජඨරාග්නිය උපදවන්නා වූ ද - පස් පල වතින් යුක්ත වූ බුලත් විතක් ආහාරාන්තයෙහි සපන්නේ ය.

5. නීරෝගීභාවය කැමති අය මස් - මාළු - කරවල - බිත්තර ආදි සත්ව ද්‍රව්‍ය ද - මත්පැන් ද - දුරු කරන්නේ ය. එළවළු - නිල් කොළ වර්ග - පලතුරු බහුල ව භාවිත කරන්නේ ය.

6. දේවතා - ආචාර්ය - ගව - වෘද්ධ - නෘප - අතිථි (=ආගන්තුක අය) - වෛද්‍ය යන අය පුදන්නේ ය.

7. මස්තක - කර්ණ - පාද දෙක - විශෙෂයෙන් ද - මුළු ශරීරයෙහි ම ද - සුමානයකට වරක් තෙල් ගා ස්නානය කරන්නේ ය. නෑමෙන් පසු ශරීරය වෙහෙසන කිසි කටයුත්තක් නො කරනු. සෙම් රෝග - අජීර්ණ - උණ - අතිසාර - වමන - විරේචන ආදියෙන් ශොධනය කළ ශරීර ඇති අය තෙල් නො ගල්ලන්නේ ය.

8. පමණ දැන ව්‍යායාම ද කරන්නේ ය. ශරීරයාගේ ලඝුතාව ද - කර්මයෙහි සාමර්ථ්‍යය ද - අග්නි දීප්තිය ද - මේදයාගේ ක්ෂය ද - ශක්තිය ද එයින් ඇති වන්නේ ය. වාත රෝගී - පිත්ත රෝගී හා අජීර්ණ - උණ ආදීහු ද ව්‍යායාම නො කරන්නේ ය. ව්‍යායාමයෙන් දියවැඩියා - ප්‍රමේහ යන රෝග හැදීම වළකින්නේ ය.

9. අධික ව්‍යායාමයෙන් තෘෂ්ණා - ක්ෂය - ප්‍රතමක - රක්ත පිත්ත - ශ්‍රාන්ති - කලාන්ති - කාස - උණ - වමන ආදි රෝග උපදීම ද - ආයුක්ෂය ද වන්නේ ය.

10. ස්නානය කිරීමෙන් අග්නි දීප්තිය වෙයි. ධාතු වඩා, ආයුෂ කරයි. උත්සාහ - බලප්‍රද වෙයි. කණ්ඩූති - ශරීර දුගඳ - තන්ද්‍රා - තෘෂ්ණා - ධූලි ආදිය දුරු කෙරේ. අර්දිතය - ඇසය - ක්‍ෂයය - කාසය යන සාන්නි රෝග ඇත්තවුනට ද- අතිසාර - උණ - ප්‍රතිශ්‍යා - බඩපිපුම් - අජීර්ණ ඇත්තවුනට ද ආහාර ගත් ඉක්බිති ම ද නෑම යුතු නො වේ.

11. උණු දිය නෑමෙන් අධඃ කායට බල දෙන්නේ ය, ඉස් කෙස් බල ද - චක්ෂු බල ද දුරු කෙරෙති. අධඃ කායට උණු දිය ද - ඌර්ධ්ව කායට ඇල් දිය ද යෝග්‍ය ය. මුහුණ සේදීමට ඇල් දිය ද, පා සේදීමට උණු දිය ද ඉතා හොබනේ ය. වැසි දිය ඇස් සේදීමට හිත ය. පොළින් ගත් වැසි දියෙහි විදුලිය ඇත්තේ ය. ඒ නිසා, වාත රෝග නැසීමේ බලයක් එහි ඇත්තේ ය.

12. සාධ්‍ය වූ ව්‍යාධිය සමනය නො කර අනෙකක් නො කරනු.

13 පූර්ව දිගින් හමන සුළඟ ද - පෙරවරු අවු ද - රජස් ද- පිනි ද - ක්‍රෑර වූ අවු සුළඟ ද - සේවනය නො කරන්නේ ය.

14. අත පය සැලීම ද - ඉස සැලීම ද - බෑම නැටීම ද - උසුලු විසුලු පෑම ද - අවමන් ද නො කරන්නේ ය.

15. බොහෝ වේලාවක් උක්කුටිකායෙන් සිටීම ද - දන පමණින් උස් ආසනයක ඉඳීම ද නො කරන්නේ ය.

16. ගිනි දෙපා අතරෙහි ලා නො සිටින්නේ ය.

17. පවිත්‍ර භූමිය ද-ජලය ද- මාර්ගය ද - වෘක්‍ෂස්ථානය අවට ද- සිද්ධස්ථානය ද - මල මූත්‍ර සෙම සොට්ට කෙළ ආදියෙන් අපවිත්‍ර නො කරන්නේ ය.

18. ඉරමඬල බලා ඉඳ මල මූත්‍ර නො කරන්නේ ය.

19. පය සෝදන්නවුන් විසින් ගලෙහි ගටා මුත් පයින් පය ගවා, නො සෝදන්නේ ය.

20. යමෙකින් මුහුණ නො වසා, කිවිසීම ද - කිනා ද නො කරන්නේ ය.

21. සභා මධ්‍යයෙහි ඉන්ද්‍රියන්ට ආධාර වූ ස්ථාන නො පානු.

22. කයින්, වචසින් නොමනොත් බව නො කරන්නේ ය.

23. ගිනි ය, පූජ්‍යයෝ ය යන මොවුන් දෙ මැදින් නො යනු.

24. මිත්‍රාදීන්ගේ දෙ මැදින් ගිනි දර ආදිය ගෙන නො යනු.

25. ආසනයෙහි පය එලවා නො හිඳිනේ ය.

26. තම්බා ඇසුරු කළවුනට ද දෙවියනට ද අමුත්තනට ද බෙදූ ඉතුරු නොවස, උතුරු දිගට මුහුණ ලා නො ඉඳ, බඩගිනි

ඇති කල්හි ම, පමණ බලා අනුභව කරන්නේ ය. පළමුවන සිත දුශ්ශබ්ද අසමින් නො කන්නේ ය. අනෙකෙක් අග බලමින් සිටිය දී නො කන්නේ ය.

27. උතුරු දිගට ද - බස්නාහිර දිගට ද හිස ලා නො නිදනු.

28. උගැති මහණෝ පිළිම ගෙවල් ය - පූජ්‍ය පුරුෂයෝ ය - නගර ශාසනියට හැඳූ ධ්වජය යන මොවුන්ගේ සෙවනැල ද අළු - කාපු දිය - බිලිහම් කළ තැන බිම - චණ්ඩාලයන්ගේ හා අංග විකලයන්ගේ සෙවනැල - මෙයි දෙය, තමන්ගේ ඇඟ නො හෙළනු.

29. තමන්ගේ සෙවන පූජනීයයන් කෙරෙහි නො හෙළනු.

30. තමා ම උසස් යයි තමා ම ප්‍රශංසා කර ගැනීම ද - අනින් අන පැහැරීම ද නො කරන්නේ ය.

31. දිලිසෙන වස්තූන් ද - සූර්යමණ්ඩල ද - පහන් ද - ගිනි ද - නිරන්තරයෙන් බල බලා නො ඉඳින්නේ ය.

32. රෑ නිදි මැරීම ද, දහවල් නිදීම ද විෂම භෝජනය ද, රූක්ෂ බව ද, ඉතා සිනිඳු බව ද හැම කල්හි ම දුරු කරන්නේ ය.

33. යුක්ත ප්‍රාප්ත කාලයෙහි නිබොරු වූ අසීරුවන වූ පරිමිත වචනයන් කියන්නේ ය.

34. කටින් ගිනි නො පිඹින්නේ ය. ගිනි අතින් පයින් නො පිරිමදින්නේ ය මෙකී වස්තූන් කෙරෙහි අපවිත්‍ර දෙය නො හෙලන්නේ ය. බත් කෑ ඇසිල්ලෙහි ගිනි නො තප්නේ ය.

35. ලජ්ජාදි පසළොස් ධර්මයෙන් යුක්ත ව එබඳු වූ ම කල්‍යාණ මිත්‍රයන් සේවනය කරන්නේ ය.

36. සියල්ලෝ ම සැප කැමැත්තෝ ය. ධර්මය හැර වෙන සැපක් නැත. එහෙයින් සියලු කල්හි ම ධර්මය පිහිට කොට ගනු.

37. හිංසා (=ප්‍රාණ ඝාතය) - ස්තෙය්‍ය (=සොරකම) අයථා කාමය (=වරදවා කාමයෙහි හැසිරීම) පෛශුන්‍ය (=පරභේදකාරක කථා) - කර්කශ වචන - අසත්‍ය කථා - අසම්බන්ධ වාක්‍ය - ව්‍යාපාද - අභිධ්‍යා - දෘෂ්ටි විපර්යාස යන දශ ආකාර පාප ධර්මයන්ගෙන් වළකින්නේ ය.

38. අසරණයන්ට ද - රෝගීන්ට ද ශෝකයෙන් යුක්ත වූවන්ට ද පිහිට වන්නේ ය.

39. මැසි, කුහුඹු ආදි ක්ෂුද්‍ර සත්ත්වයන් පවා, තමා මෙන් සලකන්නේ ය.

40. සම්පත්හි ද - විපත්හි ද - මධ්‍යස්ථ ව වසන්නේ ය.

41. ධර්ම - අර්ථ - කාම යන ත්‍රිවිධ සැප තොමැති කටයුතු නො කරන්නේ ය,

42. හුම්ඳ වගී භාවිත කරන්නෝ ය.

43. රත්න - සිද්ධ මන්ත්‍ර - බෙහෙත් ආදිය නිතර දරන්නෝ ය.

44. ගමන කාලයෙහි පාවහන් - කුඩ - ව්‍යවහාර කරන්නෝ ය.

45. රාත්‍රි කාලයෙහි වෘක්ෂ මූලයෙහි - හුඹස සමීපයෙහි - චෛත්‍යස්ථානය (=ග්‍රාමස්ථ ප්‍රසිද්ධ පූජ්‍ය වෘක්ෂ තාලය) - සතරමං සන්ධිය - දේවාලය ආදී ස්ථානවල නො වසන්නෝ ය.

46. උදය කාලයෙහි ද - සවස ද - ග්‍රහණ කාලයෙහි ද - සූර්යයා නො බලන්නෝ ය.

47. හිසින් බර නො උසුලන්නෝ ය.

48. සූක්ෂම වස්තු - ප්‍රදීප්ත අග්නි, සිබාදිය - මල හා අපවිත්‍ර ද්‍රව්‍ය - පිළිකුල් ද්‍රව්‍ය - නො බලන්නෝ ය.

49. සතුන් වෙළඳාම් - මද්‍ය වෙළඳාම් නො කරන්නෝ ය. ඊට සම්බන්ධ ද නො වන්නෝ ය.

50. ශරීරය වක්‍ර ව ඉඳ කිඹිහුත් හාරින්නෝ ය, නො කාරනු, නො කසින්නෝ ය, නො නිදින්නෝ ය, ආහාර නො ගන්නෝ ය, ග්‍රාම්‍ය ධර්මයෙහි නො හැසිරෙන්නෝ ය.

51. නදී තීරයෙහි වූ වෘක්ෂයෙහි ඡායාව - රාජපුරුෂයන් - දුෂ්ට අශ්ව ගජාදීන් - ව්‍යාඝ්‍ර - සර්ප ආදී දළ ඇති අය - ගෝ මහිෂ ආදී අං ඇති අය හා සමඟ, සම්බන්ධකම් නො පවත්නෝ ය.

52. නීච - අසාධු - අති නිපුණ - සේවා - උත්තම අය හා සමග වාද නො කරන්නෝ ය.

53. සායං කාලයෙහි ආහාර - ස්ත්‍රී සංග - නිද්‍රා - ශාස්ත්‍ර චින්තා නො කරන්නෝ ය.

54. සතුරන් දෙන අන්න - යාචිත අන්න - ජනාකීර්ණ ස්ථානයෙහි අන්න - ප්‍රසිද්ධ භෝජන ශාලාවන්හි අන්න කෑමෙහි දී ප්‍රවේසම් විය යුතුයි.

55. බුද්ධිමත් ප්‍රාඥ වූ කල්‍යාණ මිත්‍රයන්ගේ උපදේශ සියලු කටයුත්තෙහි ලබා ගන්නෝ ය.

56. සියල්ලන් කෙරෙහි මෛත්‍රිය ද - දීම ද - කාය - සිත - වචනය යන මොවුන්ගේ හික්මීම ද - පරාර්ථචර්යාව ද කරනු.

57. මලමූත්‍රාදි වේග නො උසුලන්නෝ ය. ලෝභ - ඊර්ෂ්‍යා - ද්වේෂ - මාත්සර්‍ය - රාග යනාදීන්ගේ වේග ධරන්නෝ ය-

සුචරිතයෙහි හැසිරෙන්නෝ ය. නීරෝගී බවට ඒකාන්තයෙන් පැමිණෙති.

"සබ්බෙ සත්තා අවෙරා හොන්තු"

පවුලේ වෙද පොත

නිමි

# “වෛද්‍ය ශාස්ත්‍රය”

වූ කලී පරතෙරක් නැති මහා සමුද්‍රය වැනි පරම ගම්භීර ශාස්ත්‍රයකි. එහෙත් අද ලක්දිව නොයෙකුත් පාරවල් දක්නට ලැබෙන්නේ අසවල් රෝගයට විශේෂඥ වූ.................ගනාදී දැක්වීම පුවරු සවි කළ බෙහෙත් ශාලාවන් ය. ඉතින් මෙසේ විශේෂ භාවයක් ප්‍රසිද්ධියට පැමිණි ඇති වෛද්‍යවරයන් ගෙන් බොහෝ දෙනෙක් මාධවය පමණවත් නො කියවූ අය බව කියන්ට වීම ඛේදයට කරුණෙකි. පාරම්පරික සිංහල භාෂාවෙන් එතරම් වැඩිපුර වෙද පොත් සකස් වී නැති බව කිය යුතු ය. එසේ ද වුව පැරණි හසනාකාර වෛද්‍යක්‍රමයන් හා වට්ටෝරු වෙදකම් ද පරම්පරාවෙන් පරම්පරාවට අයත් වෙමින් පවත්වා ගෙන එනු ලැබේ. කලක දී ඒවා එසේ පැවැත්මෙන් අමතක වී යා හැකි ය. එහෙයින් එවැනි ආනුභාව සම්පන්න ඖෂධ යෝගයන් එක්තරා ග්‍රන්ථ වශයෙන් මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කිරීම අතිශයින් කාලෝචිත කාර්ය යක් වනු නො අනුමාන ය.

වෛද්‍යාචාර්ය ජයසේකර මහතා විසින් ඇස් රෝගයන් පිළිබඳ චිකිත්සා ක්‍රමයනුත් සිය වෛද්‍යයන්ගේ ක්‍රමයනුත් ලක්දිව වෙද වට්ටෝරුවල එන ක්‍රමයනුත් එක්කොට සම්පාදනය කර තිබේන “සිංහල අක්ෂිරෝග චිකිත්සාවලිය” ඉතා ම ප්‍රයෝජනවත් ග්‍රන්ථයකි.

රෝග නිදාන හා ප්‍රතිකාරයන් ද මේ පොතෙහි මැනවින් පැහැදිලි කර දී ඇත්තේ ය. එහෙයින් මෙම පොත වෛද්‍යයන්ට පමණක් නොව සාමාන්‍යයෙන් කාටත් ඉතා ප්‍රයෝජන ගත හැකි ග්‍රන්ථයක් බව මෙහි ලා සඳහන් කරන්නේ ඉතා ප්‍රීතියෙනි.”

“සිංහල ජාතිය” පත්‍රයේ අනුර විසින් ද මෙසේ වර්ණනා කරණ ලද මේ ප්‍රශස්ත ඇස් වෙද පොතේ මීට පෙර ඔබ නොදුටු ප්‍රත්‍යක්ෂ ඖෂධ යොග හා නෙත්‍ර රෝග නිදාන හා ලක්ෂණ දක්ක හැකි ය. මිල රු: 2. සි තැ: මිල ශත -/25

# සිංහල අරිෂ්ටාසව ප්‍රකරණය 2 වෙනි

“සිංහල වෛද්‍යශාස්ත්‍රයට පමණක් නොව සිංහල සාහිත්‍යයට ද සෙවයක් වන අයුරින් ජයසේකර මහතා අරිෂ්ටාසව ප්‍රකරණය සම්පාදනය කිරීමෙහි ලා මහත් පරිශ්‍රමයක් දරා තිබෙන බව පෙනේ. අංක 78 සිට 332 දක්වා අරිෂ්ට හා ආසව විශාල සංඛ්‍යාවක වට්ටෝරු ඉතාමත් පැහැදිලි ලෙස ක්‍රමවත් ආකාරයෙන් යොදා තිබෙන මෙහි පැරණි වෙද පොත්වල බහුල වශයෙන් දක්නට ලැබෙන අනවශ්‍ය වර්ණනාවන්ගෙන් සම්පූර්ණයෙන් ම ඈත්කොට තිබීම ඉතාමත් යෝග්‍යය. ජයසේකර මහතා විසින් යොග නොට අන්දර තිබෙන ඖෂධ සංයෝග මෙහි බහාලීමෙන් ඒ මහතා ගුරුමුෂ්ටි සඟවන කුහකත්වයෙන් දුරු වී සිටීම අන්‍යයන්ට ද ආදර්ශයක් වේ ය යි සිතිය හැක. ලිහිල් ලෙස භාෂාව යෙදීමෙන් වෛද්‍ය ශිෂ්‍යයන්ට පමණක් නොව සාමාන්‍ය ජනයාට ද මෙහෙන් එලදායක වනු ඇත. මුද්‍රණය ඉතාමත් අගනා ලෙස කර තිබේ.

‘ලංකාදීප කතාවරයාගේ ප්‍රභාගයකි.’

සොනහා මිල රු: 8 සි තැපැල් මිල ශත 25 යි

‹‹මනුෂ්‍ය ජාතියක දියුණුවේ මාර්ග දෙශකයා ග්‍රන්ථකර්තෘවරයාය. ඔහුගේ කාර්යය ඉතා බරපතල එකකි. දක්ෂ කරදර නම් කපටාල මැද්දේ ඔහු තමාගේ මෙහෙය ඉටු කරන්නේ ය. අනෙක් කිසි රසකාවක් සොයා ගැනීමට උගතට වීම නිසා මුදල් ඉපයීම පරමාර්ථ කොට ගෙන පොත් වෙළෙඳුන් සතුටු කිරීමට ඔවුන්ට අභිමත යමක් ලියා දෙන්නෝ කොයේ නම් ග්‍රන්ථ කර්තෘවරයෝ වන්නෝ ද? නොවෙමිය. ඔහු ගත්කරු යන පෙළ පදවිය කොලෙසන්නෝ ය; එයට නින්දා ගෙන දෙන්නෝ ය. අපේ රටේ සිංහල භාෂාවෙන් පොත් පත් ලියන අය නොකරම සිටිය ද කිය වීමට රුචි උපදවන ගිහිවක් ලිය හැකි නැගැත්තන් ඇත් නම් ඇත්තේ ඉතා ම සවල්ප දෙනෙක් බව අමුතුවෙන් කිය යුතු දෙයක් නො වන්නේ ය.

සුප්‍රසිද්ධ අපරදිග ග්‍රන්ථකර්තෘවරයෙකු වූ ෂැක්ස්ඛරල්ගේ අදහස් ආශ්‍රයෙන් සී. කේ. ඩබ්ලිව් සිරිවර්ධන මහතා විසින් ලියා තිබෙන "පෙම් පෙරළි" නම් ග්‍රන්ථය එක විටක් කියවූවකුට යළිත් කියවීමට අභිරුචියක් ඇති වනු නො අනුමානය; ස්ත්‍රීපක්ෂයේ දුර්වලකම්, වෛශෙෂික යහපත් ගතිගුණ, රූප ශෝභාව ආදි කරුණු හා ප්‍රේමය නැමැති මිනිස් සිත් සතන්හි ජනිත වන අරුම පුදුම හැඟීමෙහි විවිධ හැඩහුරුකම් සෙවත් ලක්ෂණයන් ද මෙම පොතින් චිත්තාකර්ෂණීය පරිදි විස්තර කොට ඇත්තේ ය.

'පෙම් පෙරළි' නවකථාවක් නොව ප්‍රේමය පිළිබඳ විවරණයකි න්‍යාය දර්ශනයකි. සාමාන්‍ය නවකථාවක් මෙන් ම අවධානය සතු කරන සුලු ය. රසවත් ය. ස්ත්‍රියකගේ වේවා පුරුෂයෙකුගේ වේවා යහපතට හෝ අයහපතට මූලහේතුව වනුයේ ඔවුනොවුන්ගේ ප්‍රේමය බව දක්වමින් ඒ ප්‍රේමය නොයෙක් අඳුමින් වෙස් මාරුකර ගෙන ජීවිතය පිළිබඳ බැරෑරුම් ප්‍රශ්නයන් ඉදිරිපත් කරවා එයට අනුරූප සිතුම් පැතුම් හැඟුම් පල කරවන අයුරු පෙම් පෙරළියෙන් අපූරුවට පැහැදිලි වන්නේ ය. අමු සැමියන්ගේ ජීවිත වාසනා මෙන් හා ප්‍රීතියෙන් ද ගත කිරීමට මෙම පොත කල්පනාවෙන් සූක්ෂමව කියවා බැලීමෙන් ලැබිය හැකි ප්‍රයෝජන සුළුපටු නොවේ.

'පෙම් පෙරළි'යෙහි අදියර දෙතිසෙකි. "සම්භාල මිනිහා" නම් දෙවන අදියර වූ කලී එක මලකින් නො නැවතී මලින් මලට යන සම්භාලයන් වැනි පුරුෂයන් නිසාත්, දූෂිත ස්ත්‍රීන් නිසාත් සමාජයට වන විපත හා පරිහානිය ද විදහා පාන චමත්කාර අනාලාපයකි. 'වනිතාවගේ මෙලොව දූත මෙහෙය' නම් වූ සත් වන අදියර සෑම වනිතාවක් විසින් ම කියවිය යුතු ය. පෙම් පෙරළි නම් ග්‍රන්ථය සම්පාදනය කොට මුද්‍රණය කරවීමෙන් සිරිවර්ධන මහතා කර තිබෙන්නේ මාහැඟි සාහිත්‍ය සේවයකි. අපේ තරුණ පරම්පරාවට එයින් විශාල ප්‍රයෝජනයක් අත් කර ගත හැකි බව සන්තොෂයෙන් ප්‍රකාශ කරනු කැමැත්තෙමු.››

'සෙරමිණ' පත්‍රයේ කරාහණි ඊක්ගේ මේ ප්‍රශංසාවට ලක්වුණු 'පෙම් පෙරළි' පොත ඔබ තවම කියවා නැත් ද? නැත්නම් පිටු 93 කින් හා සිත් ඇදෙන සිතුවම් ඉට කොලයකින් යුත් ශොභ කරදශීයේ මුද්‍රිත පොතක් අද ම ලබා ගන්න.

**අඩු මිල රු: 1/50 තැ: මිල ශත 25**
**පෝස්ටල් ඔඩර්—ඉද්දර බන්ධු ඉල්ලන්න.**

# සුළුඅසුදු

## කේයස්ගේ මනෝවිද්‍යාත්මක කවි කතාව

"ලිහිල් සිංහලෙන් ලියන ලද රසවත් කෘතියකි"
එච්. ඇස්. පෙරේරා (අධ්‍යාපනඥයා)

"කතාවට උචිත වුවත් නො වුවත් නානා තන්හි ගලපන ලද අලංකාරවලින් තමන්ගේ කාව්‍යයන් පිරවීම සිංහල කවීන් අතර සම්භාවිත සිරිත විය. වත්මාන කවිකාරයෝ ද මල්, සමනලයෝ, සැන්දෑව, උදය, කාදිය, සිතාව යන ආදිය පිළිබඳ පුන පුනා කරන ලද වර්ණනාවලින් තමන්ගේ කුඩා කාව්‍යයන් පුරවති.

කේයස් මේ මග හැර දමා ජන කවීන් මෙන් කතා වස්තුව ම කවියට නැගීමෙන් 'සුළුඅසුදුව' රචනා කර තිබේ. එහෙත් නො කතකා, උචිත ස්ථානයෙහි කරන ලද සරල වර්ණනාවලින් මෙය නිරලංකාර නොවේ.

"ගොඩ ඔඩ දෙහැම සරු සාරය පල බ රය
කවුරෙදා ගම්මාන නරඹනා විවිස රය
ඒ ගම මැදින් ගලනා ගඟ මනහර රය
කඩමංඩිය පිහිටියේ ගම කෙළවර රය"

'සුළුඅසුදුව' පවත්ගෙන තිබෙන්නේ මේ සරල සුන්දර වර්ණන යෙනි. ..........................කාව්‍යයට වස්තු කොට ගත් කථාව රසවත් ය. රාහුල බී. ඒ. ස්වාමින්වහන්සේ විසින් ලියන ලද ප්‍රස්තාවනාවක් ද වෙයි." – දිනමිණ

**පොතක් ගණ 50 යි.**




**පුහුණුව – විමල සහ කමලා** කවි කතාව ශත 50
**සමන්-කවි කතාව** (මායාදුන්නේ) 30
**ඕම-කවි කතාව** ,, 30
**අඳුර** , (බාලසූරිය) 35
**මිනීපාන-කවි කතාව** (අල්විස් පෙරේරා) 25
**කුසුම් පෙම් කව** (රණසිංහ) 25
**මගේ ජාතිය-ජාතික කව** (කොඩිප්පිලි) 35
වන මැණික මහවැලි නදී මැණුම (මිල්ලව) 35
වනගත රසිකයා- සමාජ කව (කුමනා ගිම) 35
රසය - රස විවරණය (පොබ්බුවන කිවිඳු) 60
**අඹ මල් - සොබා දම්** (විමන ප්‍රේමතිලක) 50
**උක්දඬු දූත්ත** (අල්විස් පෙරේරා) 2. 00
**සංවාදය (නලිනී පබලු)** 2. 00